ගපූර් ශුල්යාම්



# මගේ හපන්කාම්

නවකතාවකි

අනුවාදය: දැදිගම. වී. රැද්රිගු

චිත්‍ර: එන්. ග්‍රිෂින්


Гафур Гулям

ОЗОРНИК

повесть

На сингальском языке

## පටුන

1

## අපේ ගම

වෙළඳ පොළ මිනිසුන්ගෙන් පිරී පැවතිණි.

ඉල්හාමා මුදලාලිගේ ලොකු තේ පැන් හල කිරි කඩ පෙළේ මහමාගේ කිරි කඩයට යාබදව පිහිටියේය. තේ පැන් හලේ ග්‍රැමපෝනයෙන් තොර තෝන්වියක් නැතිව තුයිචි-හපීසාගේ, හම්රකුලා කොරිගේ, හොජි-අබ්දුල් අසීස්ගේ හෝ පෙර්ගානයේ ගායිකාවන්ගේ හෝ ශාස්ත්‍රීය ගීද, නැටුම් ගී සහ උපහාස ගීද ඇසේ. මහකඩ පෙළේ පෙහොසත් වෙළෙඳුන්ගේ පුත්තු තේ පැන් හලට වැද කාලය නාස්ති කරති. මෙහි හිස් පුටුවක් නැති තරමය. තේ පැන් හල තුළ මේස රෙද්දකින් වැසුණු ලොකු මේසයකි. එහි විශාල තඹ බන්දේසියකි. සීනි කැටද , කජු, කඩල, කිරි කොට්ටන් වැනි රස ඇට වර්ගද, අළුවා වැනි සීනි කෑම ජාතිද, පලතුරු ජෑම් වර්ග සහ පියාපත් විදහාගත් කුරුල්ලන් වැනි පිදුරු කවර වලින් වැසුණු බ්‍රැන්ඩි බෝතලද එහි අලංකාර ලෙස තබා ඇත. සල්ලිකාර කොල්ලෝ මේසය වටා වාඩිවී කැකෝ ගසති, උපහාස කතා හා ඇනුම් පද කියමින් හඬ නගා සිනා සෙති. මේ තේ පැන් හල තුළ ඉඩ නැතිය. පොළට එන දුප්පත් වෙළෙඳුන්ට, හස්ත කර්මාන්ත කරුවන්ට, කසාක් හා කිර්ගිස් ජාතිකයින්ට මෙහි ඇතුළුවීමට වරම් නැති.

තට්ට අස්රා නමින් හැඳින් වෙන වේටර කොල්ලා නිතර සුදු ලෝගුවකින් සැරසී නිල් පැහැති සේද ලේන්සුවක් ඉණ වටා බැඳ සිටී. ඔහුගේ උරක් වසා ඇති පට ලේන්සුව සුදු අල්ලි සහිතය. හේ සපත්තු කුට්ටමක් පැළඳ සිටී. තේ පැන් හලට ගොඩවන්නෙක් ''අස්රා!'' හෝ ''තට්ටයා!'' යැයි කියමින් හඬ නැගූ විගස වේටරයා පැමිණෙයි.

''ලොකු උන්නැහෙ මොනවද ඕන, තේද නැතිනම් ගඩුගුඩාවද?''

සැනෙකින් ඔහු එක් අතකින් තේ බඳුනක්ද අනික් අතින් කෝප්ප දෙකක්ද රැගෙන එයි. නැතිනම් ගඩුගුඩාවට දුම්කොළ පුරවා පියන වසා ආචාර ශීලී ලෙස හිස පහත් කර ගෙන මෙසේ පවසයි: ''ලොකු උන්නැහෙ මෙන්න...''.

මේ තේපැන් හල තුළ බොහෝ අපූරු දේ දැකිය හැක. එහෙත් ඒවා අතරින් ඉතාම අපූරු දෙය කුරුළු කූඩුවයි. ඇතුළු වන දොරටුව අසල සීලිමේ එල්ලා ඇති මේ කුරුළු කූඩුව රන් පාටින් සරසා ඇත. ඇස් වහ නොවැදීම පිණිස නොයෙකුත් කවච සහ විවිධ කොඩි වලින් සරසා ඇති මේ කූඩුව තුළ ගිරවෙකි. ඇත්තටම පණෑති ගිරවෙකි. උගේ පිහාටු දේ දුන්නේ පැහැයට සමානය. නිල්, රතු, කොළ, කහ, සුදු, ලා රතු, දුඹුරු, තදරතු ආදි නා නා පැහැති සේද නූල් පටින් සෑදුණු සැටියක් උගේ පිහාටු වලින් පෙනේ. එහෙත් වැදගත්ම කාරණය එය නොවේ. ඌ කතා කිරීමය. යම්තම් කතාකිරීම පටන් ගන්නා තුන් හැවිරිදි සිඟිති ළඳුරියක් මෙන් මේ ගිරවා සුරතල් සිහින් හඬකින් කතා කරයි:

''අස්රා, අස්රා, මෙන්න මේ ලොකු උන්නැහෙට ඉක්මනට සංග්‍රහ කරපන්, තේ එකයි, ගඩුගුඩා එකයි. එන්ඩ ලොකු උන්නැහෙ, මහත්තයා...''

කොල්ලන් වන අපි මඩ තවරා ගෙන පාවහන් රහිතවැ හැමතැනම ඇවිදිමු. අපේ කලිසම් හා කමිස මසා තිබෙනුයේ අමු රෙදි වලිනි. වරෙක රංචු ගැසී ඒ මේ අත දුව පැන ඇවිදින අපි තවත් වරෙක තනිවම රස්තියාදු වෙමු, නැවත එක්වෙමු. එහෙත් නිතැතින්ම තේ පැන් හලට අප ඇදී යයි.

ගිරවා, අන්න ගිරා පෝතකයා!

තට්ට අස්රා යක්ෂාවේසව අප වෙත කඩා පනී. ඔහුගේ අතට අසුවන කොල්ලාට ලැබෙනුයේ ගුටි පූජාවකි. ගිරවාද අපට අපහාස කරයි.

''අනේ තොපෙ ආච්චි...''

කඩපළේ අපේ ප්‍රධාන විනෝදය ඔල්මාද කාරයින්ය, පිස්සන්ය. තෂ්කෙන්ට් නගරයෙහි ඔවුන් කී දෙනෙක් ඉඳිතිද, ඔවුන් ගැන බැලුවත් ඉවරයක් නැත. කරීම්-පිස්සා, රත්තා, ජුජට්-කප්ටාර්, මයිරාම්හාන්, ඔල්මාද කාරියන්ගෙන් හොඳටම ඔල්මාදෙ ඇත්ති ඉෂාන්ගේ* බිරිඳය. හල්-පරාන්ග්, තජිහාන්, අලීම්, අවාස් ආදීන් මේ අය අතර වේ. මේ හැම කෙනෙක්ම එකිනෙකාට වෙනස්වූ, තමාටම ආවේණිකවූ ''විශේෂ ඔල්මාදයකට'' හිමිකම් කියති. අපි ඔවුන් ගැන ඉතා හොඳින් දනිමු. ජුජට්-කප්ටාර් ආණ්ඩුවට නිතර බැණ වදින්නෙකි. සාර් නිකොලායිට, කවුප්මාන්ට, මවාලව්ට, පොලිස් මුරකරු වන හොර නබියාට ඔහු බැණ වදියි, සාප කරයි. මොවුන් සියලු දෙනාම එක පොදියට ගෙන තිත්ත කුණුහරුපයෙන් ඔවුන්ට බැණ වදියි. ලවක් දෙවක් නැතිව කුණුහරුප ඇද බාන්නෙකි කරීම්-ජිනිම්. අල්ලාට, මොහමද් නබි තුමාට, හජීට හා සෙසු අයට බැණ වැදීම ඔහුට සුළු දෙයකි. ඔහු ඔවුන්ට සාප කරයි, හෙන වදින ලෙස ඉල්ලයි. ඉස්සර කරීම් අමු රෙදි වියමින් තම බිරිඳ හා දූ දරුවන් රැකීය, පසුව කම්හල් වල සාදන ලද රෙදි හැම තැනම විකිණීමට පටන් ගත්තෙන් ඔහුගේ රැකියාව නැතිවිය. එතැන් සිට ඔහු පිස්සෙකු බවට පත්විය. කොකාන්දහි උපන්නෙකි හල්-පරාන්ග්. ඔහු දක්ෂ විලුඳ වැඩ කාරයෙකි. දවසක් ද ඔහුගේ ලියවන පට්ටලයත්, පුංචි කම්හලත් ගිනි බත් විය. එද සිට ඔහුද පිස්සෙකු බවට පත්විය. පිස්සන් අතුරෙන් අතිශයින්ම ප්‍රසිද්ධ පිස්සා මයිරාම්හාන්ය. ඔහුගේ නියම නම මමත්කරීම්ය. ඔහු ඉතාම දක්ෂ යකඩ වැඩකාරයා හැටියට ප්‍රසිද්ධියක් ලැබිය. හැම කම්හලකටම, හැම ගෙදරකටම මේ දක්ෂතම ශිල්පියා කැඳවනු ලැබිය. මිනිස්සු ඔහුට කොතරම් ඇළුම් කළෝදයත්, රසකැවිලි සාද ඔහුට කැවීමට පවා ඉදිරිපත් වූහ. ලී තොට්ලි, පනා ආදිය සාදන ශිල්පීන් මෙසේ මොහුට රසැති ආහාර කැවීම මහත්වූ ප්‍රීතියක් ලෙස සැලකූහ. හැමදෙනාගේම ආදරවන්තයා වූ බැවින් මයිරාම්හාන් යන නමින් ඔහු හඳුන්වන ලදී. පරණ යකඩ මිටි බැඳගෙන කඩපළ හරහා ඇදගෙන ගිය හෙතෙම මුහුණ පුරා සිනහ පාමින් විකට කතා කීවේය. කම්හල් වල සාදන ලද නවීන ලෝහ භාණ්ඩ වෙළඳ පළට ගෙනා දවසේ සිට ඔහු පරිහානියට මූණ පෑවේය. ක්‍රම ක්‍රමයෙන් ඔහු කාගේවත් සැලකිලි නොලබන, කාටවත් උවමනා නැති අසරණයෙකු බවට පත්විය...

ඉෂාන්ගේ බිරිඳ නමින් ප්‍රසිද්ධ ගැහැනිය තළෙලලු, සෑජු, කළු පැහැති ඇස් බැම් සහිත වයස හතලිස් පහක් පමණවූ කතකි. ඇ කලන්දර්හෝන්හි මිට්ටිහාන්-තුරාම්ගේ බිරිඳය. තම සැමියා නැගණිය සමග රමණයෙහි යෙදී සිටින සැටි දුටු ඇය එද සිට පිස්සියක් බවට පත්වූවාය.

වැඩ කිරීමට අකමැති අවාස් පමණක් බොරු පිස්සු වෙස් ගත්තේය.

මේ අභාග්‍යයන්ගේ වගතුග අප දැනගත්තේ වැඩිහිටියන්ගෙනි. ඔවුහු අප ඉදිරියේ මේ කතා කී වරක් පෙරළ පෙරළා කීවහුද? කොල්ලන් වන අපට අනුකම්පා කිරීමට තරම් කාලයක් නැත. අපි ඒ ගැන කල්පනා නොකළෙමු! අප දුටු දර්ශන මඳ විය. පිස්සන් අවුස්සා කුලප්පු කොට අපි විනෝද වීමු. සමහර දවස්වලදී ගී ගායනයට සහ නැටීමට ඔවුන් කැමති කරවා ගතිමු. එහෙත්

---

* ඉෂාන්—මුස්ලිම් දේවගැති වරයෙකි.

නිතර අපි ඔවුන්ට අනුකම්පා විරහිත ලෙස උපහාස කළෙමු, ගල් මුල් වලින් ගැසුවෙමු. පිස්සන් කෝපවීම නිසා අප ලැබූ විනෝදය ඉමහත් විය. ඔවුහු අප ලුහුබැන්දහ. අපි පැන දිව්වෙමු. අපේ සමහරුන් ඔවුන්ගෙන් ගුටි බැට කෑ වාරද විය... කෙටියෙන් කියතොත් ගුටි පූජාවන්ද විශෙෂයෙන් විනෝදයද ලදිමු. දවසක් ද තජිභාන් පිස්සා පොල්ලක් අතින් ගෙන පාරේ යන මගීන් ලුහුබඳිමින් සියලු දෙනාම එක පැත්තකින් ගමන් කළ යුතු යැයි ඉල්ලා සිටියේය.

''ඒයි! උඹලාට තේරෙන්නෙ නැහැ! පිළිවෙළක් තියෙන්න ඕන!''

හැම දෙනාටම ඔහුගේ නියමය පිළිපැදීමට සිදුවිය.

''අනේ පිස්සො උඹ කරන මේ නෙයියාඩම මොකක්ද?'' යි අලිම්-පිස්සා අනෙකාගෙන් ඇසීය.

''ඇයි අර මිනිස්සු එක පැත්තකින් ගමන් නොකරන්නෙ? සාර් නිකොලායිගෙ මේ කාලෙදී පිළිවෙළක් තියෙන්ට ඕන! විනය ගරුක වෙන්ට ඕන!''

''අනේ තජිභාන් උඹ හරිම මෝඩයෙක්, හරිම මොට්ටයා, උඹ දන්නවද අපේ මහ පොළොව හරියට තරාදියක් වගෙ. උඹ මිනිසුන්ව එකම පැත්තකට එළවා දමනව. එතකොට තරාදිය එක පැත්තකට බර වෙනවා. එතකොට මක්කද වෙන්නෙ? මහ පොළොව පෙරළිලා යාවි. අපි ඔක්කොම කුර්දුම් ගහට වැටිලා ගිලී යාවි! උඹට තේරුණාද!'' මෙසේ කීවේ අලිම්-පිස්සාය.

ගල් ගැසුණාක් මෙන් කට හැරගෙන බලා සිටි තජිභාන් හිස වනා යන්ට ගියේය. හම විද ගෙන මසට කා වදින කටුවක් ඇද දැමීමට ඉඳි කටුවක් පිහිට වන්නා සේම, පිස්සෙකුගේ පිස්සු ක්‍රියාවක් අවබෝධ කර දීමට සමත් වන්නේ අන්ත පිස්සෙකි.

මේ විධියට දහවල් කාලය ගෙවන අපට නොදැනුවත්වම සවස් වෙයි. හිරු බැස යන්ට පෙර සවස් කාලයේ යාච්ඤා වාරය ඇරඹේ. ගෙවල් වලට දුවයන අපි කුස්සියට වැදී එහි ඇති දෙයක් ගිල දමමු. ආප්ප, රොටි, පිට්ටු, වට්ටක්කා සහ බත් හෝ කැඳ හෝ ආහාර වශයෙන් ගනිමු. හවස තරු නිසා අහස දීප්තිමත් වත්ම අපි නැවත මහ මගට බසිමු.

අපේ ගමේ එක් පසෙකින් තිකන්ලි-මසාර් (නැතහොත් ''සුසාන භූමිය'') නමින් හැඳින්වෙන ගම්මානය පිහිටි අතර අනිත් පස කුර්ගාන්තගී (නැතහොත් ''ගල් වළ'') නම්වූ ගම පිහිටියේය. පාළු මාවතකට රැස්වන අපි රැබෝවන තුරු සෙල්ලම් කරමු. විශෙෂයෙන්ම පුන් සඳ ඇති රෑ කාලයේදී ක්‍රීඩා කරමු. ගිම්හාන, වසන්ත, හේමන්ත කාලවලදී අපේ ගමේ පාරවල් දූලිවලින් ගහණය, සිනිඳුය, නමුත් ශීත කාලයේදී මෙහි මඩ ගොහොරුය. එක එකාගේ උස අනුව මේ මඩගොහොරු මැනිය හැක. එකකුගේ දණහිස දක්වා මඩය, තව'කෙකුගේ ඉහටිය දක්වා මඩගොහොරුය, සීත කාලයේදී චතුරශ්‍රය අපේ කෙළි බිම බවට පත්වේ. නැතිනම් ගෙවතු වල සෙල්ලම් කරමු. ගම් සභාව විසින් පාරවල් ආලෝක කිරීම පිණිස දල්වන පහන් කලාමැදිරියන් මෙනි. හැමදම සවස පහන් පත්තු කරන්නා ඉණිමඟක් කර තබාගෙන එයි. ඉණිමඟ පහන් කණුවට තබා නැග පහනට භූමිතෙල් වත්කොට පහන් තිරය සකස් කරයි, දැලි තැවරුණු වීදුරු පිසදමා, තිරයට ගිනි අවුළුවයි. මේ විධියට හැම පහන් කණුවක්ම වෙත යන ඔහු පසුද උදෑසන ඒ පහන් සියල්ල නිවා දමයි. රාත්‍රි ඝන අඳුරට වී බලන්නෙකුට ඒ පහන් එළිය පෙනෙන්නේ බළල් ඇස් මෙනි. මග දිගට ඇති ඒ පහන් කණුවල රත් පැහැති ගිනි සිළු කිසිදු ආලෝකයක් නොදෙයි.

මෙවැනි පහන්වල ආධාරයෙන් කළ හැකි කිසිවක් තිබේද? ඒ ගැන කීම පවා අපහසුය! වැඩිහිටි උදවිය හවස යාච්ඤා වාරයෙන් පසු නිවෙස් බලා යති. පාරවල් පාළු වෙයි. කපුටුවන්

පවා පියාඹා නොයන ඒ කට්ට කළුවරේ මහ මහට බසින්නෝ අපි වෙමු. හිතූ ලෙස ඔට්ටු සෙල්ලම් කිරීමට මෙයට වඩා සුදුසු වෙලාවක් නැත...

අප කැමති සෙල්ලම් බොහොමයකි; ''කුරාෂ්'' නම්වූ මල්ලව පොර ක්‍රීඩාව. ''බට්මාන්-බට්මාන්'' නමින් හැඳින්වෙන ක්‍රීඩාව: මෙයට සහභාගි වන කොල්ලෝ, එකිනෙකාට පිටදී සිට ගනිති. වරෙක එකෙක් පිට් කොන්ද නමා ගෙන අනිකා උස්සයි, ඉන්පසු දෙවැන්නා, පළමුවැනියා එලෙසෙම උස්සයි. සුදු පොප්ලර් ගස-කොළ පොප්ලර් ගස නමින් හැඳින්වෙන තවත් ක්‍රීඩාවකි. මෙයට සහභාගි වන කොල්ලෝ දෙපිලකටබෙදී, නායකයින් දෙදෙනෙකු තෝරා ගනිති. එක් පිලක් තම සගයෙකුගේ නමක් තමන් අතර රහසේ පතුරුවා හරී. අනික් පිල ඒ නම නිවැරදිව කිව යුතුය. පැරදුනවුන් දිනූ එවුන්ව කරින් ගෙන යා යුතුය. ''මින්දි-මින්දි'' නමින් හැඳින්වෙන ඔටු ක්‍රීඩාව, ''හොරා ආවා'', ''මගේ කුරුළු ඔළුව'' ආදී ක්‍රීඩාද අප සිත් ගෙන ඇත.

මේ ක්‍රීඩා හැම එකක්ම එකිනෙකට සමානය. තම සගයාගේ කර උඩ නැගී යාමට ඇති ආශාව කොතරම්ද? ''මගේ කුරුළු ඔළුව'' නම්වූ ක්‍රීඩාව සඳහා නැවත දෙපිලකට බෙදී පිල් නායකයින් දෙදෙනෙකු තෝරා ගනිති. පිල් නායකයා රෙදි කඩක් ගෙන එය යම්කිසි කුරුල්ලෙකුගේ හිසට සමාන වන ලෙස නමා ගැටගසා සාද ගනී. කොකා, මුහුදු ලිහිණියා, පරෙවියා, රාජාලියා, කොණ්ඩ කුරුල්ලා, උකුස්සා ආදී පක්ෂීන්ගේ හිසට සමාන වන ලෙස නඩ නායකයා තම රෙදි කඩමාල්ල සාද ගනී. නායකයා තම නිර්මාණය පෙන්වන තුරු දෙපිලම ඉවැසිල්ලෙන් සිටිති.

''මෙන්න, මගේ කුරුල්ලාගේ ඔළුව, මෙන්න උගේ පිහාටු, මෙන්න වලිගය, කියපල්ලා උගේ නම?''

''උකුස්සා!'' යැයි එක් පිලක් කියයි.

''නැහැ! වැරදියි!''

''කුකුළා!''

''ඔන්න, ඒ පාරත් වැරදුනා...''

''කහ කුරුල්ලා!''

''නැහැ. නැහැ!''

''බස්සා!''

හරි බව පිළිගනිති.

''හරියට හරි, තේරුවා!''

නිවැරදි, ලෙස තේරූ ළමයාගේ පිලේ අය අනික් පිලට අයත් එවුන්ගේ කරින් යති. ''මෙන්න, අපේ බූරුවෝ! බූරුවෝ!'' යැයි කියමින් කරින් යන්නෝ හඬ දෙති. මෙසේ නියමිත ස්ථානය දක්වා ගෙන යා යුතුය. ඉන් පසු පිල් නායකයාගෙන් එකෙක් ප්‍රශ්න කරයි: ''කරෙන්ද? පයින්ද?''

නායකයා ''පයින්'' යැයි කීවොත් කරින් ගෙන යා යුතුය, ''කරෙන්'' යැයි කීවොත් පයින් යා යුතුය. ඒ අනුව ''බූරුවෝ'' හාම්පුතුන් බවටද, හාම්පුත්තු ''බූරුවන්'' බවටද පත්වෙති.

මෙසේ ''බූරුවන්'' පිට යන්නෝ ගී ගයති:

''අපට බලේ තියනවනම්
මී පැණි බොන්නට පුළුවන්.

අනේ අනේ අපට නැතේ.
බලේ බලේ උන්ගෙ අතේ.
තොපේ බලේ අප අත නම්
මී පැණි බොන්නට පුළුවන්!''

අහළ පහළ ආච්චි කෙනෙක් රොස්චි බැණ වදින තුරු මෙසේ කෑ කෝ ගහමින් කෙළි සෙල්ලම් කරමු.

''මේ යක් පැටවුන්ට හෙනවත් වදින්නෙ නැහැ නෙව!'' යැයි මැහැල්ලක් සාප කරයි.

''තුරඟ තරඟ'' නමින් හැඳින්වෙන තවත් ක්‍රීඩාවකි. ලේන්සුවක් ගෙන අශ්ව කන් මෙන් දිගට සිටින සේ ගැට ගසා තොප්පියක් සාදගෙන හිස ලා ගනිමු. ඉන්පසු වලිගය සඳහා ලේන්සුවක් එල්ලාගෙන දුවන්ට පටන් ගනිමු. චිකන්ලි – මසාර්, කරතාෂු, යලන්කරි, අල්මසාරු, දිවන්බෙගි, නැවත චිකන්ලි-මසාර් මෙයයි අපේ ධාවන මාර්ගය. දුරින් මෙය හැතැප්ම තුනක් පමණවේ. දිනූ එකා අත්පොලසන් දී පිළිගනිමු. ඔහුගේ දක්ෂතාවය ගැන පසසමු. වැදගත්ම කාරණය ඊළඟ ධාවනය තෙක් ඔහු ශක්තිමත් පුද්ගලයා ලෙස පිළිගැනීමය...

ශක්තිමත් එවුන් හැරුණු විට අප අතර පොහොසතුන්ද සිටී. අපේ පොහොසත් කම මනින්නේ සතුන්ගේ ඇට වලින් සාදගත් ''ඉඩොප්ප'' පබලු, කොච්චන්, පාට වීදුරු කැලි වැනි ''අරුමෝසම් බඩු'' අනුවය. පරණ ඔර්ලෝසුවල පියන්, මූඩි, ආදියද මෙයට අයත්ය. මේවා අප සොයාගන්නේ කට්ට අව්වේ ඇවිදින විට හෝ සීත සමයේ මඩ ගොහොරු වල ලගින විටය. ඒ අනුව අපි ක්‍රීඩා අරඹමු. කැට ගැසීම, ගඩොල් පැනීම, පන්දු ගැසීම, 'යොර්–යොර්' නමැති යුද්ධ ක්‍රීඩාව, දුනු විදීම, අසුන් සොරකම් කිරීම ආදිය අප සිත්ගත් ක්‍රීඩාවේ...

මේ අතර නෝම්බි ඇල්ලීමේ මාසය පැමිණේ. අපේ ක්‍රීඩාවන් එවිට වඩාත් සිත් ඇදගනී. සවසට ගෙයක් පාසා යමින් රම්සාන් ගී ගයමු. හවස හිරු බැස ගිය පසු හතරවැනි යාච්ඤා වාරය ඇරඹේ. ඉන්පසු මැදියම් රෑ වන තුරු කතී, බොතී. අපි පල්ලියක්, පල්ලියක් පාසා යමු, ශුද්ධවූ කුරානය කට පාඩමින් කියන පූජකයින්ට සවන් දෙමු.

අපට කෙළි සෙල්ලම් කිරීමට ඕනෑතරම් නිතරම කාල වේලාව ඇත. පාසල් වැඩ ටිකකි... අපට ඇති වැඩකුත් නැති. අපේ දෙමාපියන්ට පවා නිතර පාහේ රැකියා නැත. අපේ ගමේ හස්ත කර්මාන්ත කරුවන්ද සිටී. සම් බඩු සාදන්නෝ, රබන් හා ගෙජ්ජි වළලු සාදන්නෝ, ලනු අඹරන්නෝ, බිඳුණු පිඟන්, කෝප්ප වීදුරු ආදිය ලෝහමය පටි තුළට බහා අළුත් වැඩියා කරන්නෝද මේ අය අතර වෙති. වතුර ඇදීම, බර ඇදීම, අසුන් බැලීම, මුර කිරීම, ''මසාජ් කිරීම'' ආදී රැකියාවල යෙදී සිටින්නෝද, අවට මුස්ලිම් දේවස්ථාන වල සුළු පූජකයෝ හා සේවකයෝද අප ගමෙහි වෙසෙත්. එහෙත් ප්‍රධාන වශයෙන් මුද්‍රණාලයේ හා සීනි බෝල පැක්ටරියේ කම්කරුවෝ අපේ ගමෙහි වාසය කළහ. කෙටියෙන් කියතොත් අපේ ගමේ වාසය නොකළ කෙනෙක් නැති තරමය. මගේ යහළුවන්ගේ දෙමාපියන්ද මට මතකය.

අමාන්ගේ පියා තුර්සුන්බායි-අකා පැන පිහියා සෑදුවේය. අමාන්ගේ මව මියගියේ ඔහු කුඩා කාලයේදීය. එහෙත් ඔහුගේ පියා නැවත විවාහ නොවීය. අබිද්ගේ පියා (අපේ ගමේ අබිද්ලා දෙදෙනෙකි. එකෙකු උකුණු අබිද් හැටියටද, අනිකා මකුණු අබිද් හැටියටද හඳුන්වන ලදී.); එනම් උකුණු අබිද්ගේ පියා—රසුල්කාසි-අකා, කෝෂ හා කොපු මසන්නෙකි. මකුණු-අබිද්ගේ පියා—සභීද් පරණ යකඩ එකතු කරන්නෙකි. හුස්නිබිගේ පියා සම්භාණ්ඩ සෑදුවේය. අමාන්බිගේ පියා කරපටි සෑදුවේය.

සලිහ්ගේ පියා—යූනුස්-අකා ගායකයෙකි. තුර්බායිගේ පියා—සියාමාට්-අකා අමු කපු වෙළෙන්දෙකි. අබ්දුල්ගේ පියා—අසීස්-අකා භූමිතෙල් වෙළඳම කළේය. විශාල පිප්පියක් සහිත කරත්තයක් දක්කාගෙන ගිය අසීස්ට ඒ කරත්තය හෝ භූමිතෙල් සහිත පිප්පය හෝ අයිති නැත. ඔහු නොබෙල් සමාගමේ සේවකයෙකි.

පුලාත්හොජිගේ පියා ප්‍රචාරක වෙළඳ සේවකයෙකි. ඔහු නගරයක් ගමක් පාසා ගියේය. දේශසීමාව දක්වා යමින් වෙළඳ බඩු ප්‍රචාරය කළේය. සමහර කාලවලදී ඔහු මාස කීපයක්ම අතුරු දහන්වී සිටියේය. පුලාත්හොජි ගැන මෙහෙම කතාවකි. ඔහු මව් කුස තුළ හමසක් වයසැති ''කළල'' රූපයක්ව සිටි කාලයේදී ඔහුගේ පියා කෂ්ගාරයට ගියේය. පියා නැවත හැරී ආවේ අවුරුදු පහකට හෝ හයකට හෝ පසුවය. පියා ගමට පැමිණ තෙමසක් ගතවූ පසු පුලාත්හොජි උපන්නේය.

අප රැස්වූයේ යුල්දෂ්ගේ ගෙදරය. ඔහුගේ මව මිය ගියේ ඔහු කුඩා කාලයේදීය. පසුව, සපත්තු මහන්නෙකු වූ ඔහුගේ පියා—බුව්-අකාද රෝගීව මිය ගියේය.

අපේ ගමේ තවත් සපත්තු මහන්නෙකු වන මීර් අසීස් -අකා යටතේ වැඩ පුහුණුවීම සඳහා මා යැවූ කාලයක්ද විය. ඔහුගේ පවුලට අපූරු ඉතිහාසයකි. මීර් අසීස්ගේ පියා අපේ ගමට ආද සිට කළ එකම රැකියාව මස් මඩුවට ගොස් හරක් ඇට කටු ගෙනැවිත් ඒවායින් තෙල් සාද විකිණීමය. සලිම්බායි නමින් හැඳින් වුණු ඔහු තරුණ කාලසේදී යකුබෙක්ගේ යුද්ධ හමුදාවේ සේවය කළේය. කෂ්ගාර් කැරැල්ලේදී චීන ජාතික තරුණියක් අල්ලාගත් සලිම්බායි ඇය අසු පිටින් ගෙනවුත්, මුස්ලිම් ආගමට හරවා අඹු කමට ගත්තේය. චීන නම වෙනුවට ඇයට බහ්තිබුවි යන නම දෙන ලදී. ඇගේ පුතුන් තුන් දෙනාගෙන් බාලයා මීර් අසීස්ය.

අපේ අසල්වැසියන් අතුරෙන් අමතක වූ අය සිටිත්ද?.. ඉතාම වැදගත් උදවිය අමතක වී යාමට ඉඩ ඇත. කාලය වෙනස් වන හැටි. එද අපේ ගමේ සිටි ලොකුම පොහොසතුන් තුන්දෙනා—රෙදි වෙළෙන්දෙකු වන කරීම්-කොරි, ඉටි වෙළඳ යකුබ් කවාක්, තීන්ත හා සායම් වෙළඳාමේ යෙදී සිටි අබ්දුල්ලාහජී. දේවස්ථානය තුළ පළමුවැනි පෙළ අයත්වූයේ මොවුන්ටය. එහෙත් ඔවුන් ගියේ මොන දේවස්ථානයටද යන්න මට මතක නැත. අපේ ගමේ මුස්ලිම් පල්ලි දෙකකි. එකක් ටිකන්ලි-මසාර්හිද, අනික කුර්ගන්තගීහිද පිහිටා තිබිණි. මෙහි මුස්ලිම් ආගමික පාසල් දෙකක් විය. ටිකන්ලි-මසාර්හි ෂම්සි-ඩොම්ලා ලෙබ්බේද, කුර්ගන්තගීහි හසන්බායි ලෙබ්බේද අපට අකුරු උගැන්වූහ. මගේ ගුරුතුමාවූයේ හසන්බායිය. ඔහු ශුද්ධවූ කුරාණයෙන් උපුටාගත් පාඩම් නොව, අරාබි හෝඩි පොත අනුව අපට උගැන්වූ නිසා ඉක්මනින් අකුරු කියැවීමට අපි සමත් වීමු.

## 2
## පැණි බත

මගේ අවාසනාවට හේතුවූ ඒ වැඩේ කළේ යුල්දෂ්ය.

ලයිලාක් දේවස්ථානයේ ප්‍රධාන දෙරටුව අසල මඩුවේ අපි ඉඩොප්ප කෙළිමින් සිටියෙමු. එද මට පුදුමලෙස වාසනාව පෑදී තිබිණි. මගේ අමුරෙදි කමිසය හා ඉන වටා බැඳ තිබූ ලේන්සුවද කොට්ටන් ඇට වලින් පිරිලාය. ජයග්‍රහණය නිසා සන්තෝෂවූ මම තව වරක්, ජය ලැබීම නිසා සතුටු සිතින් කෑගැසුවෙමි:

''ආ පැරදුනාද! මගේ ගොදුර!''

අපේ කෙළිය අවසන්වීමට පෙර යුල්දෂ් ආවේය. ඔහු තම හඩු කමිසයේ කොණකින් නහය පිස දමා අප දෙස බලා වැඩි උවමනාවක් නොදක්වා මෙසේ කීය:

''කොහොමද එක්කහු වෙලා සෙල්ලම් බතක් උයමුද?''

හැම දෙනම ඔහු දෙස බැලූහ.

''හොඳා උයමු! උයමු!'' යැයි ඔවුහු එක් හඬින් කීහ. මා හැර මගේ ජය නිසා අන් එවුන් සතුටු නොවූ සැටියකි.

''කොහෙද'' යි ඇස් හකුළාගත් යුල්දෂ් ඇසුවේය.

''ඕන තැනක. රිසිකි-හල්පීගේ ගෙවත්තෙ උණත් කමක් නැහැ.'' රිසිකි-හල්පි උප ගුරුවරයාය.

''හරි'' යැයි කී යුල්දෂ් එකිනෙකාට වැඩ කොටසක් බැගින් පැවරිය. හුස්නිබියා බත පිසන්නා හැටියට පත් කරන ලදි. හැලියක්, තෙල් සහ ලුණු, මිරිස් හා වතුරද හුස්නිබියා විසින් සොයා ගත යුතුවිය. හාල් සහ කැරට් අල සැපයීම යුල්දෂ් භාර ගත්තේය. මස් ගෙන ඒම මෝඩ අබ්දුල්ලාට භාරවිය. සත්ව තෙල් සැපයීම මට භාර විය. ඉතිරි අඩුපාඩු කිසිවක් නොවූවද යම්කිසි අඩු පාඩුවක් වූවොත් ඒවා පිරිමැසීමට ඉදිරිපත් වූයේ කපටි පුලාත්හොජය.

අපි ගෙවල් බලා විසිර ගියෙමු. දිනාගත් කොට්ටන් ඇටත් රැගෙන මා ගෙදර ගියේ පොරොන්දු පරිදි සත්ව තෙල් ගෙනෙන්නටය.

අම්මා කුස්සියේ ලිප අසලට වී වට්ටක්කා කපමින් සිටියාය. මම මගේ කොට්ටන් ඇට එක් මුල්ලකට විසි කළෙමි. අපේ පැරණි ගෙපැළ අසල තැනෙක ගබඩා කාමරය විය. ඉස්තෝප්පුව අසල මගේ මද්දුම නංගි අපේ බාල මල්ලී නලවමින් සිටියාය. මා ඇය ළඟින් ගියහොත් ඈ මා යන්නේ කොහේදැයි සොයා බලනු නොඅනුමානය. එවිට සිදු වන්නේ බලාපොරොත්තු නොවන දෙයකි. එම නිසා ඇය රැවටීමට මට සිදුවිය.

''නංගියෙ කොහෙද උඹගෙ ලොකු පන්දුව?''

''මගෙ බෝනික්කො තියෙන තැන ඒකත් ඇති. ඇයි මොකද?''

''එතන පන්දුව නැහැ!''

''ආ, එහෙනම් උඹ ගන්ට ඇති. දීපන් හනිකට. දීපන්!''

මම ඈ දෙසබලා කපටි ලෙස සිනා සුණෙමි. ඈ අත දරුවා බිම තබා මා දෙස රවා බලමින් බෝනික්කන් තියෙන තැනට ගියේ පන්දුව සොයා බැලීමටය. මම ඉක්මනින් ගබඩා කාමරයට ගොස් සත්ව තෙල් (මේදස) කැල්ලක් කඩා කඩදසියකින් ඔතා ඉණ වටා බැඳි ලේන්සුවට යටින් සඟවා ගත්තෙමි. ලොකුම වැඩේ සාර්ථකයි. දර ගොඩගසා ඇති මඩුව දෙසට මා ගියේ

කිසිවක් නොදන්නා සේය. එතැන මගේ කිකිළිය ලැග සිටියාය. උගේ පෙන්ද උස්සා බැලූ විට බිජුවක් දුටිමි. මා ඉතා හොඳ සගයකු බව පෙන්වීමට කදිම අවස්ථාවකි! සත්ව තෙල් විතරක් නෙවි, බිත්තරයකුත් ගෙන ගොස් දිය හැක. බිත්තර ගෙන ඒම මට අයත් නැති වුවත්, මම කිකිළිය එළවා දමා බිත්තරය හිස මත තබාගෙන තොප්පිය ද ගතිමි. කිකිළිය කෙකර ගාමින් දිව ගියාය. දැන් තවත් එක මාරකයකි. කුස්සිය පසුකර යාමය. ඇවිදින්නට යන්නාක් මෙන් සෙමින් පා තබමින් වැට අසලට ඇදුනෙමි. අම්මා ගිනි අවුළුවමින් ලිප ළඟ ඇතැයි මම විශ්වාස කළෙමි. එහෙත් ඇය දොර අසලට වී කඳුළු පිරි දෑසින් යුතුව, දුම් වළා එළවා දැමීමට මෙන් අතක් වනමින් සිටියාය.

''උඹ ඉක්මනට මැරෙන්න හදනවද, ආයෙමත් මහ පාරට බහින්නෙ?'' යැයි මා දුටු අම්මා රොස්වෙමින් කෑගැසුවාය.

''කුණාටුව'' නිසල වන තුරු මම නිහඬවීමි.

''කාලකණ්ණියා මහ පාරෙ රස්තියාදු වෙන්ට විතරයි දන්නෙ. මෙහෙ වර. මෙන්න මේ ලිප පත්තු කරල දියන්. මේ දුම හන්ද ඇසුත් පොට්ට වෙලා!..'' යැයි අම්මා කීවාය.

ලිප මෙලවීම හැර කළ හැකි අන් කිසිවක් නොවීය. ලිප අසලට වී ඇන බා ගෙන කටින් පිඹින්නට වීමි. දුම නිසා ඇස් කඳුලෙන් පිරිලාය. තොප්පිය යට ඇති බිත්තරය හිසටත් තොප්පියටත් අතර ඇති කුහරය තුළ ඒ මේ අත පෙරළෙන්නේ කුකුළු පැටියෙකු පිට කිරීමට අවස්ථාවක් සොයන්නාක් මෙනි. කුස්සිය තුළ අධික උණුසුමකි. යන්තම් ගිනි ඇවිළීමට මට හැකිවිය. මගේ බඩේ සිට කකුල් දිගේ කිසිවක් ගලන බව මට දැනේ. රස්නය නිසා සත්ව තෙල් කුට්ටිය දියවී යාමට පටන්ගෙන ඇත. වසන්තයේ හිරු රැසින් දිය වී යන හිම කැට නිසා ඇතිවූ දියපාරක් මෙනි. මම ගියවීමි. කලිසම් කොටය තෙලින් තෙත් වී තෙල් බිංදු වැස්සෙන්නට විය. අම්මා මා දෙස බලාසිටින්නේදැයි දැනගැනීම පිණිස මම ඇ දෙසට හැරුනෙමි. එවිට මගේ හිසට පහරක් වැදිණ.

පිටි අඹරන පොල්ල ඒ මේ අත වනමින් අම්මා කෑ ගැසුවාය:

''උඹට ඉක්මනට මක බෑ වෙන්ට ඕන වෙලාද. උඹේ හිතේ උඹ පොඩි එකෙක් කියල, ඒ උණාට කසාදයක් බන්දල දුන්නොත් ළමයින්ගෙ තාත්තා කෙනෙක් වේවි. මෝඩයා! ශුද්ධවූ පාතිමාගේ, ශුද්ධවූ සුහරිගේ ශුද්ධ වස්තු තියෙන මේ ගමේ මම දෙවියන්ට පින් දෙන්නෙ...''

අම්මා මා දෙස ඕනෑකමින් බැලුවාය. තොප්පියට යටින් තිබූ බිත්තරය කුඩුවී කහ මදය සහ සාරය, කපෝලය හරහා දකුණු කම්මුල දක්වා වැස්සෙයි. මගේ හිසට පහර දෙන විට බිත්තර කටුව බිඳෙන හඬ ඈට ඇසුණු බව දැන් ඈට මතක් විය. මගේ හිස් කබල පොඩිවී මොළයෙන් ඕජස ගලන බව ඈ සිතුවාය. තවත් නැවතී බලා සිටීම නුවණට හුරු නොවේ. මම නැගිට ගෙවත්තට පැන ගත්තෙමි. අම්මා මහ හඬින් කෑගැසුවාය. නංගී යටි උගුරෙන් කෑගසමින් සෝෂාව උත්සන්න කළාය. එය නොතකා මම සැනෙකින් මහ පාරට පැන මොහොතකින් පාරේ කෙළවර දක්වා දුව ගියෙමි.

අතුරු පාරට හැරී හන්දියේ නැවතී මගේ තත්ත්වය ගැන කල්පනා කළෙමි. එතරම් නරක අඩියකට මා කිසි දිනෙක වැටී නැත. යහළුවන් ළඟට යන්නටත් බැරිය. පොරොන්දු පරිදි තෙල් කෑල්ල ගෙනයාමද බැරිවී ඇත. ගෙදර ගියොත් ගබඩාවෙන් ලොකු තෙල් කෑල්ලක් සොරාගත් බව අම්මාට හසුවෙයි. එවිට මට වදින්නේ සැහෙන ගුටි පූජාවකි. කොහේ යන්ටද? මා තනිවී සිටින බව දැනේ. මෙලොව මට පිළි සරණක් නැතිය.

පාළු සිතින් යුතුව මම ගෙවැටක් අයිනට වී ඇඟිල්ලකින් මැටි තාප්පය සූරන්නට වීමි. ගෙවත්තේ මිනිස් කට හඬ ඇසේ. ළඳුරියක් ''අනේ නැන්දේ!'' යැයි කියයි.

සග්බාන්හි පදිංචි නැන්ද මට සිහිවිය. එකවරම මා ඇ ගැන නොසිතුවේ ඇයි!

සග්බාන්හි පදිංචි මගේ නැන්දට සහ මාමාට දූ දරුවන් නැත. මාමා ලොම් සහිත හම් වර්ග විකුණයි. ඇ මගේ පියාගේ සොහොයුරියයි. මා නැන්ද බැලීමට ගියේ කලාතුරකිනි. එහෙත් ඔවුහු මට ආදරය කළහ. ළමයින් නැති ඒ ගෙදර පිරිසුදුය, හැම දෙයක්ම නිසි පරිදි තබා ඇත. අසල්වැසි ළමයින් මා නොහඳුණන බැවින් එහි සිටින විට මට පාළු ගතියක් දනේ. එසේ වුවද, ඒ ගෙදර කෞතුකාගාරයක් මෙනි. මෙලොව ඇති හැම දෙයක්ම පාහේ එහි ඇත!

ඒ ගෙදර දිග නිය සහිත දඩයම් පක්ෂීන් තිදෙනෙකි: එකෙක් රාජාලියෙකි, අනිකා උකුස්සෙකි. තෙවැන්නා ලිහිණියෙකි. පොර කුකුළෙක්ද, කුළු කුමෙක්ද, පිට උඩ නැග යාහැකි තරම් විශාල කුකුළෙක්ද නැන්දට අයත්ය. ඒ මහ කුකුළාගේ පිට කොළ පාටින් බබලයි. උගේ අත් තටුවල පිහාටු කළුය, කර මලය ගිනි දැල්ලක් වගේය. වේවැල් කූඩුවක සැළලිහිණියෙකි. තවත් කූඩුවක වටුවෙකි. ගී ගයන කුරුල්ලන් තුන්දෙනෙකි: රෑ කොවුලෙකි, ගිරවෙකි, මයිනෙකි.

මේ ගෙදර බල්ලන් තුන් දෙනෙකි. එකෙක් දඩයම් බල්ලෙක්. මාමා ඌ කැටුව කිසි දඩයම කට නොගියද පොහොසත්කම පෙන්වීමට මෙන් ඌ ඇති කළේය. අනිකා පැටියෙකු යැයි කිවහැකිය. උගේ දර්ශනය පවා මට නොරිසි විය. තෙවැන්නා මුර බල්ලෙකි. ගෙවත්තේ බලු කූඩුවක ඌ ලැග්ගේය. ඒ මදිවට බුහාර් වර්ගයේ දඹු බැළලියක් නැන්ද සුරතල් කරන සැටි පසුගිය වාරයේ එහි ගිය විට මම දක ඇත්තෙමි. මේ බැළලිය පැටියන් හය දෙනෙකු වැදුවාය.

ගෙවත්ත මල් ගස් වලින් පිරිලාය! රෝස, පිච්ච, සමන්, කානේෂන්, ලිලි, ඩේසියා ආදි මල් හැර තවත් මල් වර්ග කීපයකි. හැම මල් පාත්තියක්ම නැන්ද තම හදවත මෙන් රකී. අර සත්තු රළ මල්වත්තට පැන එය විනාශ නොකරන්නේ මන්දැයි මට නොතේරේ.

කොතරම් වටිනා රස කැවිලි වලින් ඔවුන් මට සංග්‍රහ කළේද!..

ඒවා ගැන මතක් වන විට කටට කෙළ උණයි. මේ පිටුවහල් ජීවිතයට වඩා එය කොතරම් අගනේද. ළඟම ඇති දිය පාරෙන් යම්තම් මූණ කට සෝදගෙන සග්බාන් වීදිය දෙසට ගමන් කෙළෙමි. අතර මග හමුවන නොයෙක් දේ බලමින් නැන්දලාගේ ගෙදර ගතකරන සුන්දර ජීවිතය ගැන සිහින මවා ගත්තෙමි.

මා සිතූ පරිදි නැන්ද සහ මාමා මා පිළිගත්තේ මහත් සතුටිනි. නැන්ද දුක්මුසු හඬකින් මෙසේ කිවාය:

''අනේ මගේ පුතේ! වරෙන්. වරෙන්. උස ගිහිල්ලා නෙව. අගේ ඇති කොල්ලා. උඹට මොකද පුතේ මේ පැත්තෙ එන්ට හිතුනෙ! හරියට අපේ අයිය වගේමයි. හැරපු අතක් නැහැ! මගෙ වම් ඇහැ නැටවුණෙ නිකමට නොවෙයි.''

බිම බලාගත් මම, ''මට හිතුනා නැන්දවයි මාමාවයි බලන්ට. මම කැමැතියි දවසක් දෙකක් මෙහෙ නවතින්ට'' යැයි කීවෙමි.

ඒ වචන ඇසූ නැන්දත් මාමාත් දෙදෙනාම සතුටු වූහ.

''හරි හොඳයි!'' කියමින් මගේ හිස අත ගෑ මාමා ''හොඳ කොල්ලා! අපව මතක් වෙලා! මගේ කාමරේ කුරුමිණියෙක් කැරකුනෙ මේ නිමිත්ත කියන්ට තමයි. මා හිතුවා කවුරු හරි අමුත්තෙක් ඒවි කියල. උඹ ආවා. හරිම හොඳයි!''

ඔවුහු මා කාමරය තුළට කැඳවා ගෙන ගියෝය. මා පැමිණියේ ඇත්තටම නැන්ද සහ මාමා බැලීමට යැයි මම සිතාගත්තෙමි. ඔවුන්ගේ ආදර බස් වලින් මා සිත කැළඹිණි.

මා දෙව් ලොව උපන්නාක් මෙනි. දෙව්ලොව ජීවිතය කාන්සිය ගෙනදෙන්නක් බව මට පෙර අවබෝධ කරගත් අයද වූහ. එහෙත් මේ සැබෑව මට වැටහුණේ දෙවැනි දවසේ මද්දහන වන විටය. බලු කුක්කාට පිස්සු හැදෙන තුරු වද දුන්නෙමි. මුර බල්ලාට ඉස්මුරුත්තා වනතුරු කෑම දුන්නෙමි. දඬු කුකුළා අල්ලා උගේ පිට උඩ යාමට තැත් කළ නිසාදෝ උගේ ලස්සන පිහාටු කීපයක් මා අත තිබිණි. බැළලිය සහ ඇගේ පැටවුන් පන්නා දැමුවෙමි. මල් සුවඳ බැලීමට වත්තට ගොස් මල් අත ගාමින් සිටියෙමි. ඒවායින් බොහොමයක පෙති හැළිණි.

''පාරට බැස ඇවිදින්ට ඕනෑ'' යැයි මම කීවෙමි. මාමා මට තුට්ටු දෙකක් දුන්නේය. එය ලොකු මුදලකි. කරත්තවලට යටවෙන්නේ නැතිනම් හැමදම තුට්ටු දෙක බැගින් දෙන බව මාමා කීවේය. මම අළුත් අසල්වැසියන් සොයා ගියෙමි. මේ ගම අපේ ගම තරම් ලොකු නැත. ඒ වුණත් මේ ගමේ කොල්ලන්ද අපේ ගමේ එවුන් මෙනි. ඔවුන් සමග මිත්‍රවීමට මට වැඩි වේලා වක් ගත නොවීය. දවස් දෙකක්ම අපි ''යුද්ධ'' කළෙමු. දුනු සහ ඊ සාද විදින්නට වීමු. ඉන් පසු කොට්ටන් ඇට ඔට්ටුවට ඉඩොප්ප කෙළියෙමු. මේ වාරයේදී මම වාසනාවන්තයෙක් නොවීමි. තුන්වැනි දවසේදී දඩාවතේ යන බල්ලන් දෙදෙනෙකු සොයා ගෙනැවිත් බලු පොරයක් ලෑස්ති කළෙමු. එහෙත් එකෙක් කේඳෑරියෙකි. අවස්ථාවක් ලැබුණු හැටියේම ඌ පැන දිව්වේය. මාමාට අයත් මුර බල්ලා ගැන මට සිහිවිය. කොල්ලන්ට ඌ ගැන කියමින් පුරසාරම් දෙඩූ මම උන්ගේ උදව් ඇතිව මුර බල්ලා මහ පාරට ඇදගෙන ආවෙමි. ඌ නොබියව පොරය පටන් ගත්තද, ඊට දවස් කීපයකට පෙර ඉස්මුරුත්තය හැදී ලෙඩවී සිටි නිසාදෝ ඌ බෙලහීනයකු බව ඔප්පු විය. උගේ කකුලක් තුවාල වූ පසු අපි පොරය නැවැත් වීමු. එද සිට මරණය තෙක්ම ඌ කොරෙකු විය.

අපේබල්ලාට මෙවැනි අභාග්‍යයකට මුණ පෑමට වේයැයි මමසිහිනෙකින්වත් නොසිතුවෙමි. මාමාට හොරා මෙයින් මා ගැළවෙන්නේ කෙසේදැයි කල්පනා කරන්නට වීමි. නැවතත් මට වාසනාව උදව්විය! පැණි කොමඩු වත්තට එන ලෙස මාමාට ආරාධනයක් ලැබිණි. ඒ අතර හජ්ජි උත්සවය නිමිත්තෙන් තම නෑයින් දැක බලාගැනීම සඳහා දවස් කීපයක්ම නගරයේ නැවතීමටද මාමා තීරණය කිරීම මගේ සතුටට හේතුවිය. දඩයම් බල්ලාද, හීලෑ රාජාලියාද කුරුළු දඩයම සඳහා අවශ්‍ය දැලක්ද ඔහු ගෙන ගියේය. කොර ගසමින් සිටි බල්ලා උගේ කූඩුවට වැද වැතිර උන්නේය. මාමාට ඌ නොපෙනෙන සේ බලු කූඩුව ඉදිරිපිට මම සිට ගත්තෙමි. ගමනට සැරසුණු මාමා මට තුට්ටු තුනක් දුන්නේය.

''කුරුල්ලන්ට කෑම දීපන්. උන්ව බඩ ගින්නෙ තියන්ට එපා. මම එන්ට පරක්කු උණොත් මේ සල්ලිවලට උන්ට කෑම අරන් දීපන්...'' යැයි ඔහු කීවේය.

මම ආඩම්බර වීමි. අවුරුදු දහ හතරක් පමණ වයසැති මා දැන් වැඩිහිටියෙකි. වැදගත් වැඩපළ මට දැන් පැවරී ඇත. වැදගැම්මකට නැති පුංචි කුරුල්ලන් නොවේ: උකුස්සාත්, මහ ලිහිණියාත් මට පැවරී ඇත! මම කුරුළු කූඩු වෙත ගියෙමි. උකුස්සාත්, ලිහිණියාත් ලඟ උන්හ. මාමා උන්ට දෙන කෑම වර්ග ගැන මම දැන සිටියෙමි. එහෙත් මෙහිදී මට අමුතු අදහසක් පහළ විය. උන්ගේ පිහාටු සුදු පාට කළ යුතුය. ඔව්, කිරිමෙන් සුදෝසුදු විය යුතුය. කිරි ඒ සඳහා සුදුසු නැත. එය වතුර මෙනි, එහෙත් ඒ සඳහා මුදවපු කිරි සුදුසු බව මගේ වැටහීම විය. හරියට හරි, මේ පරීක්ෂණය අත් හද බලන්ට ඕන. ඔව්, ඇත්ත වශයෙන්ම උන්ට ගැළපෙන ඉතාම

හොඳ කෑම ජාතිය මුදවපු කිරි. මදෑ මීට ඉස්සෙල්ල වෙන කිසිවෙක් මේ ගැන සිතා නැති හැටි!

නැන්දට හොරෙන් මම කුස්සියට ගොස් මුදවපු කිරි ගෙනෙන භාජනයක් රැගෙන කඩ පොළට ගියෙමි. සත දෙකකට භාජනය පුරා මුදවපු කිරි ලබා ගෙන ගෙදරවිත් කෝප්ප දෙකකට වත්කොට උකුස්සාගේ හා ලිහිණියාගේ කූඩු තුළ තැබුවෙමි. ඔවුන් කිරි දෙස උදාසීන ගතියකින් බලා නොසැලී ඉන්නා සැටි මම දුටුවෙමි. එහෙම තමා! උන් උසස් වර්ගයට අයත් පක්ෂීන්ය. මිනිසුන් බලා සිටියදී කෑමවලට හොට ගැසීම පවා නොකරන මේ පක්ෂීහු බඩ ගින්නේ සිටියද කුකුළන් මෙන් නොවෙත්. කුකුළෝ කිසිදු ලජ්ජාවක් නැතිව කෑම දුටු වහාම කොටති. උකුස්සෝ, ලිහිණියෝ එසේ නොවෙත්.

මම කුරුළු කූඩු වලින් ඈතට ගොස් දෙපැයකට පමණ පසු නැවත ආවෙමි. ඒ ආඩම්බර කාරයින් දෙදෙනා මුදවපු කිරි දෙස නොබලා උන්හ. මට තරමක් කේන්ති ආවේය. උන්ට හොඳටම බඩගිනි වෙලා ඒ උණත් උන් බොරු ආඩම්බරකාරයො. වැදගත් පක්ෂියො! පිට උදවිය ඉන්නා විට කෑම ගැනීම අපහසු නිසා මා පිටවී ගියේ උන්ට ගරු කිරීමක් වශයෙනි. දැන් උන් හැසිරෙන හැටි! කෑම දෙස බලන්නේ වත් නැහැ! මාමාගේ අත් වැසුම් දෙක අත්වල දමා ගත් මම ලිහිණියා ගෙන දන හිස් මත තබාගෙන රිදී හැන්දකින් ඌට කිරි කැව්වෙමි. උගේ බඩ කට පිරී ඇතැයි සිතුනු පසු, ඌ කූඩුවේ දමා, උකුස්සාටද එසේම කැව්වෙමි. උකුස්සාද මා දෙන කිරි කැටි ගිල දැම්මේය.

"දැන් ඉතින් වැඩේ හරි. එක තැනම ඉඳගෙන ඉන්නකොට මහන්සි වෙනව. හොඳට කැවම එක තැන ඉන්ට පවා ශක්තිය ලැබෙනවා. බඩ පිරුනා නෙවද, දැන් ඉතින් ඉන්න" යැයි මම ඔවුන්ට කීවෙමි.

ඔය විදියට නැන්දට නොදැණුවත්ව මම ඔවුන්ට දවස් දෙකක්ම මුදවපු කිරි පමණක් කැව්වෙමි. ලිහිණියාට මා වඩාත් කැමතිය. මුදවපු කිරිවල තෙල සහිත උඩ කොටස ඌට කැව්වෙමි. දැන් මට වැඩ ගොඩකි. පාරට බැස සෙල්ලම් කිරීමට පවා වේලාවක් නැත. නැන්ද නිහඬව මා දෙස බලමින් ප්‍රීති වන්නීය මම එය නොදුටුවාක් මෙන් හැසුරුණෙමි. ඇ වඩාත් දයාන්විත වන සැටි ඇගේ මඳ සිනාව කියා පායි.

කූඩුවල හරස් පොල්ලේ ලඟ සිටි ලිහිණියාත්, උකුස්සාත් දෙදෙනාම බිම වැතිර සිටින සැටිද, උන් දෙදෙනා යම්තම් වෙවුලන සැටිද තෙවැනි දවසේදී මම දුටිමි.

"හරිම හපන්නු! ඔව්, හැමදම ඔහොම ලැගල ඉන්නත් බැහැ නෙව."

එදින උදෑසනද මම ඔවුනට මුදවපු කිරි කැව්වෙමි. දහවල් කෑමටද නැවතත් එයම දුන්නෙමි. සත්ව තෙල් නැති මුදවපු කිරි පමණක් කෑම නිසා තෙල් සහිත ආහාරයට උන් කැමති වනු ඇත. සවස කෑම දීමට මා කූඩුව වෙත ආ විට ලිහිණියා මැරී සිටියේය. මා දුටු දර්ශනය මටම පිළිගැනීමට අපහසුය. උකුස්සාද බිම වැතිර පණ අදිමින් සිටී. මම හොඳටම බිය පත් වීමි. දැන් මාමාට මොනවා කියන්ටද? ඔහු උන්ට හොඳටම ආදරේ කළේය. උන්ට මිය යාමට තරම් උවමනාවක් තිබුනේද? මස් කෑමට මාත් කැමතියි. මාත් දවස් කීපයක් මුදවපු කිරි ටිකක් පමණක් කමින් ජීවත් වී ඇත. මදෑ විපතක මහත! සිදුවූ දෙය මාමාට විස්තර කිරීමට බැරි බව මට වැටහිණි. මේ ගමේ මගේ ජීවිතය මින් අවසානයි. දැන් ඉතින් කිසිම බලාපොරොත්තුවක් නැත. පමාවීමට පෙර මෙතැනින් පැන යා යුතුය. ඈස් හැරුණු දිසාවට යායුතුය. මා කුඩා කාලයේදී ඈස් හැරුණු දිසාවලට ගොස් හපන්කම් කළ වීරයින් පිළිබඳ ලස්සන කතා අම්මා කියනවා මා අසා ඇත. ඒ කාලය එතරම් අසිරු නොවිය. මා කොතරම් තනිවී, අවාසනාවත්

තත්ත්වයකට පත්විදැයත්, හැඬීමට පවා සිත්විණි. ඇඬුවොත් නැන්දට කාරණය හෙළි විමට ඉඩ ඇත.

මාමා මට දුන් තුට්ටු පහෙන් තුට්ටු තුනක් ඉතිරිව තිබේ. මම එය ලේන්සු කොණක ගැට ගසා ඉණෙහි දවටා ගතිමි. ගෙවැට අසල මා ඉතා ආශා කරන පරෙවි කූඩුවකි. ඒ පරෙවියන් දෙස ආශාවෙන් බලා සිටි මට උන් අත හැර යාමට සිදුවීම නිසා දුක්වීමි. එහෙත් හිටි හැටියේම ගත් තීරණයක් අනුව මම ශබ්ද නොකර පරෙවි කූඩුව ගළවා හිස මත තබා ගෙන ගෙවත්තෙන් පිටවී මහ මහට බැස්සෙමි. මගීන්ගෙන් තොරවූ ඒ මහ ඔස්සේ මම වේගයෙන් ගමන් කළෙමි. මා ගෙදරින් පිටවන විට නැන්ද බැළලියට හා පැටවුන්ට කෑම දීම සඳහා බත් සහ මස් කැබලි අනමින් සිටියාය. මා නැති බව දැන ගතහොත් ඈ කුමක් කරාවිද? හඬනවා නොඅනුමානය. ඒ කණගාටුදයක හැඟීම දුරු කරගනු වස් මම මගේ සල්ලි ගැටය අතගෑවෙමි. මගේ හිස මත පරෙවි කූඩුවය. පුරාණ කතාවක, දේශාටනය කරන වීරයෙකුගේ මෙන් මගේ සිතද පුබුදු විය.

3

# වෙළඳ පොළ

හිස හැරුණු අත, ඇස හැරුණු අත බලා මම ගමන් කළෙමි. එහෙත්, ඒ අතර ඉඳ හිට වටපිට බැලීමටද අමතක නොකළෙමි. මැටි තාප්පවලින් පිරි ඒ වංක ගිරියෙන් පිටවී යාම ලෙහෙසි නොවීය. මම වල්මත් වුණෙමි. එ අතර ඇඳිරි වැටිණ. බර්ච් ආදි ගස්වල සෙවණැලි අමනුස්ස ලොවක හැටි කියන්නාක් මෙනි. දහවල් කාලයේදී මේ ගස් යට සෙවන මිනිසාට සැප ගෙනදෙයි. දැන් එතැන්වල වාතය වඩාත් උණුසුම්ය, අහිතකරය. සවස තණ පිට්ටනිවල වාතය සුවදයකය. පාරවල් පාළු වෙලාය. කරත්තකාරයින් දෙදෙනෙක් එකිනෙකා අමතමින් බැණ ගන්නා සැටි ඇසේ. ගොවියෙක් කොර ගසමින් හැරමිටි වාරුවෙන් යයි. ඔහු මා පසුකර ගියේය. රෑ නවාතැනට සුදුසු තැනක් සොයා ගත යුතුය. ඉඳහිට පැල්පතක් මුණගැසුනද වැට අසල බැඳ ඇති බල්ලන්ගේ බිරීම නිසා එහි නොගොස් තණ පිට්ටනියකට වී රැය ගතකිරීමට මම ඉටා ගත්තෙමි. සිසිල් සුළං හමයි. මට බඩගිනි දැනෙන්නට විය. මට හෝ පරෙවියන්ට හෝ කෑමට කිසිවක් නොගෙනා බව වැටහුනේ දැන්ය. එළිය වැටෙන තුරු බඩගිනි ඉවසා සිටිය යුතුය. නැන්ද හදන රොටී වල රසය ගැනද, උකුස්සාට හා ලිහිණියාට දුන් මුදවපු කිරි ගැනද මතක් කරන්ට වීමි. පරෙවි කූඩුව, ළඟ තිබුණු පඳුරක් තුළ තබා කමිසය බිම හෙළා වැතිර ගතිමි. අහස අඳුරුය. කුඩා තරු දීප්තිමත්ව බබලයි. අහස මෙතරම් විශාල බව මට දැනුණු පළමුවැනි වාරය මෙයයි. තරු කොතරම්දැයි ගණන් කළ නොහැක. මම නිදගැනීමට වෑයම් කළෙමි.

මා අවදිකළේ උදෑසන හිරුය. ක්ෂිතිජයෙන් නැගී ආ හිරුගේ රැස් මගේ ඇසට වැටිණ. තද පොළොව නිසා මගේ ඇඟපත තරමක් රිදෙයි. එහෙත් ප්‍රණීත බවක් දැනේ. කමිසය හැඳ කුරුළු කූඩුවත් හිස තබා ගෙන ගමන් ඇරඹුවෙමි.

කොතෙක් දුර ගියෙම්ද, කොයි පැත්තට හැරුනෙම්දැයි කීමට මම නොදනිමි. මා ඉදිරියේ ගම්මානයකි. එය අව්චබාද් නමින් හැඳින්වෙන ගම්මානය බව පසුව මම දැනගතිමි. ගම්මානයට ඇතුළු වීමත් සමගම මා ඉදිරියේ පෙනී සිටියේ දැලි කුණු තවරාගත් නොයෙකුත් වයස්වලට අයත් කොලු රංචුවකි. ඔවුහු මා වට කර ගත්හ. මගේ කමිසය ගැන පසසමින් චාටු බස් කීමට පටන් ගත් ඔවුන් තම කතා අවසන් කළේ ඉළ ඇට කැඩෙන තුරු මට පහර දිය යුතුයැයි කීමෙනි. කොළු රංචුවේ ගණන විස්සක් පමණවේ. සමහරුන් මට වඩා හුඟක් උසය. මගේ ඉන දක්වා උසැති එවුන් සතර දෙනෙකි, එක පහරින් ඔවුන් බිම දැමිය හැක. එහෙත් දැන් ඒවා ගැන සිතීමට තරම් වේලාවක් නොවේ.

බලාපොරොත්තු රහිතව උන්ගෙන් වෙළඳ යෝජනාවකි.

''පරෙවියන් මට විකුණපන්!'' යැයි රංචුවේ සිටි දඩු කොල්ලා ගොරහැඩි ලෙස කීවේය. ඔහු නඩ නායකයා විය යුතුය.

''බැහැ. උන් විකුණන්නෙ නැහැ!'' යැයි මම ස්ථිර ලෙස කියා සිටියෙමි.

''හෝ, හෝ විකුණන්නෙ නැතිලු!'' මෙසේ කී රත්තාගේ කට හඬ නොඉවසුම් බවක් කියා පෑවේ මට පහර දීමට වෙලාව පැමිණ තිබෙන බවක් අඟවන්නාක් මෙනි. රංචුව මා වටා සිටගත්තේය. රත්තා තරමක් කල්පනා කොට, ''හොඳයි එහෙනම් මාරු කර ගනිමු'' යැයි යෝජනා කළේය.

''මොනවටද?'' යි මා ඇසුවේ මගේ ජීවිතය හැකි තරම් වැඩි මිළකට විකිණීමේ අදහසිනි.

මා වටේ සිටි හැම එකෙක්ම ඔවුන් අත තිබු නොයෙකුත්දේ මගේ නහය ළඟටම ගෙනැවිත් පෙන්වමින් කෑ කෝ ගසන්ට වූහ. ඔවුන්'ත තිබූ ඒ බඩුවල කිසිදු වටිනාකමක් නොවූවද පරෙවි යන්ගෙන් වෙන් විය යුතුය. කොළ රංචුව උන් මගෙන් උදුරාගන්නා බව මම දන සිටියෙමි. මේ විධියට මාරුකර ගැනීම නුවණට හුරුය. පරෙවියන් සහිත කූඩුව රැගත් කොළ රැල දිව ගියේය. උන්ගෙන් ලැබුණු තෑගි ගොඩ මා අත විය. ඒ තෑගි අතර වළල්ලකි, දල රහිත පෙනේරයකි, ගිගිරියකි, බෝනික්කන් නලවන පුංචි තොටිලි දෙකකි, හම හිල්වුණු ගෙජ්ජි රබානකි, (එහි හම සහ වළල්ල රතු පාට සායමින් යුක්ත වූයේ ඇයිදැයි මම නොදනිමි) ලී උදළු දෙකකි. මට බඩගිනිය. මගේ දෙපා බර බව මට දැනේ. කෙසේ හෝ තෑගි පොදියත් රැගෙන තවත් ඇබැද්දියකට මුණ පෑමට පෙර එගමින් පිටවීමි.

ඒ ගම පසුකර යන මා ඉදිරියේ දුන් කඳු වැටිය. ඒ පෙදෙසෙහි පස ලුණු සහිතය, කටු සහිතය. දෙපා වැලි තලාවෙහි ගිලිණ. ඉර අව්ව ඉසිලිය නොහැක. කෑමට හා බීමට කද උවමනාවක් මා තුළ ඇතිවිය. ඈත ගසක් දෙකක් දුටිමි. ඉක්මනින් ගසක් යට සෙවනට වී ගිමන් හැරීමට ආසා කළ මම හැකි තරම් වේගයෙන් පා නැගුවෙමි. ගසට ළං වෙත්ම උදැල්ලක් කර තබාගත් සිහින් සිරුරක් ගස යටට යන සැටි දුටුවෙමි. ඒ සිහින් සිරුරැති පුද්ගලයා මා හඳුණන බව මට සිතෙයි. අප දෙදෙන තවත් ළං වෙත්ම, ඔහු අන් කිසිවෙකු නොව මගේ මිතුරකු වන අමාන්බායි බව මම දැනගතිමි. ඒ අපේ ගමේ අමන් බායි. ඔහුගේ පියා පිහි තල සාද විකුණන තුර්සුන්ය. ඔහු මා හඳුනා ගෙන ඉදිරියට දිව ආවේය. ඉර අව්ව සහ මහන්සිය නොතකා මමද ඔහු හමුවීම පිණිස දුව ගියෙමි. පැරණි ගසක් යටදී අපි මුණ ගැසුණෙමු.

මීට සුමාන දෙකකට පෙර අමාන්බායි කුලී වැඩකරුවෙකු ලෙස ඔහුගේ නෑයින් වෙත යවන ලදී. දුන් ඒ කුලී වැඩ වාරය අවසන් වී ඇති බැවින් ඔහු නැවත ගම බලා එමින් සිටී. රාත්තල් අටක් බරැති උදැල්ලත් කර තබා ගෙන අමාන්බායි පයින් ගමන් කරයි. මා ගමින් පැනගිය බව ඔහු නොදනී. මා අත තිබූ වළලු හා පෙනේරය දුටු ඔහු, මා වාත්තු වැඩ ඉගෙනීම පිණිස යවා ඇතැයි සිතීය. අපි ගස යටට වී ඉඳ ගතිමු. මගේ අභාග්‍යය ගැන මම ඔහුට කීවෙමි.

තොරතුරු හුවමාරු කර ගත් අප දෙදෙනාටම කුස ගිනි දැනිණි. විමැසිල්ලෙන් ගහ දෙස බැලීමු, එහි ගෙඩි කිසිවක් නොවීය.

''මේ ගහේ හැටි බැලුවම ජේනව අවුරුදු දෙකකට සැරයක් ගෙඩි පල ගන්නා බව'' තරහයෙන් මම කීවෙමි.

''උඹට මතක නැද්ද? මේ සරටාන්* කාලයයි. මේ කාලෙට හැදෙන ගෙඩි ඔක්කොම මෙක්කාවට යවනව. ඒ ගෙඩිවල අරාබි හෝඩියෙ 'අ' යන්න ලියල ඉක්මනට අපට එවාවී.''

ඒ කතාව ඇත්තය. මට වැරදීමකි. කෙසේවුවද, අප දෙදෙනාම බඩ ගින්නේය. ආහාර වශයෙන් ගතහැකි කිසිවක් අප ළඟ නැත.

''මෙතැන ඉඳල වැඩි දුර නැහැ කොක්-ටෙරාක් නගරයට. එහෙ හරි විශාල කඩ පළක් තියෙනව. නගරෙත් හරි ලොකුයි...'' අමාන්බායි අස්ථිර ලෙස කීය.

''යමුද?''

''මම ගෙදර යනව...''

---

* සරටාන්—මුස්ලිම් ආගමික අවුරුද්දේ හතරවැනි මාසය.

''යමු! මා ළඟ සල්ලි තියෙනව. බලපන් මා ළඟ තියෙන බඩු. මේව විකුණමු!''

''මා ළඟත් සල්ලි තියෙනව... මම හම්බ කළා'' යැයි අමාන් කීය.

''යමු! උඹට හෙට ගමට යන්ට බැරියැ. වරෙන් හොඳද?''

සිත තුළ හටගත් අභ්‍යන්තර අරගලය නිසාදෝ අමාන් නිහඬ විය. මගේ අදහස ඔහුගේ සිත් ගත්තේය. අනාගතයේදී රටින් රට සැරිසැරීමට ඇති විශාල ඉඩකඩ ගැන මම ලස්සන පින්තූරයක් මවා පෙන්වීමි. ඔහු මගේ කතාව අසමින් ඉඳ හිට මා දෙස බලයි. හිටි හැටියේම ඔහු මෙසේ කීවේය:

''හරි! අත දීපන්! ලැබෙන දේ සියල්ල හරි හරියට බෙදා ගනිමු. හොඳේ?''

මා ගිවිසුම් දුන්නේ සතුටු සිතිනි.

අප සතුව තිබූදේ හරි හරියට බෙදා ගතිමු. දෙදෙනා ළඟ ඇති මුදල් ගැන බැලුවෙමු. අමාන් සමග සසඳා බලන විට මා පොහොසතෙකි. අමාණ් අත තිබුනේ ටංගියකි. අපි දෙදෙන ගමන් කළෙමු. සවස් වන්ම කොක් ටෙරාක් නගරයට පැමිණි අපි තේ කඩයක් අසලට වීමු. අපට වාසියකි. හෙට සිකුරාද පොළ දවසය. උදෙන්ම නැගිට අපි පොළට ගියෙමු.

ඒ තමා පොළ. එසේ මෙසේ පොළක් එහෙම නෙවි! රාජකීය පොළක්! ඉරානයේ හෝ තුරානයේවත්, මෙක්කාහි හෝ මෙඩිනාවේවත්, මයිමානයේ හෝ මයිසාරයේවත්, ස්තන්බුල්හි හෝ මසන්දරානේවත් එහෙම පොළක් ඇතැයි කියල විශ්වාස කරන්ට බැහැ. අහසේ, මහ පොළොවේ, උතුරේ, දකුණේ එහෙම පොළක් මේ මනුස්ස ලොවේ උපන් කිසිම කෙනෙක් දැක නැහැ. කඩ, සාප්පු, වෙළෙන්දෙ පිරිලා. වෙළඳ බඩු වර්ග මහ ගොඩකි. මිනිසුන්ගෙන් පොළ පිරී ඉතිරී ගිහින්. වෙළෙන්දන්ගෙ කපටි මුහුණු දෙස බැලූවිට, උන් මුළු ලෝකයම රැවටූ අය බව පේනව. උන් ඇඳල තියෙන ඇඳුම්වල ලස්සන. නොයෙක් පාට විතරක් නෙවි එක එක පාටට තව තවත් අමුතු වර්ණ කීපයකුත් තියෙනව. ඒ නිසා උන්ගෙ ඇඳුම්වල නියම පාට හරියට දැනගන්න බැහැ. රෙදි වර්ග හා ඇඳුම් දැක්කම ඇස් ඉබේටම නැටවේ. හඬ, ශබ්ද, නාද හැම පැත්තෙන්ම ඇසේ.මහ භයානක නඩු තීන්දුවකින් පසු විසිරයන සෙනඟකට මේ පොළේ මිනිසුන් සමානය. ''ශාස්තෘ වරුන්ගෙ ඉතිහාසය'', ''මායකාරිගෙ කතන්දරය'' වැනි පොත්වල පවා එහෙම පොළක් ගැන විස්තර නැත.

ඒ පොළ ගැන විස්තරයක් ක්‍රමානුකූලව ඔබ වෙත ඉදිරිපත් කිරීම මැනවයි හැඟේ. පළමුවැනි කඩ පෙළ සුවඳ විලවුන් සහ විසුතුරු බඩු වෙළෙන්දන්ගේය. පරණ ගෝනිවලින් ආවරණ කොට මඩු සාදගත් මේ වෙළෙන්දෝ ඔවුන්ගේ බඩු මුට්ටු බිම තබා වෙළඳාම් කරති. ගෝනි වසා සිටින සේ පරණ රෙදි කෑලි වලින් සාදා ගත් රතු, නිල්, කොළ පැහැති තිර එල්ලා ඇත. ලෝකයේ සියලු රටවල සාදා ඇති සුවඳ විලවුන් හා විසුතුරු බඩු මෙහි ඇතැයි සිතේ. උකුණන් වඳකිරීම සඳහා රසදිය මුසු තෙල් ලබාගත හැක. හොරි, දද, වණ කුෂ්ඨ රෝග නිට්ටාවට සුවකරන බෙහෙත් තෙල් වර්ග ලබාගත හැක. කල්ගිය තුවාල සුවකිරීමට සමත් වටිනා බෙහෙත් වර්ග මෙහි ඇත. ඉඟුරු, සෙනෙහෙ කොළ, වස විෂ නැති කරන ඖෂධ ආදිය එමටය. ඇස් වහ නැති කිරීමට කරවටා පළඳින සුදු පබලු, බඩේ ගාය නැති කරන ගුලි බෙහෙත් ආදියද, ලොකු ඉදිකටුද, හිස පීරණ පනා වර්ගද, සේද නූල්ද මෙහි පිරිලාය. බෙහෙත් කොළ වර්ගයක් වන ''හලිලාන් සාන්ග්'' මෙහි විකිණීමට තිබුණද, එය කිනම් ලෙඩක් සුවකිරීමට ගන්නේද යනු මම නොදනිමි. වණ සහ තුවාල සඳහා පැලැස්තරද, බුහාරාහි ගෙන්දගම් මිශ්‍ර තෙල් බෙහෙත්ද, කරාබුනැටි ද මෙහි විකිණීමට තිබේ.ඒ විතරක් නෙවි කස්තූරි,නියම කස්තූරි!

මේ හැම බෙහෙත් වර්ගයක්ම පැළ කොට, වවා, සාදා, නිමකොට මෙහි විකිණීමට තබා ඇත...

තවත් තැනෙක හැලි වළං, වට්ටි, මුට්ටි, මැටි කෝප්ප, මැටි කේතල, ඇතිලි, කොරස් ආදි මැටි භාජනය.

වෙනත් තැනක සබන් වෙළඳුන්ය. රෙදි සෝදන සබන්, මුහුණේ ගාන සුවඳ සබන්, නාන විට ඇඟේ ගෑම සඳහා විශෙෂ සබන් ආදි නොයෙක් වර්ග වේ. සමහර වෙළෙන්දෝ ගැනුම් කාරයින්ට තේ සහ රොටී වලින් සංග්‍රහ කරති. රෙදි සෝදන සබන් වර්ගයෙන් නගන්නේ අම්හිරි සුවඳකි. ඒවා මිළදී ගන්නන් තේ බීම කෙසේ වෙතත් නාස්පුඩු වසාගත යුතු යැයි මට සිතේ.

අතිශයින්ම ප්‍රසිද්ධ කඩ පේළිය පරණ බඩු විකුණන්නන්ගෙන් සමන්විතය. මෙතැන නම් ඇත්තටම ඕනෑම දෙයක් මිළදී ගත හැකිය. අවශ්‍ය, අනවශ්‍ය හැම දෙයක්ම මෙහි ඇත. සොල්දාදුවන්ගේ කලිසම්, එකිනෙකට නොගැළපෙන සපත්තු, වැඩි කලක් නොවී අවුරුදු හතක් පමණ ඇඳ පට්ට ගැසූ හිම කබා—ඒ කබා මසා තිබෙන්නේ මොන වර්ගයට අයත් රෙදි වලින්දැයි කීම උගහටය— තොප්පි, ආයුෂ අනුව නම් එක තොප්පියක් කැස්පියන් මුහුදේ සිට නැගෙනහිර ඇති සියලුම තොප්පි වලට නායකකම් කිව හැකි අති පැරණි තොප්පියකි, මල්යාහාන්ගේ* කාලයට අයත් යැයි කිව හැකි කසි කබල් කබායක්, අණ්ඩ දමූ ඇඳුම් ආදිය මෙහි විකිණීමට තබා ඇත. ඇඳුම් මහන්නන් ඕනෑම දෙයකින් මැසීමට හපන්නු බවට තවත් සාක්ෂි උවමනා නැත. එසේත් නැතිනම් මහලු හෝ මළගිය අසුන් පිට එළා තිබූ අශ්ව පොරෝන මිළදී ගත හැක. මොරොක්කෝ වර්ගයේ සපත්තු—ඒත් ඒවාට සම්පූර්ණ අඩි ගසා උඩ කොටසට අණ්ඩ දමා සම්පූර්ණයෙන්ම අළුත්වැඩියා කරගත යුතුය—දණහිස දක්වා උසැති සපත්තු අඳිනවිට දෙපා එතීමට ගන්නා රෙදි වර්ග, අමුඩ ලේන්සු ආදියද ඕනෑ තරම් මෙහි ඇත...

එහෙත් ඉතාම දකුම්කළු දර්ශනය වෙළෙඳුන්ගේ මුහුණු බව කිව යුතුය. උන්ගෙන් වැඩි දෙනා යටත්පිරිසෙයින් සතියකට නොඅඩු කාලයක සිට මුහුණ කට සෝද නැති බව කිව යුතුය. කිසිදිනෙක කොණ්ඩා රැවුළ කපා නැත. එහෙත් ඔවුන්ගේ මුහුණු දිලිසේ. යමෙක් බඩුවල මිළ ගණන් ඇසුවොත් ඔවුන් කොතරම් සතුටකින් පිළිතුරු දෙන්නේදයත්, හරියට ඊයේ මියගිය කිට්ටු නෑයෙකු මළවුන් අතර සිට යළි පණ ලැබුවාක් මෙන් දනේ. අතට අත දී ආචාර කොට බඩු වල ගණන් කියති. ''ඇමෙරිකාව'' නමින් මහ පොහොසත් රටක් ඇති බව මා අසා ඇත. මේ නම් ඒ ඇමෙරිකාව තමා!

ඉදින් මෙන්න මේ කඩ පොළේදී අපේ ගමේ හුස්නිබායි අපට මුණ ගැසිණි. කඩ පොළේදී දුටුවන් මවිත කරවන වස්තූන් නිසා කැළඹී ගිය සිත් ඇති අප දෙදෙනා ''ඉස්සෙල්ලා සල්ලිවලට බඩු ගන්නවද නැතිනම් අප අත තියෙන දේ විකුණනවද'' යන්න තීරණය කිරීමට බැරිව සිටින විටය අපට හුස්නිබායි මුණ ගැසුණේ. හුස්නිබායි රෙදි නොව රෙදි කෑලි වෙළෙන්දෙකි. එහෙත් ඒවා කුඩා රෙදි කෑලි නොවේ. බේල් ගනන් රෙදි විකුණන විට ඉතිරිවන රෙදි කෑලි යැයි කිව හැකි මේවා, යාර බාගයක් හෝ කාලක් පමණ දිගය. තොග වෙළෙඳුන් විසින් මේ රෙදි කෑලි, තැනින් තැන යමින් වෙළඳාම් කරන සුළු වෙළෙඳුන්ට විකුණනු ලැබේ. විවිධ වර්ණවලට අයත් මේ රෙදි කෑලි ඔවුන් ගෙන ගොස් මෙසේ විකුණනු ඇත. මෙවැනි රෙදි කෑලි මිළදී ගන්නෝ

---

* මල්යාහාන්—කොකාන්ද්හි හාන් රජ.

බොහෝය. ඉතාම ලාභ රෙදිකෑල්ලක මිළ සත දහ හතකි. එයත් මිළදී ගැනීම ලෙහෙසි කාරියක් නොවේ. නිතර අඳින ඇඳුමක් කපු රෙදි වලින් මස්සවා ගැනීම සඳහා ලොකු වියදමක් දැරිය යුතුය. අත්වලට හා කකුල් වලට පමණක් අණ්ඩ දැම්මට කපු රෙදි මිළදී ගනිති. ඉතිරි කොටස් වලට අමු රෙදි යොදති.

තැනින් තැන ගොස් රෙදි කෑලි විකුණන්නෙකු ලෙස හුස්නිබායි ජීවිතය ආරම්භ කළේ කවදද යන්න කීමට අපි නොදනිමු. රෙදි මළු දෙකකුත් කර ගසාගෙන අතකින් රෙදි මනින පොල්ලත් රැගෙන යන සැටි නම් අපි දුටුවෙමු:

''මෙන්න පොප්ලින්, රතු රෙදි, කපු රෙදි, මල් චීත්ත, මඩප්පලම්, මෙට්ට උර රෙදි, ගන්න, ගන්න. ලාබෙට දෙනවා!'' යැයි කියමින් ගිරිය පුප්පා ගෙන කෑගසන විටය ඔහු අප දුටුවේ. ඔහු යළි පණ ලැබූ මළවුන් දුටුවෙකු මෙන් අප දැක විස්මයට පත්විය.

''ඒයි, උඹල කොහෙ ඉඳලද මෙතනට ආවේ?.. කරපටි වෙළඳාමට යන්න කියල තාත්ත මට කරදර කළා. මම කිව්ව මට ඒ වෙළඳාම හුරු නැහැ කියල. අපේ මාමා වගේ තැනින් තැන ගිහිං රෙදි වෙළඳාම් කරන්න හුඟාක් කාලයක ඉඳල මට ආසාවක් තිවුණ. තාත්තා මට සල්ලි ටිකක් දුන්න රෙදි කෑලි ටිකක් ගන්න. ඉතින් මම ආව සයිද් එක්ක මේ බසාර් එකට... බලපල්ල මගේ ළඟ තියෙන රෙදි ගොඩ. මේ තරම් හොඳ රෙදි ගොඩක් යූසුප් දව්දව්ගෙ කඩේ වත් නැහැ. රුබල් තුනක රෙදි!'' යැයි කියමින් ඔහු පුරසාරම් දෙඩීය. ''ඉතින් උඹල මොකද මෙහෙ කරන්නෙ? අමාන් ගම ඉඳල වැඩ කරල ගෙදර යනවද?'' මෙතැනදී ඔහු මගේ යටගියාව මතක් කළේය: ''උඹ තමයි බාං මිනිහ! උඹ අභිකුණ්ටිකයො එක්ක රස්තියාදු වෙන්ට ඉගෙන ගන්නවද? උඹ සුමාන දෙකක් තිස්සෙ රස්තියාදු වෙනව නේද? උඹලගෙ අම්ම! අනේ පව්, ඒ මනුස්සය දහ අතේ ඇවිද්ද උඹව සොයාගන්ට. උඹ යන තැන ඒ අසරණ මනුස්සයට යම්තම් වත් දන්වන්න එපායැ. උඹලෑ මාමා ඇවිල්ල උඹ ගැන අම්මාට කීව. ඒපාර තමයි ඒ මනුස්සය යම්තම් හිත හද ගත්තෙ. උඹ මාමාලෑ ගෙදර දවස් පහක් හිටියලු. ඊට පස්සෙ කප්ලාන්බෙක් මාමාලගෙ ගෙදරට යන්ට පිටත් වුණයි කියල උඹලගෙ මාමා කීවා. උඹ එහෙ ගොවිතැන් කරනව කීවලු, හේමන්ත කාලෙ එනකල්... ඉතින් උඹ මෙහාට පාත් වුණෙ කොහොමද? උඹ ආයිමත් මාමාට බොරුවක් කීවද? ඇයි මෝඩයා! අම්මා බලන්ට පලයන්. ඒ මනුස්සය තවම ඉන්නෙ ඇඬූ කඳුලෙන්...''

''මොනව හරි හම්බ කරගෙන ඇඳුම් කෑල්ලක් අරගෙන පස්සෙ ගෙදර යනව'' යැයි මම කීවෙමි.

''උඹට ඒ වගෙ දෙයක් පුළුවන්ද? තියන කමිසෙත් නැති කරගනීවි.''

''ඒයි යාළුවා. සැර බාල කරනව. උඹ දන්නවද මා ළඟත් බඩු තියනව වෙළඳාමට.''

''ඇත්තටම! හරි ජාති බඩු නෙව. කොහෙන්ද හොයා ගත්තෙ? කපුටු කූඩුවක් වත් කැඩුවද?''

''මැ උඹගෙ දේසනාව. ඔය කන්දෙස් කිරියාව නවත්වල ගමේ තොරතුරු කියනව'' යැයි අමාන් බායි පැවසීය.

''මොනවද ඉතින් ගමේ ආරංචි?.. උඹල දන්නවද හුස්නිබායිට සනීප වුණා. ජලීල් මුදලාලි මිනිහගෙ පිදුරු ගොඩ පල්ලියෙ වහලෙ උඩ දැම්ම, ඒ හන්ද ගින්නක් ඇවිළුනා. ගිනි නිවන මිනිස්සු ආව. හරිම අපූරු දර්ශනෙ! වෙන මොනවද. පුලාත්හොජි, අයියගෙ පිස්තෝලෙ

හොරකම් කරල මුරකාරයගෙ බල්ලට වෙඩි තිබ්බ. මීර්ෂාබ් මිනිහව දවසකට සිරගෙට දැම්ම. පොලිස් කාරයො දෙන්නෙකුයි මචාලොව් ඉස්පැටරයි ආවා. ඔක්කොමල්ල හැංගුනා. මමයි සලීහුයි මීර් අසීස් අකාගෙ සොල්දර තට්ටුවට නැගල බැලුව.'' මචාලොව් කතා කරන සැටි පෙන්වීමට කට ඇද කරගත් හුස්නි මෙසේ කියන්නට විය: 'යපෝයි මිනියෝ, යුඹගෙ පුතාට සිරගෙට සයිබීරියාවට යන්ට වේවි. ආ!' එතකොට පුලාත්හොජිගෙ අයියා, 'අනේ සැර් ෂමාවෙන්ට, ෂමා වෙන්ට' කියල කිව්ව. එයා මචාලොව්ට සල්ලි මිටියක් දුන්න. ඌ ඒකත් අරගෙන යන්ට ගියා. දැන් පුලාත්හොජි පුරසාරම් දෙඩවනව. මිනිහ දැන් නම් පොලිස් කාරයින්ට, මචාලොව්ට, තුර්-රහිම් මුර කාරයට හරි වෙන ඕනැම කෙනෙකුට හරි බය නැහැයි කියනව. මට ඕන නම් ඕන එකෙකුට වෙඩි තියන්න පුළුවන් කියල කියනව. අපි ඌට විහිළු කළා. ඌ අපට කියනව බලපියව් තොපිටත් වෙඩි තියනව කියල...''

''එයාට මම කන හරහා දෙනව ගමට ගියාම'' යැයි මම කීවෙමි.

''සත්තකටම. හැබැයි ඊට ඉස්සෙල්ල උඹ ගමට පලයන්'' යැයි උපහාසාත්මක ලෙස අමාන් කිය.

''ආ! හුස්නිබායි ගමට ගියාම අපේ ගෙදරට ගිහිං අම්මටයි නංගිලාටයි මා මතක් කළැයි කියපන්. මෙන්න මේ කාසිය යුල්දෂ්ට දීපන්. ඒක මා ගත්තු ණයක් අපි යනව වෙළඳාමට. ආයුබෝවන්!'' යැයි මම කීවෙමි.

ආයුබෝවන්! යැයි කී හුස්නිබායි අපෙන් ඉවත්ව ගියේය. තත්පරයකට පසු ඔහු මහ හඩින් කෑගසන සැටි ඇසිණි. ''ආ! ආ! පොප්ලින්, චීත්ත රෙදි ගන්නෙ කව්ද...''

පරෙවියන් හා කූඩුව වෙනුවට මාරු කරගත් බඩු පොදියද අමාන්ගේ උදැල්ලද විකිණීමට අපි තීරණය කර ගතිමු. අප වටා ගැනුම් කාරයෝ බොහෝ දෙනෙක් රැස්වූහ. මිනිසුන්ට අවශ්‍ය භාණ්ඩ අප ළඟ ඇතැයි යන හැඟීමක් අපට ඇතිවිය. එහෙත් ඔවුන් රැස්වූයේ අපේ වෙළඳ භාණ්ඩ දෙස බැලීමටය. ඒ බඩු වලින් ගතහැකි නොයෙකුත් ප්‍රයෝජන ගැන ඔවුහු අදහස් පළ කළහ. පැයක් පමණ මේ අන්දමට වධ විඳීමෙන් පසු අමාන්ගේ උදැල්ලත් මගේ ලී උදැල්ලත් විකුණා ගැනීමට අපි සමත් වීමු. සිය කැමැත්තෙන් ඉදිරිපත්වූ අතර මැදියන් නැතිව ඒ වෙළඳාම නොකෙරිණ.

''මොකො කියන්නෙ කිව් ගණනට දෙනවද'' යි ඔවුහු අපෙන් ඇසූහ. බොහෝ වේලාවක් හෙට්ටු කළ පසු අමාන්ගේ උදැල්ල කාසි පනහකටද,මගේ ලී උදැල්ල ටංගි කාසි 15 කටද විකුණා දැමුවෙමු.

අමාන් ඉන වටා බැඳි ලේන්සුව ගෙන ටංගි හැට පහ ගැටගසා නැවත ඉන බැඳ ගත්තේය. දුදු කැටද ගිගිරිද මා අමාන්ට දුන්නෙමි. ගෙජ්ජි රබාන සහ පෙනේර වළල්ල මම ගතිමි. මම රබාන ගැසීමි, අමාන් ගිගිරිය සොලවන්නට විය. අප සිතුවේ ගැනුම් කාරයින් ගෙන්වා ගැනීමටය. එහෙත් අප වටා කොල්ලන් රැස්ව නොමිලේ විනෝදවීමට සූදනම් වේ. එක් කෙට්ටු කොළුවෙක් ගිගිරියට කැමති විය. මුදලාලි කෙනෙකුගේ පුතෙකු වන ඒ කොල්ලාව අමාන් දැලේ දමා ගත්තේ නොවරදින ලෙසිනි. ගිගිරිය වෙනුවට පැණි කොමඩු දෙකක් සහ කැකිරි ගෙඩියක් ලබා ගැනීමට අමාන් සමත් විය. මම ඔහු දෙස බලා ඇසක් අඩවන් කළෙමි. ''හරිම දක්ෂයා! වෙළඳාමේ ශූරයා!'' දුඹුරු අසකු පිට නැගී ගමන් කළ ලස්සන රැවුලකින් යුත් තරුණයෙකුට ගෙජ්ජි රබාන විකුණා දැමුවෙමි. ඔහු ටංගි කාසි දහයක් දුන්නේය. ඉතිරි සෙල්ලම්,

බඩු ගැනීමට කසාක් ජාතික අහිංසක මැහැල්ලක් ඉදිරි පත් වූවාය. ඇ අත කිකිළියක්, බිත්තර, මුදවපු ඔටු කිරි හට්ටියක් සහ කුරක්කන් ස්වල්පයක් විය.

''අනේ, කොල්ලනේ ඔය සෙල්ලම් බඩු ටික මට විකුණහල්ල. මගෙ මුනුබුරාලට සන්තෝස වෙන්ට ආ!''

''පෙනේර වළල්ල එක්ක මිස වෙනම සෙල්ලම් බඩු විකුණන්නෙ නැහැ'' යි මම කීවෙමි.

''අනේ, කොල්ලනේ පෙනේර දල නැතුව වළල්ලෙන් ඇති වැඩේ මොකක්ද?.. ආ!'' යැයි ඇසූ මැහැල්ල ඉවත ගිය නමුදු ඇ නැවත හැරී ආවාය.

''වෙන දෙයක් වුණාවෙ. මුනුබුරාලට සෙල්ලම් කරන්නත් මොනව හරි ඕන නෙව. කීයක් ගන්නවද?''

බොහෝ වේලාවක් හෙට්ටු කළෙමු. අන්තිමේදී බිත්තර විස්සකුත්, තොප්පියක් පුරා කුරක්කන් ගොඩක් සහ ඔටු කිරි ටිකකුත් ලබා ගෙන ඒ බඩු කීපය මැහැල්ලට දුන්නෙමු. දැන් අප නිදහස් කුරුල්ලන් මෙනි.

''මදූ මහන්සි වුණු තරම!'' යැයි දිග ඇදෙමින් කී අමාන් ''මොනවා හරි කමුද?'' යි ඇසුවේය.

''යමු. මොනවද කන්නෙ?''

''ලාබෙට ඒ වගේම හොඳට බඩ පිරෙන දෙයක්!''

''එහෙනම්, මිලට් කැඳ.''

කාසියකට ඉරිඟු රොටි දෙකක් සහ වට්ටක්කා කෑල්ලක් ගත් අපි කෑඳ විකුණන පැත්තට ගියෙමු. එතැන වෛවාරණ ජාතියෙ කෑම. බැදපු පිකුදු (අක්මාව) විකුණන සැටි දුටිමු (ඇත්ත තමා අක්මාවෙන් තරමක දුගඳක් හමනව. ඒ උණාට ඔය වගෙ සුළු කාරණා, කවුද ලොකුවට බාර ගන්නෙ!). අල සහිත මස් කට්ලට්, මැකරෝනි, කැඳ බත්, සුප්, තිරිඟු කැඳ, මිලට් කැඳ... කෑම පිරවූ මහ සැලි කීපයකි. ආහාර ගැනීමට එන අය මේ සැලි අසල ඇන බාගෙන හිඳගනිති. අරක්කැමියෝ ඔවුනට හොදි සහ කැඳ බෙදති. හිටි හැටියේ එකෙකුගේ කැඳ කෝප්පයේ කලු පැහැති ලපයක් දකින්නෙක් කෑගසයි: ''මොකක්ද මේ මැස්සෙක් නෙවිද?'' ''මොනව කියනවද කැඳවල කොයින්ද මැස්සො? ඔය බැදිල කරවුණු ලූණු කොළ කෑල්ලක්'' යැයි කියන අරක්කැමියා කැඳ කෝප්පයට ඇඟිල්ලක් ඔබා 'ලූණු කොළ කෑල්ල' ගෙන කටේ දමා ගෙන තලු මරයි... ''ඔන්න ඉතින් නිව්හැනේ කන්න!''

''මෙතැන කෑම ලාබයි, පිරිසුදුයි'' මෙසේ සිතූ අප දෙදෙනා මැකරෝනි කෝප්ප දෙකක් ගතිමු. කෝප්පයක මිළ කාසි තුනකි. හෙට්ටු කොට කෝප්ප දෙකක් කාසි පහකට මිළදී ගැනීමට අපි සමත් වීමු. සතුටු සිතින් කෑමට සූදනම් වුනෙමු. මැකරෝනි තරමක ඇඹුල් රසයක් ගෙන දුන්නද ප්‍රණීත ඉරිඟු රොටියත් සමග කන විට පැණි රසට සමාන යැයි අපට හැඟේ. කැඳ කෝප්පය කට ළඟට ගත් අමාන් 'සූ! සූ' යන හඬක් නගමින් මැකරෝනි ගිලින විට නයි පැටවුන්ගේ ශබ්දයට සමානය. මමත් ඉක්මනින් මැකරෝනි කෑවෙමි. ඉඳ හිට නළලෙන් වෑස්සෙන දහඩිය බිංදු පිස දැමීමට අපට සිදුවිය.

මැකරෝනි හා ඉරිඟු රොටි කෑමෙන් පසු පැණි කොමඩු ගෙඩියක්ද අහවර කර දැමූ අපි සතුටු සිතින් දිග ඇදුනෙමු. ඉන වටා ඇති ලේන්සුව ගෙන බිත්තර, කුරක්කන්, ඇඹුල් ඔටු කිරි සහ ඉතිරි රොටි කෑලි කීපයද ඔතා ගතිමි. එක් අතකින් මේ මුළද අනික් අතින් කැකිරි ගෙඩියද මා ගත් අතර අමාන් පැණි කොමඩු ගෙඩිය ගත්තේය.

අපේ මී ළඟ පියවර කුමක්ද?

අමාන්ට අළුත් අදහසක් පහළ වූ සැටියකි. අපේ පොදු මුදල් තොගය ඔහු ළඟය. දැන් එහි රූබල් දෙකකට කිට්ටු මුදලකි. අමාන්ගේ සිත මේ සල්ලි ගොඩ නිසා කැළඹී ඇත. 'තෙල හන්ද දුක් නොවිඳින්නේ බැටළුවා විතරයි' යන කියමන ඇත්තකි. පොහොසත් බායියෙකුගේ පුතෙකුට පහළ වන ගතිගුණ අමාන් කෙරෙහිද දැකිය හැක.

''අපි යමු බැටළු ගාලට'' යැයි අමාන් යෝජනා කළේය.

''ඒ මක්කටද?''

''මගේ කොටසට මම බැටළු පැටියෙකු සල්ලි වලට අරගෙන නගරෙට ගෙනි යනව.'' යැයි අමාන් කීය.

''උඹට පිස්සුද? උඹට ඕන කෑම ටික හොයාගන්න බැරුව ඉන්න කොට උඹ කොහොමද සතුන්ට කෑම දෙන්නෙ?'' යැයි මම ප්‍රශ්න කළෙමි. ''එහෙම නැතිනම් උඹලැ තාත්ත බලාගෙන ඉන්නවද උඹ බැටළු පැටියෙක් ගේන කල්?''

මගේ විරුද්ධ වීම ගඟට කැපූ ඉණි මෙන් විය. ඔහු මාත් සමග බැටළු ගාලට ගියේය. ගාල අසල සිටි මුරකරු ළඟ අපි කැකිරි සහ කොමඩු ගෙඩි තැබුවද, කෑම මල්ල තැබීමට තරම් ඔහු විශ්වාස නොකළෙමු. පොළ, අවසාන නඩු තීන්දුවට සමාන වී නම්, මේ සත්ව ගාල ලෝකාන්තිම දවසට සමාන යැයි කිව හැකිය. අසරණ සතුන් මොනවා ගැන සිතත් දැයි මම නොදනිමි. අන්තිම දවස පැමිණ තිබෙන බව උන්ටද වැටහී ඇතැයි සිතාගැනීමට ඉඩ තිබේ. එක් පැත්තකින් බැටළුවෝ නොනවතා හඬ නගති. අනිත් පැත්තෙන් එළුවෝ සහ පැටව් 'උම්බෑ!' ගාති. තරමක් දුරින් එළදෙනුන්ගේ, වස්සන්ගේ, හරකුන්ගේ හා මී හරකුන්ගේ හඬ ඇසේ. ඊටත් එහා අශ්ව ගාලකි. එතැන කපටිකුට වෙළෙන්දෝ ලෙඩ රෝග වලින් පිරි කැහැටු අශ්වයින් අගනා ධාවන තුරඟයින්සේ පෙන්වා මිළ වැඩි කොට විකිණීමට වෑර දරති. ගැනුම් කරුවන් රැවටීම පිණිස ඒ කැහැටු අසුන් සගර්ලික් නදිය වෙතට ගෙන ගොස් ඔවුන් දිය පොවති. ගැනුම් කරුවෝ ඒ මේ අත යති. බැඳ තබා ඇති අසුන්ට ළං වී බලති, බැණගනිති, මහ හඬින් කෑගසමින් හෙට්ටු කර ගනිති. තරමක් දුරින් සිටිනුයේ එළුවන් අයිතිකරුවන් දෙදෙනෙකි. ඔවුන් තෂ්කෙන්ට් සිට පැමිණි බෙෂාගාච් බායිලාය. අනිත් අයිතිකරුවන් කසාක් වරුන්ය. ඔවුන් අතට අත දෙමින් ආචාර කරගෙන වෙළඳාම් කර ගනී. ඔවු න'තරට වදින තැරැව්කාරයෝ ගැනුම් කාරයින් පොළඹවති ''ගන්න ලොකු උන්නැහෙ, ගන්න හරි හොඳ සතා!'' ''විකුණන්න ලොකු උන්නැහෙ, බලාගෙන ඉන්න එපා!'' තැරැව්කාරයින්ගේ ඇස් නැටවෙති, අත් වෙව්ලති, රූබල් දහස් ගණන් වටිනා සතුන් සිය ගණනින් වෙළඳාම් කෙරෙන මෙතැන විශාල ලාභ ලැබෙන තැනකි.

සතුන්ගේ හඬ නම්වූ මහා සාගරයට වදින මිනිස් හඬ ගිලී යයි. තට්ට පැළෙන කට්ට අව්ව නිසා වාතය උණුසුම්ය, දූවිලි ගහණය, දහඩිය, සතුන්ගේ මුත්‍ර නිසාද, ලොම් වල අම්හිරි සුවඳ ආදිය නිසාද පැතිර යන දුගඳ ඉවසිය නොහැක. සම් බඳුනක දිය පුරවා ගත් මිනිසෙක් මැටි කෝප්ප දෙකක් අතින් රැගෙන සෙනග පීරාගෙන ගමන් කරයි.

''පිපාසයට වතුර! පිපාසයට වතුර බොන්න!'' යැයි කියමින් ඔහු යයි. ඔහු දෙවියන්ගේ නාමයෙන් වතුර බෙදා දෙන්නෙකි. වතුර බී සතුටු වූවෙක් මැටි කෝප්පයට ශතයක් දමයි. මුදල් නොදීද සිටිය හැක: මුදල් දුන්නේද යන්න ගැන වතුර කාරයා සොයා නොබලයි.

අමාන්ටත්, මටත් වඩා පුංචි කොල්ලන් දෙදෙනෙක් හඬ නගා කෑගසති. ''මෝරු, මෝරු කවුද බොන්නෙ මෝරු!'' 'අයිරාන්' නමින් හැඳින්වෙන මේ මෝරු භාජනයේ කුණු පැහැති අයිස් කැට කීපයකි. ඔවුන් ඒ අයිස් කැට සොයා ගත්තේ කොහින්ද?..

පළමු, කඩපොළේදී දුටු දේ නිසා අපි කැළඹීමට පත්වීමු. එහෙත් මේ සතුන් වෙළඳාම නිසා අපි පුදුමවීමු. ඒ මේ අත ඇවිදින අපි වරෙක ඔටුවකු වෙළඳාම් කරන්නෙක්, උගේ කට හැර දත් පෙන්වන සැටි බැලුවෙමු. අශ්වයෙකු ගේ ගමන් විලාසයද, හරකකු විකිණීම පිණිස හෙට්ටු කරන සැටිද අපට පෙනේ. මා හිතන හැටියට නම් අමාන්ට තම බැටළුවා අමතකවූ හැඩයි. මේ වෙළඳ පොළේ නැගෙනහිර පැත්තේ ඇතිවූ ඝෝෂාවක් නිසා නොවේ නම් ඔහුට ඔහුගේ බැටළුවා ගැන සම්පූර්ණයෙන්ම අමතක වීමට ඉඩ තිබිණ. බක් මහේ වැස්සට පෙර පටන් ගන්නා ගෙරවීමක්සේ ඒ මහා ඝෝෂාව අප වෙත ළං විය.

''ගහපිය ඕකට'' යැයි කව්දෝ කසාක් බසින් කෑගැසීය.

''ගැට කපන්නෙක්, ගැට කපන්නෙක්!''

''වෙළඳ පොළට හොරෙක් ඇවිත්!''

හැම තැනින්ම ඝෝෂා කරති. කසාක් හා උස්බෙක් ජාතික පොලිස් කාරයින් දෙදෙනෙක් එක් අතකින් කඩු ගනිමින් අනික් අතින් තම නිල් පැහැති කලිසම් අල්ලා ගෙන සෙනඟ පීරා ගෙන දුවති. අපිද ඔවුන්ට වඩා වේගයෙන් දුවගොස් කෑගසන පිරිස මැදට වැදුනෙමු. ඒ පිරිස මැද අප දුටුවේ කව්ද? ඔබ අවිශ්වාස කරන්නේ නම් අමන් සාක්ෂි කියනු ඇත. අපේ ගමට අල්ලපු ගමේ—කුග්රිමාච්හි ප්‍රසිද්ධ ගැට කපන්නෙකු වන සුල්තාන්ය. එහෙත් මෙතැන ඔහු පෙනී සිටියේ සොරකු මෙන් නොවේ, සොරකම නිසා පාඩු ලැබූවකු ලෙසිනි. ඔහුගේ ඇස කඳුලෙන් පිරිලාය. පිරිස මැද සිටින ඔහු පෙනුමෙන් අහිංසකයෙක් යැයි කිවහැකි, අත් වැඩ ඉගෙන ගන්නා සිසුවෙකුට සමාන ගැටවරයෙකුගේ කරෙන් අල්ලාගෙන සිටී.

''මුස්ලිම්වරුනි!'' යැයි කෑගසමින් රැස්ව සිටියවුන් ඇමතූ සුල්තාන් අනික් අතින් තම පපුවට ගසා ගනිමින් කතා කරයි: ''මගේ සල්ලි හොරකම් කරගන්න කොට මේ කොල්ල මගේ ළඟට වෙලා හිටිය. මම මේකව සැක කරනව.''

හොඳටම සුදු මැලිවූ ගැටවරයා හයින් වෙවුලයි:

''අනේ දෙවියනේ, මේ බොරු චෝදනාවෙන් මාව බේර ගන්න. අනේ දෙවියනේ. මා වැටිච්ච විපත්තියක මහත...'' යැයි කියමින් කොලුවා තොල මතුරයි.

''උඹ ළඟ කොච්චර සල්ලි තිබුණද?''යි දුව ආ කසාක් ජාතික පොලිස්කාරයා ප්‍රශ්න කළේය.

''රූබල් අටකුයි චංගි කාසි හතරක් තිවුණ. පසුම්බිය ඉරි වැටිච්ච රෙදි වගයකින් මහල තියෙන්නෙ. ඒක ඇතුළෙ රිදී මුද්දකුත් තිවුණ. ''ඕ. අලි'' කියන අකුරු ඒකෙ කොටල ඇති. මම දුප්පත් සපත්තු මහන්නෙක්... කෙට්ටු බැටළුවකුව සල්ලි වලට අරගෙන සීත කාලෙ වන තුරු ඌට කෑම දීමට හිතාගෙන හිටියා!''

සුල්තාන් වට පිට බලන විට ඔහු අමාන් දුටුවේය.

''මේ කොල්ලො දෙන්න මා වෙනුවෙන් සාක්කි කියාවි!''

මා අසල සිටි අමාන් බලාපොරොත්තු රහිත ඒ ප්‍රකාශය නිසා ගල් ගැහිණ. එහෙත් නැවත සිහි එළවාගත් අමාන් රැස්ව සිටියවුන්ට මුවාවෙමින් අතුරුදහන් විය. සිටි තැනින් සෙලවීමට පවා මම අපොහොසත් වීමි.

''උඹ ළඟ කොච්චර සල්ලි තියෙනවද?'' යි පොලිස් කාරයා ගැට වරයාගෙන් ඇසීය.

''අනේ රාළහාමි... මගේ ළඟත් රුබල් අටකුත් ටංගි කාසි දෙකක් තියෙනව. මගේ පසුම්බියත් ඉරි වැටිච්ච එකක්. මාත් ආවෙ බැටළුවෙක් ගන්නයි. දෙවියම්ප ඇත්ත!''

''මේකට සාක්කි කාරයො ඕන නැහැ. යමු ගම්මුලැදෑනියා ළඟට.'' යැයි කී පොලිස්භටයා ''විසිර පලයල්ලා!'' යැයි කෑගැසීය.

ඔවුන් දෙදෙනා පොලිස් භටයින් සමග ගමන් ගත් අතර මම අමාන් සෙවීමට ගියෙමි. බැටළුවා ගැනත්, මා ගැනත් මෙලොව සියළු දේ ගැනත් අමතක කළ අමාන් බයවී පැන ගොසිනි. සවස් වන විට මම ඔහු සොයා ගත්තෙමි. බියගුළුකම හා නිවටකම නිසා මම ඔහුට බැණ වැදුනෙමි. ඔහු තවම බයෙන් නිදහස් වී නැත.

''පස්සෙ මොනවද වුණේ?'' ඔහු ප්‍රශ්න කළේය.

''මොනවද වුණේ? උඹ පැනල ගිය එක හරි හොඳයි. නැත්නම් උඹට වෙන්නෙ ගැට කපන්නගෙ අත් උදව් කාරයකු වෙන්ටයි. පොලිසිය උඹව හොයනව'' යැයි මම කීවෙමි.

''ඇත්තද? දැන් ඉතින් මොනව කරන්නද?''

''මොනව කරන්න කියලද අහන්නෙ!'' යැයි ඇසූ මම ඔහුට සරදම් කරන්නට වීමි. ''උඹ කිසිම හේතුවක් නැතිව එතැනින් පැනල ආවේ ඇයි. උඹ හන්ද කොමඩු ගෙඩියයි, කැකිරි ගෙඩියයි මුරකාරයා ළඟ!''

අමාන් තරමක් සන්සුන් විය.

''කොහෙද අපි රෑට නවතින්නෙ?''

අපි තේ කඩයක් පාසා යමින් නවාතැනක් සොයා බැලුවෙමු. ඒවා වෙළෙන්දන්ගෙන් හා ගැණුම් කාරයින්ගෙන් පිරිලාය. වාඩිවීමට පවා තැනක් නැත.

''කොහේ යමුද?'' යි අමාන් ඇසීය.

''මොකක් හරි දෙයක් කරන්ට ඕන... මට අදහසක් පහළ වුණා. ගිය අවුරුද්දෙ අපේ බාප්පා මේ කඩ පළට ආවා. එයාටත් බැරිවුණා තේ කඩයක නවාතැන් ගන්ට. ඉතින් එයා කසාක් ජාතික නාකි අම්මණ්ඩි කෙනෙකුගෙ ගෙදර නවාතැන් ගත්ත කියල කිව්ව. නම මතක නැහැ... ඕ, හෝ! මතක් උණා ඒ අම්මණ්ඩිගෙ නම යහ්ෂිකිස්!* ඒ ගෙදර කඩ පළට වැඩි ඈත නොවෙයි. ඒ ගැනි කූඩාරමක ඉන්නෙ. හැලි අරක්කු ජාවාරම් කරන කෙනෙක් එයා. යමු. සොයමුද?''

දඩයම් බල්ලකු විසින් ලුහුබඳිනු ලැබූ හිවලෙකු මෙන් නිතර වට පිට බලන අමාන් නිහඬව මා පස්සෙන් ආවේය.

---

* යහ්ෂිකිස් යනු රූමත් තරුණිය ය.

4

# නවාතැන

යහ්මිකිස්ගේ කූඩාරම අමාරුවක් නැතිව අපි සොයා ගත්තෙමු. ඒ වටා පිරිසුදුය, අසල තැනෙක දිග බංකුවකට සමාන මැටි කණ්ඩියකි. ගොරෝසු රෙද්දකින් ඒ මැටි කණ්ඩිය වසා ඇත. කූඩාරම ළඟ ගිනි මැලයක් සහ ලොකු තඹ හැලියකි. ගිනි මැලය අසල කිරි හට්ටියකි. ඇත සිටුවන ලද කණු දෙකක් හරහා ඇති කඹයක මැටි කෝප්ප තුන හතරක් එල්ලා ඇත. ඒවා පුරා, යොදය සහිත කිරිය. පුහුල් ගෙඩියක මදය සූරා ඉවත් කොට සාදගත් භාජන දෙකක්ද මෙහි එල්ලා ඇත. ඒවා ඇඹුල් කිරිවලින් පිරිලාය. මේ සියලු බඩු බාහිරාදිය මැදට වී ඒ මේ අත පනින වස්සෙකි. කූඩාරමට මඳක් ඈතින් පිහිටි ගහ අසල වියලි පඳුරකට බැඳ දමා ඇති බැල්ලියකි. ඌ, වියලි දර කෝටු ගොඩකට සමානය. මන්දෝත්සාහී ලෙස බුරන උගේ හඬ, ලතෝනියකටද සමානය. බැල්ලියගේ බිරීම නිසාදෝ යහ්මිකිස් මැහැල්ල කූඩාරමෙන් එළියට ආවාය. හැට පිරුණු මැහැල්ලක් වන ඇය තම රිදීවන් හිසකේ වැසෙන සේ පලාවන් ලේන්සුවක් පැළඳ සිටියාය. කඩමාළු ලොම් සළුවකින් දෙවුර වසාගෙන සිටි ඇය, තම හිසකේ අග, රිදී රුබල් සහ කොපෙක් පනහේ කාසි කිපයකින් යුත් ආභරණයකින් අලංකාරකොට තිබුණාය.

''සලාම්, ෂෙ-ෂේ'' (ආයුබෝවන් ආච්චි අම්මේ).

අප පිළිගැනීමට පෙර මැහැල්ල අපට නොතේරෙන බසකින් බැල්ලට බැණ වැදුණාය. ''ෂ්පට්ච්, අබද්රස්ගුර්'' බැල්ලිය නිහඬවූවාය. මැහැල්ල අපට මැටි කණ්ඩිය පෙන්වා මෙසේ කීවාය:

''ඉලන්දරියො මෙහෙන් ඇවිත් වාඩිවෙයල්ල!''

මම අමාන් දෙස බලා ඇසක් අඬවන් කළෙමි, ඔහු අත තිබූ බඩු පොදිය මැහැල්ලට දුන්නේය.

''කඩ පොළෙන් තෑගි ගෙනාවා'' යැයි මම ඇයට කීවෙමි.

''අයියෝ මොකටද මෙතරම් මහන්සි වෙන්නෙ'' යැයි ඈ කී නමුදු බඩු පොදිය රැගෙන කූඩාරමේ මුල්ලකට වැදුනාය. ඇය නැවත එළියට ආවේ මඳ වේලාවකට පසුවය.

''ඉලන්දරියො මොනවද කන්නෙ බොන්නෙ. හැලි අරක්කු ගේන්ටද, මස් ටිකක් බදින්ටද?''

''අනේ ආච්චි අම්මේ. අපට හැලි අරක්කු, මස් එපා. මේ බිත්තර දෙකක් බැදල දෙන්න. පුළුවන් නම් රෑට නවාතැන් දෙන්න.

''හොඳා. දෙවියන්ගෙ අහසත් මහ පොළවත් විශාලයි, ඕනතරම් ඉඩ තියෙනව. දැන් ඌෂ්ණ කාලෙ. ඕන තැනෙකට වෙලා නිදගනිල්ලා. ගාස්තුව දෙදෙනාටම ටංගියක් අයකරනව.''

''අනේ ආච්චි අම්මේ. අප දෙන්නා ළඟම තියෙන්නෙ තුට්ටු බාගයයි!''

''කපටි යක් පැටව් දෙන්නෙක්. කමක් නැහැ නිදගනිල්ල. අද කඩ පොළ තිවුණ නෙව. සල්ලිකාර බායිලගෙ කොල්ලො ඒවි. හොඳට ජොලියට හිටිව්...''

තඹ හැලියට යටින් ගිනි මොලවා ඈ ගොම රොටි ගින්නට දැම්මාය.මම අමාන් සමග වාඩිවී මින්පසු යන ගමන් ගැන කතා කළෙමි. මැහැල්ල අපට බිත්තර සහ සිහින් රොටී දෙකක්ද මැටි කෝප්ප දෙකක්ද ගෙනැවිත් දුන්නාය. සිසිල් දිය කෝප්පය බැගින් බිවූ අපි ආහාර

ගත්තෙමු. මේ කෑම රස බොජුන් මෙන් අපට දැනිණ. අමාන් බිත්තර හා රොටිය කා ඇඟිලි ලෙවකන විටම වගේ මහ හඬින් සිනාසෙමින් පැමිණි මිනිස්සු පස් දෙනෙක් කුඩාරමට ඇතුළු වූහ. ඉදිරියෙන් ගමන් කළේ උසැති තරුණයෙකි. ඔහුගේ වම් උරහිස මත මස් කළ බැටළු පලුවකි. අනික් අත ලොකු පොදියකි. එහි රොටී, ලූනු සහ කැරට් අල විය යුතුය. ඔහු පසුපසින් පැමිණි පුද්ගලයා ආධුනික පූජකයෙකු මෙන් එළු රැවුළකින් හෙබි කිලිටි ලෝගුවක් හැඳ ගත්තෙකි. ඔහු ප්‍රවේසමින් පා තබයි. ඔහුගේ සිහින් මුහුණේ ආචාරශීලි මඳ සිනාවකි.ඔහු කබා දෙකක් හැඳ සිටියේය. යට කබාය හරහා ඉන වටා පටියකි. ඊළඟට කුඩාරමට ඇතුළු වූයේ ගැට කපන සුල්තාන්ය. ඔහුගේ කලිසමේ කකුල් නවලාය. ඉන වටා බැඳි ලේන්සුව තොණ්ඩුවක් මෙනි. කබායේ බොත්තම් වසා නැත. හිස පැළඳි කිලිටි තොප්පියේ වාටිය නැවී ගොසිනි... ඔහුගේ මුහුණ අහංකාරයෙන් හා උද්දච්ච බවකින් පිරිලාය. ඒ දෙස බලනවිට පවා ඔක්කාරය හැදෙයි. ඔහු දුටු මට අනිත් අය ගැන අමතක විය. ඉතිරි දෙදෙනාද සුල්තාන්ට සමාන හැඩ හුරුකම් ඇති එවුනැයි හැඟේ. එකෙකුගේ ඇසක සුදක් තිබෙන බව මා දුටුවේ පසුවය. අනිකාගේ දකුණු උරය වම් උරයට වඩා උසය. එනිසාදෝ වම් අත දිගය.

අමුත්තන් දුටු අමාන් ගල් ගැසිණ. ඔහු මා දෙස බැලුවේ මවිතයෙනි. මැටි කණ්ඩියෙන් වහාම ඈත් විය යුතු බව මම ඔහුට සංඥා මගින් දැන්වූයෙමි. ඔහු සැනෙකින් අතුරුදහන් විය. ගහ අද්දර පඳුර ළඟට ගොස් අපි නැවතුනෙමු. එතැන මැහැල්ලගේ කණාටු බැල්ලිය බැඳ තබා ඇත. ඈ කොතරම් දුර්වල එකියක්ද යත් අවට ලොව සිදුවන කිසිවක් ගණනකට වත් නොගත්තාය.

''ආච්චි අම්මේ ආයුබෝවන්. අපි අද මෙහෙ නවාතැන් ගන්නව! ඇහුනද?'' යි සුල්තාන් හොරදෙටුවා කීය.

ඔහු වට පිට බලනවිට අප දුටුවේය.

''ආ—හොර කොල්ලො මෙහාටත් ඇවිල්ල? මොනවද ඔතන කරන්නෙ?''

සුල්තාන් සහ ඔහුගේ යහළු පිරිස වාඩිවී සිටි මැටි කණ්ඩිය දෙසට යාම විනා අපට කළ හැකි අන් කිසිවක් නොවීය. මැහැල්ල කිලිටි රෙද්දක ඔතා තිබුණු රොටී ගෙනැවිත් තැබුවාය. ඉන් පසු ලී කෝප්පයක් ගෙනා ඈ සුල්තාන් දෙස බලා මෙසේ කීවාය:

''බොන්නෙ මොනවද, හැලි අරක්කුද, කසිප්පුද?''

''සැර බඩුවක් දෙන්න!''

මැහැල්ල නැවත කුඩාරම තුළට වැදුනාය.

''උඹල මොනවද බං සතුන් විකුණන තැන කළේ?'' සුල්තාන් අපෙන් ප්‍රශ්න කළේය.

අමාන් බිම බලාගත් අතර මම පිළිතුරු දුන්නෙමි.

''සුල්තාන්-අකා* අපි ඔහෙ නිකම් ඇවිද්ද.''

''හරිම තැනක් නෙව හොයාගත්තෙ ඇවිදින්න.'' ඇස් හකුළුවා ගනිමින් ඔහු මෙසේද කීය: ''උඹලව මගේ ගෝලයින් හැටියට බඳව ගන්නද? මගෙ රස්සාව පුහුණු කරවන්න''. අමාන් පෙන්වමින් සුල්තාන් දිගටම කතා කළේය: ''මෙන්න මේකා නම් හොඳයි ගේකට වහලෙ උළු ඇරල රිංගවන්න. ගැට කපන්නෙකුට නම් ඒකා දක්ෂ මදි''.

---

* අකා—ලොකු උන්නැහෙ.

''සුල්තාන්-අකා අර සණ්ඩුව කෙළවර වුණෙ කොහොමද?'' යි මම ඇසීමි.

''හා-හා, උඹ දන්නෙ නැතිද? හරි ජාති වැඩේ නෙවිද?'' යි සුල්තාන් තම මිතුරන්ගෙන් ඇසිය. ඔව්හු හිස්වනා එය අනුමත කළහ. ''අපි අද උදේ තේ කඩේ ඉඳගෙන හිටිය. ඔන්න එතන වාදයක් ඇතිවුණා. මම කීව මට පුළුවනි ගැට කපන්න විතරක් නෙවි, මිනිසුන්ව මුලා කරල සල්ලි හොයන්නත්, සල්ලි අයිතිකාරයාව හොරෙක් කරල එයාගෙ සල්ලි මට ලබා ගන්නත් පුළුවනියි කියල. ඒ වගෙ දෙයක් කරන්න බැරිය කියල මගේ යාළුවො මා සමග ඔට්ටු ඇල්ලුවා. පරාදවුණු අය හැලි අරක්කු අරන් දෙන්ට ඕන කියල තීරණය වුණා. ඔන්න ඉතින් මම සතුන් විකුණන බසාර් එකට ගියා. මම දැක්කා අර කේඳැරියා එනව. මම ඒකගේ සල්ලි පසුම්බිය හොරකම් කරල ගැනල බැලුව කොච්චර සල්ලි තියෙනවද කියල. ඒ ගණනට මගේ අතින් දැම්ම තව ටංගි දෙකක්. මගේ රිදී මුද්දත් ඒකට දල අර මිනිහගෙ සාක්කුවට ආපහු මුදල් පසුම්බිය දැම්ම. ඊට පස්සෙ අර බොරු පාට් එක දල මිනිසුන්ව රැවටුවා. අපව ගෙනිච්චා ගම් මුලාදැනිය ළඟට. සල්ලි ගැනල බැලුවම මම කී ගණන හරියටම හරි. මට ඒකගෙ මුදල් පසුම්බිය නීතියානුකූලව ලැබුණා. මුලාදැනියා කොපෙක් පනහක් ගත්තා. කොහොමද වැඩේ, ආ? හරිම ඉහළයි නේද?''

''වැඩේ හරිම ඉහළයි!'' යැයි කී මම අර අහිංසකයා ගැන ඇසුවෙමි.

''හා! හා! ඒකව හිරබාරයට ගත්ත. බයවෙන්ට එපා. ඒකට වැඩි වෙලා හිරකූඩුවෙ ඉන්ට මම ඉඩ හැරියෙ නැහැ. පොලිස් කාරයට රූබලයක් දීල කිව්ව ඒකව නිදහස් කරල දන්න, මම ඔයතරම් නපුරෙක් නෙවියි කියල. ඉතින් ඒකව නිදහස් කළා. ඒ අහිංසකයා කොතරම් සන්තෝසවුණාද කියල කිවොත්, මාව බදාගෙන ඉඹල මට පිං දුන්නා ... හා හා! හා!.. මාව ඉඹගත්ත... හා! හා!''

පිරිස කොක් හඬලමින් සිනාසුණේය.

''සුල්තාන්-අකා නියම වීරයෙක් වගෙ හැසිරිල තියෙනවා'' යැයි මම කීවෙමි.

''වෙන කොහොමද'' යි කී සුල්තාන් නෙත'ගින් මා දෙස බලා සිනාසුණේය.

මැහැල්ල මස් ලිප තබා ගිනි අවුළුවන්නට වූවාය. මස් හැලියට උඩින් නැග සිටි නිල්පැහැති දුම් වළා සැහැල්ලු පොරෝනයක් මෙනි. හිරු බැස යත්ම නැගෙනහිර අහසේ වළාකුළු සෙමින් සෙමින් පාවෙයි. ගලා බසින දිය ඇල්ලේ හඬ ඇසේ. මේ පිරිස මෙහි නොසිටියේ නම් කොතරම් අගනේද! ඔවුහු අප අමතක කොට සිය කටයුතු වල යෙදුනාහ. සුල්තාන් පැත්තකට ඇලවී වැළමිටි වාරුවෙන් දෑත් මත හිස තබාගෙන මැටි කණ්ඩිය අසල සිටින උස මිනිහා සමග කතා කරයි. පූජකයාට සමාන මිනිසා සමාධියට සම වැදුනාක් මෙන් වාඩිවී දෑත් පපුව මත තබාගෙන සතර කන් මන්ත්‍රණයට යමිතමින් සවන් දෙයි. අනික් දෙදෙනා එකිනෙකාට මුහුණ ලා වාඩිවී ගිනිපෙට්ටියක් ඒ මේ අත විසිකරමින් විනෝද වෙති.

මැහැල්ල පිරිස ඉදිපිට 'හැලි අරක්කු' පිරවූ මැටි බඳුන් දෙකක් සහ පාට කළ කෝප්ප කීපයක්ද තැබුවාය. බූසා නම්වූ ඒ හැලි අරක්කු වර්ගය බීමට පෙර යම්තම් රත් කළ යුතුව තිබුණද, දවස පුරාම හිරු රැස්වලින් රත් වූ නිසාදෝ මැහැල්ල එය ලිප තබා රත් නොකළාය. වත්කරන විට පවා එයට විශෙෂ වූ රීතියක්ද ඇත. එය පෙරහන් කඩකින් පෙරාගත යුතුය. උස මිනිහා තම ඉන වටා බැඳ තුබූ ලේන්සුව ගෙන කෝප්පයේ කට වටා තදකොට බැඳ මත්පැන් වත්කරන්නට විය. ඉන්පසු එහි රස බැලූ ඔහු කෝප්පය සුල්තාන්ට දුන්නේය.

''ඔක්කොටම වත් කරපන්''

තවත් මැටි කෝප්ප දෙකකට මත්පැන් පුරවා තරුණයන්ට දුන් උස මිනිහා ප්‍රශ්න කරන්නාක් මෙන් සුල්තාන් දෙස බැලීය.

''කොල්ලන්ට දුන්ම දෙන්ට එපා. පූජකයට දීපන්.''

''අනේ, අනේ මට එපා. තමුසෙල බොනව. මම බොන්නෙ නැහැ. දෙවියන්ගෙ වචනවල හැටියට...''

''දෙවියන්ගෙ වචන අල්ලා විසිකරල දානව.'' යැයි කී සුල්තාන්ගේ කට හඬ තර්ජනාත්මක ලීලාවක් ගත්තේය. ''උඹ කවදා ඉඳලද නොබොන සමාගමට බැඳුනෙ, ආ? වේස ගෙදරදී උඹ අපේ කෝප්පවල ඉතුරු වුණ ඒවත් බීල වෙරිඋණ හැටි මතකද?''

''නැහැ. බොනව. ඒ උණාට... ඒ උණාට මම පොරොන්දුවක් දීල තියෙනව.''

''පොරොන්-දු? ඔය පොරොන්දු වල වටිනා කමක් එහෙම තියෙනවද? උඹ කවුද කියල අමතක වෙලාද? ගිය අවුරුද්දෙ සීත කාලෙදි කඩ පොළේ සලාර්ගෙ කඬේ ළඟදි වෙච්ච සිද්දියෙන් මම උඹව බේරා නොගන්ට මිනිස්සු එදා උඹව කෑලි වලට ඉරා දමන්ට තිබුණා. උඹ කව්ද? වැදගැම්මකට ඇති වැඩක් කරන්න පුළුවන් මිනිහෙක්ද? උඹ! හොරෙකු නාකි උණාම උපාසකයෙක් වෙනව, සල්ලාලයකු නාකි උණාම දූෂ්ටයකු වෙනවයි කියන කතාව ඇත්ත. මදැ මිනිහ පොරොන්දු දීල! එහෙනම් උඹ දැන් ඉෂාන් කෙනෙකු (මුස්ලිම් ආගමේ මහ පූජකයකු) වෙලා ශුද්ධ වස්තු සොයමින් ඇවිදින්ට පටන් ගනීවි. බොරු නැතුව බීපං බාං!''

පූජකයා වෙව්ලන අත්වලින් බඳුන ගත්තේය.

''උගුර රත්කරගෙන සචිදිය පුරන සින්දුව කියපන්, පටන් ගනින් මොහමද් තුමාගෙ ගෝලයා!''

පූජකයා දැස් හකුළුවාගෙන සෙමින් බීවේය.

අපට මත්පැන් බොන ලෙස විශෙෂ බල කිරීමක් නොකරන ලදී.

මත්පැන් පිරි බඳුන් එකි'නෙක තබන ලදින් ඒවා කෙමෙන් හිස්විය. හරි හැටි තැම්බී නැති මස් ව්‍යංජනයද මැහැල්ල ගෙනැවිත් තැබුවාය. පූජකයා තම ජටාව ගෙන ඉන වටා ඔතාගෙන නටයි. ඔහුට දුන් මත්පැන් කෝප්ප සියල්ල බී අවසන් කළ පූජකයා හැම තැනම ගොස් ඉතිරි වී ඇති මත් පැන් බොමින් සගයන්ගේ ඉල්ලීම පරිදි වෙරිමතින් ගී ගයයි.

''අස්සය ගියා උඩ පැන පැන
කන්දට උඩින් පැන්න ගමන්
මාර කටේ වැටුන ඒක.
කාල බීල බඩ පුරා
පැන පැන යමු රට පුරා...

පිරිස වැඩි වැඩියෙන් මත්පැන් බී එක වර කතා කරන්ට වූ අතර අන් අයට සවන් නොදිණි. මැටි කණ්ඩිය මත වාඩිවී සිටි මම සෙමින් අමාන්ට සංඥා කළෙමි. කිසිවකු එය නොදුටුවේය. මැහැල්ලගෙන් පැදුරක් හා කොට්ටයක් ඉල්ලාගෙන කුඩාරමේ මුල්ලකට වී වැතිර ගතිමු. හෙම්බත් වී සිටියද අපට නිදගැනීමට බැරිවිය. වෙරිමත්වූවෝ කෑ ගසති, ගයති, නටති. අළුත් පිරිසක් විත් පළමු පිරිසට එක්විය. එක්ව ගී ගයමින් සිනාසෙමින් කෑ කෝ ගැසූ මොවුන්ගේ හැසිරීම සතුන් විකුණන පොළට සමානය. ඉන් පසු පොරකා ගැනීමට පටන් ගත්හ. එකෙක් පහර ගැසූ අතර අනිකා දෙවියන් යදිමින් කන්නලව් කරයි.

''මා ළඟ තියෙන්නෙ මේච්චරයි, වෙන සතයක් වත් නෑ දෙවියම්ප නැහැ.''

''හොඳට හොයල බලපියව්. ඔය පටිය ගලවල හොයපියව්. නිවයා!'' දෙම්ලෙපූජකයා සතු මුදල් පැහැර ගත්හ. අපි ගියෙන් ගැහෙන්නට වීමු. මැහැල්ල කිසිදු චකිතයක් නැතිව අමුත්තන් අතරට යමින් මත්පැන් පිරි බඳුන් තබන්නීය. හිස් බඳුන් ඉවත ගෙන යන්නීය.

ඒ රාත්‍රියට අවසානයක් නැතිසේය.

අඳුරු අහස යම්තමින් අළුපැහැ වත්ම නැගී සිටි දෙම්ලෙ-පූජකයා මා අමතමින් කතා කරන්නට විය. ඔහු හිස් වෙළුමෙන් නැවත හිස වසා ගෙන සිටී. එය දුන් පෙර දවසටත් වඩා කිලිටිය. ඔහුගේ කම්මුලක් ඉදිමිලාය. ඇසක් රතුවෙලාය.

''නැගිටපන් පුතේ! නැගිටපන්! උන් නැගිටින්න ඉස්සෙල්ල පැන දුවන්ට ඕන! දැක්කද මට ගුටි ඇනල මගේ සල්ලි උදුර ගත්තු හැටි. උඹලගෙ වස්තුව හොරා ගන්න ඉස්සෙල්ල පැනල ගිහිං බේරියල්ල! නැගිට පල්ල! අනේ මගේ ඔළුව හරියට පුපුරපු කොමඩු ගෙඩියක් වගෙ...'' යැයි කියමින් පූජකයා තොල මතුළයි.

මම අමාන් අවදි කළෙමි. අපි ගඟ අසලට ගොස් මුව සෝදගතිමු.

''කොහෙද යන්නෙ දෙම්ලෙ!'' මම පූජකයාගෙන් ඇසුවෙමි.

''මහ පොළව හරි විශාලයි. ඕනැ තරම් ඉඩ තියෙනව. උඩහට යමු. කින්ගිරාක්-ටෙපෙ කන්දට යමු''

අපි කුඩාරමෙන් එළියට ගිය සැටියේම, අප ඉදිරියේ මැහැල්ල පෙනී සිටියාය.

''කොල්ලනේ, තොපි නවාතැන් කාසි නොදී පැනල යනවද! දීපල්ල ගාස්තුව!''

අමාන් ටංගියක් ගෙන, ''ආච්චි අම්මේ නවාතැනටයි, රෑ කෑමටයි මෙන්න ගාස්තුව'' යැයි කියමින් කාසි මැහැල්ල අත තැබීය.

ඇය දෙම්ලෙ—පූජකයා දෙස බලා, ''හරි, මේ පැත්තට මීන් පස්සෙ ආවොත් මෙහි නවාතැනට වරෙල්ලා. සුබ ගමන්'' යැයි කීවාය.

අපි දුවන්නට වීමු.

5

## පූජකයා සහ මළ සිරුර

පැය තුනක් පමණ ඇවිද ගිය අපි ටෙපා-ගුසාරාවට ආවෙමු. එළිය වැටී තිබිණ. මහලු කඩ කාරයෙක් තම කඩයේ දොරපළු විවෘත කළා පමණකි. ගමනට උවමනා ආහාර අපි මිළදී ගතිමු. ලුණු රාත්තලක්ද, වියළි ඇප්‍රිකට් රාත්තල් දෙකක්ද ඉරිඟු රොටී හයක්ද, නූල් බෝලයක් සහ ඉදිකටුවක්ද කැකිරි ගෙඩි දෙකක්ද සඳහා අප ගෙවූ මුදල පකීර්* හතකි. අප පකීර් හතරක් ගෙවූ අතර පූජකයා පකීර් තුනක් ගෙව්වේය. ඇස් කොනින් අප දෙස බැලූ පූජකයා තම ලෝගුවේ වාටිය ඉරා එහිවූ මුදල් ගත්තේය. කෙසේවුවද ඔහු ළඟ මුදල් ඉතිරි වූ බව අපට දැනිණි.

තවත් දුර ගිය අපට නිල්වන් තැනිතලාවක් හමුවිය. මාවතට දකුණෙන් කඳු පාමුල පිරිසුදු දිය ඇල්ලකි. අසල වූ බර්ච් ගසක් යට හිඳගෙන අපි උදේ ආහාර ගත්තෙමු. ඉරිඟු රොටී කා කැකිරි කෑවෙමු. කැකිරි ගෙඩියක් කමින් සිටි පූජකයා වරින් වර අප දෙස බලන්නට විය.

''මගේ අසරණ කම බලපල්ලා, මගේ ළමයිනි! උඹලා දන්නවද උඹලගෙ ඉරණම වෙනස් කිරීමට දෙවියන් විසින් එවා තිබෙන පුද්ගලයා කවද කියල. උඹලා දන්නේ නෑ නෙවද?'' යි අසමින් ඔහු හිස වැනීය.

''නැහැ. උඹලා දන්නෙ නැහැ'' යැයි කී හෙතෙම හිස වනමින් හුස්ම ඉහළට ඇදගනිමින් සුසුම් ලෑවේය.

අමාන්ගේ කට පුරා කැකිරි සහ රොටිය. ඔහු බලා සිටි අතර මම අස්ථිර ලෙස 'හ්ම්' යැයි කීවෙමි. එහි තේරුම කීමට බැරිවුවද එය මෙසේය: ''අපි දන්නෙ නැති බව නම් ඇත්ත තමා. නමුත් අපට තේරෙනවා!''

දැන් පූජකයාගේ පෙනුම වඩාත් කණගාටුදයකය. උවමනාවක් නැතිවා සේ රොටී කෑල්ලක් කඩා ගත් පූජක තැන නැවතත් මෙසේ කීය: ''මගේ පරම්පරාව බොහොම පුරාණ වැදගත් එකක්... ඔව්! ඇත්තටම බුහාරා ශුද්ධ භූමියේ සිට අපි ආවෙ!.. මගේ මීමුත්තා තෂ්කෙන්ට් නගරයට ඇවිල්ල පදිංචි උණා. මුළු තෂ්කෙන්ට් නගරයම ප්‍රීතියෙන් පිනා ගියා. ඔව්, ළමයිනි! මගේ මුත්තල මීමුත්තල මහ ඉෂාන් පදවිය ලබාපු උසස් පූජකයො! මුත්තල ගැන කතා මොනවටද... මගේ තාත්තා මළා! එයා හරිම ශ්‍රෙෂ්ඨ මිනිහෙක්. එයා 'කූ්ප්' කිව් හැටියම පහළට ගලන ගඟ ඉහළට ගලනව. 'සූ්ප්' කිව් හැටියම පොට්ට මිනිහෙකුගෙ වුණත් ඇස් පෑදෙනව! එයාව අවිශ්වාස කළ අය සිටියෙ ටික දෙනයි. මගේ අවාසනාවක මහත! තාත්තා අකාලෙ මළා!''

සුසුම් ලමින් හෙතෙම ඉඟ වටා බැඳ ඇති ලේන්සුව ගෙන දැස් පිස දමා ගෙන වැඩි උවමනාවකින් තොරව මෙන් ලොකු කැකිරි පලුවක් ගිල දැම්මේය.

''අම්මාගේ පැත්තෙන් බලමු. අම්මාගේ පැත්තෙන් පවා අපි දෙවියන්ට ළංවී සිටියෙ නැතිද? ඔව් අපෙ අම්මා දැනුත් ආගම නිසාම ප්‍රසිද්ධියක් උසුලනවා! ඇට හැම දෙයක්ම කරන්ට පුළුවනි! ආදරය නැවත දිනාදෙන්ට, පේන කියන්ට, ගෙජ්ජි රබාන, මැටි හැලිය දිහා බලාගෙන

---

* පකීර්—තඹ කාසියකි.

ශාස්තර කියන්ට ඈ දක්ෂයි. අම්මා නොදන්න යන්ත්‍ර මන්ත්‍ර ගුරු කමක් මෙලොව නැහැ!'' කතාව නවත්වා ඔහු අප දෙස ගැඹුරු බැල්මක් හෙළීය. ''මගේ ළමයිනි! මේක උඹලාට පාඩමක් වේවා! මම පුංචි කාලෙදි ලොකු අයගෙන් ඉගෙන ගන්ට කැමතිවුණේ නැහැ. ඉගෙන ගැනීමෙ ආසාව මා තුළ ඇතිවුනේ පමාවෙලා. ඒ හන්ද මොනවද වුණේ. පාරෙ යන රස්තියාදුකාර තක්කඩියො මට—ශුද්ධවූ ඉෂාන්ලාගේ පුතාට තළනව!''

ඔහු නැවත ලේන්සුව ගෙන කඩා හැලෙන කඳුළු ගංගාවක් නවතා දැමීමටදෝ බොහෝ වේලාවක් ඇස් පිස දමන්නට විය. එකද කඳුළු කැටක් හෝ පිටවීමට පෙර ඒවා පිස දැමීමට ඔහු සමත් වූ බව කිව යුතුය. ඔහු නැවත අප දෙස මහත්වූ තේජස් ලීලාවකින් බලා නැවත තම දේශනය පටන් ගත්තේය:

''යකුන්ගෙ දිෂ්ටිය නිසා මම වැරදි පාරක ගමන් කළා. දැන් මම හරි මග යාමට ඉටා ගත්තා. සර්වබලධාරී අල්ලා! මට මගේ මුත්තන්ගේ වරප්‍රසාද නැවත ලබා දී තියෙනව. මට මන්ත්‍ර ගුරුකම් වලින් දේව ස්තෝත්‍ර වලින් ලෙඩ සුවකරන්ට පුළුවනි. ඒව කඩදාසිවල ලියල—නුඹලා දන්නවද ඒ මොකක්ද කියල?''

මා දැන සිටියද අමාන් තමා නොදන්නා බව පිළිගත්තේ ගෞරව පූර්වක ලෙසිනි. පූජකයාගේ වචන නිසා ඔහු වශීවිය.

''මම දේව ස්තෝත්‍රය කඩදාසි කෑල්ලක ලියනව. පස්සෙ ඒක වතුරෙ හරි තේවල හරි දියකරනව. ඊට පස්සෙ ලෙඩාට බොන්ට දෙනව... සිත් ඇදගන්න ඉනා බෙහෙත් හදන්ටත් දන්නව... ඇත්ත වශයෙන්ම ඉෂාන්ලාගෙන් පැවත එන්නන්ට සර්වබලධාරී අල්ලා ආශිර්වාද නොකර ඉන්නේ නැහැ!''

''ඔබතුමා පල්ලියෙන් අකුරු ඉගෙන ගන්ට ඇති නෙවද? යි මම ඇසීමි.

''ඉෂාන්ලගෙ පුතාට මක්කටද පල්ලියෙන් අකුරු ඉගෙනගන්ට ඕන උවමනාව.. මම ගෙදරට වෙලා ඉගනගත්ත. පල්ලියෙ යන්ත්‍ර, මන්ත්‍ර,ගුරුකම් උගන් වන්නෙ නැහැ නෙවද? මට ශාස්ත්‍රවරයින් ගෙ නම් පවා ලියන්ට පුළුවනි. මෙහෙ ගම්වල මිනිස්සු මට ''ඉෂාන්-පාච්චා''* කියනව. සමහරු මාව ''කොරි-අකා'' (ශුද්ධවූ කුරානය කට පාඩමින් දන්නා භවතා) නමින් හඳුන්වන්නෙ. තවත් සමහරු මට ''මුල්ලා-අකා'' කියනව... නුඹල දන්නෙ නැහැ තවම මගේ නම... මෙසේ කී හෙතෙම කතාව නවත්වා ඉහළට හුස්ම ඇදගෙන එක සැරේට මෙසේ කියන්නට විය: ''මුල්ලාමුහම්මද් ෂරීප් බින්නි මුල්ලාමුහම්මද් ලතිප් ඉබ්නි ගච්සිල් අග්සාම්!'' ඔහු තම නම කියා අවසානයේදී ඉමහත් සතුටකින් සිටින සැටි පෙනිගිය අතර අමාන් ඔහු දෙස මහත්වූ ගෞරව පූර්වකව බලන සැටිද මට දැනිණි. ඇත්තටම පූජකයාගේ නම නිසා මා සිත තුළද අමුතු හැඟීමක් පහළ වූ බව කිව යුතුය. එතරම් දිග නමක් මා කිසි දිනෙක අසා නැත. එහෙත් ඊයේ රෑ මැටි කණ්ඩිය අසල සිදුවූ දෙය මට අමතක නොවිය. ගැටකපන හොර දෙවුචා-සුල්තාන් ඉදිරියේ මේ පූජකයා උවමනාවට වඩා බැගෑපත් ලෙස හැසුරුනේය.

''ඔන්න ඉතින් උඹලට පේනව නේද මාව එච්චෙ අල්ලා. උඹලට ආධාර කරන්ට. නුඹලා මිනිසුන් ඉදිරියේ මට ''හස්රාත්'' (ශුද්ධවන්තයා) කියපල්ල. මම නුඹලව මගේ ගෝලයන්

---

* ඉෂාන්-පාච්චා—මහ පූජක තුමා

හැටියට තියාගන උඹලට ෂරියාට්* කියන ආගමික, සිවිල් සහ අපරාධ නීති ගැන කියා දෙන්නම්. සීත කාලෙ වෙන කොට අපේ වස්තුව දස ගුණයකින් වැඩි වේවි. එතකොට අපට සෑහෙන්ට වස්තුව ලබා ගන්ට පුළුවන් වේවි. හැම කෙනෙක්ම සතුටු වේවි. අපට ඉදහිට නගරෙටත් යන්ට හැකි වේවි. කොහොමද කැමතිද?.. එහෙනම් මතක තියා ගනිල්ලා: කව්රුවත් නැති තැන මට ''මුල්ලා-අකා'' නැතිනම් ''ෂරිප්ජාන්-අකා'' කියපල්ල. හැබැයි කව්රුවත් ඉන්න තැන ''හස්රාත්'' කියල කතා කරනව. ලැබෙන දේ කොටස් හතරකට බෙදල කොටස් දෙකක් මම ගන්නව, කොටස බැගින් උඹලට දෙනව. පැනල යන එකාට දෙවියන්ට වඳින දිසාවට හැරෙන්න පවා බැරිව යාවි! ඔව් එසේම වේවා!''

අපි දෙවියන් වඳින දිසාවට හැරී දිව්රුම් දුන්නෙමු. පූජකයා එවිට ''දැන් දෙවියන් වඳින වේලාව'' යැයි කීවේය. අපි දණ ගසා ගත්තෙමු. එවිටම වාගේ පාර පුරා දූලි නංවමින් හඩක් ඇතිවිය. ඒ දූලි ගොඩ අප වෙත එත්ම, එයින් අසරුවකු මතුවී පෙනිණි. ඔහු ඉඩම් හිමියකු බව ඔහුගේ ගමනින් දැනිණි. ඔහුගේ කබාය සුළඟට ලෙල දුනි. ඔහුගේ තොප්පිය හිස පිටුපසට වැටී තිබිණි. අශ්වයාගෙන් දහඩිය පෙරෙයි. අමාරුවෙන් ඔහු අශ්වයා අල්ලා නැවත්වීය.

''සලාම් අලෙකුම්, මුල්ලා-අකා! කොහෙද බැහැරක් යනවද?''

අපි ඔහුට ආචාරශීලී ලෙස සුබ පැතීමු. අපේ ගමන ගැන වැඩි තොරතුරු නොකීවෙමු. එහෙත් ඔහුගේ උවමනාව වූයේ අනිකකි.

''තමුසෙලා අතර නැද්ද ශුද්ධවූ කුරානය අනුව ආගම කියල මළ මිණියක් නාවන්ට දන්න කෙනෙක්!''

පූජකයා අප දෙස බැලීය. අපි ඔහු දෙසට හිස නමා ආචාර කළෙමු. පූජකයා ආචාරශීලී ලෙස උගුර පාදගෙන ගාම්භීර ලෙස මෙසේ පැවසීය:

''ඉන්නව. ඒ කාරිය කරන්ට පුළුවනි. අපි තෂ්කෙන්ට් ඉඳල. අපේ වංශය ඉෂාන්. අපි උගත් මුල්ලා වරු. මුස්ලිම් දේවස්ථානෙ අපි ඉගෙන ගත්තෙ. දැන් නිවාඩු කාලෙ. අපි මේගමක් ගානෙ ගිහින් පිරිසුදු වාක්‍ය ලබා ගන්නව. මේ අපේ ගෝලයො දෙන්නා...''

අසරුවා සැදැලය මත වාඩිවී කොතරම් සතුටු වීද යත් පූජකයාගේ කතාව අවසන් වන තුරු ඔහුට ඉවසිල්ලක් නොවීය. ස්වර්ගයේ දොර හැරීමට හොර යතුරක් ලැබුනාක් මෙන් ඔහු ප්‍රීතියෙන් පිනාගියේය.

''තමුසෙලව මා වෙත එවල තියෙන්නෙ දෙවියො! ඉක්මනට යමු!..'' අශ්වයා ආපසු හරවා ගත් ඔහු අපට කරුණු පැහැදිලි කළේ ඉන් පසුවය.

''අපේ කුඩාරම් මෙතැන ඉඳල වැඩි ඈත නොවේ. අපි සතුන් ඇති කරන මිනිස්සු. අපේ හාදයකුට ලෙඩක් හැදිලා මළා. එයාගෙ මළකඳ ආගමික සිරිත් අනුව නාවන්ට ඕන. මළවුන් වෙනුවෙන් යාච්ඤාකරන්ට ඕන. ඉතින් ඔවගේ වැඩවලට අප ළඟ උදවිය නැහැ. අපි මොනවා කරන්නද කියල ලත වෙවී හිටිය. එතකොට තමයි තමුසෙල ආවෙ. අනේ දෙවියනේ. තමුසෙලව එව්වෙ දෙවියො තමා... යමු!''

---

* ෂරියාට්—ශුද්ධවූ කුරානයේ සඳහන් මුස්ලිම් ආගමික, පුරවැසි හා අපරාධ නීති හා රීති සමූහයකි.

අසරුවා අසුපිටින් බැස පූජකයාට සෑදැලය දුන්නේය. අසරුවාත් අපිත් පයින් ගමන් කළෙමු. කන්දට නැගගත් අපට ඈත සතුන් තණ කමින් සිටින සැටි පෙනේ. ඒ අසල වැලි තලාවකි, කුඩාරම් කිපයකි. මැටියෙන් සෑදූ මුරපළකි.

"ඔන්න අපේ වාඩිය, දැක්ක නේද? ඉක්මනින්ම අපි එහෙ යමු!" යි අසරුවා කීය.

මද්දහන වන විට අපි වාඩියට පැමිණියෙමු. සතුන් ඇති කරන මේ කුඩා ගෝත්‍රයේ නිත්‍ය පදිංචි භූමිය මීට බොහෝ ඈතින් ස්ටෙප්ස්හි පිහිටියේය. සතුන් ඇති කරන්නන්ගේ බිරියන් හා දූදරුවන් දනුදු එහි ජීවත්වෙති. සතුන් සමග පිරිමි කට්ටිය මෙහි පැමිණියේ සත්වාහාර සොයාගෙනය. එක් එඬේරකු අසනීප වූ විට ස්ටෙප්ස්හි ලෙඩ සුව කිරීමට කිසිවකු නැති බැවින් ඔහු රැගෙන තරුණයින් හා මහල්ලන් විසිදෙනෙකු මෙහි ආහ. අතර මගදී රෝගියා මිය ගියේය.

අප වාඩියට ඇතුළු වූ විගසම එහි සිටි එඬේරු නැගී සිටිමින් දෑත් පපුව මත තබා අපට ආචාර කළහ. පූජකයා ආචාරශීලී ලෙස "මිය ගිය තැනැත්තාගේ මළකඳ කොහිද?" යි ඇසීය. මළ සිරුර මුරපළ තුළ තබා ඇත. ඒ මුරපළේ ඇතුළු ගෙය පොහොසත් බායි කෙනෙකුගේ හරක් කොටුවකට සමානය. තාප්ප ශක්තිමත්ය. ආලෝකය හා වාතය සඳහා ඇත්තේ කුඩා සිදුරු කිපයකි. දෙර පළු දෙකකින් යුත් ගේට්ටුවකි. ගෙවත්ත මැද සුන් බුන් ගොඩකි, දුගඳ හමන දිය සහිත පුංචි දිය උල්පතකි. ඒ වටා පාසි බැඳිලාය. අතරින් පතර වතුර කාන්දු වෙයි. බර්ච් ගස් කිපයක්ද මෙහි ඇත. ඒවා පැරණි ගස් කඳන් තුළින් මතුවී තිබේ. පැරණි බර්ච් ගස් දිරා ගොසිනි. මේ පෞරාණික අඳුරු මුරපොළ මළ සිරුරකට ඔබින තැනක් බව කිව යුතුය.

මා හෝ අමාන් හෝ තම ජීවිත කාළය තුළදී මළ සිරුරු සෝද නැති බව ඔබට වුවද වැටහී ඇතැයි සිතමි. මා බියගුල්ලෙකු නොවේ. එහෙත් මළවුන්ට නම් මා තුළ ඇත්තේ මහ බියකි. බළලෙකුගේ මළ කුණක් දෙස පවා බැලීම මට නම් නොකළ හැකි දෙයකි. අපේ වට්ටාරමේ කොල්ලෝ එවැනි සතුන්ගේ මළකුණු ඇදගෙන මහ පාරේ දුවති. එහෙත් පූජක තැන නිර්භයව ඉදිරියට ගියේ ඔහු උපන්ද සිටම මළ සිරුරු සේදීම හැර අන් කිසිවක් නොකළ එකකු ලෙසිනි. අඩියක් පාසාම ඔහු දෙවියන් යදිමින් මූණ අත ගාමින්, ඒ මේ අත හැරෙමින් ගමන් කරයි. ඔහුගේ යාච්ඤා අපට ඇසෙන්නේ "කුප් සුප් " යන හඬිනි. දුර සිටින අපට එසේ ඇසුණද මළ පෙරේතයන් සිය ගණනක් එක පහරකින් ගසා පෙරළා දැමීමට තරම් ඔහු හපනෙකි.

මළ සිරුර එතීමට උවමනා රෙදි ගෙනෙන ලෙස පූජකයා අමාන්ට අණ කළේය. අමාන් නැවත හැරී ආවේ අමු රෙදි යාර හයකුත් සමගය. නැවත අමාන්ට කතා කළ පූජක තැන මෙසේ කීය: "ගිහිල්ලා එඬේරුන්ට දන්වනව, මළ මිණිය හෝදල ඉවර වෙන කල් මේ මුර පළ ළඟටවත් එන්න එපයි කියල. එබිකම් කරල බැලීම තහනම්. එහෙම කළොත් මහ විපැත්තියක් සිද්ද වේවි." එබිකම් කර බැලුවොත් ඒ මිනිහට ඔහුගේ මළ සිරුර වළ දැමීමට මිණී වළක් පවා නැතිව යන බව අපේ ශුද්ධවූ පූජකයා-හස්රාත් කීවේයැයි අමාන් දන්වා සිටියේය. එපමණක් නොව තවත් මහා අභාග්‍යයන්ට මුහුණ පෑමට සිදු වනු ඇත.

එඬේරු පිටව ගියහ. අපි දෙරටුව වසා සිදුරු වැසෙනසේ ලෑලි තබා සූදනම් වූයෙමු. අපි පූජකයා දෙස බැලීමු. ඔහු අප දෙස බලයි.

"දැන් ඉතින් මොනවා කරන්නද?" යි පූජකයා අපෙන් ඇසීය. "උඹලට මළ මිණී නාවන්න මීට පෙර සිද්ධ වෙලා තියෙනවද?"

"නැහැ!" එකවර අපි කියා සිටියෙමු.

"ඔන්න වැඬේ හැටි. මටත් එහෙම පුරුද්දක් නැහැ නෙව. මිණිය හෝදන්නෙ නැතිනම්

අපට පොරොන්දු වෙලා තියෙන රිදී කාසි දහය නැතුව යාවි..." උඹලට රිදී කාසි දෙක හමාර බැගින් දීල මම රිදී කාසි පහක් ගන්නාව" යැයි මදක් නිහඬව සිටි හෙතෙම කීය.

"හරි", ඒ උණාට මිණිය සේදීම තමුන්නාන්සෙ කරන්ට ඕන" යැයි මම කීවෙමි.

හිස වැනූ පූජකයා බියසුලු ලෙස මළ සිරුර තබා ඇති ඇඳිරි කාමරය දෙසට ගියේය. අපිද ඔහු පිටුපසින් ගමන් කළෙමු. සිරුර උඩුබැලි අතට හරවා තිබිණ. හිස හා ඉහටිය වසා තුබුණේ පරණ ලෝගුවකිනි. දෙපා නග්නය. ඉදිරියට පානැගූ පූජකයා සැනෙකින් පස්සට පැන්නෙන් අපි ඔහුගේ ඇහෙහි හැපුණෙමු. අසහාය බසින් ඔහු බැණ නොවැදුනා පමණකි. පූජකයාගේ හැසිරීම දුටු මා තුළ තිබූ භීතිය තවත් වැඩිවිය. මිය ගිය පුද්ගලයාගේ ආත්මය අප දෙස බලා සිටින බව මට හැහෙයි. රාත්‍රි මුරකරුගේ බෙරය මෙන් මගේ හදවත වේගයෙන් සැලෙයි, හඬ නගයි.

අමාන් ඇඟිලි තුඩුවලින් යමින් මළ සිරුරට ළං විය. එහෙත් වහාම ඔහු පස්සට පැන්නේය. යටි උගුරෙන් ඔහු මහ හඬක් නැගුවේ යමෙක් ඔහුගේ ගෙල මිරිකන්නාක් මෙන් අහවමිනි. අමාන් බිම ඇද වැටිණ. පූජකයා පස්සට යමින් දොර ළඟටවී බිත්තියට පිටදී සිටගත්තේය. බියගත් මම ගල් ගැසුණාක් මෙන් සිටියෙමි. සිරුර දෙස බලා සිටි මමද මරහඬ දී කෑගැසුවෙමි. "මළ සිරුරට පණ ඇවිල්ලා!" ඔහුගේ දෙපා මළාක් මෙන් වුවද හිස එසවේ. මූණ වසා ඇති කබාය සෙලවේ. අමාන් සිරුරට ළංවූ විට දුක ඇත්තේ මෙයයි, ඔහු සිහිසන් නැතිව ඇද වැටුනේ එබැවිනි...

මගේ හදවත ගැළවී ගියාක් මෙනි. පලා යාමට මා ආපසු හැරෙත්ම අමාන්ගේ අතක් මගේ පයක හැපිණ. බිම වැටුණු මා රබර් බෝලයක් මෙන් කරකැවී පූජකයාගේ ඇගේ හැපී විසිවිය. පූජකයා බිම නොවැටී වාරුවී සිටියේ මහත්වූ ආයාසයකිනි. එහෙත් ඔහුද බිම වැටිණ. නැගී සිටින අප දෙදෙනා එකිනෙකාට හැප්පී නැවත වැටුණෙමු. යම්තම් නැගී සිටි මම පූජකයා අසලින් දුවගොස් දොරටුව ළඟට ආවෙමි. පූජකයා හතර ගාතෙන්යන සතකු මෙන් මා පසු පස ආවේය. මම නැවත මළ සිරුර තබා ඇති කාමරය දෙස බැලුවෙමි. මගේ බිය තව තවත් වැඩිවූයෙන් මම මර හඬ දී කෑගැසුවෙමි.

"මෙහෙ වරෙල්ලා! මෙහෙ වරෙල්ලා!" මගේ කෑගැසීම ඇසූ මිය ගිය තැනැත්තාගේ නෑ පිරිස දොරටුව අසලට දුව විත් එය කැඩීමට උත්සාහ ගත්හ. එහෙත් දොර පළු වසා තිබූ විශාල ගල් ගෙඩි ඉවතට යන සේ දොරටුව හැර දැමීමට ඔවුහු අසමත් වූහ. මාර භියකින් පසුවන මට ගල් ගෙඩි ඉවත් කර දොරටුව හැරීමට තරම් සිහි බුද්ධියක් නොවීය. එවැන්නක් සිහියට නැඟුණද, ශක්තියක් මා තුළ නොවීය. හතර ගාතෙන් ආ පූජකයා දුහද හමන වතුර වලට වැද හැකි තරම් වෙර යොදු නාමින් යාච්ඤා කරයි. ඔහු මළ කඳක් මෙන් සුදුමැලිය.

මේ අතර මිනිසුන් කීප දෙනෙක් දොරටුව තුළින් රිංගා ගෙන මුර පොළට ඇතුළු වූහ. සිඳී ගිය ශක්තිය නිසා දුර්වල වැ සිටි මම අමාරුවෙන් සිදුවූ දෙය විස්තර කළෙමි. බියගත් ඔවුන්ගේද ඇස් පිටතට නෙරා ගොසිනි. නෑ පිරිස අපට වඩා බියවිය. නැවත ධෛර්යය උපදවාගත් අපි මිණිය තිබෙන කාමරය දෙසට ගියෙමු. අප කාමරයේ දොර අසලට පැමිණි විටම වාගේ සිරුර වසා ඇති ලෝගුව තුළින් කිසිවෙක් එළියට පැන්නේය. හැම දෙනම බියවී කෑගැසූහ. ඒ අන් කිසිවකු නොව කැලෑ පූසෙකි. ඌ මළ සිරුර වසා සිටි ලෝගුව යටට වැද වැතිර සිටි අතර අප කාමරයට වැදීම නිසා බිය විය. ලෝගුව මැත් කොට පිටතට පැන ගැනීමට ඌ උත්සාහ ගත් අතර බියවී සිටි අපට හැඟුණේ මළ සිරුරේ හිස එසවෙන සැටියකි...

සැනෙකින් කැලෑ පූසා බිත්තියට නැග අතුරු දහන් විය. උගේ නියවලට පැටලී ඇති ලෝගුව බිත්තියේ ඇනයක එල්ලී ඇත. මියගිය තැනැත්තාගේ නෑදෑයෝ එකිනෙකා දෙස බලා නැවත අප වෙත හැරී මහ හඩින් සිනා සුණහ. පූජකයාගේ සැටි බලන විට, අවමඟුල අමතක කර දමා සිනා සීමට සිතේ. ඔවුහු නැවත වරක් අප දෙස බලා සිනාසී පිටව ගියහ. අපි දෙරටුවට ලොකු ගල් කැට තබා වසා අමාන්ගේ තත්ත්වය පිරික්සීමට ගියෙමු. ඔහු තවම සිහිසන් නැතිව වැතිර සිටී. කාමරයත් එළියට ඇදගෙන විත් ඔහු දිය උල්පත ළඟ තබා මුහුණට වතුර ඉස්සෙමු. එවිට අමාන්ට සිහිය ලැබිණ. පූජකයා අමාන්ගේ මුහුණට කටින් පිඹිමින් තොල මතුළන්ට විය. ''ඔන්න හරි.., දැන් ඉක්මනින් සුව වේවි!..'' අමාන් මළවුන්ගෙන් නැගිට්ටාක් මෙනි. ඔහුගේ ඇස්වල බැල්ම අප්‍රාණිකය. දැත් පණනැතිය, ඒවා වියලී දර කෝටු මෙනි.

''නැගිටපන්! නැගිටපන්! උඹ හරියට අත දරුවෙකු වගෙ වැටිල ඉන්නෙ ඇයි? උඹ බයවුණේ කැලෑ පූසෙකුට! මළ කඳ ගල් ගෙඩියක් වගෙ තියෙනව!'' යැයි මම කීවෙමි.

අමාන්ට කතා කිරීමට තරම් ශක්තියක් ඇතිවිණ:

''අනේ! අපෝ! මට නම් හොඳටම ඇති. උඹල කරන දෙයක් කරපල්ල මෙන්න මම යනව.''

මම පූජකයා දෙස බැලුවෙමි.

''ආගමික නීති අනුව මළ මිණිය තුන්දෙනෙක් විසින් හෝදන්ට ඕන බව උඹ දන්නෙ නැද්ද?'' මම අමාන්ගෙන් ඇසුවෙමි.

අමාන් යන්තම් කැමති කරවා ගෙන තිදෙනාම එකිනෙකා තල්ලු කරමින් නැවත මිණී කාමරයේ දොර අසලට ගියෙමු. දැන් අපි එකිනෙකා වරින් වර කාමරය තුළට හිස දමමින් එබී බලන්නට වීමු. අවසානයේදී පූජකයා හා අමාන් දෙස බැලූ මම මෙසේ කීවෙමි:

''දැන් ඉතින් වැඩේ පටන් ගනිමු. නැත්නම් අර මිනිස්සු ආයෙමත් මේක ඇතුළට ඒවි... මිණිය හෝදන්නෙ හස්රාත්, අපි දෙන්න මිණියට වතුර වත් කරනව. හස්රාත් හොඳට මිණිය සේදුවොත් එයාට අන්තිම නඩු තීන්දුවේදී ප්‍රශංසා ලැබේවි. අපට සල්ලි එපා. රෙදි වලින් කෑල්ල බැගින් ලැබුනම ඒ ඇතැ'' යි කියමින් අමාන් දෙස බැලුවෙමි.

අමාන් මගේ කීමට එකඟවෙමින් හිස වැනූ අතර පූජකයා කලබල විය.

''ඒක හරි නැහැ මිණිය තරුණයි. වැඩි මහල්ලන්ට ගරු කරන්න ඕන. උඹලා හෝදපල්ලා. මම වතුර වත් කරන්නම්. මම උඹලා වෙනුවෙන් දෙවියන්ට කියන්නම්.''

''දෙවියන්ට යාච්ඤා කරන්ට අපට පුළුවනි. ඔහෙගෙ යාච්ඤා ඔහෙ වෙනුවෙන් පරිස්සම් කර ගන්නව. අපේ යෝජනාවට එකඟ වෙන එක හොඳයි. නැත්නම් මිණිය අයිතිකාරයන් ගෙන්වල ඔහෙගෙ කතාව හෙළි කරනව.''

''හරියට හරි'' යැයි අමාන් කීය.

සිත කය උතුරා යන තරම් කෝපයකින් පූජකයා අප දෙස බැලීය.

''ඔන්න උඹල කරපු කුමන්ත්‍රණයක හැටි! එකට වැඩකරන උදවිය ඔය විධියට හැසිරෙන්නෙ නැහැ!.. හොඳයි උඹල ඔළුවෙන් අල්ලපල්ලා මම කකුල් දෙකෙන් අල්ලන්නම්.''

''ඒව හරියන්නෙ නැහැ. ඔහෙ ඔළුවෙන් අල්ලනව, අපි කකුල් දෙකෙන් අල්ලන්නම්.''

අවට සිටියවුනට නොඇසෙන පිණිස අප වාද කළේ පහත් හඬිනි. පිටත සිටින කෙනෙක් අපේ මේ විවාදයට කන් දුන්නේ නම්, අප මළ පෙරේතයින් පන්නා දැමීම සඳහා ගුරු කම් කරන සැටියක් ඔහුට දැනෙනු ඇත. එහෙත් කිසිවකු මුර පොළ අසල නොවීය. එඬේරු මළ සිරුර ගෙනයාම සඳහා මැස්සක් සාදමින් සිටියහ.

අමාන් යෝජනාවක් නොකරන්නට අප දිගින් දිගටම වාද කරමින් සිටිනු ඇත.

''මට හොඳ අදහසක් කල්පනා වුණා. යාර දෙකක් විතර දිග ඇති කඹයක් හොයා ගන්ට පුළුවන් නම් හරි හොඳයි.'' අමාන් කීය.

''උඹට මක්කටද කඹයක්?''

''මට අදහසක් පහළ වුණා!.. උඹ හොයපන් කඹයක්...''

අපි අසල මඩුවට වැද හැම තැනම ඇවිදිමින් කඹයක් සෙව්වෙමු. පැරණි හැලියක් වටා බැඳ තිබුණු සත්ව ලොමින් කළ කඹයක් සොයාගැනීමට තරම් අපි වාසනාවත් වීමු. එය යාර හයක් පමණ දිගය. පූජකයා දැත් මදිමින් තොල මතුළේය. තම නවතම අදහස නිසා සතුටු සිත් ඇතිව උන් අමාන් ධෛර්යයට පත්විය. අමාන් කඹයත් රැගෙන මළ සිරුර අසලටම ගොස් පූජකයා අමතා සිරුරේ කකුල් ඔසවන ලෙස කීවේය. පූජක තෙමේ මුලදී තරමක මුරණ්ඩු ගතියක් පැවද පසුව සිරුරට පිටදී සිටගෙන වරක් වෙව්ලා, දත් විරිත්තමින් දෙපය ඇඟිලි වලින් එසවීය. අමාන් මළ සිරුරේ දෙපාවල ඇස් වටය දක්වා කඹය ඔතා තොණ්ඩුවක් ගැසීය. අමාන්ගේ අණ අනුව තිදෙනාම කඹය ඇදගෙන ඉහත කී වතුර වළ වෙත ගියෙමු.

''කොහොමද මගේ නුවණ ආ?'' යැයි කී අමාන්, ''දැන් ඉතින් සිරුරේ ඔළුව වතුර වලට දල තුන් පාරක් විතර හෝදමු. වැඩේ ඉවරයැ'' යි කීවේය.

''දෙවියන්ගෙ පිහිටයි! ඇත්තටම මිණිය සේදිල යාවි'' යැයි පූජකයාද පැවසීය.

කඹය අදිමින් සිරුර වතුර වලට දමා ඒ මේ අත පෙරලන්නට වීමු. ඒ වැඩේ කොතරම් අප සිත්ගත්තේදයත් තුන් වරක් නොව, දස වරක් පමණ අපි මිණිය වතුර වල තුළ කරකවමින් සිටියෙමු. ඕනෑම පූජකයෙකු මෙතරම් හොඳට මළ මිණි නොසෝදනු ඇතැයි යන හැඟීම අප තුළ ඇතිවිය. දැන් සිරුර ආපසු ඇදගත යුතු හෙයින් කඹය හෙමින් අදින්නට වීමු. එහෙත් අපේ බලාපොරොත්තු කඩ කරමින් සිරුර එක තැනම රැඳිණ. අමාන් නැවත සුදුමැලි විය. පූජකයා කඹය අදිමින් දෙවියන්ට කන්නලව් කරන්නට විය. ''අනේ දෙවියනි, උදව් වෙන්න! උදව් වෙන්න!..'' මට ඉබේටම දෙරටුව දෙස බැලිණි.

''කාව හරි උදව්වට අඬ ගසන්ට ද?'' යි ඇසූ මම මගේ මෝඩකම ගැන මටම දෙස් කියා ගතිමි.

''උඹ මොකද මෝඩයෙක් වෙලාද?'' යි ඇසූ අමාන්, ''උඹට යස උදව්වක් දේවි...'' යැයි කීය.''කැඟහන්ට යොදන හයිය හත්තිය මේ කඹයට යොදපන්.''බර්ච් ගස් කඳකට පය ගසාගෙන නැවත කඹය ඇද්දෙමු. එවිටම වාගේ දෙරටුව අසලින් හඬක් මතුවිය. ඔවුහු දොරට තට්ටු කරති. පූජකයා කඹය අතහැර කෑගැසීය:

''තවම අපි සිරුර හෝදල ඉවර කළේ නැහැ. පොඩ්ඩක් නැවතියල්ලා! පස්සේ අපි නුඹලට අඬ ගසන්නම්.''

අපි නැවත කඹය අදින්නට වීමු. එවිට වේයන් කා තිබූ ඒ පරණ කඹය දෙකට කැඩිණ. අපි තිදෙනාම බිම ඇද වැටුණෙමු. කෙසේ වුවද, තවත් පමා වී බලා සිටිය නොහැක. සවස් වේගන එයි.

''උන්නැහෙ ඉක්මනට ඇඳුම් ගළවල දියට බහිනව. එහෙම නැතිව තමුසෙට රිදීකාසි පහ පිනට ලබා ගන්ට බැරුව යාවි'' යැයි මම පූජකයාට කීවෙමි.

පූජකයා සුදු මැලිවිය.

''අනේ වහු පැටියො! උඹවත් එහෙම නාවන්නද, මේ පාර ඇඳුම් ගළවන්නෙ නැතුව, ආ?''

''තමුසෙට මම මොකුත් කියන්නෙ නැ. හැබැයි ගේට්ටුව ළඟට ගිහින් කියනව...''

පූජකයා මට බැණ වදිමින් ඇඳුම් ගළවන්නට විය. අමාන්ද වතුරට බැස්සේය. දූන් දෙදෙනාම මළ සිරුරත් සමග පොර බදති. දූන් සිරුරේ දෙපා උඩට මතුවී ඇත. හිස වතුර වල යට ඇති බර්ච් ගස් මුලක පැටලී ඇත. කඹය කැඩී ගිය තැන් එක් කොට ගැට ගැසූ අමාන් පූජකයාත් සමග ගොඩ ආවේය. අපි නැවත කඹය අදින්නට පටන් ගතිමු. මළ කඳ ඇදෙන බව අපට දැණිණි. එහෙත් ඒ විගසම වාගේ ඇට කැඩෙන හඬකට සමාන හඬක් ඇසිණ. ඉන්පසු සිරුර දිය මත පාවිය. හදිසියේම මළ සිරුර මෙසේ දිය මත පාවීම නිසා අපි ලිස්සා ගොස් බිම පතිත වීමු. නැවත නැගිට බැලූ අප දුටුවේ හිස නැති කඳකි!

බියට පත් අපි කළ යුත්තේ කුමක්දැයි නොදත්තෙමු. දූන් ඉතින් කුමක් කරමුද? පූජක තැන මෙතැනදී නියම වීරයකු මෙන් ක්‍රියා කළේය. ඔහු නැවත දියට බැස අත ගාමින් කඳෙන් වෙන්වූ හිස ගෙන ගොඩ ආවේය. අපට ඇතිවූ අප්‍රිය ගතිය නිසා වමනය නොගියා පමණකි. අපි අහක බැලුවෙමු. එහෙත් පූජක තැන අප විසින් මිළට ගත් ඉදි කටුව සහ නූල් සොයා ගෙන හිස සහ කඳ එක් කොට ගෙල වටා ඉදිකටුව යවමින් මසන්නට විය. අනේ ඇත්ත! ඔහු ඒ කාරියෙහි නම් ශූරයෙකි. නූල් පටවල් හයක් අමුනා කොතරම් අගේට මැහුවේදයත් විනාඩි කීපයකින් සිරුරේ හිස කඳ සමග පැස්සී ඇති බව පෙනිණි. පූජකයාගේ සියලු වැරදිවලට සමාවදීමට දූන් නම් මා සූදනම්ය. අමුරෙදි ගෙන අවමඟුල් ඇඳුම සිරුරට අන්දවන ලදී. එහෙත් සිරුරේ දෙපා වැසී නැත. ඇස්වට වටා කඹය බැඳ ඇදීම නිසා තුවාල කැළැල් පෙනෙන්නට ඇත. අපට දූන් අමු රෙදි මදිවූ බැවිනි එසේ වූයේ. අපි ඉක්මනින්ම අපේ ගමන් මල්ල ගෙන දෙපා වසා අවමඟුල් ඇඳුමට තබා මැසුවෙමු.

අමාන් කමිසය හරි ගස්සා ගත් අතර පූජකයා හැඳ පැළඳගෙන ජටාව බැඳ ගෙන සූදනම් වූයේ සිකුරාද දේව මෙහෙයට යාමට මෙනි. ඔහු මට සංඥ කළෙන් මම ගල් කැට මැත් කොට දෙරටුව හැරියෙමි. මියගිය තැනැත්තාගේ නෑයෝ හඬා වැලපීමට සූදනම් වූහ. මුස්ලිම් ආගමික චාරිත්‍ර අනුව සාද නිම කළ අවමඟුල් මැස්ස මුරපොළ අසල තබා ඇත. ගැලට අශ්වයින් දෙදෙනෙකු බඳින ලදී.

අවමඟුල් පෙරහැරට සහභාගී වීමට ආ අය එකවර ඉදිරියට ආහ. නෑයෝ 'හ්' හඬ නංවමින් බොරුවට හඬන්නට වූහ. එකෙක් මහත් සෝකයෙන් වසා තුබූ සිරුර අත ගාන්නට විය. පපුවට ඉහළින් මුහුණ වෙනුවට ඇත්තේ හිසේ පිටුපස කොටසය. මළ ගිය ඇත්තා මුහුණ හරවා ගෙන සිටින්නේ යැයි ඔහු කෑගැසීය.

මම බියෙන් ගල් ගැසුනෙමි. ඉක්මන් වූ පූජකයා හිස පිටුපසට හරවා මසා ඇත!

මිය ගිය ඇත්තාගේ නෑයෝ පූජකයාද මා සහ අමාන් තල්ලු කරමින් කෑ කෝ ගසමින් ඉදිරියට ආහ.

''මොකද ඒ මළගිය ඇත්තගෙ මූණ පිටුපසට හැරිල තියෙන්නෙ?'' එකෙක් ප්‍රශ්න කළේය.

දෙම්ලෙ — පූජකයා සුදු මැලි වී සිටියද සංසුන් විය.

''ඒ සර්වබලධාරී අල්ලාගේ නියමය.'' මෙසේ කී පූජක තැන සෝකයෙන් දැත් විදහා ගත්තේය. ''ජීවිත කාලය තුළදී මළ ගිය තැනැත්තා හුහක් පව් කරල තියෙනව. ඒ හන්ද අල්ලා එයාගෙ මුහුණු පිට පස්සට හරවා තියෙනව!''

මා බියවී වෙව්ලන්ට පටන් ගත්තද, පූජකයාගේ සංසුන් ලීලාව නිසා සතුටු නොවී සිටිය නොහැකි විය. අප මූණ පෑ මහා අභාග්‍යය මහ හැරී ඇතැයි මට සිතිණ. මන්දයත්, කෝපයට පත් වැ සිටියවුන්ගේ මුහුණුවල බලාපොරොත්තු රහිත භාවයක් මා දුටු බැවිනි. එහෙත් වූයේ අනිකකි. ඉරු රැස් නිසා රත් පැහැ ගත් ඒ එඬේරු මා සිතූ තරම් නිවටයින් නොවූහ.

''මළ ඇඳුම ඉරල බලාපල්ලා!'' යැයි පිරිසෙන් හඬක් නැගිණි. පිරිස එකාමෙන් සිරුර වෙත ආහ. සමහරු පූජකයාගේ දැත් තද කොට අල්ලා ගැනීමට අමතක නොකළහ. ඇඳුම ඉරා දැමූ විට බෙල්ල වටා ඇති මැහුම් පාරවල් දුටු එඬේරු කෑ කෝ ගසමින්, බැණ වදිමින් පූජකයාට පහර පිට පහර දෙන්නට වූහ. ඒ මහ ශබ්දය හා මර ළතෝනිය නිසා මුර පොළ දෙදරා නොගියා පමණකි. මිනිස්සු පූජකයා වට කර ගෙන පහර දෙති. අප තුළ ඇතිවූ භය නිසාදෝ මෙලොව සියලු දේ අමතක විය. අමාන් සහ මම එඬේරුන් අතරින් රිංගමින්, සමහර විට ගෙම්බන් මෙන් කකුල් අතරින් පනිමින් මුර පොළෙන් පිටතට පැන ගත්තෙමු. කීපදෙනෙක් අප ලුහුබඳිමින් දුව ආහ. ජීවිතයේ වැඩි කාලයක් සෑදලය මත ගත කළ ඔවුහු දිවීමෙහි දක්ෂයෝ නොවූහ. අපි වේගයෙන් දිව්වෙමු. දැන් අප ඉදිරියේ නොවක්, දිග පාරකි. එහි දුවන්ට ගියොත් අසු පිටින් එන්නන්ට අප අල්ලා ගත හැකි වනු ඇත. එබැවින් අතු පාරවල් ඔස්සේ යාම නුවණට හුරු බව මට වැටහිණ. වට්ටාරමේ කෙළි සෙල්ලම් වලින් මා ලැබූ අත් දැකීමකි ඒ. ''වමට හැරිල දුවපන්!'' යැයි අමාන්ට කී මම දකුණට හැරී දුවන්නට වීමි. අප ලුහුබැඳ ආ අය තවත් පමාවූහ. වේගය අඩු නොකර දුවන මම පූජකයාට සිදුවූ දේ ගැන කල්පනා කරන්නට වීමි. ''පණ රැකී ඇතිද? කොහොමවුණත් මිනිහව මරා දමල නැතුව ඇති. දෙවිය නේ එයාව ගළවා ගන්න...''

## දේශාටනය

අමාන් කොහේ ගියේදැයි කීමට මම නොදනිමි. උසට වැඩුණු පඳුරු අතරින් දුවන්නටවූ මම අඩිපාරක් දැක එය ඔස්සේ ගියෙමි. අඩිපාර අවසානයේ දිය අගලකි. මම එය හරහා පීනා ගොස් අසල පඳුරු වලින් ගහණ තැනෙක සැඟවුණෙමි. මා ලුහුබඳිමින් ආ අයගේ කටහඬ දැන් මට ඇසේ. දිය අගල අසල පඳුරු අස්සට වැදී මා සොයන්නට වූ ඔවුහු මඳ වෙලාවක් ඒ මේ අත ඇවිද ආපසු ගියහ. දැන් ඔවුන්ගේ පා ගැටෙන ශබ්දය හා කට හඬ ඈත් වෙමින් පවතී· ආරක්ෂාව සඳහා මා මඳ වේලාවක් නැවතී සිටියේ හුස්ම පවා නොගෙනය. දැන් ඈඳිර වැටී ගෙන එයි. මා නොදන්නා මේ කැලෑවේ රාත්‍රිය ගත කිරීම නුවණට හුරු නැත. වාසනාව මට කොහෙත්ම පිහිට නොවීම තවත් හේතුවකි. මම නැවත අඩි පාර දිගේ ආපසු ගමන් කළෙමි. පඳුරු වටා ඇති ඒ අඩිපාර වංක ගිරියකට සමානය. එක් තැනකදී මගේ පය මඩ ගොහොරුවක් මත තැබිණ. ඉදිරියේ මඩ වලක් යැයි සිතූ මම බිය ගතිමි. එහෙත් නැවත වියලි බිමකි. අඩි පාර උස් බිමක් හරහා වැටී ඇත. එහි අවසානයේ පඳුරු සහිත පෙදෙසද කෙළවර වෙයි.

ඈත ගම් කීපයකි. මම දැන් මහ පාර දිගේ ඒ ගම්වලට යමින් සිටිමි. මේ පාර වැටී තිබෙන්නේ කිනම් ගම් හරහා දැයි යන්න මා නොදන්නේ වුවද, මීට පෙර එහි නොගිය බව නම් ස්ථිරව මම දනිමි. කළුවරේ වුවද, එක් වරක් හෝ ගමන් කළ පාරක් ඇඳින ගැනීමට මට පුළුවන. පඳුරු ගොඩට පිටුපා ගමන් කරන්නට වීමි. අසුන්ගේ කුර ගැටෙන හඬක් ඇසී බියට පත්වූ මම වටපිට බලන්නට වීමි. එය මා සිත තුළ ඇතිවූ චකිතයක් පමණකි. මා යමින් සිටින පාර අසුන්ගේ ගමනට සුදුසු නැති බව මට අවබෝධ විය. මම සංසුන් වූයෙමි. අඳුරු රැය නොතකා අඩියෙන් අඩිය ඉදිරියට යන මගේ දෙපා විසින් දූලි නංවනු ලැබේ. අහස තරු වලින් පිරිලාය. අමාන්ව එඬේරු අල්ලා ගන්නට ඇතැයි මට සිතේ. දෙමලෙ-පූජකයාගේ ඉරණම සිතා ගැනීමට පවා බියජනකය. මා කොතරම් දුර ගමන් කළේදැයි කිව නොහැක. දැන් මා ඉදිරියේ පහන් කීපයක ආලෝකයකි. කලින් මා සිතුවේ ඒවා ක්ෂිතිජයේ ඇති තරු සේය. දැන් එම අදහස වැරදි බව මට අවබෝධ විය. මා ඉදිරියේ ගමකි.

එගමට ඇතුළු වූ මම පාරක් දිගේ ගමන් කොට පහන් දල්වා ඇති ගොඩ නැගිල්ලකට ඇතුළු වුණෙමි. එය මුස්ලිම් පල්ලියකි. රාත්‍රි යාච්ඤා වාරය පටන්ගෙන ඇත. මම අන්තිම පෙළට එකතුවී දණගසා ගතිමි. එවිටම වාගේ ඒ දේව මෙහෙයද අවසාන විය. සියලු දෙනාම විසිර යන්නට වූහ. මම පල්ලියේ බිත්තියට පිටදී සිට ගත්තෙමි. ඉමාම් (මහ පූජක තැන) සහ සූපි (අන්නවි රාළ) මා දෙස සැක සිතින් බලන සැටි පෙනේ. එම මුස්ලිම් පල්ලියෙන් බඩු සොරාගෙන ගිය බව මම පසුව දැන ගත්තෙමි. සූපි* මගෙන් ප්‍රශ්න කළේය:

''මොකද පුතේ බොහොම වෙලා හිටියද? දේව මෙහෙය ඉවරයි.''

''අනේ! පූජක තුමානෙනි! මම දුර ගමක ඉඳල ආවෙ. එනකොට පාර වැරදිලා වල්මත් උණා. උදේ වෙන කල් මේ පල්ලියෙ නවතින්න මට ඉඩ දෙන්න...''

මහ පූජක ඉමාම් ඉදිරියට විත් මෙසේ ඇසීය:

''උඹ කොහෙ ඉඳලද?''

---

* සූපි—දේවමෙහෙයට මුස්ලිම් බැතිමතුන් අඬගසන්නා.

''මම තෂ්කෙන්ට් ඉඳල!''

''ඔහෝ. උඹ මෙහෙ මොනවද කරන්නෙ? මෙ පළාතෙ? මෙච්චර දුර කොහොමද ආවෙ?'' අපේ පූජකයා එඬේරුන් රැවටූ සැටි මට මතක් විය.

''මම පූජකයින් පුහුණු කරන ඉස්කෝලෙක ඉගෙන ගන්නව. දූන් නිවාඩු කාලෙ රස්සාවක් හොයා ගන්ට ගමක් ගානෙ ඇවිදිනව... ''සුසුමක් හෙලා ඉමාම් දෙස බලා මෙසේද කීවෙමි. ''මළ මිණී භෝදන රස්සාවක් තියෙනවනම් දෙන්න!''

''උඹ ඉගෙනගත්ත ස්කෝලෙ නම මොකක්ද? එතැන ගුරු පූජකයා කව්ද?''

කට වරද්ද ගත් බව මට වැටහිණ. තෂ්කෙන්ට්හි ආගමික පාසල්, පල්ලිහා පූජක අභ්‍යාස විදුහල් විශාල ගණනකි. මම එකද පාසලකවත් නම නොදනිමි. නමක් මවා පෑමට තරම් වෙලාවක් පවා නැත.

''මහ පූජක තුමාණෙනි! තෂ්කෙන්ට් නගරෙ තියෙන ලොකුම ඉස්කෝලෙ. අර හොඳටම ප්‍රසිද්ධ ගුරු පූජකයා... අන්න එයා තමයි අපේ ගුරුතුමා...''

ඉමාම් සිනාසුණේය.

''අනේ ගෝලයො. උඹ සැහෙන්ට ඉගෙන ගෙන තියෙන බව පේනව. හැබැයි පල්ලියෙ ස්කෝලෙ නෙවෙයි, බොරු කියන්ට උගන්වන ස්කෝලෙක. කමක් නැහැ වරෙන් අපේ දිහාට. කොහොමද උඹේ බඩ ගෙඩියෙ බඩ පණුවො පිනුම් ගහනවද?''

ලජ්ජාවූ මම බිම බලා ගත්තෙමි.

''තේරෙනව... හොඳා යමු. අපට පොඩි වැඩක් කරල කෑම වේල හොයා ගනින්.''

ඉමාම් පසු පසින් ගමන් කළ මම කළයුතු වැඩේ ගැන කල්පනා කළෙමි. මා පළමුවෙන්ම සිතුවේ කෑමට යමක් ලැබේද යන්න ගැනය. ඉමාම් පුළුස්සන ලද ඉරිඟු කරල් දෙකක් මා ඉදිරියෙහි තබා කැඳ කොප්පයක්ද දුන්නේය. මා කැඳ බොමින් ඉරිඟු ඇට සපන්නට වූ අතර ඉමාම් ඇතුළු ගෙට ගොස් නැවත ආවේ පොරවකුත්, පිහියකුත් කඹයකුත් රැගෙනය. දඩයම් බල්ලෙකු දුටු මුව පැටවකු සේ බියගත් මම පැන යාමට සැරසුණෙමි. ඉමාම් හඬ නගා සිනා සුණි.

''උඹ බය වුණාද? උඹව කපන්ට නොවෙයි මම ලෑස්ති වෙන්නෙ! මගේ වහු පැටියෙක් ඕනවට වඩා කාලා ලෙඩවුණා. මෙන්න මේවත් අරගෙන හරක් කොටුවට පලයන්. මෙන්න උඹට පොරවාගන්න බ්ලැන්කේට්ටුවක්. පොරවයි, කඹයයි, පිහියයි තියාගෙන සූදානමෙන් හිටපන්. වහු පැටියගෙ හුස්ම හිරවෙල ඌ ගොරොද්දෙ ඇද්දෙත් උඹ උගේ බෙල්ල කපල දපන්. තේරුනද? හැබැයි උඹ නිදා ගන්න විතරක් එපා. උඹේ වැරැද්ද හන්ද වහු පැටිය මැරිල යාවි!''

''තේරුණා, උතුමාණෙනි! තේ කෝප්පයක් එහෙම ලැබේවිද?'' මම ඇසුවෙමි.

''තේ අවුන්සයක් කාසි පහක් වෙනව. උඹට මොන තේද කොල්ලො? ළඟ දිය පාරක් තියෙනව. ඒකෙ හොඳ පිරිසුදු වතුර. එතැනින් වතුර බීපන්...''

මම අමනාප නොවීමි. මට භාර දුන් කාරිය එතරම් අමාරු දෙයක් නොවීම නිසා මම සතුටු වීමි. ඉමාම් නැවත ඇතුළු ගෙට ගියේය. මම පැදුර එලා ගෙන වැතිර දිග ඇදී බ්ලැන්කේට්ටුව පොරවා ගෙන අහස දෙස බැලීමි. සුළං පාරක් හමා ගියේය. ගෙවැට අසල ගස්වල තුරු 'සුරු', 'සුරු' ගා සැලෙන්නට විය. හරක් මඩුවේ සත්තු ඉඳහිට හඬක් නගා නිහඬවෙති. අහසේ ලොකුම තරු තුන දෙස බලාගන්වනම සිටි මම වෙන අතකට ඇස් හැරවීමට පවා බියවීමි. හිස නැති මළ

කඳ මා දෙසට එමින් සිටින සැටි මට දැනේ. නැතිනම් ගස්වලට මුවාවී ඇති මළ කඳේ හිස මා දෙස නපුරු බැල්මක් හෙළයි... දැන් මැදියම් රාත්‍රියයි. ඊයේ මිය ගිය මිනිසාට මගෙන් පළිගැනීමට සුදුසු වෙලාව පැමිණ ඇත. බ්ලැන්කේට්ටුව පොරවා ගත් මම හැකි තරම් ගුලිගැසී සිටියෙමි. මළ ගිය තැනැත්තා මට නොඅඩු තරමින් වධ හිංසා විඳ සිටි හෙයින් ඔහුට මා බිය කිරීමට තරම් අද නිවාඩුවක් නැතැයි මට හැඟේ. ඔහු යටත් පිරිසෙයින් මේ වන තුරු මා වෙත ආවේ නැත. මහ හඬක් නිසා මා අවදි වූ බව මට වැටහිණ. මා නිදි කිරා වැටුණා විය යුතුය. දැන් එළිය වැටීමට ළඟය. සත්ව ගාල තුළ සතෙක් මහ හඬින් කෑගසා පසුව ගොරවන්නට විය.

''ඔන්න වැඩක හැටි! මම හොඳටම නිදගත්ත වෙන්න ඕන.'' මෙසේ කියාගත් මම ලෙඩ වස්සාට සාප කරමින් කඹය අදින්නට වීමි.

''උඹ මකබෑ වෙලා පලයන්!''

හරක් පට්ටිය වෙත දුවන ගමන් එසේ සාප කිරීම නුවුමනා දෙයක් බව සිතීමි. පට්ටිය තුළ අඳුරු වුවද, මොකෙක්දෝ සතෙක් බිම වැතිර දඟලමින් සිටියේය. ඌ තවම ජීවත්ව සිටීම නිසා ප්‍රීතියට පත්වූ මම පළපුරුදු සතුන් මරන්නෙකුසේ (කොලු රංචුව සමග කීපවරක් සතුන් මැරීමේ ක්‍රීඩාවේ යෙදුණෙමි) එක් අතක් යවා වස්සාගේ අඟ ඇතැයි යන තැන අල්ලා ගෙන අනින් පිහිය ගෙන හිසට ගැසීමි. බියවීමට කරුණක් නැතිය, මන්දයත් වස්සා පණ අදිමින් සිටි බැවිනි. අඟ අසුනොවූයෙන් මම උගේ නළල අල්ලා ගතිමි. එහෙත් පිහිය පාර නොවරදින සේ උගුර හරහා වැදී, අන්න ස්‍රෝතී ධමනිය කැපී ගඟක් සේ ලේ ගලා යන්නට විය. වේගයෙන් උල්පතකින් පැන නැගි ජලකඳක් සේ ගලන්නටවූ ලේ වලින් මගේ හිස සිට දෙපතුල දක්වා නැහැවී ගියේය. දුම් බටයකින් පිටවන හඬට සමාන හඬක් පිටකළ ඒ අහිසංක, අසරණ සතා අවසානයේදී වරක් ගැස්සී නිහඬ විය.

වස්සා මැරීමට උවමනා වූ විට ඔහුට අඩගසන ලෙස ඉමාම් මට අණ කළ නමුදු ඒ අමාරු කාරිය සාර්ථක ලෙස ඉටු කිරීමට මම සමත් වීමි. එළිය වැටීමට තව වෙලා ඇත. ඉමාම්ටත් මටත් නිදගැනීම සුදුසු බව මම තීරණය කළෙමි. ඒ අමාරු කටයුත්ත නිසා වෙහෙසට පත්වී සිටි මම බ්ලැන්කේට්ටුව පොරවාගෙන තද නින්දට වැටුණෙමි. මා තිගැස්සී අවදිවූයේ මට ලැබුණු පා පහරක් නිසාය. වේදනාව හා බිය නිසා මොනවා වී දැයි, මා කොහේදැයි තීරණය කරන්නට නොහැකිව මම ඇස් හැර බැලුවෙමි. මා ඉදිරියේ ලෝගුවක් වැනි කබායක් හැඳගෙන සිටි ඉමාම් අත ලොකු වියලි මැටි කැටි දෙකකි. ඔහුගේ මුහුණ කෝපයෙන් විකෘති වී ගොසිනි. දැස් දෙට්ට පැනීමට යන්නාක් මෙනි. මා නැගිට සිටීමට වැර දරත්ම එක් වියලි මැටි කැටයක් වේගයෙන් මා හිස මත පතිත විය. වේදනාව සිත හා කය පුරා පැතිර ගියේය.

''අනේ! දෙවියනේ! මම ඉමාම් තුමාට උදව් කළා. එතුමා මාව—තාත්තා නැති අසරණ දූප්පත් කොල්ලාව මරන්න හදනව! අනේ අම්මෝ! මාව මරනවෝ!..''

''ආඃ තෝ පර බල්ලා!'' යැයි බැණ වැදුණු ඉමාම් අත ඉතිරිවැ තිබුණු අනික් මැටි කැටෙන්ද මා හිසට පහර දුන්නේය. එහෙත් ඒ පහර වලකා ලීමට මා කඳ පහත් කළ විට ඒ පහර තුනවියට වැදිණි. ''ආඃ තෝ පර බල්ලා!'' යැයි කියමින් ඉමාම් බැණ වදියි. ඔහුගේ කට පුරා කෙළය. නාසයෙන් සොටු ගලයි. කෝපය නිම් හිම් නැතිය. ''තෝ මට කළ උදව්ව. තෝ මක බෑ වෙලා යන්ට ඕන. තොගෙ තාත්තට කරපිය මෙහෙම උදව්. තෝ යක් පැටියෙක්! තොගේ බෙල්ලම තෝ කපා ගත්තනම් මීට වැඩිය හොඳා. තෝ බොල මගේ බූරුවාව නොව මරා දැම්මෙ. මගේ වටිනා බූරුවව.'' බූරුවා යන වචනය කියන වාරයකම මට පා පහරක් බැගින් ලැබිණ. ''මගේ

අහිංසක බූරුවව, අසරණ බූරුවව, රත්තරන් බූරුවව මරා දැම්ම. කොහෙ ඉඳල මේ මාරය මගෙ ඔළුවට කඩා වැටුණද?'' තවත් පහරක් ගැසීය. ''රන් කාසි තුනක් දීල ශුද්ධ භූමිය වන බුහරාවෙ ඉඳල මම ඌව ගෙනාවෙ. අනේ! අනේ! කොතරම් අපූරු අගනා බූරුවෙක්ද! අනේ කරපු අපරාධයක හැටි.'' ඔහු හඬා වැළපෙන අතර ඉළ කැඩෙන සේ පහර දීමටද සමත්විය.

කළුවරේ හරක් පට්ටියට වැදුණු මා ලෙඩ වස්සා යැයි සිතා බූරුවාගේ ගෙල කපා දමා ඇත. ඒ අතර ලෙඩ වස්සා මිය ගියේය. සිහින් කටක් ඇති වීදුරු බුජමකට රිංගා ගත් මීයකු සේ මම හතර වටේට යමින් පහර කකා පණ බේරාගෙන පැන යාමට මඟක් සෙව්වෙමි. හරක් මඩුවට හේත්තු කොට තිබුණු හිණි මගක් මගේ දෙනෙතට ලක්විය. මඩුවේ වහළ අයිනක මවිසින් මරා දමනු ලැබූ බූරුවාගේ සැදලය සහිත පටිය ඇත. ඉමාම් ගැසූ පහරකින් වැළකී ඉණිමග දිගේ නැග ගැනීමට මා උත්සාහ කළේ හතර ගාතෙනි. ඉමාම් මා පස්සේ දුව එයි. වහළ උඩට නැග ගැනීමට මම සමත් වීමි. ඉණිමගට පයින් ගසා පෙරළා දැමීමට උවමනා වූවද එක් වරක් හෝ ඉමාමයාගෙන් පළි ගැනීමට මට සිත්විය. වහළ උඩ තිබූ සැදැලයෙන් ඉමාම්ගේ හිසට පහර දීමට තැත් කරත්ම, එහි පටිය මගේ බෙල්ලේ පැටලී සැදැලයත් සමග මා බිම ඇද වැටිණ. මට සැලකිය යුතු තුවාල යක් නොවූයේ සැදැලය උඩට මා ඇද වැටීම නිසාය. ඉමාම්ගෙන් බැට කා සිටින මගේ හම, මස් හා ඇට වේදනාවෙන් කකියයි. බිම ඇද වැටීම නිසා විශේෂ වේදනාවක් නොදැණුනේ එනිසා විය යුතුය. බිම වැටුණත් සමගම මම නැවත ඉමාම්ගේ අතට අසුවුණෙමි.

ඔහු මට පහර දීමට තරම් තත්ත්වයක සිටියේ නම්—මා විශ්වාස කරන්න—ඔහු නැවතත් එම අවස්ථාවෙන් නිසි ප්‍රයෝජන ගනු ඇත. ලෙඩ වස්සා බැඳ තැබීමට මට දුන් කඹය අතට ගත් ඉමාම් එය පටවල් කීපයක් වනසේ නමා මට ගහන්නට විය. ඔහුට හති වැටෙන්ට වූයෙන් පහර දීම නවනා ඔහු හුස්ම ඉහළට ඇදගත්තේය.

මා නැවති බලා නොසිට ඉණිමඟට පැන ඉක්මණින් වහළට ගොඩ වීමි. මගේ වාසනාවට වාසනාවටදෝ එගම ගෙවල් වල වහළවල් එකිනෙකට යාබදව පිහිටා තිබුණෙන්, මම වහළින් වහළට පනිමින් දුවන්නට වීමි. ඉමාම්ද වහළට නැග මා පස්සේ එළවන සැටි පිටුපස හැරී බැලූ මට පෙනිණි. මම සම්පූර්ණ වෙර වීරිය යොදා දුවන්නට වීමි. සමහර විට වහළවල් අතර ඇති පටු පරතෙරය නිසා බාධා ඇති විය. මා ඒවාට උඩින් පැන්නේ කුකුළකු පියාසර කරන්නාක් මෙනි. ඉමාම් සහ මාත් අතර දුන් ඇත්තේ වහළවල් කීපයක වෙනසක් පමණකි. තරමක් දුර මා පස්සේ දුවන ඉමාම් නැවති, ලිස්සා පහත වැටෙමින් ඇති තම කලිසම ඇතින් ඉහළට ඇදීගනී. ඒ කලිසම ඔහුගේ ධාවන වේගය අඩු කළේය. මම නැවත හැරී ඔහු දෙස බැලුවෙමි. ඔහු දුන් දුව එන්නේ බකල ගහන තාරාවෙකු මෙනි. ටික වෙලාවකින් ඔහු නැවති හති හරින්නට විය. එහෙත් ඒ අතර අපේ මේ ධාවන තරඟය නිසා කලබල වූ ගම්මු වහළවල් උඩ නැග ගන්ට වීම නිසා මගේ ගැළවීයාමේ මග පෙනෙන තෙක් මානයක නොවීය. මගේ පෙණුමද සැකයට භාජන වීම නිසැකය. මගේ කමිසය කලිසම බූරු ලේ වලින් නැහැවිලාය. බිම ඇද වැටීම නිසා තැනින් තැන ගොම ගෑවී ඇත. දෙපා වල දූලි සහ මඩය. වහළකට නැග ගත් ගැමියෙකුගෙන් බේරී ගන්නා මම ඊළඟ වහළට පැන ගනිමි. මෙසේ පැන පැන යන විට එක වරටම මා පාතාළයට ඇද වැටුණු සැටියක් දැනිණි.

මා ඇද වැටී ඇත්තේ දුම් බට යක් සහිත මැටි ලිපක් තුළටය. දුම් බටය දිගේ ලිස්සා පහළට ගිය මම විශාල හැලියක් මෙන් වටකුරු මැටි ලිප තුළ ගුලි ගැසී වැටී සිටියෙමි. මා දෙස බලා සිටි මිනිස්සු බලාපොරොත්තු රහිත මගේ අතුරු දහන් වීම නිසා විස්මයට පත් වූහ. ඔවුන්

ඉදිරියේ හාස්කමක් සිදුවී ඇති බව ඔව්හු විශ්වාස කළහ. ඔවුන් මා සැලකුවේ නැවත උපන් මළ ගිය ඇත්තෙකු ලෙසද, නැතිනම් ශුද්ධවූ ඉසියු ලෙසද, එසේත් නැතිනම් කාප් කන්දේ සිට පැමිණි අබ්දු රහ්මාන් පරිගේ යුද්ධ භටයෙකු හැටියටද යන්න මට කිව නොහැකිය. ඔවුන් මහ හඬින් දෙවියන් අයදින සැටි මට ඇසේ: ''අනේ! දෙවියනේ අප බේරා ගන්න! දෙවියනේ අප විනාශයෙන් ගළවා ගන්න!'' මා පසුපස එළවන්නට වූ ගම්මු නැවත වහළෙන් වහළට පැන තම නිවෙස් කරා ගියහයි මට සිතේ. ගෝලාකාර ඒ මැටි ලිපෙන් එළියට පැනගැනීමට මම වැර දැරුවෙමි. මගේ වම් අත ලිපේ එක් පැත්තකට කොතරම් තදින් හිරවී තිබුණේදයත්, එය දැන් හිරි වැටී අප්‍රාණික වී ඇත. දකුණත යම්තමින් සෙළවෙයි. මහන්සි වී දකුණත මුදු ගත්තද ඉන් පලක් නොවිය. නිදහස්වීමට නම් මගේ හිස වෙන තැනකට දැමිය යුතුය. ලිපෙන් පිටතට එක කකුලක් දමා ගත්තෙමි. වාසනාවෙක මහත! කුස්සියේ කිසිවෙකු නොවිය. ඇඳිරි වැටෙන තුරු සිට, මැටි ලිපේ සිදුරක් ඇති කොට ගැළවී යාම හැර අන් මඟක් නොවිය.

කුස්සිය තුළ නම් ඇඳිර පැතිරී ඇත. එළිමහනේ පවා යම්තම් ඇඳිරි වැටීගෙන එන බව සිතාගත හැක. කුස්සිය පුරා ඇඳිර පැතිර ගිය පසු මම ලිප සිදුරු කිරීම පටන් ගතිමි. ගුටි නිසා ලැබූ වේදනාවද, කුස ගින්නද විඩාවද නිසා ඉවසා සිටීම කෙළවර විය. හිටි හැටියේම දෙර හැර කුස්සියට ගැහැණියක් ඇතුළු වූවාය. ඈ ඒ මේ අත හැරෙමින් කුළු බඩු සොයන්නට වූවාය. මම මැටි ලිප වසන පියන ගෙන ලිපේ කට වසා දැමුවෙමි. දැන් පිටත සිට බලන විට ලිප තුළ යමකු සිටින බවට කොහෙත්ම සැක කළ නොහැක. ගැහැණිය මැටි ලිප අසලවූ කුඩා ලිපක ගිනි දල්වා පහත් හඬකින් ගීයක් ගයමින් ආහාර පිසන්නට වූවාය. මගේ හදවත බියෙන් ගැහෙන්නට විය. ගැහැණිය බැදෙන මසට මාෂ් නම්වූ ඇට වර්ගය දමා ගිනි වැඩිකිරීම පිණිස දර දැම්මාය. මාෂ් ඇට බැදෙන සුවඳ නිසා මගේ සිත තවත් කුපිත විය. අල්ලපු ලිපේ ගිනි වැඩිවීම නිසා මා සැඟවී සිටින මැටි ලිපද රත්විය. මගේ දකුණු ඉළඇට පෙළ මස හා සමඳ ගිනිගන්නාක් මෙන් මට දැනේ. දැන් ෂෂ්ලික් නැමැති එළු මස් බැදුමක් මෙන් මා බැදෙන සැටි මට සිතාගත හැක. ෂෂ්ලික් බදින විට පළමුව එක් පැත්තක්ද පසුව අනික් පැත්තද පිළිවෙළින් හරවයි. එහෙත් මට දැන් වම් පැත්ත හැරවීමට ඉඩක් කොහෙත්ම නැත. මගේ අක්මාවද ගිනිගෙන දැවෙයි. තව මොහොතකින් මා සැළෙයි. අපේ වට්ටාරමේ කරීම් කොරිගේ වෙළඳ හළේ ඇති ඔර්ලෝසුවටත් වඩා උස් හඬක් මතු කරමින් මගේ හදවත ගැහෙයි. මුළුතැන් ගෙට වැදී ආහාර පිසන ගැහැණියට එය නෑසුනේ මන්ද යන්න මම නොදනිමි.

පැතිර යන සුවඳ අනුව ඇය මෂ්කිරිච් ව්‍යංජනය පිසන බව මට දැනෙයි. පළමුවෙන්ම මට දැණුනේ ලූණු කොළ බැදෙන සුවඳකි. පසුව කුළු බඩු කැවූ මස් බැදෙන සුවඳ නිසා මගේ මහ කුසගින්න පළමුවෙන් දියුණු තියුණු විය. එය පොහොට්ටුවක් මෙන් පිබිද අවුත් පරවුණු මැලවුණු රෝස මලක්සේ පහත වැටිණ. මගේ රෝස මලේද කටු ඇත. විලාප නගනු ඇතැයි මට සිතෙයි. එවිටම වාගේ ගැහැණිය ''දැන් හරි'' යැයි තමාටම කියා ගනිමින් තලු මැරුවාය. ඈ ව්‍යංජනයේ රස බැලුවා විය යුතු. මම සර්වබලධාරී අල්ලාට පින් දුන්නෙමි. ගැහැණිය දර හා අඟුරු කැට එළියට ඇද දමා ගිනි නිවා ව්‍යංජනය දීසි දෙකකට වත් කොට, එක පිට එක තබා, පසුව ඒ දීසි දෙකින්හැලියක කට වසා තබා පිටතට ගියාය. දැන් මැටි ලිප තුළ උණුසුම කෙමෙන් අඩු වී ගෙන යයි. එහෙත් මගේ බඩ ගින්න ඇවිල පවතී. ඈ ගිය විගස මැටි ලිපේ පියන ඉවත් කොට මම දීර්ඝ ලෙස ආශ්වාස කළෙමි. මැටි ලිපසිදුරු කිරීමට මම වෑයම්

කළෙමි. ඒ කාරිය ඉටු කිරීමට තරම් මා තුළ ශක්තියක් නොතිබුණෙන්, ඉදිරියේ මුහුණ පෑමට සිදුවී ඇති අභාග්‍යය ගැන සිතන්නට වීමි.

නැවත වරක් දෙර හැරිණ. යමෙක් ඇඟිලි තුඩුවලින් ගමන් කරමින් මා අරක්ගත් මැටි ලිප ළඟ වාඩිවී, මිහිරි ගීයක් සෙමින් ගයන්නට විය. මම ගල් ගැසුණෙමි.

සංගීතයට කවුරුත් කැමතිය. මාද කැමතිය. විශෙෂයෙන් බඩ කට පිරුණු පසු සංගීතය මන පිනවයි. කොල්ලෙකු ගේ පිට උඩ නැගී වට්ටාරමේ රවුම් ගහන විට මට වුවද ගීයක් දෙකක් ගැයීමට සිත දෙයි. උරුහන් බෑමටද මම ආශා කරමි. මගේ යහළුවකු ඔහුගේ මවගේ අණ පරිදි අත දරුවකු නලවමින් සිටින විට, ඔහුට සෙල්ලම් කිරීමට එන ලෙස දන්වීම පිණිස උරුහන් බාමින් සංඥ කිරීම අපේ සිරිතයි. මා වැනි අසරණයෙකුගේ බඩ පණුවෝ පිනුම් ගහන විට ලිප ළඟ ඉඳගෙන සිටින ඒ මිනිහාගේ උරුහන් බෑම මගේ දෙකන් පළා ගොස් මොළය තුළට වැදී මහත් සෝෂාවක් ඇති කරයි. එය උරුහන් බෑමක් නොව කාහල නාදයකි. මොනවා කරන්වද මම ඒ සියල්ල ඉවසාගෙන, පිටතට ඇසෙන සේ හුස්ම පවා නොගෙන ගුලි ගැසී සිටියෙමි.

මඳ වේලාවකට පසු අර ගැහැණිය නැවත පැමිණි බව මා දැනගත්තේ ඇගේ ගමන් විලාසයෙනි. ඇ ද මා සිටින මැටි හැලිය වෙත එමින් තොල් උරන ශබ්දයක් පිට කළාය. ඒ ඔවුන් දෙදෙනා සිපගත් සැටි විය යුතුය.

''ආ ඔයා මා එන කල් බලා හිටියද?'' යි ඇ ඇසුවාය. ඇගේ කටහඬ කොතරම් මිහිරිදැයි කියතොත් මී පැණි පවා තිත්ත රසයක් ගෙන දේ යැයි හැගේ. ''මගේ මහත්තය'' යැයි ඇ තම ස්වාමි පුරුෂයා ගැන කියන්ට පටන් ගත් විට ඒ සුමිහිරි කට වෙනස්විය. හරියට මස් හොද්දට සරුවත් විදුරුවක් වත් කළාක් මෙනි. ''මගේ මහත්තයට හෙණ වැදිල. එයාට වෙන වෙලාවක් නැතුව වගේ. ණය කාරයින්ගෙන් ලැබිය යුතු මුදල් ගණන් කර කර ඉන්නව. මිනිහ එළි වෙන තුරු වුණත් ඔහොම ගණන් බලාවි. මම විගහට එයාව නිදි කෙරෙව්ව...''

''අනේ මගේ පණ! ඔයා සෝදිසියෙන් ඉන්න! එයා අප ගැන සැකකරනවද කියල බලන්න! ඔයා බැරිවෙලාවත් හොරේ හෙළිකලාද? මම අද එයාගෙ කඩේට ගියා දුම්කුඩු ටිකක් ගන්න. කාසි තුනකට මිනිහ හරිම ටිකයි දුන්නෙ. වෙන කඩවල අය මට හෙප්පුව පුරා දුම්කුඩු දෙනව. එයා මා දිහා බැලුවෙ හරියට වෘකයෙක් වගෙ.''

''නැහැ. එයා කෑදරයෙක්. නපුරු බල්ලෙක් වගෙ මිනිහෙක්. හරිම ලෝබයා. මිනිහට ඕන සල්ලි විතරයි. මා ගැන තඹ සල්ලියක් පමණවත් ගණන් නැහැ. එයාට ගෑණියක් ඉන්නවද නැද්ද කියලවත් හොයන්නෙ නැහැ...''

''ඒකාට හෙණ වැදුනාවෙ. ඉතින් ඔයා මට කන්න මොනව හරි දෙනවද?''

මේ තරුණයා පිරිමින්ට උවමනා ප්‍රධාන දේ මොනවාද යන්න දනිතැයි මා සිතුවේ ඊර්ෂ්‍යා සහගතවය. ගැහැණිය මස් ව්‍යංජනය සහිත ආහාර ඔහුට බෙදූවාය. තරුණයා මහත් රුචියකින් යුතුව කෑමට පටන් ගති. මෙතෙක් වේලා මැටි ලිප උඩ වාඩිවී සිටි තරුණයා ව්‍යංජන බෙද ඇති ලිප ඉදිරිපිට උක්කුටියෙන් හිඳ ආහාර ගිල දමයි. තරුණයා කන්දක් තරම් උසට කෑම බෙද ගනිමින් කයි. ගැහැණිය කිකිළිය ක් මෙන් හිස වනමින් මස් ආදිය බෙදමින් ආදර බස් තෙපලන්නිය. තරුණයා ඉඳ හිට ''ඔව්'' වැනි වචනයකින් පිළිතුරු දුන්නද ඔහුගේ කට පුරා ආහාරය.

මට දැන් තවත් ඉවසා ඉන්ට බැරිය. මැටි ලිපේ කට හැර අතක් දමා තරුණයාගේ ආහාර පතෙන් අහුරක් ගත් මම කටේ ඔබාගතිමි. මා ආහාර සොරා ගන්නා විට ආදරවන්තයින් දෙදෙ

දෙදෙනා ඔවු'නොවුගේ මුහුණු දෙස බලමින් සිටියාහ. දෙවැනි වරද මම පෙරසේම අත දිගු කොට කෑම අහුරක් ගෙන කැවෙමි. ආහාර පත අඩු වෙන්නට විය. තරුණයා කන ගමන්ම ගැහැණිය දෙස බලා සිටියද, පුදුමාකාර ලෙස අඩුවන ආහාර පත ගැනද විමැසිල්ලෙන් සිටියා විය යුතුය. ඔහු මහත් නොසන්සුන් බවකින් යුතුව ගැහැණිය ඇමතුවේය:

''ඔයාගෙ අත කෝ?''

''මෙන්න'' යැයි ගැහැණිය කැමැත්තෙන් දිගු කළාය.

තරුණයා අත දෙස බැලුවද අඳුර නිසා කිසිවක් නොදිටී. මම මගේ අත ලිප තුළට දමා ගෙන සිටියෙමි. තරුණයා ඉක්මනින් කන්නට වූයෙන් ආහාර සම්පූර්ණයෙන්ම හිස්වී යාමට ආසන්නව තිබිණ. ඔවුන් දෙදෙනා කතා කරන මොහොතක් බලා තවත් ආහාර පිඩක් සඳහා මම අත දිගු කළෙමි. එහෙත් මහත්වූ විමැසිල්ලෙකින් සිටි තරුණයා සැනෙකින් මගේ අත අල්ලා ගත්තේය.

''නවතින්න. මේ කාගෙද අත? මේ අත මගේ, මේක ඔයාගෙ. මේ අත කාගෙද?''

ගැහැණිය හොඳටම බියවූවා, සිහින් හඬෙකින් කෑගැසුවාය. ඔවුන් අතර මේ රහස් පෙම් හබය නොතිබෙන්නට ඒ වෙලාවේම මා කපෝතිය. එහෙත් දැන් මම බිය නොවීමි. තරුණයා මගේ අත අදින්ට වූයෙන් වේදනාවක් ඇතිවූවද කෑ නොගසා සිටීමට තරම් ශක්තියක් මට තිබිණ. අවසානයේදී මා බලාපොරොත්තු වූ දෙය එනම් මැටි ලිප කැඩී මම එළියට ආවෙමි. ලිපේ මැටි කටුවේ හැපුණේ මගේ පිටි කොන්දයි.

මගේ අත නැරම ඔහු ගැහැණියගෙන් ගිනි පෙට්ටියක් ඉල්ලා සිටියේය.

වෙව්ලන අත්වලින් යුතුව ගිණිකූරක් දල්වූ ඇය මා දුටු විගස මහත් බියකින් කෑගැසූ නිසා ගිනිකූර බිම වැටිණ. ඔවුන් මා දහවල් කාලයේදී දුටුවේ නම් බියවීමට සෑහෙන හේතු තිබුණ අතර මේ රාත්‍රියේදී මා දුටු ඔවුන්ට හොඳටම බියපත්වීමට සිදුවූ බව කීම පවා සඳහන් කළ යුතුද? මගේ වැරහැලි කමිස හා කලිසම ලේ වලින් නැහැවිලාය. දූවිලි පිරිලාය. මේ අතර ගෝලාකාර කුහරය සහිත මැටි ලිපට වැටුණු මා එහි ඇති අළු නිසා කාපිරියෙකු මෙන් කළු පැහැගෙන ඇත. බියෙන් සැලෙන ගැහැණියගේ දත් එක'ටෙක හැපෙයි, ඇගේ සර්වාංගය වෙව්ලයි. එහෙත් තරුණයා නිර්භය පුද්ගලයෙකි. ඔහු ගැහැණිය අතින් ගිනි පෙට්ටිය ගෙන ගිනිකූරක් දල්වීය.

''උඹ කව්ද?'' යි ඔහු ප්‍රශ්න කළේය.

දැන් ඉතින් මට මොනවා වුණත් කම් නැතැයි මම ඉටා ගතිමි.

''ආ, උඹ කව්ද?'' යි මම පෙරළා ඔහුගෙන් ඇසුවෙමි.

''මමයි උඹෙන් අහන්නෙ?''

''මමයි උඹෙන් අහන්නෙ!''

''මේ අහපන් හාදයා. ජීවත් වීමට උඹට තව ආසාවක් තියෙනවද?''

''උඹේ ජීවිතය ගැන උඹටත් ආසාවක් තියෙනවද?''

''අනේ දෙවියනේ!''

''අනේ දෙවියනේ!''

අපේ කතාවට ගැහැණිය කට දැම්මාය.

''කොල්ලො, මා කියන දේ අහපන්'' යැයි ඇ කීවේ වෙව්ලන තොල් විවර කරමිනි. ''උඹ මොනවද ඔය මැටි ලිපට වෙලා ඉඳගෙන කළේ? උඹ මනුස්ස ප්‍රාණයක්ද? දිෂ්ටියක්ද?.. පිස්සෙක්ද? උඹ තරහ වෙන්න එපා. මේ මහ රෑ අපේ ලිප ඇතුළට ආවෙ මක්කටද?''

''මෙයා මොකටද මේ මහ රෑ පිට ගෙදරකට හොරෙන් ආවේ? ආ?'' මා ඇගෙන් ඇසුවේ තරුණයා පෙන්වමිනි.

තරුණයා රොස්වී කමිස අත් නවා ගනිමින් මට පහර දීමට සූදනම් වෙයි. හරකකු මැරීමට සූදනම් වන සතුන් මරන්නකුසේ හෙතෙම තීරණාත්මකය. එවිට මම මගේ පැරණි උපායයක් ක්‍රියාවේ යෙදවීමි.

''මිණී-මර-න-වෝ!'' යැයි කෑගැසුවෙමි.

ගැහැණිය සැනෙකින් මගේ කට වැසුවාය.

''උඹ මොනවද ඔය කරන්නේ?'' ඈ ඇසුවාය.

''මිණී මරනවෝ කියල කෑගහනව.''

මේ වනවිට තරුණයාගේ සැර බාලවී, ඔහු සමාදනයකට කැමැතිවූවාක් මෙනි.

''පලයන් යන්ට ගුටි නොකා. හොඳින් කියන්නෙ!''

''කොහෙ යන්ටද? මට බඩගිනියි!''

''මේක හරි වැඩක් නෙවැ'' යි තරුණයා කී අතර ගැහැණිය වචනයකුදු නොදෙඩා ඇතුළුගෙටගොස් අහස පෙණෙන තරම් තුනී ඉරිඟු රොටි දෙකක් හා කැඳ කෝප්පයක්ද මා අත තැබුවාය. මම ඉරිඟු රොටී දෙක නවා කිහිලි ගන්නා ගතිමි.

''දන් ඉතින් පලයන් යන්ට'' තරුණයා අණ කළේය.

''ඒව හරි යන්නෙ නෑ. සල්ලි ටිකක් දීපන්!'' යැයි මම ඔහුට කීවෙමි.

ඔහු කොතරම් වැරෙන් සුසුම් ලැවේද යත් කෝප්පය නිසා ඔහු පිපිරී යනු ඇතැයි මම සිතුවෙමි. පසුව ඔහු සෙමින් නමුත් දිගටම බැණ වදින්නට විය. ඔහු මුළු හිතින්ම බැණවදින බව මට හැඟෙයි. අවසානයේදී ඔහු සාක්කුවට අත දමා එහි වූ කාසි කීපය මා අත තැබීය. මම එය ගණන් කිරීමට නොගියෙමි. ඉක්මනින්ම එය සහවා ගෙන සතුටු සිතින් පිටවීමට සැරසුණෙමි. මා හැරලීමට දොරටුව දක්වා ආ ගැහැණිය මා දුටු දේ කිසිවෙකුට හෝ දනුම් නොදෙන බවට මගෙන් දිවුරුම් ගත්තාය. මම ඇට අවංක සිතින්ම ඒ පොරොන්දුව දුන්නෙමි. දොරටුවෙන් පිටවූ විගස මා කළේ රොටී දෙක කා දැමීමය. ගණ අඳුර දසත පැතිර ඇත. කොහේ යන්නේදයි නොදන මම අඳුරු පාරවල් දිගේ ගමන් කළෙමි. පාරවල් හා අතුරු පාරවල් කීපයක් පසු කළ මම චතුරශ්‍රයකට වැදුනෙමි. එහි සැටි අනුව නම් එය කඩ පොළක් විය යුතුය. දන් එය කාන්තාරයක් මෙන් පාළුය. මුල්ලක් සොයාගෙන ගඩොල් කැට දෙකක් හිසයට තබා ගෙන මම නිද ගත්තෙමි. එය මට සැප යහනක් මෙනි...

ඒ දුෂ්ට නගරයේදී තවත් අභාග්‍යයකට මට මුහුණ පාන්නට සිදුවිය. දවස් දෙකක් තුළදී මට විඳින්නට වූ දුක් කරදර දෙස බලන විට මට පවා එය විශ්වාස කළ නොහැක. නැවත මා අවදිවූයේ පා පහරක් ලබමිනි...

ඉර පායා ඇත. මා වටා දඩුගත් මිනිසුන් කීප දෙනෙකි.

''මේකාතමා'' යැයි එකෙක් කෑගැසීය.

''ඔව්. ඌ තමා!''

තව'කෙක් සැක කළේය:

''මේ කොල්ල බොහොම පුංචියි!''

''උගේ හැටි බලපල්ල! ඌ තමා!''

කඳුළු පිරි දෑසින් මම මෙසේ ඇසුවෙමි:

''කා ගැනද?''

නැවත පා පහරක් ගැසූ එකෙක් මට නැගිටින්නට අණ කළේය. මා නැගිට්ටා විතරයි පිරිස පිස්සු බල්ලන් මෙන් මට පහර දෙන්නට විය. මා කැලිවලට කැඩී වෙන් නොවීයාම පුදුමයකි. මා පිටුපසින් ගමන් ගත් එකෙක් පිරිසට අණ කළේය:

''මෙන්න මිනී මරුවා!'' කියල කෑගහපියව්.

මම හඬමින්, ''මම කිසිකෙනෙකු මැරුවෙ නැහැ'' යි කීවෙමි.

සෙනඟ තව තවත් රුස්විය. කොහේදෝ සිට ආ කොල්ලන් දෙදෙනෙක් කෙජ්ජික් නමින් හැඳින්වෙන රබානක් ගසන්නට වූහ. මා සිහි නැතිව වැටෙන්නට යන සැටි මට දැනේ. එවිටම වාගේ පලාවන් ලෝගුවක් හැඳ මුඩු හිසක් මත වටකුරු තොප්පියක් පැළඳ ගත් මිනිසෙක් සෙනඟ පීරාගෙන ඉදිරියට ආවේය.

''මුසල්මානයෙනි!'' යැයි හේ පිරිස අමතමින් කතා කළේය.'' තමුන්නාන්සේලා හිතනවද මේ තරම් පුංචි කොල්ලෙක් තේ කඩයක නැවතී සිටි අර විශාල පොහොසත් බායිව මරා දැම්මයි කියල? දනෝ දහක් ඉදිරිපිට තේ කඩේ ඇතුලෙ හිටි මිනිහෙකු මරන්ට මේ පොඩි එකාට පුළුවන්ද! මේකා තවම පොඩියි! මිනී මරන්ට මේකා උදව්වුණා නම් මිනී මරාපු අය මේකව මෙතන දමා යන්නේ නැහැ...''

ඔහුගේ කතාවට පිරිස අනුබල දෙන්නාක් මෙන් නිහඬ විය. මා අල්ලා ගෙන සිටි අයද නිසොල්මන් වූහ.

''මුගේ ඇඳුම්වල ලේ තැවරිල තියෙන්නෙ මොන හේතුවක් නිසාද යන්න පැහැදිලියි. මේ කොල්ලට මීමැස්මොර ලෙඩේ හැදිල සිහිය නැතිව වැටෙනව. එතකොට අතපය තුවාල වෙලා ලේ ගලනව... හොරු මේ වගෙ අය උදව්වට ගන්නේ නැහැ. හොරුන්ට තමන්ගෙ රහස් තියෙනව. මේ වගෙ ලෙඩ කොලුවෙකුව හොරු ප්‍රයෝජනයට ගන්නෙ නැහැ! මුසල්මානයනි! මා කියන දේ හරිද?''

''හරි! හරියටම හරි!'' කොල්ලව අත හැරපල්ලා!'' යැයි පිරිස අතර වූවෝ කෑගසන්නට වූහ.

මේ අතර එකෙක් සෙනග පීරා ගෙන අවුත් මගේ අත අල්ලාගෙන මාදෙස බලන්නට විය. මගේ නෙත් කඳුලෙන් පිරිලාය. කඳුළු කැට කම්මුල දිගේ ගලා යයි.

''මේ කොල්ලව මම අඳුනනව. මස්කඩකාර අෂුර්ගේ පුතා මේ. ගිය සුමානෙ පොල දවසෙදි මට අෂුර් කීවා පුතා ගෙදරින් පැනල ගියයි කියල'' මෙසේ කීවේ අළුත් කතිකයාය.

''ඔව්! ඔව්! කඩපොළේදි අඬ බෙර කාරයෙක් දැනුම් දුන්න අවුරුදු දහ හතරක් වයසැති කොල්ලෙකු නැති වුණයි කියල!''

''ඔය කොල්ලාව නිදහස් කරපල්ලා!''

මගේ උරහිස මිටින් ගෙන සිටි අත්වලින් මා නිදහස් වූ බවක් දැනෙත්ම, මා බිම ඇද වැටිණි...

7

## හත්වැනි දෙව්ලොව

මා සනීපයෙනි. අත් පා මා අණට කීකරු වෙයි. මගෙ ඇස්වලින් මට උවමනා දේ බැලිය හැක. මගේ දත් ඇඳි ඕනෑම දෙයක් සපා විකා කැමෙහි සමත්ය. ඒ කොයි හැටි වුවද, මගේ අණට විරුද්ධව කැරළි ගසන එක් ඉන්ද්‍රියයකි. මට එය පාලනය කළ නොහැක. එය මට විරුද්ධව කැරළි සංවිධාන කරයි. මම එම ඉන්ද්‍රියයන් වෙත ඉතා අගනා අදහස් යවමි. එහෙත් ඒවා අතර මගදී අතුරු දහන් වී යයි. මගේ බැරි පුළුවන් කම නොතකා එය මගෙන් 'කප්පම්' හෙවත් ආහාර ඉල්ලා සිටී.

එය මගේ උදරයයි.

උදරය සමග නුළමනා විහිළු කරන්ට එපා. එයට උවමනා දේ ඔබ සපයන්නේ නැත්නම් ඔබේ ස්වාමීත්වයද එතැනින් අවසාන වනු ඇත. ඔහු, එනම් ඔබේ උදරය ඔබ යටත් කර ගනු ඇත. බඩ පුරා ආහාර නැතිනම් නීත්‍යානුකූලවීම, සත්සුන් වීම සහ ආචාරශීලී බව යටපත් වේ. දූන් ඔබේ ස්වාමියා ඔබ නොවේ, ඔබේ උදරයයි. අනිත් ඉන්ද්‍රියයන් එවිට කීකරු වනුයේ ඔබට නොව ඔබේ උදරයටයි. මුස්ලිම් ආගමික නීති තහනම් කර ඇති දේ කෙරෙහි නෙත් යැවෙයි. සොරකම් කිරීමට අත් ඉදිරිපත් වෙයි. නීති විරෝධී තහනම් තැන්වලට ඔබේ පා ඔබ ගෙනයයි. මිනිසුන් ඉදිරිපිට හිස නැමෙයි...

දූන් මම කඳුළු පිරි දෑසින් යුතුව ගී, සින්දු, සිව්පද, කවි ආදිය ගයමි. ඒවා ප්‍රබන්ධ කළේ කව්ද, පළමුවෙන්ම ගායනය කළේ කව්ද යන්න මම නොදනිමි...

දෑස කඳුලෙන් පිරිලා,  
ලෝකය දුකින් පිරිලා,  
කෑමට යමක් සොයමින්,  
සැමතැනම ඇවිදිමි.  
හදවත දුකින් බරවී,  
අනාගතය අඳුරුවී,  
ඇත මගේ.  
තුන් වේලක් කෑවේ නැහැ,  
පින් සිදුවෙයි යමක් දෙන්න...

''ඇති ඇති ඔය කණගාටු සංගීතෙ'' යැයි මටම කියා ගනිමින් මම ''නා ගෙන ඇඳුම් සෝදගෙන ඉන්නට ඕනෑ'' යැයි සිතා ගත්තෙමි. එ අනුව මම ගඟක් සොයා ගියෙමි. ලේ තැවැරුණු කිලිටි කමිසය හා කලිසමද, ලේන්සුවද වරක් නොව දෙවරක්ම හොඳට සෝද, දියට පැන රිසි සේ නැවෙමි, පිහිනුවෙමි. ඒ සමගම මා මූණ පෑ සියලු දුක් කරදර සිත්වේදනා සියල්ල ගංගා ජලයෙන් සෝද හැරියෙමි.

ඒ සඳහා මට ගතවූයේ මස් සහ බත් සහිත 'ප්ලොව්'* පිසීමට ගතවන වේලාවට වඩා අඩු කාලයකි. ඒ අතර බඩගින්න වැඩිවී ඇත. ඇඳුම් අව්වට දමා වේලා ගතිමි. දූන් ඉතින් පිරිසුදු ඇඳුම් ඇඳ ගැනීමට වේලාවය. මේ සියලු දුක් කරදර මැද පොඩි වාසනාවකුත් පහලවූ බව මට

---

* ප්ලොව්—එළු මස්, බත් හා එළවුළු මිශ්‍ර ආහාරයකි.

මතක් විය. කළුවර කුස්සියට වැදී රහසේ පෙම් කරමින් සිටි අර තරුණයා මහත් දයාවෙන් දුන් කාසි කීපය මට මතක් විය. දෙවියන්ට පින්සිදු වේවා! ඒවා නැති නොවී එලෙසම ඇත. රිදී කාසි තුනකි, තඹ කාසි කීපයකි. යමක් පටන් ගැනීමට මේ ප්‍රාග් ධනය සුළු නැත. මෙයට වඩා අඩු ප්‍රාග් ධනයකින් පටන් ගත් උදවිය බොහෝය. ඇත්ත! ඔවුන් එකතැනම රැඳී සිටියා. වෙළඳාම් කළ යුත්තේ මොනවාද යන්න ගැන සිතීමට කඩ පොළට යා යුතුය. කෑමට පෙර මොන වෙළඳාම්ද.

අද පොළ දවස නොවූවද මිනිස්සු බඩු මිළදී ගනිති, වෙළඳාම් කරති. එළුවෝ, අශ්වයෝ, ඔටුවෝ කෑගසති. තැරැව් කාරයෝ අතට අත දෙමින් බඩු මිළ ගැන ගිවිසුම් ඇතිකර ගනිති. ''හොඳා එහෙනම් මිළ ස්ථිරයි!'' මේ සෙනග ගොඩේ තේරුමක් නැතිව ඒ මේ අත ඇවිදිමින් හැම තැනම බලමින් මම ගමන් කළෙමි.

හිටි හැටියේම වෙළඳ පොළ් සෙනහ මහත් සේ කලබල විය. හැම දෙනාගේම හිස් එක පැත්තකට හැරී ඇත. නගරයෙන් කඩ පොළට එන පෙරහැරකි. තාපසයන් සත්දෙනෙක් එම පෙරහැරේ වෙති. විවිධ පාටින් යුත් රෙදි කැලි මූට්ටු කොට මසන ලද ''මොහම්මදී'' නැමති ඇඳුම් ඔවුහු ඇඟ ලා සිටිති. ඔවුන් පැළඳ සිටිනුයේ ''අහ්මදී'' නැමති හිස් වැසුම්ය. ඒවායේ පිටුපස කොටසින් ඉහ දක්වා වැටෙන කළු සහ අළු පැහැති කෙඳි වර්ගයකි. දෙළර ''මුස්ටපා'' ඇඳුම කින් සරසා ඇත. හිර අව්ව නොතකා ඔවුහු ගයති. ඔවුන්ගේ තොල් විවරවී කෙළ පෙරෙයි. ඔවුන් මත් පැන් බී ගත් ඔටුවන්ට සමානය:

ඕ!ඕ!ඕ!
වෙළඳ පොළේ සෙනග පිරිල
අනාත ළමයින් අඬනු ඇසේ.
සර්වබලධාරී අල්ලා! අල්ලා!
පිහිටවෙන්න! පිහිට වෙන්න!
අනාතයින්ට පිහිට වෙන්න!
දෙවියන්ගෙ නාමෙන් පිහිට වෙන්න.
ඕ අල්ලා! අල්ලා!
සර්වබලධාරී අල්ලා!
ඕ!ඕ!ඕ!

ඉදිරියෙන් ගමන් කරන්නේ ප්‍රධාන තාපස තැනය. ඔහුගේ යටි රැවුල පොරෝ තලයක් මෙන් පළල්ය. හෙතෙම විශාල තඹ හැළියක් කරෙන් ගෙනයයි. අතේ සැරමිටියකි. එහි කුඩා රෙදිකැලි ඔතා ඇත. මා තවත් ළංවී ඔහු දෙස විමසිල්ලෙන් බැලුවෙමි. ඒ සැරයැටිය ශුද්ධවූ මහමත් තුමාගේ ලේනෑ කෙනෙකුට අයත් වූවක් බවත්, එය පරම්පරාවෙන් පරම්පරාවට ලැබී ඇති බවත් මම දැනගතිමි. මිනිස්සු තාපසයා වට කරගෙන සතුටු කඳුළු වගුරවමින් ඒ සැරයැටිය සිප ගනිති, සමහරු ඒ වටා කුඩා රෙදි කැලි ඔතති. ප්‍රධාන තාපස තැනගේ කරේ ඇති තඹ හැලියට කාසි දමති. රොටි වැනි දේ ප්‍රධානියා පිටුපසින් ගමන් කරන අනිකුත් තාපසයින්ට දෙති. පිං පිණිස මුදල් හා ආහාර මේ තාපසයින්ට දීම බොහෝ සංකීර්ණ වැඩකි. ප්‍රධාන තාපස තැන ශුද්ධවූ බහවද්දින් ගැන කියනවිට පිදිය යුතු අඩුම රොටී ගණන හතකි. ඔහු ශුද්ධවූ ගවුසුලාග්සාමා ගැන කියනවිට එය රොටී එකොළහක් දක්වා ඉහළ නගී. මේ ශුද්ධවන්තයින් දෙදෙනා වරද්දා ගෙන රොටී පිදුවොත් ඒ අය කෝප වීමට ඉඩ ඇත. එවිට යක්ෂ දිෂ්ටියට අසුවේ. දෙව්ලොව, කඩපොළට වඩා දැඩිලෙස වටිනාකම මැන බලයි.

ශුද්ධ වන්තයින්ගෙන් විශාල ආධාර උපකාර ලබාගැනීමට නම් විශාල වටිනා දේ පිදිය යුතුය. ඒ සඳහා සල්ලි මළු සෙලවිය යුතුය. කුකුළෙකු, එළුවෙකු, බැටළුවකු හෝ ඔටුවකු වුවද පූජාකළ හැක. එවැනි අවස්ථාවලදී තාපසයින් පිටුපසින් ගමන් කරන විශේෂ සේවක පිරිසක් විසින් එවැනි සතුන් භාරගනු ලැබේ. එසේ පුදනු ලබන බඩු බාහිරාදිය ප්‍රවේශමෙන් තැන්පත් කරති. සතුන්, පෙරහැර අවසානයේදී දක්කාගෙන යති. සමහර අවස්ථාවලදී විවිධ වර්ගවලට අයත් සතුන්ගෙන් මේ පින් හමුදුව පිරෙන විට සත්තු වත්තක සිරියක් ගනී...

මස් ආහාර වශයෙන් නොගන්නා ශුද්ධවූ ඉෂාන්ගේ සිට මේ දක්වාත් මෙවැනි තාපස පිරිස් මේ විධියට පැමිණ ඇත. අද පොළේ මෙවැනි පෙරහැරක් යන්නේද නිකමට නොවේ. රාත්‍රි කාලයේදී ප්‍රධාන තාපසයා ජබ්රයිල්* වෙත ගොස් අල්ලාගේ නිමයයන් ලබා ගන්නා බව කියනු ලැබේ. ඒ අනුව ඉෂාන්, සර්වබලධාරී අල්ලා සමග හවුලට වැඩ කරයි. ලැබෙන දේ සර්වබලධාරී අල්ලා සමග බෙදගනී. මෙවැනි අවස්ථාවකින් ප්‍රයෝජන ගෙන අල්ලාට යමක් පූජා කළ යුතුය. එවිට දෙව්ලොව ගියපසු එමෙන් දස ගුණයක් ලබාගත හැකිය. සමහර විට ඊටත් වඩා වැඩියෙන්! හැම එකෙක්ම මේ ස්වර්ණමය අවස්ථාවෙන් ප්‍රයෝජන ගැනීමට ඉදිරිපත් වෙමින් පොරකති, නගරයේ පොලිස්පතිගේ අශ්වයා වෙත කඩා පනිති.පොලිස්පති අසු පිට නැගී එක් අතකින් මහතැති දණ්ඩක් වනයි. ඔහු අසුට වඩා මහතය. ඔහුගේ උඩු රැවුල කඹයක් කටින් ගත් බල්ලෙකු සිහියට නගයි. එක් පැත්තකින් දිගැති කඩුවක් එල්ලා ගෙන සිටි ඔහු පැත්තකට හැරී දෙඩවයි. ඔහු කතා කරන්නේ අශ්වයෙකුටද නැතිනම් තමාගේ සහකාරයාටද යන්න කීම උගහටය.

මේ තරම් අගනා අවස්ථාවක් ඇතිවුවද හොඳ වෙළඳ ගනුදෙනුවක් කිරීමට බැරි වීම කනගාටුවට හේතුවක් නොවේද?.. පිදීමට සුළු පඩුරක් සොයා ගැනීම, නැති නම් අර යෂ්ටියට සෑහෙන රෙදි කෑල්ලක් සොයා ගැනීමට මහක් නැති නිසා මෙතැනදී මගේ දෙනෙත් කඳුලෙන් පිරී ගියේය. ගින්නට අසුවී උණුවී යන ඉටි පන්දමක්සේ මා හදවත දැවී ගොස් සිත දුකින් පිරිණි. මම හොඳටම හැඬුවෙමි. මම ප්‍රධාන තාපස තැන වෙත යන්නට වීමි. වැඩිහිටියන් තල්ලු කරමින් ඔවු'නතරින් රිංගමින් දේවමය සැරයටිය වෙත ගොස් එය දැතින් අල්ලා ගෙන අඬා වැටුනෙමි. ප්‍රධාන තාපසයා මගේ හිස අත ගා කරුණාබර හඬකින් මෙසේ ඇසීය:

''මගේ පුතේ උඹට මොනවද ඕන! මම සර්වබලධාරී අල්ලාට දන්වා සිටින්නම්!''

එවිට මම ගොත ගසමින් බැගෑපත් ලෙස මා දෙවියන්ගේ මේ ශුද්ධවූ කණ්ඩාමට ගෝලයෙකු ලෙස ඇතුළු කර ගන්නා ලෙස ඉල්ලා සිටියෙමි. මගේ ඉල්ලීම නිසා මහත්වූ හඬක්ද කන්නලව් කිරීම්ද ඇසිණ. ප්‍රධාන තාපසයා ම අසල නැවතුණු විගස මහ සෙනඟ නිහඬවූයෙන් මගේ ඉල්ලීම පැහැදිලිව ඇසිණ. ප්‍රධාන තාපසයා මා අසල සිටගෙන අහස දෙසට අත් ඔසවා, නෙත් යොමුකොට මට ආශිර්වාද කළ විට රැස්ව සිටි ස්ත්‍රීහු හා පුරුෂයෝ හඬා වැළපුනාහ! එය විස්තර කිරීමට පවා අපහසුය!

එතැන් සිට මම නිකම් මිනිසෙකු, දුක් විඳින පව්කාරයෙකු නොවෙමි. සර්වබලධාරී අල්ලාගේ දූත පිරිසෙන් කෙනෙකු වීමේ මහා භාග්‍යය ලැබූවෙක් වීමි. මේ නිලයේ වැඩ කටයුතු කිරීමට තවම අවස්ථාවක් මට නොලැබුණද, දේව මෙහෙය කෙරෙහි මගේ සිත තදින්ම ඇදී ගොස් ඇත. මන්දයත්, කෑම් බීම් සතුටුදායක ලෙස ලැබීම සහතික බැවිනි. මා සතු වැඩ කොටස

---

* ජබ්රයිල්—මුස්ලිම් ආගමේ ප්‍රධාන දේවදූතයාය.

''ඕ! සර්වබලධාරී අල්ලා!'' කියා කෑගැසීමය. ඉන්පසු කෙළ පෙරාගෙන ගී ගැයීමය. ''ගීතය කෑම සපයා දෙන්නේ'' යැයි යන කතාව බොරුවක් නොවේ. ප්‍රීතිය හා සන්තෝෂය නිසා සිත පිරී ඉතිරී ගොසිනි. හිස් වැස්මක් නැතුව තාපසයින්ට ඉදිරියෙන් ගමන් කරමින් හැකි තරම් හඬ නගා දේව ගීත ගයමි:

ඕ!ඕ!ඕ!
උඩ පැන පැන අශ්වයො යති.
ඕ! සර්වබලධාරී අල්ලා!
ජනයිනි ඇවිත් බලපල්ලා!
ඕ සර්වබලධාරී අල්ලා!
නුඹලා කාටද ආලය කරන්නේ!
ඕ සර්වබලධාරී අල්ලා!
සෙබිහොන් රූමතියටයි
ඕ සර්වබලධාරී අල්ලා!
ඕ අල්ලා! අල්ලා!

මා වැනි අසරණ කොල්ලකු දකින මිනිසුන්ට මෙලොව ලෞකික සැප සම්පත් එපාවී— සැප හා දුක් පිරි ජීවිතය, අවාසනාවත් සිද්ධීන්ගෙන් පිරි පහත් ජීවිතය එපාවී, හැමදෙනාම සර්වබලධාරී අල්ලා වෙනුවෙන් තම ජීවිත කැප කරනු ඇත...

කඩ පොළට පැමිණ පිදුරු විකුණා ආපසු යන, ඔටුවන් දක්කන්නන් විසින් ඔවුන්ගේ ඔටුවන් මත අප දෙදෙනා බැගින් නංවාගෙන, ශුද්ධවූ ඉෂාන් තුමා වැඩ වසන ඉෂාන් බසාරයට අප ගෙන යමින් සිටී. ඉෂාන් තුමාගේ පුරයට ළංවෙත්ම වටපිටාව වඩාත් ශුද්ධවූ බවක් දනෙයි. අවට දේව දූතයින්ගෙන් පිරී ගියාක් මෙනි. මෙහි වැඩ වසන ඉෂාන් තුමා තෂ්කෙන්ට් නගරයට හා සයිරාම් පෙදෙසට 'කආබා'* ගැනෙන්නේ නිකමට නොවේ. මේ සියලු නගරවලට හිරු එළිය ලැබෙන්නේ හිරුගේ රශ්මි ධාරා නිසාය. එහෙත් ඉෂාන් බසාරය සිය ආලෝකධාරා වලින් අහස පවා ආලෝක කරයි.

අප ඉෂාන් බසාරයට විත් ඔටුවන් පිටින් බැස බඩු බාහිරාදිය බිමට බා ගත්තෙමු. ඔටුවන් දක්වන්නන්ට මුදල් ගෙවනු වෙනුවට ප්‍රධාන තාපසයා ආශීර්වාද කළේය. සමහර රටවල එවැනි ආශීර්වාද ලබා ගැනීම සඳහා ඔටුවන් පුදන බව කියති. ඉතින් ඒ අනුව ඔටුවන් දක්කන්නන්ට ලැබුණු වාසිය තක්සේරු කිරීම අමාරු කාරියකි.

ඉෂාන්ගේ නිවෙස පල්ලියට යාබදව පිහිටියේය. ඉෂාන් තම ගෝලයින් වන සූපි වරුන් සමග විය. එතැන ප්‍රධාන තාපසයාද විය. පළමුවෙන්ම අපි පල්ලියට ඇතුළු වීමු. ප්‍රධාන තාපසයා ස්තුති ගීතයක් ගයමින් අපේ පැමිණීම ඒ ගරුකටයුතු පූජක පිරිසට දන්වා සිටියේය. පසුව තාපසවරු පැදුරක් මත වටේට වාඩි වූහ. මම—ඔවුන්ගේ සුවච කීකරු ගෝලයා, දෙරටුවට ඇතුළු වන තැන නැවතුණෙමි. දෙවියන් වැඳීම පිණිස යන බැතිමත්තු පාවහන් ගලවා දමන්නේ එතැනය. දත් එක් කොට පපුව මත තබාගත් මම ඕනෑම සේවයක් කිරීමට සූදනම් වෙමින් කය මඳක් පෙරට නමාගෙන සිටියෙමි. දිගටම ගායනය කරගෙන ගිය අතර සූපිවරුන් විසින් අප ගෙනා පුද පඬුරු සියල්ල පල්ලියටත් ඉෂාන්ගේ අන්තඃපුරයටත් අතර පිහිටි කුඩා

---

* කආබා—මෙකාහි දේවස්ථානයේ ශුද්ධවූ සෙලයය.

කාමරයකට ගෙනයන ලදී. ඒ කාමරයට දෙපැත්තකින් ඇතුළු වීමට හැකි දොරටු දෙකකි—එකක් පල්ලිය පැත්තෙනි, අනික අන්තඃ පුරයෙනි.

අවසානයේදී ගායනය අවසන් විය. 'කොමල' පාමින් ඉෂාන් තුමා වැඩම කළේය. ඔහුගේ ගමන් විලාසය දුටු මට ඔහු මෙසේ කියන්නාක් මෙන් හැඟිණ: ''තොප ඉදිරියට මම වඩින්නම්, හැබැයි තොප මට සද කෘතඥ තාවය පෙන්විය යුතු.'' ඔහු එසේ මෙසේ කෙනෙකු නොව මොහම්මත් නබි තුමාගේ නව වැනි බිරිඳ වූ අයිෂි කුබාරෝගෙන් පැවත එන්නෙකි. ඔහුගේ ලෝගුව දිගය, නිල් සහ කහ පැහැතිය. තලප්පාව හිම මෙන් සුදු පැහැතිය. පාවහන් අනර්ඝ හමින් සාද නිම කොට ඇත. අතකින් ගත් කොන්තය ඇට දහකින් යුක්තය. ඇස් වටා සුරිමා වලින් අලංකාර කොට ඇත. ඔහුගේ දිගැති යටි රැවුලේ, රැවුල් ගස් එක බැගින් ගෙන, වෙන්වූ කුඩා කවර තුළට බහාලිය හැකි වනසේ මනාලෙස පිරා සකස් කොට ඇත. ඒ රැවුල් ගස් කළු—රතු පැහැයේ සිට රිදීවන් පැහැය දක්වා කෙමෙන් වෙනස් වී ඇති බව පෙනේ. විවිධ වර්ණවලට අයත් යැයි කිව හැකි ශුද්ධවූ යටි රැවුළ තරබාරු කුකුළෙකුගේ වලිගයට සමානය.

බැතිමතුන් දුටුවේද නැද්ද යන්න කෙසේවෙතත්, මේ ඉෂාන් තුමා වටා දේවදූතයින් එක් දහස් පන්සියයක් සිටින සැටි මම දුටිමි. අපි සියලු දෙනම නැගිට, අප වෙත එමින් සිටින ඉෂාන් තුමාට ආචාර කළෙමු.ජනතාවට සේවය කළ යුතුයැයි කියා සිටි ඉෂාන් තුමා මුන්කරා හා නකිරා (මළ ගිය ඇත්තන්ගෙන් පළමුවරට කට උත්තර ලබා ගන්නා දේව දූතයන් දෙදෙනෙකි) පැමිණ සිටිද්දැයි ඇසූ සේක. පිළිතුරු වශයෙන් ප්‍රධාන තාපසයා, තමා කරින් ගෙන ආ කාසි මුට්ටිය බිම හැළිය. තඹ හා රිදී කාසිද, නෝට්ටු කොළද එහි විය. මුදල් නෝට්ටු හා වටිනා කමෙන් වැඩි කාසි කඩිසර ලෙස අහුලාගෙන තම සේද ලෝගුවේ සාක්කුව තුළට ඔබා ගත් ඉෂාන් තුමා මෙසේ පැවසූ සේක:

''අහෝ! දෙවියනි! මගේ දැන් ධනය නිසා කිළිටි නොවේවා! ධනය නැමති කුණු කසළ සොයා ඇවිදින්නේ බල්ලන් පමණකි.'' කුඩා රිදී කාසි හා තඹ කාසි ඔහු තාපසයින්ට දුන්නේය. එවිට එතුමා මා දෙස බැලූසේක.

''මේ ළමයා කව්ද?'' යි එතුමා ඇසුවේ කරුණාබර හඬකිනි.

මා ගැන ඉතා ඉහලින් වනමින් ඒ ප්‍රශ්නයට පිළිතුරු දුන්නේ ප්‍රධාන තාපස තැන විසිනි. ඔහු කොතරම් ඉහලින් මා වැනුවේදයත්, එවැනි දෙයක් දෙව්ලොව දොරටුව අසල සිදුවී නම්, බලපත්‍ර නැතිව දෙව්ලොවට ඇතුළු වීමට පවා මට අවස්ථාව ලැබෙනු ඇත. ඉෂාන් තුමා තේ බොමින් සිටින අතර ප්‍රධාන තාපසයා මාගැන කියයි. මේ ළමයා නියම මශ්රාබ්* තාපසයෙකි. ආගමික තාපස ජීවිතය සඳහා සියලු ලෞකික සැප අතහැර දැමීමට මොහු දැනටම සමත් වී ඇත. ඔහු මගේ තපෝ ගුණයන් වනමින් හැම තාපසයකුටම පවා එතරම් සිල්වත් වීමට බැරියැයි කිය. එවිට අපේ ඉෂාන් තුමානෝ, එතුමා වෙත එන ලෙස සිය දබරැහිල්ලෙන් මට සංඥා කළ සේක. එතුමාණෝ මා වෙත දැක්වූයේ අපරිමිත දයාවකි. මම දෙකට නැවී එතුමාණන් වෙත ගියෙමි. එතුමාගේ ශ්‍රීහස්තයෙන් මගේ හිස අත ගෑ සේක.

''හොඳා! කොතරම් ලොකු වාසනාවන්තයෙක්ද? සර්වබලධාරී අල්ලාගේ සැලකිල්ල පවා සොමුවීමට තරම් සුදුස්සෙක්. පුතණුව! අහස දෙස නෙත් යොමුකරන්නැ!'' යි එතුමාණෝ පවසා වදළ සේක.

---

* මශ්රාබ්—නිදහස් කවියෙකි. අන්ජියාන්හි උපන් මොහු සිහන පූජකයෙකු විය. සූරාකෑමට එදිරිව සටන් කළ නිසා බල්හා හිදී මරණයට පත් කරන ලදී.

එවිට එතුමාගේ ශ්‍රී හස්තයේ ඇඟිලි අතරින් මම හත්වැනි දිව්‍ය ලෝකයන් දුටිමි...

ආගමික පූජා උත්සව දීර්ඝ වේලාවක් තිස්සේ කැරිණ. ඉන්පසු පල්ලියේ මුල්ලක පරණ රෙදි කැලි ගොඩක වැතිර සිටි මට බොහෝ වේලා යන තුරු නින්ද නොගියේය. මා ලැබූ දේවමය වරප්‍රසාද මගේ බඩටද නොලැබුණද, සතුටුදයක ලෙස රාත්‍රි දනය වැළඳූ බව මෙහිදී මතක් කිරීම වටී. එබැවින්දෝ බඩ මේ වර නිහඬවිය. මගේ හිස දෙව්ලොව දිව්‍යමය ජීවිතවලට ආසන්න නොයෙක් දේ වලින් පිරෙන්නට විය. තාපසයින් ගෙනා බඩුබාහිරාදිය ගොඩ ගැසූ කාමරයට ඇතුළු වීමට තුන්වැනි දෙරටුවක් තිබේද, ඉෂාන් තුමා අද දවාලට කැවේ තැම්බූ මස්ද නැතිනම් බුරියානිද, අද රැය එතුමා ගත කරන්නේ කීවැනි බිරිඳ සමගද, රාත්‍රි නින්දෙන් අවදි වූ විට පානය කිරීමට ඉතාම සුදුසු කොළ-තේ සහිත තේ පෝච්චියක් එතුමාගේ සයනය අසල තිබේද ආදි ප්‍රශ්න මා සිත තුළ පැන නැගින.

නින්ද ගිය පසු මට සිහිණෙන් පෙනුනේ දෙව් ලොව හෝ නිරය හෝ නොවේ, මා නිද සිටි පල්ලියය. පල්ලිය තුළ හීතලය. නිහඬය. වැතිර සිටි මම ඉඳ හිට හමන සුළං පහර නිසා වෙව්ලුවෙමි. හිටි හැටියේම බල්ලෙක් පල්ලියට ඇතුළු වී සෝකාන්විත ලෙස කෙඳිරි ගාන්නට විය. එ බල්ලා වෙත ගොස් ඌ සැනසීමට මට සිත් විය. එහෙත් වැතිර හුන් මට නැගී සිටීමට තරම් ශක්තියක් නැතිය. මන්දයත් කෙඳිරි ගාන ඒ බල්ලා මා යැයි මට දැනෙන බැවිනි. ඒ කණගාටුව නිසා මම බොහෝ වේලා වධ වින්දෙමි. සුපි උදැසන මා අවදි කරන තුරු නින්දෙන් මම සෙමින් කෙඳිරි ගෑවෙමි.

පල්ලිය උදැසන දේව මෙහෙයට සූදනම් විය. කෙමෙන් මිනිස්සු විත් වටයක් මෙන් සිටගත්හ. මම යම්තම් මුහුණ සෝද ගෙන ඔවුන්ට එක්වීමි. ජපමාල අතැති අය ඒවායේ ඇට ගණින්ට වූයේ තත්පරයට හැට බැගිනි. සමහරු වට පිට බැලූ අතර තවත් සමහරු එක් තැනක් වෙත ඇස් යොමුකර ගෙන උන්නාහ. ගැහැණු, ළමයි, මහල්ලෝ, හිස් පහත් කරගත් පිරිමි, අර්ධ අන්ධයෝ, අඩවශයෙන් අංසබාගයෙන් පෙළෙන්නෝ, ළමයින් නැති උදවිය, බලාපොරොත්තු රහිත උදවිය, ණය කාරයෝ, ඇප පිට නිදහස් වූ විත්තිකාරයෝ ආදි රාශියක් වූහ. ඉෂාන් තුමා පැමිණි විගසම ඔවුහු කන්නලව් කරමින් ඔහුගෙන් පිහිට ඇයද සිටියාහ. ඔවුන් වෙනුවෙන් දෙවියන්ට පැමිණිලි කළ ඉෂාන් තුමා ඔවුන'ත තුබූ වතුර භාජන වලට පිඹින්නට විය.

උදේ දේවමෙහෙය අවසාන වීමෙන් පසු මම තාපසයන් සමග වාඩිවී යම්තම් උදේ ආහාරය ගත්තෙමි. ඉෂාන් තාපසයින්ට නසාර්බෙක්හි කඩ පොළට යන ලෙස අණ කළ නිසා මමද ඔවුන් සමග යාමට සූදනම් වුණෙමි. එවිට ඉෂාන් තුමාණෝ මා දෙස බලා මෙසේ වදළ සේක:

''පුතණුව නුඹ නැවතියන්. මට පෙණෙන හැටියට නුඹ කඩිසර ළමයෙක්. ඇතුළු ගෙයි හා පිටත වැඩ නුඹට භාර කරනව...''

මා විරුද්ධ නොවූවද, සිත තුළ දුකක් ඇතිවිය. මෙතරම් අගනා වාසි සහගත ගමනක් අතහැර දැමීම ගැන දුක් නොවී සිටිය නොහැක. තාපස පෙර හැරට එක්ව යාමෙන් කඩපොළේදී කොතරම් විශාල පඩුරු තොගයක් ලබාගැනීමට හැකිවේද? ගෙදර වැඩ වලට වඩා පෙරහැරේ යාම ප්‍රීති සහගත වැඩකි. මැරෙණ තෙක් වැඩ කළ යුතුය. ඒ මදිවට සතුටුවීමටද බැරිය. පෙරහැරේ යාම ගී ගයමින් සල්ලි හම්බකළ හැකි සෙල්ලමකි!..

තාපසයින් ගිය පසු ඉෂාන් තුමාණෝ මහත්වූ දයාවෙකින් මා කැඳවූ සේක.

''මගේ ගුරු දේවයනි! ඔබ තුමා මට නියම කරන්නේ කුමක්ද?'' යි මම යටහත් පහත් ලෙස ඇසුවෙමි. ඔහු මගේ අතින් අල්ලා සුදු පැහැති පැදුරක හිඳ ගැනීමට සැලැස්විය. මම ද

දණගසා ගතිමි. ඉෂාන් තුමා හම් බැම්මෙන් නිම කරන ලද විශාල කොරාන් පොතක් මා අත තැබූ සේක. මම කොරානය තෙවරක් සිප ගෙන නළල මත තබා ගත්තෙමි. ඉෂාන් තුමා දෙනෙත් වසා ගනිමින් යාච්ඤා කොට පසුව එතුමා අනුව කියන ලෙස මට අණ කර සිටිසේක. ''අසවලාගේ පුතා වන මම ශුද්ධවූ ඉෂාන් තුමාගේ සුවච කීකරු ගෝලයෙක්මි. මගේ ගුරු දේවයාණන් විසින් අණ කරනු ලබන ඕනෑම දෙයක් නොපිරිහෙලා ඉටු කරමි. මා හිසට උඩින් කඩුවක් එල්ලවී තිබුණත් නොබියව, නොපැකිළව ගුරු දේවයානන්ගේ ඉල්ලීම ඉටු කරමි. අයුතු ලෙස කිසිවක් පාවිච්චි නොකරමි. මගේ ගුරු දේවයාගේ බිරියන් සතර දෙනාට යටහත් පහත් වී ඔවුන්ට මගේම මවට මෙන් ගරු කිරීමට පොරොන්දු වෙමි. ඔවුන් පදිංචිවී සිටින අන්තඃ පුරය දෙස එබිකම්කර බැලීම හෝ හොරෙන් බැලීම හෝ නොකරමි. මේ නිවෙස තුළ මට දැනගන්ට ලැබෙන රහස් අන් කිසිවකුට හෙළි නොකරමි. මේ පොරොන්දුව කඩ කළහොත් මගේ ඇස් අන්ධවී ගියාවෙ,අංසබාග රෝගයට මා ගොදුරු වුනාවෙ, වසංගත රෝග මා ගිලගත්තාවෙ. දෙවියනි එසේම වේවා!''

ඉෂාන්ගේ ඉල්ලීම අනුව මා පවසා ඇත්තේ අතිශයින්ම බියජනක දිව්රුමක් බව මට වැටහිණ. මම බියවීමි. එහෙත් කළ හැකි අන් කිසිවක් නොමැත. කටින් පිටවූ වචන ආපසු ගත නොහැක. ඉදින් එද සිට මම ඇතුළු ගෙයි සිට පිටතටත්, පිට සිට ඇතුළු ගෙයටත් දුවමින් වැඩ කටයුතු වල යෙදෙන්නට වීමි. හති හැරීමට පවා කාලයක් නැත. අනේ! දෙවියනි! මිනිස් බලාපොරොත්තුව කොතරම් ලොකු මායාවක්ද!

මේ විධියට දුවමින්, හති ලමින් හැම වැඩක්ම කර දෙන මට දුෂ්ට සාතන්ගේ දිෂ්ටියෙන් සම්පූර්ණයෙන්ම ගැලවී ගත නොහැක. ඉෂාන් තුමාගේ සතරවැනි බිරිඳ සුන්දර රූමතියකි. ඇගේ වයස අවුරුදු දහ හතකට වැඩි නොවේ. ඇගේ රූ සපුව ලියෙන් තනා විවිධ පාටවලින් අලංකාර කරන ලද හැන්දක් මෙනි. ඈ දෙස බැලීමට මට සිත් දෙයි. මගේ ඇස් මගේ සිතට එදිරිව ඈ දෙසට ඇදෙන්නේ කාන්දමක් වෙත ඇදී යන ඉඳි කටුවක් මෙනි. එහෙත් ඈ ගැන සිතන හැම වරකදීම සුදු පැහැති පැදුර මත වාඩිවී ශුද්ධවූ කුරානය සිප ගෙන මා දුන් පොරොන්දුවද සිහියට නැගේ. කැදර මාළුවෙකු බිලි කටුවකට අසුවූවාක් මෙන් මාද මිනිස් වර්ගයාගේ සතුරා වන සාතන් නැමති යක්ෂයාගේ මායාවට හසුවී ඇත. පාපතර අදහස් අමතක කොට මම නැවත වැඩවල යෙදෙමින් සෙමින් ගයන්නට වීමි:

සුන්දර සබිහොන්ගේ රූ සපුව
ඕ සර්වබලධාරී අල්ලා! අල්ලා!

දවස් සති වලට හැරී සති මාසවලට හැරී යයි. එක් දවසක ඉෂාන්තුමාණෝ මා කැඳැවූහ.

''මගේ පුතනුවනි!'' යැයි එතුමාණෝ සෙනෙහෙ බර හඬෙකින් මා ඇමතූහ. ''නුඹ අපට බොහෝ කරදර ගෙන දුන්නා. දැන් නුඹ මගේ නිවසෙහි සියලු රහස් දන්නෙහිය... මවිසින් පෝෂණය කළ යුතු මිනිසුන් කොපමණදැයි නුඹ දැන් දන්නෙහිය. මගේ බිරියන්, සහකාර සුපිලා, ළමයි, වැඩකාරයින්, කුලී ගොවීන්! මොවුන්ට කෑම, ඇඳීම සැපයිය යුතුය... පින් තකා ලැබෙන පඬුරු ගැන පමණක් විශ්වාසය තැබුවොත් අප බඩගින්නට හසුවී මිය යනු ඇත. එහෙම නොවේද? නුඹ දක්ෂ කඩිසර ගැට වරයෙක්. මම නුඹව පරික්ෂාකර බැලුවෙමි. අපේ රහස් නුඹ යසට රකී. දැන් ඉතින් ඇනුම් හරිමින් බලා ඉන්ට එපා, මුදල් හම්බකිරීමට ලැස්ති වෙයන්... හැබැයි වෙනත් මගකින්... පිඬු සිඟා කෑමෙන් නොවේ...''

ඔහුගේ කතාව මට ප්‍රහේලිකාවක් විය! 'වෙනත් මගකින්' යනුවෙන් අදහස් කරන්නේ මොකක්ද? මා කොතෙක් කල්පනා කළත් හරිහැටි ඒ 'වෙනත් මග' ගැන දැනගැනීමට මහක් නොවිය. ඉෂාන් තුමා එවිට එම කතාවේ නියම තේරුම ගැන වෙන් වශයෙන් ඉඟියක් කළේය. අවසානයේදී එය මට තේරුම් ගත හැකිවිය.

''ගුරු තුමනි! මම සූදානම්. මගේ ගුරු තුමා වෙනුවෙන් මම ඕනෑම දෙයක් කරන්නම්!..''

ඉෂාන් බොහෝසෙයින් සතුටු වී මගේ උරහිසට තට්ටු කොට කෘතඥ තාවය පළ කළේය. ඔහුගේ ඇස් දැන් කපටිකමෙන් පිරී තිබෙන බව කිව හැකිය. මම වීරයෙක් යැයි මට සිතේ.

එවිට ඉෂාන් නැගිට මෙසේ කීය: ''ඔහොම හිටපන් මා එනතුරු!'' ඔහු ඇතුළු ගෙට ගොස් ලේන්සුවකින් බැඳ ඇති යමක් ගෙනැවිත් මා අත තැබීය. එහි කලිසමක්, කමිසයක්, වටකුරු තොප්පියක් සහ ඉන බඳින ලේන්සුවක්ද විය.

''මෙන්න පුතේ මේවා ඇඳගනින්. මගේ ජාතක පුතා මියාන්කුද්රාත් ගඟේ නාන්ට ගිහින් ගිලුනා. ඔහු වෙනුවෙන් මළවුන්ගේ යාච්ඤා කියන්න...''

''දෙවියනි, ඔහුට දෙව්ලොව සැපත දෙන සේක්වා!''

''දෙවියනි...''

ඉෂාන් විසින් මවෙත පවරා ඇති නව කාර්ය භාරය ඉටු කරන්නේ කෙසේද යන්න ගැන මම ගැඹුරු ලෙස කල්පනා කරන්නට වීමි. සවස මම ගම්මානයේ සිට ශුද්ධවූ නිවස වෙත එන විට මුද හරින ලද වස්සෙකු දුටුවෙමි. උගේ වයස ඇවුරුද්දක් පමණ වේ. උගේ සතුන් රැලෙන් ඌ ඈත ගියේද, නැතිනම් අතර මං වීද යන ප්‍රශ්න මම උගෙන් නොඇසුවෙමි. ඉන බැඳි ලේන්සුව ගෙන අංවලට දවටා හෙමින් සීරුවේ ඌත් ඇදගෙන ශුද්ධවූ නිවසට ආවෙමි. ඉෂාන් තුමාණෝ ප්‍රීතියෙන් පිනා ගිය සේක.

''නුඹ හරිම දක්ෂයෙක්! නුඹ අපට ලොකු වාසියක්... ඔය වස්සාව නුඹ වෙත එවා ඇත්තේ අල්ලා විසින්. නුඹ ඌව දක්කාගෙන එන විට අතර මගදී කවුරු වත් එහෙම දක්කෙ නැතිද? නැහැ! අල්ලාට පිං දීපන්... මගේ පුතේ නුඹ හරිම දක්ෂයා උඹ මා කියන විදියට වැඩ කරපන්. නුඹට එලොව මෙලොව දෙලොවම හරියාවි...''

හවස වස්සා මරා මස් සහ තෙල විශාල මැටි හැලියක බහා, හම ඉෂාන්ගේ අණ පරිදි පාවහන් සෑදීමට ගන්නා ලදී.

ඊට පසු දින මා නැවත අල්ලපු ගමට වෙනත් කාරියක් සඳහා පිටත් කර හැරිය. වස්සාගේ අයිතිකාරයා කව්ද යන්න මම එහිදී දුටුවෙමි. මදය රහිත කපුඇට එකතු කරන ඔහු ගම් වැසියෙකි. වස්සා සොයමින් ඔහු ගම පුරා ඇවිද මහ ඝෝෂාවක් කළේය. පසුව ඔහු වස්සාගේ පා සටහන් දැක ඒවා අනුව යමින් වස්සාටත් ඌ සොරාගෙන ගිය එකාටත් බැණවදිමින් සාප කරන්නට විය. ඔහු හරක් හොරාට සාප කළේය. වසුගේ පා සටහන් මැකී ගිය තැන්වලදී ඔහුගේ බැණ වැදීම තවත් වැඩිය. පඳුරකට මුවා වී ඔහු යන සැටි මම බලා සිටියෙමි. වසුගේ පා සටහන් මොන ස්ථානය දක්වා වැටී ඇත්ද යන්න දැන් ඔහුට වැටහී ඇතිවාක් මෙනි. ඔහු පා සටහන් සොයමින් තවත් දුර ගියද, බැණවැදීම හා සාප කිරීම සෑහෙන දුරකට අඩු කළේය. දැන් ඔහු සාපකරන්නේ වස්සාට පමණකි. ඔහු ඉෂාන්ගේ නිවස ළඟට ආවිට ගොළුවකු මෙන් නිහඬ විය. ශුද්ධවූ නිවස දෙස බලා ආචාර කළේය. මා හැර අන් කිසිවකු එය නොදිටිය. ඔහු මා ශුද්ධ නිවසට අයත් එකකු ලෙස නොසලකයි. වසු හිමියා දෑත් එක්කොට මුහුණ අතගාමින් දෙවියන් යැද ආපසු ගියේය. අඩි කීපයක් ඈත ගිය හෙතෙම නැවත බැණ වදිමින් සාප කළේය.

මගේ පළමුවැනි වීර ක්‍රියාව නිසා ඉෂාන් තුමාගේ සතුට සීමා රහිත විය. එක් දවසක ඔහු මා නැවත වරක් කැඳවා මෙසේ පැවසීය:

''මේ ලෝකයේ තවත් බොහෝ වැඩ තියෙනව. උඹ කඩ පොළවල් ගානෙ යන්ට ඕන. මේ ලෝකයෙ තියන බඩු අතරින් ඉතාම හොඳ දේවල් තමා සාක්කු, මුදල් පසුම්බි! සල්ලි වලට වඩා හොඳ දෙයක් තවත් නැහැ. උස්සගෙන යනවිට බරක් දැනෙන්නේ නැහැ. හංගා ගැනීමට පහසුයි. මුදල්! පුතේ මුදල්!''

ගැට කපන සුල්තාන්ට පවා මා නම්වා ගැනීමට බැරිවූ ඒ රක්ෂාව පටන් ගැනීමට මට සිදුවිය. එය කළ හැකිව තිබුණද එක් සිද්ධියක් නිසා එයට බාධා ඇති විය.දෙවැනි දවසේ ඉෂාන්, ගෙවත්තේදී මා හමුවැ ''පුතේ, කොහොම හරි ඉෂාක්-බූරුවෙක් සොයා ගෙනැවිත් දීපන්. ඉක්මන් කරපන්. කොහෙන් හරි හොයාගෙන වරෙන්!''

මා පුදුමව ඔහු දෙස බැලූවිට, ඔහු රොස් විය.

''උඹ මොකද ඇස් දෙවට දගෙන ඉන්නෙ? ඉක්මනට බූරුවෙකු හොයාගෙන වරෙන්.''

ඔහුට බූරුවකු උවමනා වූයේ ඇයි? ඔහුගේ බිරියන්ගෙන් එකියකට උණ ගැනිලාද? අසල ගමට ගොස් මා සොරාගත් වසු පැටියා අයිතිකාරයාගෙන් බූරුවෙකු පැයකට කුලියට ගත්තේ, වට්ටක්කා ගෙඩි දෙකක් කුලිය වශයෙන් ගෙවමිනි. ඒ දුප්පත් ගම්වැසියා බූරුවා පිට ගමක් පාසා යමින් ''සායම්! සායම්! නූල්! නූල්!'' යැයි කියමින් ඇහිබැම් පාට කරන සායම් හා නූල් විකුණයි.

බූරුවා ගෙනැවිත් මා ඌ මල්බෙරි ගසට බැඳ තැබූ විට ඉෂාන්ගේ තුන්වැනි බිරිඳ සන්තෝෂ වූවාය. ගෙවත්ත අතු ගා පිරිසුදු කොට වතුර ඉහන ලෙසත්, ඉන්පසු ගස යට පැදුරක් එලන ලෙසත් ඇ අණ කළාය. මේ වැඩ කරන අතර, ඉෂාන්ගේ තුන්වැනි බිරිඳ බූරුවාට මහත් ආදරයක් දක්වන සැටි දුටු මට එය තේරුම් ගැනීමට බැරිවිය. පතිමාගේ මිණිබිරියක් ලෙස ඇය හඳුන්වති. පතිමා මොහමඩ් නබි තුමාගේ කිට්ටුඥාති වරියකි. මා පැදුර එලූ විගසම මට පිටවන ලෙස අණකළ ඇය ගෙවත්තේ දොරට අගුල් දමා වැසුවාය. එවිට මගේ කුතුහලය වැඩිවිය. මම පල්ලිය තුළට වැද එහි දොර වසා පල්ලියේ බිත්තියක සිදුරකින් ඉෂාන් බිරිඳගේ හැසිරීම නරඹන්නට වීමි. ඒ සිදුරෙන් හැම දෙයක්ම යසට පෙණින. ඉෂාන් බිරිඳ කතුරක් ගෙන බූරුවාගේ දෙකන්වල අග කොටස් කපා දැමූවාය. එවිට ලේ ගලන්නට විය. පැදුර මත සේද මෙට්ටයක් හා කොට්ටයක් එළා වැතිර ගත් ඇය බූරුවා දෙස බලමින් සන්තෝෂ වූවාය. ලේ පෙරෙන කන් වලට මැස්සෝ වැසුහ. බූරුවා හිස වනමින් මැස්සන් එළවා දම්මට තැත් කරයි. උගේ දෙකන් නැටවේ. දෙකන් එකට ගැටෙන තුරු ඌ හිස වනයි. ඉෂාන් බිරිඳ මහත්වූ සතුටකින් ඒ දෙස බලා සිටින්නීය.

''අනේ මගේ ඉෂාන්-බූරු රජෝ!'' යැයි ඇ මහත්වූ ආදරයකින් ඌ දෙස බලමින් කීවේ, ඌ බඳ වැළඳගැනීමට මෙනි. ''උඹ මගේ රූප රාජා මම උඹට ආදරය කරමි. කොතරම් අගේට උඹ දෙකන් සොළවනවද! අම්මාහොන්!'' යැයි ඇ ඉෂාන්ගේ තවත් බිරිඳකට අඬ ගැසුවාය. මේ වන විට ඉෂාන්ගේ බිරියන් සමූහය ගෙවත්තට වැද මේ දුෂ්ට ක්‍රීඩාව දෙස බලමින් සිනාසෙන්නට වූහ. ''අම්මාහොන් බලන්න! ඌ කොතරම් ලස්සනට දෙකන් සොළවනවද කියල. උඹ මගේ රූප රාජා! ආදරය මගේ!'' යැයි කියමින් ඇය ප්‍රීති වන්නීය.

සිදුර ළඟ සිටගෙන මමද හඬ පිට නොකර සිනාසුනෙමි. ඉෂාන්ගේ බූරුවා සතු තැන සිතින් මටහිමි කරගෙන මම සිහින ලොවක ගිලුනෙමි. ඉෂාන් බිරිඳ ආදර බස් තෙපලන්නීය.බූරුවාගේ

සැදැලය සෙලවේ. උගේ සුදු පැහැති දෙකන් හැම අතටම නැටවේ. ලේ පෙරෙන දෙකන් වලට උඩින් මැස්සෝ පියාඹති... අප කතාකරන බස අනුව ඉෂාක් යනු බූරුවාය. ශබ්දය අනුව ඉෂාක් හා ඉෂාන් බොහොසෙයින් සමානය. හැඩහුරු කම අනුවද එසේය. බැල්මද එක සමානය. ඉෂාන්, ඉෂාක් යන දෙදෙනාගේම ගමන් විලාසයද සමානය. මේ අපූරු සමාන කම් ගැන සිතූ මම සිනාසුනෙමි. ඒ හැඟීමත් සමගම මා කළේ වරදක් බවත්, එවැනි දෙයක්ගැන සිතීව පවා මහත්වූ පාප කර්මයක් බවත්, අපේ ඉෂාන් වැන්නකු ඉෂාක්ට සමාන කිරීම නිසා සර්වබලධාරී අල්ලාගේ උදහස මා වෙත ලක්වීමට ඉඩ ඇති බවත් මට හැඟිණ. එහෙත් මට සිනා නොවී සිටීමට බැරිවිය. මෙසේ සිදුර ළඟට වී බලමින් ඉන්නාවූ මට ළංළංව එන අවදනම නොපෙණුනි. මගේ පිට කොන්දට වැදුණු තද පහරක් නිසා මා හැරී බැලූ විටය, මට එය දැනුනේ.

''ආ! තෝ නොසණ්ඩාලයා! මොනවද මෙතැනට වෙලා කරන්නෙ?''

එසේ ප්‍රශ්න කළේ අපේ ගරු තර ඉෂාන් තුමාණෝය. ඔහුට මගේ සිනා හඬ ඇසුනාවිය යුතුය. එනිසා ඔහු සිනාවීමට හේතු සොයනු පිණිස එළියට ආවා විය යුතුය. එවිට මා සිදුරකින් බලන සැටි ඔහු දුටුවේය. ඔහුගේ පෙම්වත් බිරියන් දෙස මොන අන්දමකින් වත් නොබලන බවට මවිසින් පොරොන්දු වී ඇති අතර ඔවුනට මා වැදූ මෑණියන් මෙන්ම සළකන බවටද දිව්රුම් දී ඇත. ම විසින් කරන ලද්දේ බරපතල සමාව දිය නොහැකි පාපයකි. ඒවර නම් මට පාපහර නොලැබුණි. ඉෂාන් මට සාප කොට ඔහුගේ ශුද්ධවූ නිවසින් මා පන්නා දමනු ලැබීය.

මීට දවස් කීපයකට පෙර වස්සා නැතිවූ හෙයින් (දැන් බූරුවාත් නැති කරගත්) ඌ සොයමින් සිටි අහිංසක ගමරාළගේ තැනට මාද වැටිණ. එද සිනහසෙමින් මම ඔහු දෙස බලා සිටියේ මෙතැන පඳුරුවලට මුවා වෙමිනි. ඉරණම පෙරළෙන හැටි! මීට විනාඩි කීපයකට පෙර ඒ කුකුළු පට්ටියේ මාද සැහෙන පක්ෂියෙකුව සිටියෙමි. දැන් ඉතින් මට එතැනට හොස්ස දැමීමට පවා බැරිය. ඒ මදිවට දෙව්ලොවද මට නැතිවිය. දෙව්ලොව මා අත පොවන හරියේ තිබුණා නොවේද! මගේ ජීවිතය හා ශුද්ධවූ නිවසේ සාමාජිකයින් දෙව්ලොවක සිරි නොපැවද අනාගත දෙව්ලොව මට සහතික කර තිබිණි. දැන් ඉතින් මොනවා කරම්ද? නැවත පාරවල් ගානේ රස්තියාදු වීමද? අහස උසය, මහ පොළව තදය, යා යුත්තේ කොහේදැයි මම නොදනිමි. මා කළ ක්‍රියාව නිසා මම කණගාටු වීමි, මටම බැණ ගතිමි. දැන් ඉතින් අවි හරණක් නැති රස්තියාදු කාරයෙක්මි. වැඩක් නැතිව ඉබාගාතේ යාමට සිදුවී ඇත. මෙයට වඩා මට සැහෙන බුද්ධියක් තිබුණේ නම්, එය මට ප්‍රයෝජනවත් වූයේ නම් දුක් රහිත දිවියක් ගත කිරීමට මට හැකිවනු ඇත. දැන් ඉතින් කුමක් කරන්නද? ගිය නුවණ ඇතුන් ලවා වුව අද්දවා ගන්නට බැරිය...

8

## මා බායි විනාශ කළ හැටි

වස්සා සහ බූරුවා අයිතිකාර ගම රාළට මුණ නොගැසෙනු පිණිස මම එගමට ඇතුළු නොවී, වෙන පාරකින් ගම පසුකර ගොස් හිරු බැස යන විට විශාල නදී තීරයකට පැමිණියෙමි. වේගයෙන් ගලා බසින දිය පාර පෙන නගමින් ගල්වල හැපෙයි. ගඟ කුමක්ද, අනතුරු රහිතව එගොඩ වන්නේ කොතැනින්ද ආදී කිසිවක් මම නොදත්තෙමි. ගඟේ ඉහළටද පසුව පහළටද යමින් මම පිරික්සා බලන විට, මිනිස් කටහඬක් සහ අශ්වයකු හේසාවර කරන සැටියක් මට ඇසිණ. එහෙත් අවට හිස්ය. ගලා බසින ජලය නගන හඬ තුළින් හැමදෙක්ම ඇසේ...

ගඟ හරහා යාමට මා අපොහොසත්ය. ආපසු යාමටද හැටියක් නැති. කව්රුන් හෝ එනතුරු මා බලා සිටින විට අපේ ගමේදී ගැයූ ගීයක් මට මතක් විය. දුප්පත් සිඟන්නන් ගැන කියන එම ගීය ගලා බසින ජලය දෙස හා උතුරා නගින සුදු පෙන දෙස බලමින් ගයන්නට වීමි.

ගඟේ ජලය ගලා බසී
ගලේ හැපෙයි, පෙණ උතුරයි. යොර්. යොර්!
දුර ගමනකි මා යන්නේ
මහක් නොදන ලතවෙන්නේ, යොර්, යොර්!
ගල් පොළොවට දෙපා ගෙවිල
සැමතැනම දූලි නැගල, යොර්, යොර්.
බෙලහීනයි, ලෙඩපාටයි
පරවුණු වද මලක් වගේ, යොර්, යොර්
රූමත් සුන්දරිය මා දෙස බලාපන්
පෙම්බස් කියා මා හද දිරි ගන්වාපන්, යොර්, යොර්
ඔබෙ පැල්පත එහා ඉවුරෙ
මා එන්නම් ගී ගයන්ට, යොර්, යොර්,
දුර ගමනකි මා යන්නේ
බඩගිනි වුව නාඬන්නේ, යොර්,යොර්
සුන්දරිය ඔබෙ ඇඳුම
දිලිසෙනව හිරු වාගෙ, යොර් යොර්
උදේ හවස ගඟ නොදනි
නොනවත්වා ගලා බසී, යොර් යොර්
ඔබ දෙස බැලූ හිතවතා
නොවෙයිද ඔබෙ පෙම්වතා? යොර් යොර්
එහා ඉවුරෙ කලගෙඩියකි
රන් පාටැති කලගෙඩියකි, යොර් යොර්
විකිරි ලියක් කලය අරන්
වතුරට එයි පාන්දරින්, යොර් යොර්
ඇගේ මුහුණ සඳ වාගෙයි
ඇගේ දෙනෙත් තරු වාගෙයි, යොර් යොර්
හැම දෙන සටනට යන්නේ
වීර පුතයි ජය ගන්නේ, යොර් යොර්
රටින් රටට යන පුතකුට
ජයවේවයි පතමු ඔහුට, යොර්යොර්

ගායනය අවසන් කොට පිපාසය සංසිඳුවා ගැනීම පිණිස මම ගඟට බැස ගලා බසින පිරිසුදු ජලය දෝතින් ගෙන බීවෙමි. අධික ශීතල නිසා දත් හිරිවැටිණ. වතුර බී නැගී සිටි මට, කෙට්ටු අසකු පිට නැගී යන පුද්ගලයකු පෙණින. මා ඔහු වෙත දුවගොස් ඔහුගේ ලෝගුවෙන් අල්ලාගෙන ගඟ හරහා මා ගෙනයන ලෙස ඉල්ලා සිටියෙමි.

''ආ! හා! උඹට පේන්නෙ නැතිද මේ කැහැටු අස්සයගේ හැටි! බර පටවලයි තියෙන්නෙ. පිරිමි දෙන්නෙකුට ගඟ හරහා යන්ට උගේ පිටේ නගින එක ලැජ්ජා නැති වැඩක්...'' යැයි හෙතෙම කෙලතොළු ලෙස පැවසීය.

මම නොඩකවා ඔහුගෙන් නැවත නැවතත් අයැද සිටියෙමි. පසුව ඔහු එකඟවිය.

ඔහු තම බඩු බාහිරාදිය එගොඩට ගෙන යන විට මම ගඟ කුමක්දැයි දැන ගතිමි. මහල්ලා එගොඩඟ ගොඩේ ගමෙක මිදි වවන්නෙකි. මා දෙමාපියන් නැති, ගෙදරක් නැති, යන එන මං නැති අසරණයෙක් බව දැනගත් මහල්ලා මට වියලි රොටි කැල්ලක් දී උපදෙස් දෙන්නට විය. ගමේ ගම් සභාපති තැනා පොහොසතෙකි. ඔහු සරිබායිය. ඔහුගේ ඉඩම අක්කර දහසක් විශාලය.එහි ඇපල් ගස් දහස් ගණනකි. දැන් ඇපල් ඉදී ඇති බැවින් විශෙෂයෙන්ම ඔහුට කුළීකරුවන් උවමනා කර තිබේ. අඩු කුලියට වැඩ කිරීමට ඉදිරිපත් වුවහොත් බායි රකියාවක් දෙනු ඇත. රය ගත කිරීමට කුලී ගොවීන් සමග පුළුවන. මහල්ලා සරිබායි සොයා යාමට මට මඟ පෙන්වනු ඇත...

මිදි වවන මහල්ලා මට පෙන්වූ බැරැක්කය තුළ, කුලී ගොවීන් විසිදෙනෙකි. ඔවුන්ගෙන් බොහෝ දෙනෙකු මැදි විය පසුකර ඇති අය සහ මහල්ලන්ය. මම ඔවුන්ට ආචාර කොට ඇතුළුවූ විට ඔවුහු මා සතුටින් පිළි ගත්හ. සරිබායිගෙ වත්තේ ඇපල් කැඩීමට ආ බව මා ඔවුන්ට දැන්වූ විට එකෙක් මට මෙසේ කීය:

''පුතේ! උඹට මෙතැන වැඩක් නැහැ. උඹ තරුණයි. ජීවිතය හරිම වටිනා වස්තුවක්. මෙහෙදි උඹේ ජීවිතය නාස්ති වේවි. දැන්ම උඹ මොනව හරි කර්මාන්තයක් ඉගෙන ගනින්.''

මගේ මුහුණ සොවින් පිරී තිබෙන සැටි දුටු නිසාදෝ ඔහු දයාන්විත ලෙස කතාවට තවත් එකතු කළේය. ''කමක් නැහැ. දවස් දහයක් දොළහක් වැඩ කරල, උඹගෙ කාරිය කටයුතු එක ලෙසක් කරගනින් එතකොට බලාගන්ට පුළුවනි...''

ඔහු මට කැඳ කෝප්පයක් වත් කොට රොටි දෙකක්ද දුන්නේය. මහත්වූ රුචියකින් මම එම ආහාරය ගිල දැමුවෙමි.

මා නිදගත යුතුතැන මට පෙන්වූයෙන් පකිස් පෙට්ටි දෙකක් එක ළඟින් තබා, පිදුරු ගොඩක් පෙට්ටි දෙක මත විසුරුවා හැර කදිම ඇඳක් සාදගෙන 'රාජකීය ලෙස' නිදගත්තෙමි. මේ යහන ඉෂාන්ගේ ශුද්ධවූ නිවසට වඩා උණුසුම්ය. හිමිදිරි පාන්දර දේව මෙහෙයට එන ලෙස කියමින් මා අවදි කිරීමට සුපි කෙනෙකු මෙහි නැත.

උදෙන් නැගිට මම වතු හිමි බායියා හමුවීමට ගියෙමි. ඔහු තම වැදගත් කම පෙන්වමින් කතාකරන්නට විය. ඇපල්ගෙඩි ගිණිකූරු නොවන බවත් ඇපල් කැඩීමත් එක්තරා කලාවක් බවත් කී හෙතෙම අවසානයේදී මට දිය හැකි වැටුප් ගැන හෙට්ටු කිරීමට පටන් ගත්තේය.මසකට ඇපල් රාත්තල් 79 ක් දෙන පොරොන්දුව පිට ඔහු යටතේ සේවය කිරීමට මම එකඟවීමි. ඉදුණු ඇපල් සහ ගැටද මේ රාත්තල් 79 ට අයත් බව බායියා කීය. මහ දවල් ඔහු මගෙන් සොරකම් කිරීමට සූදානම් වන සැටි පෙනුනද මම එය නොදන්නා බවක් ඇඟවීමි. ඔහු එක කොන්දේසියකට එකඟ කරවා ගැනීම හැර අන් මඟක් නැති බව මට අවබෝධ විය. මම ඔහුට මෙසේ කීවෙමි:

''බායි-බුවා*, අපි දැන් පඩිය ගැන එකඟ වුණා. හැබැයි එක අඩු පාඩුවක් ගැන නොකියා බැහැ. මම නිහඬවුනොත් එය මුස්ලිම් ආගමික නීති වලට විරුද්ධයි... මගේ එක අඩු පාඩුවක් තියෙනව, ඒ උණාට...''

''හොඳයි කියාපන් උඹේ අඩුපාඩුව. රට නින්දෙන් මුත්‍ර කරනවද? නැතිනම් මීමැස් මුරය හැඳෙනවද?''

''බායි-බුවා ලෙඩේ ඒක නොවේ. පුංචි කාලෙ ඉඳල මට තියෙන ලෙඩක් තමයි ඉඳල හිටල මගේ හිතට විරුද්ධව පවා බොරු කීමට සිදුවීම. බායි-බුවා පස්සෙ මට බනින්න එපා. පඩිය පොරොන්දු වුණු විදියටම ගෙවන්න!''

''ඔහෝ! උඹ උපන් ගෙයි හොරෙක්. කපටියා. පලයන් ගිහිං වැඩ කරපන්. හැබැයි හැම තිස්සෙම බොරු කියන්න එපා!..''

දැන් මම බායියා ළඟ කුලියට වැඩ කරන්නෙක්මි. ඇපල් ගස්වලට ඉණිමඟක් තබා නැග ඇපල් කැඩීමද, ඉදුණු ඇපල් අහුලා වේලීමද, බායියාට මුදල් උවමනාවූ විට ගැට ඇපල් දර්බාසු හෝ සරීගාච් හෝ නගරවලට ගෙන ගොස් විකිණීමද වැනි කාර්යයන් එතරම් අමාරු වැඩ නොවේ. සමහර දවස්වලදී වත්ත මුර කරමි. බායියාගේ දුෂ්ට ගති නිසා නොවේනම් මේවා සියල්ල එතරම් ගණන් ගත යුතු වැඩ නොවීය. මෙතැන වැඩ නොකරන ලෙස මට උපදෙස් දුන් කුලී ගොවියාගේ කීම සැබෑය. සරීබායි ළඟට කිසියම් ප්‍රශ්නයක් නිරාකරනය කර ගැනීම පිණිස ගියහොත් ඔහුගෙන් බේරීම ලෙහෙසි නැත. ඔහු හැමවිටම එකම ප්‍රශ්නයක් නගමින් දැඩි දුෂ්ට ගතියක් පායි. ''ඉතින් ඊට පස්සෙ?'' යැයි ප්‍රශ්න කරමින් ඔහු තම සේවකයින් හෙම්බත් කරවයි. ඔබ බායියා වෙත ගොස් ''ඇපල් ඉදිලා'' යැයි කියයි. ඔබ කීවේ ඔහු දන්නා දෙයක් වුවද, ඔහු ''ඉතින්, ඊට පස්සෙ?'' යැයි ප්‍රශ්න කරයි. ''ඇපල් ගෙඩි අහුලන්නට ඕන'' යැයි ඔබ කියයි. ''ඉතින්, ඊට පස්සෙ?'' ''ඒව විකුණන්ට ඕන'' යැයි ඔබ කියනු ඇත. ''ඉතින්, ඊට පස්සෙ?'' යැයි ඔහු නැවතත් එයම ප්‍රශ්න කරයි. මේ විදියට තමා ළඟට පැමිණි මිනිසා නිරුත්තර වන තුරු එම ප්‍රශ්නයම නගයි.ඔබට පිළිතුරු දීමට බැරිවුව හොත් ඔහු ඔබට බැණ වදියි, පහර දෙයි, සමහර විට එය අවසන් වන්නේ කස පහර දීමෙනි.

මෙවැනි මිනිසුන් යහතින් ජීවත්වීම තමා පුදුමය! මා සිතන හැටියට නම් සර්වබලධාරී අල්ලාගේ පිං පොතේ මේවා හරිහැටි සටහන් නොකරන බවයි. මේ මහ පොළවේ මෙතරම් අවුල් වියවුල් ඇතිවීමේ හේතුව එයයි. වාසනාව හා අවාසනාව රැඳී ඇත්තේ කාට යටහත් පහත් වීම අනුවද යන්න නොවේ. සරීබායිගේ වතු පිටි ඉඩකඩම් විශාල ඒවා පමණක් නොව ඒවාට තවත් ධනය එකතු විය. චුවාලචීහි කාර්යාල නිලධාරී යුසුප් සමඟ සූදු කෙළියට ගිය සරීබායි ඔහුගේ පලතුරු වත්තද, ගෙයද, එහි ඇති බඩු බාහිරාදියද දිනාගත්තේය. ඒ පලතුරු වත්තට ගිය සරීබායි එහිදී තරුණ කිර්ගිස් කතක් සමඟ හදිසියේම විවාහ විය. දැන් ඔහු දවස් දහයක් පහළොවක් එහි ගොස් නවතී.

සරීබායි තම කිර්ගිස් සුන්දරිය වෙත ගොසින්ය. ඇපල් ගෙඩි ඉදී බිම වැටේ. එහෙත් හාම් පුතාගේ නියමයක් නැතිව ඒවා කැඩීමට කිසිවකු ඉදිරිපත් නොවීය. ඒ අතර අශ්වයින්ට දෙන කෑමද අවසන් විය. කුලී කරුවෝ දෙදවසක් තිස්සේ වැඩ නැතිව සිටිති. බායියා හමුවීමට ගොස් කරුණු කීමට කිසිවෙක් ඉදිරි පත් නොවෙති. හැම එකෙකුම ''ඉතින්, ඊට පස්සෙ?'' යන

* බුවා—ලොකු උන්නැහෙ.

ප්‍රශ්නයට බියවෙලාය. බායි වෙත ගොස් කරුණු කීම සඳහා ඉදිරිපත් විය යුත්තේ කව්ද යන්න තීරණය කිරීම සඳහා කැට විසිකිරීමක් පවත්වන ලදී. දෛවයක හැටි! බායියා වෙත යාමට සිදුවී ඇත්තේ මටය.

ඒ කාරිය ඉටු කිරීමට මා සතුටු වීයැයි කියතොත් එය පට්ටපල් බොරුවකි. ඒ බොරුව නැතුවට මගේ ආත්මය බොරු වලින් පිරී ඇත. සරිබායි සමග කතා කරන සැටි මතක් වූ විට මට හීන් දඩිය දැමීමට පටන් ගත්තේය. එහෙත් ඉන් ගැලවී යාමට බැරිය. උදැසන මා අසකු පිට නංවා වුවාලවීයට පිටත් කර හරින ලදී. බායිගේ ''ඉතින්, ඊට පස්සෙ?'' ප්‍රශ්නයෙන් ගැලවී ඔහු සමග කතා කරන්නේ කොහොමදැයි මම මග දිගට කල්පනා කරන්නට වීමි. ලෙඩක් වශයෙන් බොරු කියන බව පවසා බායි රවටු සැටි මතක් වූ විට මට තරමක පහසුවක් දැනිණි.

මා එහි යන විට බායි ආලින්දයේ සැප පුටුවක වාඩිවී එළු ඔළුවක් සපමින්, උදේ ආහාර ගනිමින් සිටියේය. මම නිහඬව එළි පත්තේ හිඳ ගත්තෙමි.

''උඹ මොකද ආවෙ?'' ඔහු ඇසීය.

''බායි-බුවා! බායි බුවා නැති නිසා අපට කාන්සියක් හැදුණා. ඉතින් මාව එව්ව ඔබ දැක ගන්ට...''

''හොඳා! හොඳා! උඹව එව්වෙ නිකමට නොවෙයි නේද? ඉතින්, ඊට පස්සෙ?''

මම හිස පහත් කරගෙන දැස් අඩවන් කරගත්තෙමි.

''අර... ඇත් දත් මිටක් ඇති පිහිය කැඩිල. මම ඒක කියන්ටයි ආවෙ...''

''ඉතින් ඊට පස්සෙ, කොහොමද ඒක කැඩුනෙ. මොකද උඹලට යකා වැහිලද? ඒ පිහියෙන් තවත් පිහි කැපුවද? මගේ වත්ත විනාශ කළාද?''

''බුවාගෙ දඩබල්ලගෙ හම මසෙන් වෙන් කරන කොට කටුවක් කැපුණා. ඒ පාර පිහිය කැඩුන.''

''මොනව? තොපි මක්කටද දඩබල්ලා හම ගැහුවෙ? ඒ මදිවට ඇත්දත් මිට ඇති පිහියෙන්! ඇයි හම ගැහුවෙ?!''

''දඩබල්ලා මැරුණ හැටියෙම ඌ හම ගහන්න අපි ඉක්මන් වුණා. නැතිනම් හම නරක් වේවි! අතට අහුඋණෙ ඔය පිහිය, ඒකෙන් කැපුවා. හම ගැහුව.''

''උඹලට හෙන ගහන්න, කොහොමද ඒකා මළේ?''

''මැරිච්ච අස්සයගෙ මස් කෑව හන්ද.''

''කවුද ඌට මැරිච්ච අස්සයෙකුගෙ මස් දුන්නෙ? මැරිච්ච අස්සයො කොහින්ද?''

''කවුරුවත් දුන්නෙ නැහැ. ඌම කෑවා. ඌ පිට අස්සයෙක් නෙවි. අර සුදු ලපයක් නළලේ ඇති හොඳ අස්සයා...''

බායියා කෝපයට පත්විය.

''ඒයි කොල්ලා උඹ කතා කරන්ට ඉස්සෙල්ල කල්පනා කරපන්. නළලේ සුදු ලපය ඇති අස්සයා මළා කියල උඹ කිව්ව. අනේ දෙවියනේ! ඌ මළේ කොහොමද බොල?''

''ඌට වැඩ බැරි හන්ද.''

''ඌට වැඩ බැරිවුණේ කොහොමද? මොන වැඩද? උඹ බොරු කියනවද?''

''මම බොරු කියන්නෙ නැහැ. ඌට වතුර අදින්ට බැහැ. මීට ඉස්සෙල්ල ඌව කරත්තයට බැඳල තිබුනෙ නැහැ නෙව. ඌව කරත්තෙට බැඳල වතුර ඇද්ද. බර උහුලන්ට බැරුව ඌ මළා!''

''ආ, තෝ ජඩයා! බොරු කියනවද?'' යි ඇසූ බායිගේ මුහුණ ලේ පැහැ ගැනිණ. දෙතොල් වෙව්ලන්නට විය. ''කරත්තෙ බඳින අස්සයො බොහොමයක් වත්තෙ ඉන්නව. තොපි මොකටද ඌව කරත්තෙ බැන්දෙ? ඌව මම ඇති කළෙ තරහෙට තියන්න!''

''ඇත්ත තමා බායි-බුවා. ඒ උණාට ගිනි ඇවුලුනාම කව්ද හිතන්නෙ මොන අස්සයාට මොන වැඩේ බාරද කියල. අතට අහුඋන අස්සයව කරත්තෙ බැඳල වතුර අදින්ට පටන් ගත්ත!''

ගින්න ගැන මා කියන විට ඔහු එළු දිව කපා කන්නට සූදනම් වෙමින් සිටියේය. මාකී දේ ඔහුට වැටහුණ විගසම ඔහු එළු දිව ගිල දැම්මේ නොසන්සුන් වෙමිනි. එළු දිව ඔහුගේ උගුරේ හිරවී ඇතිවාක් වෙන් මට හැඟී ගියේ, ඔහුගේ ඇස් හරකෙකුගේ මෙන් වටකුරු වී එළියට පැනීමට තැත් කරන සැටි දුටු විටය. ඔහු ගොළු විය. එළු දිව වෙනුවට බායියා තමාගේ දිව ගිල ගෙනදැයි සැක කළ මම බිය වුණෙමි. ඔහුට නැවත කතාකිරීමට හැකි විය. ඔහු මා වෙත කඩා පනින්නාක් මෙන් මෙසේ කීය:

''ඈ බොල... තොට පිස්සුද? මොන ගින්නක්ද? කොහෙද ගිනි ගිත්තෙ? කොහොමද පටන් ගත්තෙ?..''

''නැහැ මුදලාලි මට පිස්සු නැහැ. අස්ස ඉස්තාලෙන් තමා ගින්න ඇවිලුනෙ. අස්සයො ගින්නට අහුවෙලා පිච්චිල ගියා.''

''ආ... කොහොමද ඉස්තාලෙ ගිනි ගත්තෙ?''

''කියන්ට දන්නෙ නැහැ. අනිත් අයත් හිතන්නෙ ගබඩාවෙ ඉඳල ඉස්තාලෙට ගිනි ඇවිලුන කියල.''

''අනේ අල්ලා! මට වුණු විපතක මහත. ගබඩාවෙ ගිනි ඇවිලෙන බඩු තිබුණෙ නැහැ නෙව. තිරිඟු, හාල්, සත්ව තෙල්, රෙදි තිබුණ. ඒව ඉබේටම ගිනි ගන්නෙ නැහැ නෙව!''

''මුදලාලි පොඩියක් නවතින්න එහෙම පිටින්ම විස්තරේ කියන කලියෙන්. ගබඩාව ගිනි ගත්තෙ බංගලාව ගිනි ගත්තට පස්සෙ. ඊට පස්සෙ ඉස්තාලෙ ගිනි ගත්තා.''

''බංගලාව ගිනි ගත්තාද?!''

''බංගලාවත්, ගබඩාවත්, ඉස්තාලෙත් ගිනි අරගෙන පිච්චිල අහුරු වුණා. අස්සයො මළා! සුදු නළල ඇති අස්සයත් මළා! දඩයම් බල්ලත් මළා! පිහියත් කැඩුනා...''

''අයියෝ! වෙච්ච විපතක මහත! අයියෝ මා ඉවරයි!.. කොහොමද බංගලාව ගිනි ගත්තෙ?..''

''ඉටිපන්දම් හන්ද.''

''මොන ඉටිපන්දම්ද, උඹට යකා වැහිලද? මගේ බංගලාවෙ ඉටිපන්දම් දල්වන්නෙ නැහැ! මම තෂ්කෙන්ට් ඉඳල ගෙනා ලාම්පු වලට මක්වුණාද? අවුරුද්දකට සැහෙන්ට මම බූමිතෙල් ගෙනාවා! කොහෙන්ද ඉටිපන්දම්?!''

''මුදලාලි මට කතාව සම්පූර්ණයෙන්ම කියන්න ඉඩ දෙන්නෙ නැහැ නෙව. කොයි රටේද මිනිහෙක් මැරුණම බූමිතෙල් ලාම්පු පත්තු කරන්නෙ?''

එවිට බායිට ඉබේටම පුටුව මත ඉන්දවිණ. එක පිට එක මා කියන බොරු නිසා ඔහුට කිසිවක් හරිහැටි තේරුම් ගැනීමට බැරිය. ඔහුට කුමක් වීදැයි ඔහු නොදනී. පොඩි දරුවෙකුට බහ තෝරා දෙන්නාක් මෙන් මම ඔහුට තවත් දිගට බොරු ඇද බෑවෙමි.

''මුදලාලි දන්නව නෙව මළ මිනියක ඉහට උඩින් ඉටිපන්දමක් පත්තු කරන්න ඕන.

එතකොට තමා රෑ සමනලය මිණිය ළඟට එන්නෙ. මළ මිණියෙ ආත්මය එවිට සමනලය ඇතුළට රිංගා ගන්නව. පිරිසියකට වතුර වත් කරල ඇපල් රිකිල්ලක් තියනව. එතකොට සමනලයා එනව. අත්තට වහල ගිමන් හැරල වතේට පියාසර කරනව...''

බායිට දන් කතා කිරීම පවා අපහසුය. ඔහු අතක් වනා මට නිහඬ වන ලෙස කීය. පසුව ගොත ගසමින් කතා කළේය:

''කව්ද?.. කව්ද මළේ?''

එවිට මම දැතින් මූණ වසාගෙන අඬන්නට වීමි. අඬමින් මෙසේ කීවෙමි:

''බායිගෙ බාලම පුතා... අනේ දෙවියනේ බුරිබායිවාච්චා මළා! බර්ච් ගහට නගින්න ගිහිං මළා! අනේ, අනේ! කුරුල්ලෙක් අල්ල ගන්ටයි ගහට නැග්ගෙ! ගහෙන් වැටිල මළා! වැටෙන කොට තාත්තා! කියල කෑගැහැව්වා!''

ඔහු මගේ ඒ බොරුවට ඇහුම් කන් දුන්නේද නැතිද යන්න මම නොදනිමි. එහෙත් තේ කෝප්පයකින් හිසට පහරක් ගසා ගත් සැටි නම් මම දුක්කෙමි. ඔහුගේ හිස පැලී ලේ ගලන්නට විය. කෝප්පයද කැඩිණ. යටි රැවුලේ රැවුල් ගස් උගුල්ලමින් ඔහු මහ හඬින් කෑගසමින් අඬන්නට විය. පසුව අපි දෙදෙනා නිහඬ වීමු. බායි දුක් වෙමින් පසු තැවිලි විය.

උවමනාවට වඩා බොරු ඇද බෑම නිසා බායියාගේ සිත තරමක් හෝ සැනසීමට ඉදිරිපත් වීමි. ''මුදලාලිගෙ පුතා මළත්, බංගලාවත්, ගබඩාවත්, අස්ස ඉස්තාලෙත් ගිනි ගෙන දැවී ගියත්, අස්සයොත් බල්ලාත් මැරී ගියත් සර්වබලධාරි අල්ලා ඔබතුමාට ආශීර්වාද කරාවි...'' යැයි මම සිනහ මුහුණින් කියා සිටියෙමි. බායි මා දෙස කෝපාන්විත බැල්මක් හෙළා අතක් වැනුවද, මම ඔහු සනසන අටියෙන් සැනසුම් බොරුවක් කීමට තීරණාත්මක ලෙස ඉදිරිපත් වීමි. ''බායි-බුවා මා ඔබට ඒ සියලු දුක්මුසු පුවත් යටපත් කරන සතුටු දයක ආරංචියකුත් ගෙනාවෙමි'' යි කීවෙමි.

''උඹගෙ සුබාරංචිය යකාට ගියාවෙ. උඹ මට ගෙනාව අනිත් ආරංචියත් කියපන්'' යැයි බායි කීය.

''ඔබේ මද්දුම දුවට අඬාල්-අපාට ලැබුණු පුතා හැම වටිනා වස්තුවකටම වඩා වටිනව!''

''මොනවා?'' යැයි කෑගැසූ බායිගේ ඇස් දෙවිට පණින්ට යන සැටියක් මට පෙණින. ''මොන අඬාල්-අපාද?'' යි ඇසූ හෙතෙම මොහොතක් නිහඬව සිට හදිසියෙන්ම මර හඬ දී කෑගසන්ට විය. ''මගේ දුව තවම කසාද බැඳල නැහැ නෙව!''

මම දෙළර සොළවා නිහඬවීමි.

''අපිත් පුදුමඋණා. ඒ උණාට සර්වබලධාරී අල්ලාගේ කැමැත්ත පරිදි විවාහ නොවූ තරුණියකට උණත් බබෙකු ලැබීමට ඉඩ තියනව. බායි-බුවා ඔබගේ මුනුබුරා කොතරම් ලස්සන ළමයෙක්ද?'' තරමක් නිහඬව සිට යටහත් ලෙස මෙසේද කීවෙමි: ''ඔබගේ අතවැසි බඬාලා දන්නවනේද? හරියට එයා වගේමයි. ඇරපු අතක් නැහැ...''

බායියට එය උසුලා සිටීමට නොහැකි විය. ඔහු සිහිසන් නැතිව බිම ඇද වැටිණ. මම කාලය නාස්ති නොකොට ආපසු ඇපල් වත්තට ගියෙමි. එවැනි පුවත් කීම නිසා ලැබිය යුත්තේ එක් කස පහරක් පමණක් නොවේ. මගේ උත්සාහය වූයේ එකද කස පහරක්වත් නොකා බේරීමටය.

මගේ පැමිණීමෙන් පසු සරිබායිද බංගලාවට ආවේ එක් ඇසකින් අහසද, අනික් ඇසින් මහ පොළවද බලමිනි. ඔහුගේ කබාය සැදෑලය වසා වැටී තිබිණ. ''තව අභාග්‍යයකට මූණ නොපෑවොත් ඒ ඇති'' යැයි මම සිතුවෙමි. බායිගෙන් ගැලවීම පිණිස මම සැඟවුණෙමි. බායිගේ බංගලාවේ පිරිස ඔහුගේ ඇඬීම අසා කිසියම් විපතක් වූයේ යැයි සිතා කලබල විය. ඔවුහුද

අඩා වැලපෙමින් හාම්පුතා හමුවීමට ඉදිරියට ගියාහ. සරිබායි අසු පිටින් බැස තම පවුලේ අයව වැළඳගනිමින් අඬන්නට විය. ඒ අතර දෙරටුව හැර ගෙන බායි පිළිගැනීමට ඔහුගේ බාල පුතා වන බුරිබායි සොටුපෙරමින් ඉදිරියට යමින් ''තාත්තේ'' යැයි කෑගැසීය. සරිබායි ගොළු ගැසී, ගල්ගැසී බලාගත්වනම සිටියේ ඔහු දවල් සිහිනයක් දකින්නේද, නැතිනම් සැබවින්ම මියගිය තම පුතා දකින්නේද් යන්න වටහා ගැනීමට බැරිවය. ගින්නට අසුවී දැවී ගිය බංගලාවද, නිරුපද්‍රව ඇත. අශ්වයෝද, දඬයම් බල්ලාද යහතින් සිටිති. ඇත්දත් වලින් නිමවූ මිට සහිත පිහියද එසේම පෙර තිබූ තැනම ඇත.

හැම දෙනෙක්ම මා සොයන්නට වූහ. එහෙත් මම අසුනොවන ලෙස සැඟවී ගත්තෙමි. පසුදා උදෑසන මා ඔහුට අසුවිය. මගේ අත් පා බැඳ බායි වෙත ගෙනයන ලදී. පහරින් වැළකී සිටීමට මා කළ සියල්ල නිෂ්ඵල විය. බායි කළ පළමු දෙය වූයේ කසයෙන් විසිවරක් මට පහර දීමයි. හති දමමින් සිටි බායි කට ඇද කරගනිමින් කෑගැසීය:

''තෝ බැල්ලිගෙ පුතා! මොටද තෝ බොරු කීවෙ?''

මම ඇඩුවෙමි. බොරුවට නොවේ වේදනාව උහුලාගත නොහැකි බැවිනි:

''මම මුදලාලිට වේලාසනින් කීවා නොවෙද මට ලෙඩක් තියන බව. අනේ බායි-බුවා (මට ඇඹින) ඉඳල හිටල මට බොරු කියැවෙනව (නැවත මට ඇඹින)! පොඩිකාලෙ ඉඳල මට ඔය ලෙඩේ තියනව. අප අතර ඔය බොරුකීමේ ලෙඩේ ගැන එකඟත්වයක් ඇතිවුණා මුදලාලිට මතක ඇති (නැවත මට ඇඹින).''

''ඉතින් උඹේ බොරු කීම ඔතනින් ඉවරද?''

''අපොයි නැහැ මුදලාලි...''

''ඉවර නැහැ! තෝ ඔය බොරු කියල ඉවර වෙනකොට මගේ පවුලයි, ගෙයයි විනාශ වේවි! වහාම බැහැපිය එළියට! තෝ මදවියෙක්! ආපහු තෝ මට මූණ ගැහෙන්ට විතරක් එපා. මේ බොරුකාරයාව එළවා දමාපල්ලා!''

මා ලිහා හැර ගෙවත්තෙන් එළවා දමන ලදී. මහ හඬින් කෑගසමින් හැඬූ මම, මට අයිති වැටුප් දෙන ලෙස ඉල්ලා සිටියෙමි. මට වියදම් වී තිබේයැයි කියමින් බායි මගෙන් කොපෙක් විසිදෙකක් අඩු කර ගෙන පණුවන් කෑ ඇපල් රාත්තල් හැත්තෑ දෙකක් පරණ ගෝනියක දමා මා වෙතට විසි කළේය... එයින් මම සතුටට පත්වුණෙමි. ඇපල් ගෝනියත් කරතබා ගෙන මම මහ මහට බැස්සෙමි.

## 9
## බැටළුවන් රැකබලා ගැනීම

නැවතත් මහ මගට බැස්සෙමි!..

නැවත තැනින් තැන යාම සහ රස්තියාදු වීමය!.. මගේ ඉරණම මා කොතැනට ගෙනයාවිද? මීළඟ නවාතැන කොතැනද?

මට ලැබුණු වැටුප වන ඇපල් මල්ලේ බර නිසා මම වෙහෙසට පත්වීමි. වැටුප් වශයෙන් පණුවන් කෑ ඇපල් මල්ල ලබා ගැනීම ගැන මම, මටම දෙස් තබාගතිමි. බායිට දහස් වරක් ශාප කළෙමි. ඉෂාන් එදා මට දුන් උපදෙස් සැබෑ බව අවබෝධ විය: ''සල්ලි! සල්ලි! කර ගහගෙන යන්ට උවමනාවක් නැහැ. සැහැල්ලුයි. සඟවා ගැනීමට පහසුයි...'' මේ මල්ල වීසිකර දමා නිදහස්වීමට මා කැමතිය. එසේ වුවද, මාසයක් තිස්සේ වැය කළ ශ්‍රමයට ලැබුණු වැටුප වීසිකර දැමීම සිතට දුකකි!

කඳු ගැට සහිත පාරක ගමන් කරන මට ස්ටෙප්ස් බිම්වල නැවුම් තණ පුසුඹ දැනේ. බැසයන හිරු අවරදිග අහස රත් පැහැයකින් ආලෝක කළේය. පෙරදිගින් අඳුර නැග එයි. තරමක් ඈත කුඩාරමක් දුටු මම වේගයෙන් එතැනට ගියෙමි. කුඩාරම අවට පාළුය. ලිප මත එල්ලා ඇති තඹ හැලිය හිස්ය. බල්ලන් එළු බැටළුවන් මෙහි නොවිය. මම දොරට තට්ටු කළෙමි. ''කවුද ඒ?'' කුඩාරම තුළින් හඬක් ඇසිණ. ''දෙවියන් එවාපු අමුත්තෙක්!'' යැයි මම කීවෙමි. කුඩාරමෙන් පිටතට ආ මිනිස්සු මගේ දෙපා සිට කේශාන්තය දක්වා විමැසිල්ලෙන් බලා මා සොරෙකැයි සිතූහ. එහෙත් ඔවුහු මට කුඩාරමට ඇතුළුවීමට ඉඩ දුන්හ. මම මල්ල ලිහා පොඩි එවුන්ට ඇපල් ගෙඩිය බැගින් දුන්නෙමි. ඔවුන් දැන් මා වෙත දක්වන්නේ යහපත් හැඟීමකි. පණුවන් කෑ ඇපල් මල්ලක් කරතබා ගෙන රටින් රට යාම හොරුන්ගේ වැඩ නොවේ. කුඩාරම හිමියා මට රොටියකින් අඩක් දුන්නේය. විඩා පත්වී සිටි මට කුසගිනි නොදැනුනද එය ගිලදැමුවෙමි. ඇපල් මල්ල හිසට තබා ගෙන නිදාගතිමි.

උදෑසන අවදි වී, සරිගාච් නගරයට යන කෙටි මඟ, කුඩාරම් හිමියාගෙන් අසා දැනගෙන ගමනට පිටත් වුණෙමි. දහවල් වන විට සරිගාචයට පැමිණි මා මහන්සිය නිසා බිම නොවැටී සිටීමට සමත්වූයේ යම්තමිනි. එදින පොළ දිනය විය. කඩපොළ නොයෙකුත් වෙළඳ බඩුවලින් පිරිලාය. මගේ ඇපල් ගෙඩි ටික විකුණාගැනීමට මා කොතරම් වෙහෙස වුවද වැඩි සාර් ඵකත්වයක් නොවිය.

''මෙන්න ගජ වාසියක්!'' යැයි කියමින් මම කෑගසන්නට වීමි. ඇපල් මල්ල මා කර පිට නොව පොළවේ තිබීම මැ මට ලොකු වාසියක් මෙන් දැනේ. ''දවල් බතට රොටි ඕනෑ නැහැ. මේ ඇපල් රොටිවලට වඩා ගුණයි, රසයි, ලාබයි. එන්න, එන්න ලාබෙට දෙනවා. පලතුරු වල ගුණ දන්නා අයට පමණක් මේවා විකුණනවා. ගුණැති, රසැති ඇපල් ලාබෙට දෙනවා!''

අමාරුවෙන් ඇපල් ගොඩ විකුණා දැමුවෙමි. දැන් මා අත රිදී කාසියකුත් තඹ කාසි හයකුත් ඇත. මෙය මා නොසිතූ තරම් විශාල මුදලකි!

සල්ලි අතේ තියෙන විට කඩ පොළේ ඇවිදීම සතුටට කරුණකි. තමන් කැමති ඕනෑම දෙයක් මිලදී ගත හැකිය. නාන බේසමක් විකුණන ගැටවරයෙක් සමග හෙට්ටු කළ මම අඩු ගණනකට එය ඉල්ලුවෙමි. ඔහු මට අසභ්‍ය බසින් බැන වැදුණේය. ලොම් සහිත කර පටියක් ඇති හිම කබායක් මිලදී ගැන්මට සිතූ මම, මා පමණක් නොව මගේ අනාගත දූ දරුවන් පවා

සැහවිය හැකි තරම් විශාල හිම කබායක් විකුණන්නෙකු සමග හෙට්වු කළෙමි. මම එය ඇහලා බැලුවෙමි. මට වඩා දිගින් හා පළලින් විශාලවූ ඒ කබාය මට කොහෙත්ම නොගැලපෙන බව මා මෙන්ම එය විකුණන මිනිසාද දැන සිටියේය. මා මිල අඩුකොට ඉල්වූ විට ඔහු මට බැණ වැදුණේය.

ඉන් පසු මා ගියේ සතුන් වෙළඳාම් කරන තැනටයි. මුස්ලිම් පල්ලියක දේව ධර්මය ඉගෙන ගන්නා සිසුවකුගේ තලප්පාවක් මෙන් වටකුරුවී ඇති අං සහිත බැටළුවකු දෙසට මා ගියේ ඌ බැලීමටම නොවේ. මා දක පුරුදු මුහුණක් මා ඉදිරියේ ඇති බව මට දැනිණ. මම සැලකිලිමත් ලෙස බැලුවෙමි. එක වැලකට බැටළුවන් කීප දෙනෙකු බැඳ ඇති ගාලක් අසල කොළුවෙක් සිටී. ඔහුගේ කය සතුන්ගේ සමින් කළ කබායකින් වැසී ඇත. ලොම් සහිත බැටළු හමින් කළ හිස්වැස්මකින් හිස වැසී ඇත. ඔහු අත සතුන් පාලනය කරන දණ්ඩකි. මගේ මිතුරන්ගෙන් එකෙකු හෝ එවැනි ඇඳුමක් අඳින්නේ නැත. එසේ වුවද, ඔහුගේ මුහුණ මා දක පුරුදුය. ඉදුණු ජම්බු ගෙඩියක්සේ රත් පැහැගත් ඔහුගේ මුහුණ දූලි වලින් පිරිලාය. එහෙත් ඔහුගේ ඇස් මා දෙස බලන්නේ බලා පොරොත්තු සහගතවය.

''අමාන්!'' යැයි කෑගැසූ මම ඔහු වෙත දුව ගියෙමි. ඔහු මටත් වඩා මහ හඬින් කෑගසමින් මා වෙත දුව ආවේය. අපි එකිනෙකා වැළඳ ගතිමු. මිතුරු ලීලාවෙන් එකිනෙකාගේ උරහිසට තට්ටු කරගනිමින් සැපදුක් විචාරමින්, කතා කරන්ට වූයෙමු. එද අප වෙන්වගියේ ලුහුබැඳ එන එඬේරුන්ගෙන් පණ බේරාගැනීම සඳහාය. අපෙන් පළි ගැනීමට ආ එවුන්ගෙන් ගැලවීමට අපි සමත්වීමුදැයි නොදන සිටියෙමු.

අමාන් පණ බේරා ගත්තේ යම්තමින් බව දැන ගන්ට ලැබිණි. ලුහුබැඳ ආ එඬේරුන් අමාන් අල්ලා ගැනීමට හොඳටම ළංවූ විට, එකෙකුගේ පය ලිස්සා බිම වැටුණු අතර අනිකා ඔහුගේ ඇඟෙහි හැපී විසිවී ගොස් බිම වැතිරිණ. අමාන් එම අවස්ථාවෙන් ප්‍රයෝජන ගෙන වේගයෙන් දිව ගොස් ගැලවී ගත්තේය. පසුව ගමක් පාසා ඇවිදින්නට වූ අමාන් නැවත එඬේරුන්ට අසුවෙතැයි බියෙන් පසුවිය. අප සමග මළ සිරුර සේදූ දෙම්ලෙ-පූජකයා ගැන මා මෙන්ම ඔහුද කිසිවක් නොදනී. ඇත්ත කියමු නම් ඔහු ගැන සෙවීමට මා මෙන්ම අමාන්ද උත්සාහ දරා නැත. ඔහුට ගෙදර යාමට සිත් වුවද හිස් අතින් යාමට බියවිය. අමාන් චිම්කෙන්ට්හි තම මාමා කෙනෙකු සොයා ගිය නමුදු ඔහු මාස දෙකකට පෙර මිය ගිය බව දැනගන්නට ලැබිණ. සතුන් ඇතිකරන පොහොසත් බායි කෙනෙකු යටතේ සතුන් බැලීමේ රැකියාවක් ඔහු ලබා ගත්තේය. ඔහු දැන් සතුටිනි. බඩගිනි නිවා ගැනීමට ඔහුට ආහාර ලැබේ. ඇඳුම්ද ලැබී ඇත. අවුරුද්දක් එඬේරෙකු මෙන් වැඩකළ පසු වැටුප් වශයෙන් ඔහුට බැටළුවන් දෙදෙනෙකුද එළුවකුද ලැබෙනු ඇත. බැටළුවන් පැටව් ගැසුවොත් අමාන් සතුන් අයිතිකාරයෙකු බවට පත්වනු නොඅනුමානය. දැන් ඔහු සතුන් තෂ්කෙන්ට් දක්වා දක්කාගෙන යමින් සිටී. එහිදී ඔහුට පියා හමුවනු ඇත. අද සරීගාච්හි කඩ පොළ පැවැත්වෙන දිනයයි. මෙහිදී සතුන්ට හොඳ මිලක් ලබාගැනීමට පුළුවන් වුවහොත් තෂ්කෙන්ට් දක්වා සතුන් දක්කා ගෙන යාමට සිදුනොවේ.

මම අමාන්ට ඊර්ෂ්‍යා කළෙමි. ඔහුට වාසනාව උදව් ඇත. එය මගේ පණුවන් කෑ ඇපල් සමග කෙසේනම් සම කරන්ටද? මම මගේ ඇපල් ගෙඩි ගැන ඔහුට නොකීවෙමි. මා අතැති මුදල් පමණක් ඔහුට පෙන්වීමි. මගේ සල්ලි වලින් මා කාබී සෙල්ලම් කළ බවද, නැතිනම් මට බැටළුවන් පවා මිළදී ගත හැකි බවද මම කීවෙමි. කෙසේ වුවද, ඔහුට ආඩම්බරවීමට මම ඉඩ නොතැබුවෙමි. අමාන්ගේ රැකියාව මගේ සිතට අල්ලන බවත් තෂ්කෙන්ට් නුවරට යාමට

දැන් කාලවේලාව පැමිණ තිබෙන බවත් මම ඔහුට කියා සිටියෙමි. සතුන් අයිතිකාර බායිට මා ගැන වචනයක් කියා මට ඔහු යටතේ රැකියාවක් ලබා දෙන ලෙස මම අමාන් ගෙන් ඉල්ලීමක් කළෙමි. මගේ ඉල්ලීම නිසා අමාන් සතුටුවිය. පළමුවැන්න: අපේ හමුවීම නිසා ඔහු සතුටුවීම, අප දෙදෙනා එකට වැඩ කිරීම සතුටට හේතුවීම. දෙවැන්න: මා වෙනුවෙන් මුදලාලිට කතා කිරීමට ඔහුට සිදුවී ඇති බැවින් ඔහු ප්‍රීතිවීම.

"හොඳයි! අපි කොක්-ටෙරක් දක්වා ගොස් ඉන්පසු මම මුදලාලිට උඹ ගැන කියන්නම්!" යැයි හේ කීවේ නළල රැලි ගන්වමිනි.

එහෙත් ඔහුට මා වෙනුවෙන් එම ඉල්ලීම ඉදිරිපත් කිරීමට පවා සිදු නොවීය. සතුන් බලා ගැනීමට මම අමාන්ට සවස් වන තුරු උදව්වීමි. එද සරිගාව්හි කඩ පොළේ වැඩි මිළට එළුවන් විකුණා දැමීමට අමාන්ගේ හාම්පුතාට පුළුවන් විය. එහෙත් බැටළුවන් හැත්තෑතුන් දෙනෙකු ඉතිරිවිය. හවස හාම්පුතා තම අසු මත හිඳගෙන අමාන් අමතා මෙසේ කීය:

"උඹේ යාළුවා හොඳ කොල්ලෙක්. ඉතිරි වී ඇති සතුන්ගේ ගණනත් එතරම් ලොකු නැහැ. හෙට උදේ එළිය වැටෙන කොට උඹලා දෙන්නාම ඔය බැටළුවන්ව කොක්-ටෙරක් කඩ පොළට ගෙනෙල්ලා. මම ඉදිරියෙන් යන්නම්."

අපි සතුටු සිතින් එකඟවීමු. දැත් පපුව මත තබා බායිට ආචාර කළෙමු. ඔහු අසුට කස පහරක් දුන් විගස ඌ දුවන්නට විය. බැටළු රැළ අසල මඩුවට දක්කා ගෙන ගොස් දෙර වසා දමා, රාත්‍රි ආහාර ගෙන විවේක ගතිමු. හඳ එළියෙන් මහ ආලෝකමත් වූ පසු බැටළු කොක්-ටෙරක් දක්වා දක්කා ගෙන යාම ඇරඹීමු.

උරුහන් බාමින් හා ශබ්ද කරමින් බැටළු රැළ දක්කාගෙන යන්නට වූ අප ඉදිරියේ ඇත්තේ අසීරු ගමනක් බව මට වැටහුනේ හැතැප්මක් පමණ දුර ගිය පසුය. බැටළුවකු වගේ මෝඩයයි කියමින් කෙනෙකුට බැණ වැදීම අපේ පුරුද්දකි. එහෙත් ඇත්ත වශයෙන්ම බැටළුවන් තරම් මෝඩ මිනිසුන් නැති බව මට අවබෝධ වුණේ දැන්ය. බැටළුවාගේ මෝඩකම හා සමකළ හැකි තවත් දෙයක් තිබේනම් එය මුරණ්ඩුකම පමණකි. මෝඩකම අතින් බැටළුවා ලෝකයේ පළමුවැනි තැන දරයි. ඒ මදිවට මුරණ්ඩු කම අතිනුත් ඌ පළමුවැනි තැන ගැනීම උගේ ඇට්ටර ගතිය කියාපායි. මින් එකක් පමණක් වුව ඌට හොඳටම සෑහේ. බැටළුවා මෙලොව පහළවූ දවස—ඌ පළමුව තනිව සිටියේයැයි සිතිය හැක—ඌ ගැන කිසිවකු සැලකිලිමත් නොවූවා විය හැක. එද සිට අද දක්වාත් එම තත්ත්වය එසේම පවතී. බැටළුවාත් මිනිසාත් තනිව සිටින විට, මිනිසාට ඌ මැඩ ජයගන්ට පුළුවන. බැටළු රැළක් වූ විට උන් නියම යක් පැටවුන් නොව යකුන් බවට පෙරළේ. යකුන්ගේ නායක සාතන්ගේ හිස උඩ බැටළු අං දෙකක් පැළවී ඇති හේතුව දැන් මට අවබෝධවියැයි කිව හැක.

බැටළුවා මැඩ ජයගත හැකි සතා—ඇත්ත වශයෙන්ම මිනිසා නොවේ—එළුවාය. මුරණ්ඩුකම අතින් ඌ බැටළුවා පරදවයි. බැටළුවා එළුවාට යටත් වන්නේ පියාට කීකරු වන පුතකු මෙනි. බැටළුවා තම බැටළු තාත්තා හොඳහැටි දන්නේ වුවද, ඔහුට කීකරු නොවේ. එළුවන් නැති බැටළු රැළ ඕනෑම තැනකට යයි. එළුවන් නැති බැටළු රැළක් දක්කාගෙන යාමට නම් බූරුවකු පිට නැඟී රැළ ඉදිරියට ගොස් එළුවකු මෙන් "උම්බෑ! උම්බෑ!" කියා හඬ නැගිය යුතුය. අප ළඟ එළුවන් හෝ බූරුවන් හෝ නැත. එපමණක් නොව, මගේ අත්දැකීම අනුව මා "උම්බෑ! උම්බෑ!" කියා හඬ නැගුවද අතිශයින්ම මෝඩ බැටළුවා පවා රැවටීමට අපොහොසත් විය.

කෙසේවුවද, දෙවි පිහිටෙන් අපි ගමන් ඇරඹීමු. හඳ බබලයි. රැය අතිශයින්ම අලංකාරය.

කඳු ගැට වලින් යුත් ස්ටෙප්ස් බිම විහිදී ඇත. හඳ රැස් නිසා කඳු ගැට රිදී මෙන් දිලිසේ. සෙවණැලි රත් පැහැයක් ගෙන ඇත. සඳ රන්පාටය, වටකුරුය,පාවෙන වළාකුළු වලට මුවාවී ඇ අප දෙස බලන්නීය. සුළං හමා යයි. තණ පුසුඹ ප්‍රණිත බවක් ගෙනදෙයි. ඒ සුන්දර රාත්‍රිය බැටළුවන් මත බලපා ඇති බවක් පෙනේ. උන් නිහඬව රළාටවී ගමන් කරති. ඉඳ හිටහඬක් නැගුවද,එය විරුද්ධත්වය ප්‍රකාශ කිරීමට නොව සිය එකඟත්වය කියා සිටීමටය.දැන් අප යන්නේ දුම්රිය මගක් අසලින්ය. තැනින් තැන විදුලි කණුද ඇත. මට ගී ගැයීමට සිත්විය. උස් හඬින් ගීයක් ගායනා කළෙමි.

''හරි අගේට සින්දු කියනව. හොඳ සින්දුවක් අහපු කාලයක්වත් මතක නැහැ...'' යැයි අමාන් කීය.

අමාන්ගේ ප්‍රශංසාව නිසා ප්‍රබෝධමත් වූ මම වඩ වඩාත් උස් හඬින් ගී ගයන්නට වීමි. මගේ ගීතමය හඬ සැමතැන පැතිර ගොස් අහසට පවා ඇසේයැයි මට දැනේ. මා මොනවා ගැන ගායනා කළේදැයි මම හරිහැටි නොදනිමි. රාත්‍රිය, පුන් සඳ, ඈත මහ, දුම්රිය මග, සියළු ලෞකික මාර්ග අවසානයේදී එකට එක්වන්නාක් මෙන්ම රිදී පට දෙකක් මෙන් බොහෝ දුර ගොස් එක්වන මාර්ග ආදිය ගැන මම ගායනය කළෙමි...

ඒ අතර බැටළු රළ දුම්රිය පීලි දිවෙන උස් බිමට වැදිණ. පෙර මෙන්ම එළුවන් නැති පාඩුව අපට දැනේ. දුම්රිය පාර අසල වූ ගමක් අපි දුටුවෙමු. ගම හරහා ඇති ගුරු පාර ඔස්සේ අපි බැටළු රළ දක්කුවෙමු. නැවත අපි දුම්රිය පාරට වැටුණෙමු. අමාන් දුම්රිය පාර දෙස බැලුවේ සිහිනයක් දකින්නාක් මෙනි:

''කෝච්චියෙන් යන එක හරිම සැපක්. මටත් කෝච්චියක නැගල ඈත, ඈත යන්ට ඇත්නම්...''

''හරිම අපූරු වැඩේ. සල්ලි ගොඩක් තියෙනවනම්. කවුන්චි, තුර්කිස්තාන්, චිනාස්, මස්කොප් (මොස්කව්) යන්ට ඇත්නම්. කිසිම කෙනෙක් එකම වචනයක්වත් කියන්නෙ නැහැ. මෙහෙම කරපන්. අර විධියට කරන්ට එපා... ඔහේ යන එකයි තියෙන්නෙ...'' යැයි මම කීවෙමි.

එවිටම වාගේ දුම්රියක් එන හඬ ඇසින. ඈත විශාල වටකුරු ඇස් දෙකක් මෙන් පහන් දෙකක් අඳුර බිඳ ගෙන දුම්රිය පාර දිගේ වේගයෙන් දුව එයි. මාත් අමානුත් හැම දෙයක්ම අමතක කරමින් වශී වූවාක් මෙන් දුම්රිය දෙස බලා සිටියෙමු. අපේ සිහිනය දැන් දැන් සැබෑවේයැයි අපි සිතුවෙමු. අප ළඟින් වේගයෙන් දුවන දුම්රියක් පවා අප වැන්නවුන්ට දැකීමට ලැබෙන්නේ කලාතුරකිනි. දුම්රිය, මගීන් ගෙනයන්නක් නොවිය. බඩු පටවාගෙන යන දුම්රියක් වූ එහි වාෂ්ප බලෙන් ක්‍රියාකරන යන්ත්‍ර දෙකක් විය. දුම්රිය පෙට්ටි විශාල ගණනකි, අවසානයක් නැතිවාක් මෙනි.

වාෂ්ප යන්ත්‍රය අප අසලින් දිව ගියේ දෙකන් බිහිරි කරවන මහා හඬක් නගමිනි.ඉන් පිටවූ හඬ දස ලක්ෂයක් හරකුන් තම ස්වාමියාට එදිරිව හිටි හැටියේ කැරලි ගැසූ බව පළකරන මහා ඝෝෂාවකට සමානය. දුම්රිය යන්ත්‍ර වල හඬ නිසා මගේත් අමාන්ගේත්, හිස් තුළද හිත්වලද ආශාවක් උපනි. බැටළුවෝද හඬ නිසා බියපත්වූහ. ලෝකාන්තිමය ළංවී ඇතැයි සිතූ සමහර බැටළුවෝ අසල වැටවලට හේත්තුවී සිටියහ, සමහර එවුන් බළලුන් මෙන් ගස්වලට නැග ගැනීමට වැර දරා නැවත ආපසු බිමට වැටුණහ. බළලුන් මෙන් තවත් සමහර බැටළුවෝ ආපසු දුවන්නට වූහ. ඉතිරි එවුන් කිසිවක් නොසිතා දුම්රිය මග හරහා යාමට සූදානම් වූ නමුදු

වාසනාවකට මෙන් නැවත පස්සට පැන ගත්හ. සාතන්ගේ ඇස් මෙන් රතු පාට සංඥ පහන් සහිත දුම්රිය හූ හඬ නගමින්, රෝද ගැටෙන ශබ්දය පිටකරමින්, නද දෙමින් අප පසුකර වේගයෙන් දුව ගිය අතර බැටළුවෝ අප සමග හැංගි මුත්තන් කෙළින්නට වූහ. බැටළු රැළ දැන් පෙනෙන්නට නැත.

ලිපකින් පිටවූ අළුමෙන් දූලි ඉහළ නැග පැතිර යයි. බැටළුවන්ගේ දුබල හඬ ඇසේ. අපේ බැටළු රැළට අයත් බැටළුවන් කිපදෙනෙක් අසල වැටකට හේත්තුවී උන්හ. අපට ඉතිරිව ඇත්තේ මෙපමණකි.

මහත් බියකින් යුතුව අපි දැන් බැටළුවන් සොයන්නට වීමු. කළුවරේ ඒ මේ අත පැන දුවන විට මගේ කකුලක බැටළුවෙක් හැප්පිණ. මම ඌ ඇදගෙන ගොස් රැළට දැමීමි.

"තොපට මක්ක වෙලාද!" යි මහ හඬින් බැටළුවන් ඇමතූ අමාන් මේ වර මගේ ඇගේ හැප්පිණ. "කොහෙද බැටළුවෝ?" යැයි අපි දෙදෙනා එකිනෙකාගෙන් එකවර ඇසීමු.

අමාන් මා දෙස කෝපාන්විත බැල්මක් හෙළීය. ඔහු, තම ඉනවටා ඔතා තිබුණු කඹයක් ගෙන, අපට සොයාගත හැකිවූ බැටළුවන් බැඳ දැම්මේය. ඉන් පසු අපි දෙදෙනා ගම පුරා දුවමින් බැටළුවන් සොයන්නට වීමු. සමහර මැටි වැටවල් ගැලවී වැටී තිබිණ. බැටළුවෝ කඳුරට එළුවන් මෙන් වැටවල්වලට උඩින් පැන ගොස් ඇත. මුර බල්ලන්ට නොබියට අපද වැටවල් උඩින් පනිමින් බැටළුවන් සෙව්වේ, පිදුරු ගොඩකට වැටුණු ඉඳිකටුවක් සොයන්නාක් මෙනි. පැය තුනක් තිස්සේ මෙසේ ගෙයක් පාසා යමින් බැටළුවන් සෙවූ අපට එක් ගෙවත්තකදී බැටළුවන් තිදෙනෙකුද, තවත් වැටක් අසල බැටළුවන් දෙදෙනෙකුද සොයා ගැනීමට පුළුවන් විය. පාළු ගෙයක් අසල බැටළුවන් දස දෙනෙකුද නොයෙක් තැන්වල තවත් කිපදෙනෙකුද සොයා ගත හැකි විය. අත් පා සෙලවිය නොහැකි තරම් අප මහන්සි වූ බැවින් තරමක් විවේක ගෙන බැටළුවන් ගැන බැලීමු. හත්දෙනෙක් අඩුය. අමාන් මා දෙස බැලීය. මම අමාන් දෙස බැලීමි. ඔහුගේ ඇස් මැටි බිත්තියක ඔබා ඇති වීදුරු කැට මෙන් දිලිසෙයි.

"දැන් ඉතින් මොනවා කරන්නද?" යි අමාන් ඇසීය.

මා නොහැඬුවා පමණකි.

"බැටළුවන් හත් දෙනෙකුගේ ණය ගෙවන්න අප දෙදෙනා අවුරුදු දෙකක් වැඩ කළත් මදි!.."

"දෙදෙනාම ගිහිං සොයමු."

එළිය වැටිණ. බැටළු අසූචි දුටු අපි ඒ මග සලකුණු අනුව ගියෙමු. කුඩා දිය පාරක් අසල සිටි බැටළුවන් දෙදෙනෙකු සොයා ගත්තෙමු. ඉතිරි පස් දෙනා සොයා ගැනීමට නොහැකිවිය. කොක්-ටෙරක් කඩ පොළට යාමටද සෑහෙන කාලයක් ගතවේ. අයිතිකාර බායියා අප එනතුරු එහි බලා සිටී.

අතර මගදී රැළෙන් ඈත් වූ බැටළුවෙක් "උම්බෑ!" හඬක් දී ඇස් උඩුකුරු කොට ලෙඩ ගතියක් පෑවේය. අප ඌ රැළට එළවීමට ගත් මහන්සිය නිෂ්ඵල විය. ඌ කොර ගසන්නට විය.

"ඒයි හාදයා!" යැයි අප පසුකර යන කසාක් ජාතික අසරුවෙක් අප අමතා කෑගැසීය. "උඹල බැටළුවා ගැන ප්‍රවේසම් වෙයල්ලා. නැතිනම් ඌ ඉක්මනින් පැටව් ගහවි."

පළමුව අපි එය විශ්වාස නොකළෙමු. දුම්රිය හඬට බියවූ එක් බැටළු දෙනකට වේලාවට පෙර විලිරුදුව හැදිණ. බැටළු දෙනගේ ඇස් උඩුකුරුවී ගොස් ඇය බිම වැතිර ගෙන හති දමන්ට පටන් ගත්තෙන් අනිකුත් බැටළුවන්ගෙන් ඇය වෙන් කොට අපි දන්නා විදියට පැටවා

පිළිගැනීමට සූදානම් වීමු. ඌ විලි වේදනාවෙන් කෑගසන විට අපි දුක් වීමු. අවසානයේදී පැටවා මෙලොව එළිය දුටුවෙන් අපි ඌ මව වෙත ළං කළෙමු. බැටළු මව තම දරුවා ලෙවකෑවාය. අපටද ඒ මොලකැටි පැටවා අතින් ගෙන සුරතල් කිරීමට පවා සිත් විණ. පවුල් හාදකම්වලට කාල වේලාවක් නැතිය. කඩ පොළට අප සේන්දු වන විට සවස් වීමට ඉඩ ඇති බැවිනි.

අළුත උපන් බැටළු පැටවා ගෙනයාමටද අපට සිදුවී ඇති බැවින් අප ඌ ඉන බඳින ලේන්සුවෙන් ඔතා ගෙන පමාවී හෝ නැවත ගමනට පිටත් වීමු. සතුන් රළ පාලනය කිරීම ලෙහෙසි විය. බැටළු මව දූන් අමුතු පණක් ලැබුවාක් මෙන් බැටළු පැටවා පස්සේ දුව යයි. අනිකුත් බැටළුවෝ ඈ පස්සේ දුවති. දූන් බැටළු රළට නායකයෙක් උවමනා නැත. එළුවා බැටළුවන් පරදවා ජයගන්නේ කවර හේතුවක් නිසාද යන්න දූන් අපි දනිමු. යම්කිසි සතෙකු විශ්වාසවත් ලෙස ඉදිරියෙන් යන්නේ නම් බැටළුවෝ ප්‍රපාතයට වුවද ඌ පිටුපසින් ගමන් කරනු ඇත.

බැටළු දෙන තම පැටියා නොදුටු විට ඈ දිරිගැන්වීම පිණිස අපි වරින් වර පැටියා මෙන් කෑගැසුවෙමු. අපට ඌ මෙන් හඬ නගන්ට බැරිය. එහෙත් ඌටද තවම ඒ කාරිය හරිහැටි කිරීමට තරම් පුරුද්දක් නැත. මේ විදියට අපට බැටළු රළ ගඟ දක්වා ගෙනයාමට හැකි විය.

අපට ගඟ හරහා යාමට සිදුවන බව අමාන් කල් තබා දන්වා සිටියද පසුගිය රාත්‍රියේ ඇතිවූ අභාග්‍යය නිසා ඒ ගැන කල්පනා නොවිණ. දූන් අපි කළ යුත්තේ කුමක්ද යන්න නොදැන ලතැවීමු. මේ මෝඩ සතුන් කැමැත්තෙන් ගඟ හරහා පීනන්නට ඉදිරිපත් නොවේ. හැම එකෙකුවම අතින් ගෙන ගඟ හරහා යාමද ලෙහෙසි නැත. ගඟ පළල් නොවූවද කුණාටු නිසා දිය කඳ කිපී ඇත. මෙවැනි අවස්ථාවක ගඟ සමග සෙල්ලම් කිරීම නුවණට හුරු නොවේ. අපි නැවතත් මාතෘ ආදරය ප්‍රයෝජනයට ගැනීමට තීරණය කළෙමු. අමාන් ඇඳුම් උණා පැටියත් රැගෙන "උම්බෑ!" හඬ නගමින් ගඟ හරහා පීනන්නට විය. බැසයන ජලය නගන හඬද ඔහුට ආධාර විය. ඇරත් අමාන් කොතරම් අපූරු ලෙස "උම්බෑ!" ගෑවේදයත්, මා බැටළුවකුවූ සිටියේ නම් මට පවා ඔහු විශ්වාස කිරීමට සිදු වනු ඇත. මොහොතක් ගල්ගැසී සිටි බැටළු මව බියවූ සැටියක් පෙන්වූවද පසුව මාතෘ ප්‍රේමය නිසා උපන් ධෛර්යය ඇත්තී, අමාන් ලුහුබඳිමින් ගඟ හරහා පීනන්ට වූවාය. අනිකුත් බැටළුවෝද ඈ අනුකරණය කළෝය.බියගුළු බැටළුවන් ටික දෙනෙකු ගඟට තල්ලු කර දැමීමට මට සිදුවිය. මේ විදියට බැටළු රළම ගඟට බැස පීනති. කිරි හැළියකට වැටුණු මී පැටවුන් මෙන් ඔළු උඩට හරහා ගෙන ඔවුහු ගඟ හරහා යති. සමහර අවස්ථාවකදී දිය පහරකට අසුව ගසාගෙන යන බැටළුවකුව අපි බේරා ගත්තෙමු. අවසානයේදී හානි නොලබා බැටළු රළ මෙගොඩ ගෙන ඒමට අපට හැකිවිය.

අපි තවත් දුර ගියෙමු. හිරු නැග එයි. අප දන්නා කොක්-ටෙරක්වල දර්ශනය අප ඉදිරියේය.

බැටළුවෝ විඩාපත්වූ සිටිති. උන්ගේ ඉළ ඇට පෑදී ඇත්තේ බඩගින්න නිසාය. අපටද හොඳටම මහන්සිය, බඩගිනිය. එහෙත් පළමුවෙන් බැටළුවන්ට ආහාර දිය යුතුය. විකුණා දැමීමට නියමවූ ඇත්තේ අප නොව ඔවුන් බැවිනි. කඩපොළට ගෙනයාමට පෙර ඔවුන්ට තණ කොළ ටිකක් හෝ සොයා දිය යුතු මැයි. පිරුණු බඩ ගෙඩි ඇතිව ඔවුන් කඩ පොළට ගෙනගියොත් පමණකි, විකුණා දැමීමට පුළුවන් වන්නේ. වල් තණ කොළ බහුල පාළු පිටියක් දැක සතුන් එහි ගෙන ගොස් තණ කැවීමු. පසුව අපි අසල තැනකටවී ගිමන් හැරියෙමු. කබා ගලවා බිම එළා වැතිරගෙන,නැතිවූ බැටළුවන් ගැන මොනවා කියන්ටදැයි අපි කල්පනා කරන්නට

වීමු. පැහැදිලිව කල්පනා කිරීම පිණිස නෙත් වසා ගත් අප නැවත අවදිවූයේ මහ හඬින් බැණ වදින මිනිසෙකුගේ ඝෝෂාව නිසාය.

අප ඉදිරියේ රත් පැහැති අශ්වයෙකි. ඌ පිට තරබාරු අසරුවෙක් කසයක් අතින් රැගෙන සිටී. අමාන් නැගී සිටිත්ම අසරුවා අතැති කසය ඔහුගේ පිට හරහා දෙතුන් වරක් දිව ගියේය. මා පසුව අවදි උණද ඔහු ගැසූ කස පහර වළකාලමින් පැන්නේය. තරබාරු අසරුවා මහ හඬින් කෑ ගසමින් බැණ වදී. ඔහුගේ සුදු පැහැති රැවුළ කෝපය නිසා වෙව්ලයි. ඔහුගේ නහය පුළුන් පුරවා මසන ලද හිම කබායකට ඇල්ලූ බොත්තමක් මෙනි. ඒ ලොකු ඉඩම් හිමියකු වන සුප්‍රසිද්ධ මුක්කන් අසීස් බව පසුව අපි දැනගතිමු. සිදුවූ දෙය තේරුම් ගැනීමට අප සමත්වූයේ පසුවය. අප නිදගත් පසු බැටළුවෝ මුක්කන් අසීස්ගේ කපු වත්තට වැදී රිසිසේ ළපටි කපු කොළ කා ඇති බව අපි දැන ගතිමු... බැණුම් අසමින් දුවගිය අපි තව නොබෝ වේලාවකින් ඇතිවිය හැකි අළුත් ආපදාවය ගැන සිතමින් බැටළුවන් නැවත රංචු ගැස්සුවෙමු. කපු අස්වැන්නෙන් සෑහෙන කොටසක් කා දැමීමට තරම් බැටළුවෝ හපන්නු වූහ. අපි බැටළුවන් එකතු කළෙමු. එවිට ඉඩම් හිමි මුක්කන් අසීස් බැටළුවන් තම බංගලාවට දක්කාගෙන එන ලෙස තම අඳ ගොවීන්ට අණ කළේය.

අපි ඔහුට වදිමින් සෑදලයේ පා පටිය අල්ලා ගත්තෙමු:

''අනේ බායි අපට අනුකම්පා කරන්න. අපි දෙමාපියන් නැති අනාථ කොල්ලො. අපට පාන් කෑල්ලක් හොයා ගන්ට ඉඩ දෙන්න. ඔබතුමාට වඳිනව...''

බායි අපට නැවතත් බැණ වැදී කසයෙන් පහර බැගින් අපට ගසා අසු එළවන්නට විය. අපි ඔහු පිටුපසින් දුවන්නට වීමු. අමාන් බැටළු පැටවා වඩාගෙන දුවයි. සිය නිවෙස වෙත ගිය බායි ගමන් වේගය අඩු කරත්ම අපි ඔහුට ළං වී නැවතත් කන්නලව් කළෙමු.

''අනේ බායි! අද කඩ පොළ පවත්වන දවස. අපේ හාම්පුතා අපි එනතුරු බලා ඉන්නවා. ඔබතුමා එයාව දන්නවා ඇති. අපි බැටළුවන් ගෙනියන්නේ නැතිනම් එයා අපව මරා දමාවි!..''

බායි අප දෙස බැලුවේය:

''කව්ද බොලව් තොපේ හාම්පුතා?''

''කරහොජබායි. අල්ලාගේ නාමෙට අපට බැටළුවො දෙන්න...''

බායි තරමක් මෙල්ලවූ සැටියකි.

''හොඳයි මම උඹලෑ හාම්පුතා සමග කතා කරන්නම්...'' ඔහු කෙළ ගැසීය. ''එයාට කියාපියව්...'' ඔහු නැවත කෙළ ගැසීය. ''උඹලට සෑහෙන්ට දඬුවම් කරන්ට කියල. මම අද පොළට එනව. මේතරම් මහන්සියෙන් දියුණු කරන වස්තුව නිවයින් වන තොපි විනාශ කළ හැටි මම එයාට කියන්නම්. ඔය විදියට තොපි කරහොජ්ගෙ බැටළුවන්වත් විනාශ කරල ඇති!'' අපි බයින් වෙව්ලන්නට වීමු. ඔහු අපට වුණු දේ අකුරටම කියා සිටි බැවිනි. ඔහු නැවත බැණ වදින්ට විය. ''අරගන පලයව් බැටළු රැළ කඩ පොළට!!! දනටම දවල් වෙලා. බැල්ලිගෙ පුත්තු මහ දවල් පිට්ටනිවලට වෙලා නිද ගන්නව!'' නැවතත් ඔහු කසය අතට ගත්තේය. මේ වර අප දෙදෙනාම ගුටි කා පළපුරුදු ඇති නිසා ඔහු කසය ඔසවන්නට පෙර අපි ඈත් වීමු.

සර්වබලධාරී අල්ලාට කෘතඥතාවය දක්වූ අපි බැටළු රැළ කඩ පොළට දක්කා ගෙන ගියෙමු.

පුපුරා යන තරම් කෝපයෙන් සිටි අපේ හාම්පුතා අපට මුණ ගැසුනේය. ඔහු අපට අසභ්‍ය වචන වලින් බැණවැදුණු අතර අපි ඒවා සියල්ල ඉවසිලිමත්ව අසා ගෙන සිටියෙමු. බැටළුවන්

පස් දෙනෙකු අඩුබව දැනගත් විට මොනවාවේදැයි යන භයින් සිටින අපේ හදවත් බර්ච් ගසක දළු කොළ මෙන් සැලෙයි. බැටළුවන් දසදෙනා බැගින් බැඳ දමන ලෙස අපට බායි අණ කළේය. බැටළුවන් දහය බැගින් කාණ්ඩ තුනක් බැඳීමට අපි සමත් වීමු. හතරවැනි කාණ්ඩය බැඳීමට මම සූදානම් වන විට අමාන් මට වැඩිපුර බැටළුවකු දී ඇසක් අඩවන් කොට සංඥා කළේය. මට කාරණය අවබෝධ විය. මම බැටළුවන් එකළොස් දෙනෙකු බැඳ දැමූ විගස අමාන් මට බැණ වදිමින් කෑගසන්ට විය:

''මීමැස්මුරකාර පල් මෝඩයා! දහයක් ගණන් කරන්ට දන්නේ නැහැ. බලන්න! බායි මේකා දහයට එකොළහක් තියල බඳිනවා. උඹ හන්ද අපේ හාම්පුතාට අලාබ වෙන්ට පුළුවන්. මෝඩයා!''

අපප දුන් ඇම බායියා කෑවේය. මා අත තිබූ ලනුවට බැටළුවන් එකොළොස් දෙනෙකු අසුවී ඇති බව ඔහු සැණෙකින් ගනන් කොට දැනගන මට බැණ වදිමින් අනිත් කොටස්වල බැටළුවන් ගණන් කිරීම පිණිස වෙන අතකට හැරුනේය. එවිට අමාන් මගේ අතින් ඇද්දේය. අපි දෙදෙනා වෙනින් තැනකට පැන මොහොතකින් රැස් කකා සිටි සෙනග අතරට වැදුනෙමු!

10

# පැනයාම

ගැලවීම පිණිස පැනදුවන විට ජනකායක් අතරට වැද සැඟවීම තරම් හොඳ උපායක් තවත් නැත. වංකගිරියකටත් අඳුරු උමගකටත් වැදී සැඟවෙනවාට වඩා කඩපොළට රුස්වී සිටින ජනතාව අතරට වැදී සැඟවීම විශ්වාසදයකය. මා මෙසේ සිතන්නේ මිනිසුන් එකිනෙකාට සමාන නිසාම පමණක් නොවේ, පොදු ජනතාව මුළු මහත් ශක්තියම යොදා සැඟවීමට ආධාර දෙන නිසාද නොවේ. පැන දුවන කෙනෙකු අල්ලා ඔහු පැන දුවන්නේ ඇයිද යන්න සොයා බැලීමටත් පෙර, ඔහු මරා අවමංගල්‍ය කටයුතු කිරීමට සාමාන්‍ය මිනිස්සු ඉදිරිපත් වන බව කිව යුතුය. පැන දුවන පුද්ගලයාට දඬුවම් දිය යුතුද ලුහුබඳින්නාට දඬුවම් දිය යුතුද යන්න ගැනඹවුහු සිතා නොබලති. පිරිසක් අතරට වදින මිනිසාට කරදර බොහෝය. කැකෝ ගැසීම, තෙරපීම, ආදියය. ඔහුට සමාන මිනිසුන් සිටීම නිසා ඔහු ලෙහෙසියෙන් අල්ලා ගත හැකිය. නොඑසේනම් වැඩකට නැති කාලකණ්ණින් රාශියක් කඩ පොළට එන්නේ ඇයි?.. ඔබ ලුහුබැඳ එන විට පිරිසකට වැදී සැඟවීම නොව, පැන දුවන්නා වෙනත් අතකට පැන දුවන බව ඔබේ අසල් වැසියාට ඒත්තු ගැන්වීම නුවණට හුරුය. එවිට පිරිස ඔහු සොයා ලුහුබඳිනු ඇත.

පිරිසකට වදින පැන දුවන්නා රළක සිටින බැටළුවකුට සමානයැයි කීම සැබෑය. සර්වබලධාරි අල්ලා ඔහුට මෝඩකම නැමති ගුණය යම්තමින් හෝ ප්‍රදනය කර තිබේනම්, ඔහුට දත් ඒවා මිරිකා හැර දැමීමට අවස්ථාවක් ඇතිවෙයි.

පිරිසකට වැදෙන මිනිසා අන්ධයෙකුට මඳක් සමානය. පිටස්තර පුද්ගලයෙකුගේ පිටකට මුවාවී සිටින ඔහුට දුරදිග නොපෙනේ. අනෙකා ඔහුට කියන දේ මහත් කැමැත්තෙන් ඔහු තව'කෙකුට කියයි. ඒ අනුව පිරිසේ හැම එකෙකුම එක විධියට—එකවිධියට අඩුම ප්‍රමාණයකින්—දකිති. එකෙකුගේ මතයට අනික් අයද එකඟ වෙති. මෙහි ප්‍රතිඵලය තනිවම සිටින විට නොසිතෙන දේ වලට පිරිසක සිටින විට ඉබේටම පංගු කාරයින් වීමය.

පිරිසට වැදුණු අපි නිදහසේ හැසිරෙන්නට වීමු. බැටළු ලොමින් සාද තිබූ හිස්වැස්ම සහ කබායද ගලවා ගුළි කොට ගත් අමාන් ඒවා කිහිලි ගන්වා ගත්තේය. පිරිස මැදින් ගිය අපි කඩ පොළේ අනික් කෙළවරට චිත් සෙනහින් ඇත්වූයෙමු. මහ වීදිය දිගේ යාම අනතුරුදායක බැවින් අතුරු පාරවල්වලින් ගොස්, ගෙවතුවලට වැද, වැටවලින් රිංගා පාළු වත්තකට පැමිණ බිම වැතිර විඩා හැරියෙමු.

විඩාව නිවී ගිය විගසම වාගේ බඩගිනි ඇතිවිය. අපට ඊයේ සිටම ආහාරයක් නැත. එහෙත් රොටියක් මිළදී ගැනීමට පවා යාමට අපි බියවීමු. අපේ බඩගින්න අප මැඩ නැගී සිටින තුරු අපි පැයකට වැඩි වේලාවක් වැතිර ගත් වනම සිටියෙමු.

නගරයෙන් පිටවැ කිසියම් කරුණාවත් පුද්ගලයකු හමුවීමේ බලාපොරොත්තුවෙන් අපි ඉදිරියට ගියෙමු. අප අතින් බැටළුවන් පස්දෙනෙකු නැතිවූ බව සැබෑය. අප හාම්පුතා වෙතින් පැන යන්නේද තඹයක්වත් නොලබමිනි. පසුගිය රැය තුළදී නොනිඳා දුක්ගැහැට විඳ ඇතත් දැන් මම කුරුල්ලෙකු මෙන් නිදහස් බැවින් සතුටු සිතින් ගමන් කරමි. එහෙත් අමාන් වැහි වලාවකටත් වඩා කළු පැහැතිය. දුක් බරය. ඔහු මගේ ප්‍රශ්නවලට පිළිතුරු දෙන්නේද ඕනෑවට එපාවට මෙනි. ඔහුගේ ඇස් අඩවන් වෙලාය. ඔහුගේ ඇසිපිය, වැටෙන්නට යන පැරණි ගෙයක

පියස්සක් මෙනි. ඔහුගේ මූසල පෙණුම වෙනස් කිරීමට සිතූ මම ඔහු සිනස්සන්නට වෑයම් කළෙමි. එහෙත් ඔහු රොස් විය.

''කට වහගනින්'' යැයි ඔහු කීය. ''උඹ හන්ද මට බැටළුවො දෙන්නෙකුයි, එළුවකුයි නැතිවුණා. උඹ නැතිව හිටි දවස්වල මට කිසිම ගිරිහැරයක් තිවුනෙ නැහැ. උඹ යන තැන විපැත්තියක්. මළ මිනිය හෝදන්ට ගිහිං සිද්ද වුණ දේ මදිවට ආයෙමත් උඹ එක්ක එක්කහු උණා. උඹ හරිම කාලකණ්ණියෙක්!''

මමද රොස් වීමි.

''ආ උඹ කව්ද? හරිම වාසනාවන්තයා. මූණ පුරා වසූරිය කැළැල්! උඹේ බැටළුවන් එක්ක නැකම් ඇතිකරගැනීමට මම හිතුවද? මම නොහිටින්ට උඹ බැටළුවන් පහක් නෙවි විසිපහක් නැති කර ගනීවි. ගෙවතුවලට රිංගල උන්ව ඇදගෙන ආවෙ කව්ද? බැටළු දෙන වදන විට පැටියව ගත්තෙ කව්ද? උඹද ඒව කළේ? බැටළුවො දෙන්නෙක් ලබාගන්ට වැඩ කරන කොට එහෙම පිටින්ම බැටළු ගාලක් උඹ නැති කර ගනීවි! තේරුණද?''

''මට තේරුණා! උඹටත් ඉක්මනටම තේරේවි...''

''මොනවද?''

''නහයෙන් දිය අගලක් හාරන හැටි!''

''උඹද මට පෙන්වන්න හදන්නෙ?''

''මම පෙන්වන්නම්!''

''හොඳා පෙන්නපන්!''

''පෙන්වන්නම්!''

''පෙන්නපිය! පෙන්නපිය! උඹගෙ නහයෙ හැටි!''

අපේ බහින් බස් වීම දබරයක් දක්වා වර්ධනය නොවූයේ අප මහන්සිවී, බඩගින්නට හසුවී, ඉර අව්වට පිළිස්සී දුබලව සිටි බැවිනි. දහවල් ඉර මුදුන්වී තිබිණි. අපි තවමත් කුඹුරු දෙකක් මැදින් යමින් සිටිමු. කැරට් අල හාරන පිරිසක් දුටු අපි ඔවුන්ට ආචාර කොට මග අසා ගතිමු. මුහුණ පුරා රැලි ඇති කරුණාවත් මහල්ලෙක් අප දෙස සැලකිලිමත් ලෙස බැළුවේය:

''මේ ළමයි කඩ පොළට යන පාරද අහන්නෙ?''

''නැහැ සීයෙ. අපි මේ පොළේ ඉඳල එනව...'' අමාන් සැනෙකින් කීය.

''ආ-ආ, මට තේරෙණව'' යැයි කී මහල්ලා හිස වැනුවේ තම සිත තුළ පැනනැගි යම්කිසි අදහසක් සමග එකඟ වන්නාක් මෙනි.''උඹලට පොළේදි මොකවත් හම්බ කරගන්ට බැරිවුණා නම් දැන් ඉතින් කොහෙ දුවන්නද? එහෙම නැතිව කවුරු හරි උඹල එනකල් බලා ඉන්නවද? උඹලට පුළුවන්නම් මෙහෙ නැවතිල මේ කැරට් අල උගුල්ලන්ට උදව් වෙයල්ල. උඹලගෙ මග වියදමට මම කැරට් ගෝනියක් දෙන්නම්...'' යැයි මහල්ලා කීය.

මෙයට වඩා වාසනාවක් තවත් කොයින්ද? ලොකු රෝස පාට කැරට් අල දුටු අපට කෙළ උනන්නට විය. කැරට් පැණිරස වර්ගයට අයත් විය යුතුය. මහල්ලා දුර දකින පුද්ගලයෙක් වෙන්ට ඕන! අපට පොළේදී ඇබැද්දියක් වූ බව ඔහු දැනගත්තේ කෙසේද?

''ස්තුතියි සීයේ. අපට ඉක්මන් වීමටකාරණාවක් නැහැ. අපි රක්ෂාවක් හොයන්ට යනව...''

''අනේ ළමයිනි! රස්සාවල් හොයන්ට උවමනා නැහැ. රස්සාව කකුල් දෙක ළඟටම එනව. ලී කැල්ලක් බිම තියෙනව. ඒක අරගෙන වෙනින් තැනක තියන එකත් රස්සාවක්. කැරට් අල හාරන්ට පටන් ගනිමු. අපට දේව පිහිටයි.''

කබා ගලවා දමා කැරට් අල උදුරන්නට පටන් ගතිමු. කැරට් සැපට වැවී ඇත. ඉතාම පොඩි අලය පවා අවුන්ස පහක් පමණ බරය. අල කීපයක් හාරා මහත්වූ සතුටකින් යුතුව අපි කැරට් අල දෙක තුනක් කැවෙමු. ඒවා මීපැණි මෙන් රසය. කෙත්මෙනයෙන් (උදැල්ලෙන්) පහර කීපයක් ගසා අල හාරා ගෙන මල්ලක් පුරවමු. ඉන් පසු එක් කැරට් අලයක් සපමින් නැවත පස බුරුල් කරන්ට පටන් ගනිමු. අපේ හිස් බඩවල් කෙමෙන් පිරෙන්නට විය. කැරට් අල කෑමට අමාන් මට වඩා දැඩි ආශාවක් දක්විය.

සවස් වන විට ඉඩම් හිමි හාම්පුතා ආවේය. අසකු පිට නැග එන ඔහු ඇතදීම දුටු අපි වඩාත් සැලකිල්ලෙන් හා වේගයකින් අල උදුරන්නට වීමු. අප දෙස කුතුහලයකින් බැලූ හාම්පුතා මහල්ලාගෙන් ප්‍රශ්න කළේය. ගොවීන්ගේ නඩ-නායකයා මේ මහල්ලාය. ඔහු අප ගැන මෙසේ කීය:

''අනේ මහත්තයො, මේ ළමයි දෙන්නව දෙවියො එව්වා. පාර අහන්ට ආවෙ. මම කීව ඒ ගොල්ලන්ට වැඩ කරන්ට කියල. ඉක්මනින්ම ඒ ගොල්ල කැරට් අල ගෝනි කීපයක්ම පිරෙව්වා.''

බායි හිසවනමින් නැවත අප දෙස බැලුවේ මහල්ලාගේ කීම අනුමත කරන්නාක් මෙනි.

''එහෙමනම් මගෙ බංගලාවට අඩගහගෙන එනව. රෑ කෑම මම දෙන්නම්'' යැයි කී හෙතෙම අසු හරවා ගෙන නැවත අප දෙස බැලීය. ''ඔය වගෙ අවංක ගැටවරයින්ට කවුරු උණත් බත් කටක් දෙනව!''

ඔහු ගිය පසුද අපි වැඩ කරන්ට වීමු. එහෙත් ඉක්මනින්ම ඇඳිර වැටිණ. කැරට් අල කරත්තයට පටවන ලදී. බායිගේ බංගලාව දෙසට යන අතර අමාන් බඩ අතගාන්නට විය. ඇඳිර වැටී තිබුණද ඔහුගේ මුහුණ සුදුමැලි වී ඇත.

මාෂ් නම්වූ ධාන්‍ය සහ බත් මිශ්‍ර කෑද අපේ රාත්‍රී ආහාරය විය. ත්‍යාගශීලී වූ හෙතෙම විශාල බේසමක් පුරා කෑද ගෙනවුත් අප ඉදිරියේ තැබීය. අපට ලැබුණු ලී හැඳි සුප් බෙදන විශාල හැඳි මෙනි. අපි කොතරම් වේගයකින් කෑද බීවෙමුද යත් අනිත් අයට කෑද බේසමට හැන්ද එබීමට පවා ඉඩක් නොතැබුවෙමු. කෑද බේසම හිස් කර දැමීමට ගත වූයේ විනාඩි කීපයකි. බායිගේ ඉඩමේ කැරට් අල හැරීමෙහි යෙදී සිටි අනිත් අය තම නිවෙස් කරා ගියහ. අප රෑ නවාතැන් ගතිමු. බායි අප ලී මඩුවකට කැඳවා ගෙන ගොස් එහි නවාතැන් ගන්නා ලෙස කීය. එහි ලනු ඇඳක් විය. ඇඳක් මත වැතිර නිදගැනීමේ ආශාවෙන් අමාන් බොහෝ කාලයක සිට පෙළෙයි. ඔහු මට වඩා වයසින් වැඩි මහළුය. වැඩි, විශේෂ කණගාටුවක් නොමැතිව ඇඳෙහි නිදගැනීමේ වරප්‍රසාදය භුක්ති විඳීමට මම ඔහුට ඉඩ දුනිමි. ඔහු තම එඬේර කබාය පොරවා ගෙන නිදගත් අතර මම බිම වැතිර ගතිමි.

සැනෙකින් මට නින්ද යනු ඇතැයි සිතූ නමුදු එසේ නොවීය. අමාන් ඇඳ මත දඟලන්නට වූයෙන් ඇඳ''බර, බර''හඬක් පිට කළේය. මම ඇස් හැර බැලීමි. දැලකට හසුවුණු මාළුවකු මෙන් එතී සිටි ඔහු හිටි හැටියේ නැගිට මඩුවෙන් පිටත දුවගොස් නැවත ඇඳෙහි පෙරලෙන්නට විය. විනාඩි දෙක තුනකින් ඔහු නැවතත් ඇඳ හඬවමින් පෙරළුනේය. කැරට් අල ''මුෂාක්'' වර්ගයට අයත් පැණි රසයෙන් යුක්ත වූ අතර එය කෑද සමග මුසුවී අමාන්ගේ බඩ හා බඩ වැල් තුළ පිනුම් ගසන බවක් මට හැඟෙයි. කෑදත් කැරටුත් පිස්සු බල්ලන්මෙන් පොරකා ගන්නා බව සිතා ගතහැක්කේ ඉඳ හිට ඔහු ගෙන් පිටවන ශබ්දයක් අනුවය. ඒ පොරයෙන් ජය ලැබෙන්නේ කාටදැයි මා නොදන්නා මුත්, අමාන් දැඩි පරාජයක් ලබමින් කෙඳිරි ගාන සැටි නම්

ඇසේ. මා අමාන් තරම් කැදර කමක් නොදක් වූ නිසාදෝ නැතිනම් තැනින් තැන යමින් මා විඳි දුක් ගැහැට නිසා මගේ අභ්‍යන්තර ඉන්ද්‍රියයන් දැඩි පළ පුරුද්දක් ලබා ඇති නිසාදෝ මට එවැනි අමාරුවකට මූණ පෑමට සිදු නොවීය. මා ගිල දමූ කැඳ හා කැරට් එක කුස උපන් දරුවන් මෙන් සාමයෙන් ඉන්නා බවකි, මට දැනෙන්නේ.

පාන්දර අරුණෝදයත් සමගම අපි නැගිට අසළ දිය පාරකින් මුහුණ කට සෝද ගතිමු. අමාන් තවමත් ඇඹරෙයි, මඩුවෙන් පිටත දුව ගොස් නැවත එයි.

බායි බාල තේ කොළවලින් සෑදූ තේ සහ රොටී දෙකක් ගෙනාවේය.

''මීට පස්සෙ මොනවද කරන්නේ? මගේ බංගලාවේ වැඩකාරයො කීප දෙනෙක් ඉන්නව. උන් ස්ටෙප්ස් බිමට ගියා පිදුරු ගේන්න. උඹලා නැවතියල්ල ආ! දැන් සිසිර කාලෙත් ළඟයි. ඊට පස්සෙ හිම වැටේවි. සීත කාලෙදි මෙහෙ කිසිම වැඩක් නැහැ... හරක්, බැටළු රැළ බලා ගෙන ඉඳපල්ලා. මෙතන ගිනි මැලයක් ගහගෙන සන්තෝෂ වෙයල්ලා! කෑම බීම සෑහෙන්ට තියෙනව. ජේත්තුවට අඳින්ට මම උඹලට හොඳම ඇඳුම් සොයා දෙන්නම්. අත වියදමට සුළු මුදලක් දෙන්නම්. පඩි වශයෙන් දෙන්නට නම් සල්ලි මා ළඟ නැහැ...''

මම අමාන් දෙස බලා ඇසක් අඩවන් කොට සංඥාවක් කළෙමි.

''හොඳයි මහත්මයා අපි උත්තරයක් දෙන්නම්...'' යැයි අමාන් කීය.

ඔහු ඇතුළු ගෙයට වැදුණු පසු අපි සාකච්ඡා කළෙමු. ''අපි එකඟ වෙමුද? මීට වඩා හොඳ තැනක් අපට හොයාගන්ට බැහැ. මගේ ළඟ තියෙන තංගී (රිදී කාසි) දෙකෙන් තෂ්කෙන්ට් වලට යන්ට බැහැ. දැනට මෙහි නැවතිලා පස්සෙ බලමු.''

''එහෙම නම් උදේ කෑවයින් පස්සෙ සිදදියෙ ඉන්න එපා. එක්කෙනෙක් ගෙදර වැඩට නවතිනවා. අනිකා මගේ එළදෙන බලාගන්ට ඕන. ඌ මගේ පියාගෙන් මට ලැබුණ තෑග්ගක්. සර්වබලධාරී අල්ලා උගේ ආයුෂ වැඩි කර දෙන්ට ඕන. ඌව ප්‍රවේසමින් බලා ගන්ට ඕන. ගෙදර වැඩට නවතින එක්කෙනා අමුත්තන්ට තේ වත්කර දීල සංග්‍රහ කරන්ට ඕන...'' යැයි හාම්පුතා කීය.

අමාන් ගෙදර වැඩට කැමති විය. ඔහු සමචාරයේ හඩ ඇසීමටද, අමුත්තන් කතා බහ කරනු ඇසීමටද ආශා කරයි. මුස්ලිම් පල්ලියෙ ස්කෝලෙන් ඉගෙන ගන්නවාට වඩා උගැන්මක් මේ කතා ඇසීමෙන් ලබාගත හැකි බව ඔහු මට කීවේය. පසුගිය රාත්‍රියේදී නොනිඳ නිතර එළියට දුවයමින් පෙරළි කළ අමාන්ගේ බඩේගාය සුවවී නැතිනම් ඔහුට හරකුන් බැලීම අපහසු වන බව මට සිතුණ. මම ඔහු කෙරෙහි අනුකම්පා කොට, හරකුන් බැලීමට කැමති බව දන්වා සිටියෙමි.

බායි මා හරක් මඩුව වෙත කැඳවා ගෙන ගොස් ලප සහිත එළදෙනක් පෙන්වා ඌ ලිහාගෙන එන ලෙස කීය. උගේ පෙනුම අහිංසකය. ඌ කෙරෙහි මා තුළ අනුකම්පාවක් ඇතිවිය. ඌ මා පස්සේ ආවේ බහ නොතේරෙන කුඩා දැරියක් මෙනි. අපි බංගලාවෙන් තරමක් ඈතට විත් පඳුරකට ළං වීමු. එළදෙන ගමන් වේගය අඩුකළාය. මම හැරී බැලුවෙමි. ඌ පස්සෙන් පස්සට යයි. මහළු එළදෙනට මහන්සි යැයි සිතූ මම ඇගේ පිටට සෙමින් කෙවිට් පහරක් දුනිමි. එවිට ඈ බිම ඇද වැටිණ, උගේ ඇස් පිටතට නෙරා ගියේය. කටින් පෙණ දමන්නට වූවාය. මී මැස් මුරය හැඳුණු විටෙක මෙන් උගේ කකුල් වෙව්ලන්නට විය. මගේ කෙවිට් පහර නිලයකට වැදී ඇතැයි මට සිතුණ. ඈට කිසිදිනෙක කිසිවකු පහරක් වත් ගසා නැතැයි මම සිතුවෙමි. බියගත්තිමි. සෙමින් මරණය කරා යන මේ සතාගේ අවසාන මොහොත ළංවී තිබේද? අවුල් සිතින් මම හතර ගාතෙන් වැටී සිටින එළදෙන වටා දුවමින් පිට කෙනෙකුගේ පිහිට සෙවීමට උත්සාහ ගතිමි. කිසිවකු අසල නොවීය...

එළදෙන බිම වැටී ගැහෙමින් සිටී. හාම්පුතාට අඩගැසීමට මම තීරණය කළෙමි. එවිටම වාගේ ඌ නැගිට හඬදෙමින් වලිගය වනමින් වේගයෙන් දුවන්නට විය. මා මොහොතකට ගල් ගැසිණ. පසුව ඌ ලුහු බඳිමින් වේගයෙන් දුවන්නට වීමි. මා ඌ අල්ලාගත්තේ කොහොමද? ඌට මට වැඩිය වැඩිපුර කකුල් දෙකක් තිබෙන්නේ නිකමට නොවේ. දුම්රිය යන්ත්‍ර දෙකක වේගයෙන් ඌ දුවයි. මමද හැකි තරම් වේගයෙන් දුවන්නට වීමි. තාත්තා පුතාට දුන් තෑග්ගක හැටි! මට වඩා බොහෝ ඈත දුව ගිය එළදෙන නැවතී, කිසිවක් සිදු නොවූ කලෙක මෙන් සංසුන් ලෙස තණ කන්නට වූවාය. මම ඌට බැණ වදිමින් ළං වීමි. ඌත් මාත් අතර දුර අඩි පහක් පමණ විය. සැනෙකින් ඌ හඬදෙමින් දුවන්නට වූයේ ආවේස වූ කලෙක මෙනි. මහළු එළදෙන තවත් ඈත ගොස් නැවතී, නැවත තණ කන්නට වූවාය. ඌ මට සරදම් කරයි.මම තුණ බිස්ස මත පෙරළී කකුල් ඉහළට උස්සා ගත්තේ අවට කිසිවක් ගැන නොසැලකිල්ලෙනි. අර කපටි ගොන් මැහැල්ල මා වෙත සෙමින් සෙමින් විත් මගේ කකුලට ඇන්නාය. වේදනාව නිසා මගේ කෝපය ඇවිස්සින. කැට සහිත පස් මිටක් අතින් ගෙන, වේගයෙන් හමන සුළඟක් මෙන් මා ඌ පසු පස ලුහුබැඳ දිව්වෙමි. කෝපය මගේ ධාවන වේගය වැඩි කළේය. එල්ලය බලා පස් මිට දමා ගැසුවෙමි. එය උගේ පිටේ වැදිණ. එයට වඩා ඉලක්කයට ගැසීම අමාරු වැඩකි. ඌ වේදනාවෙන් කෑගසා මා වෙත හැරී පහර දීමට ඉදිරියට ආවාය...

මේ අන්දමට සවස් වන තුරුම ඌත් මාත් සටන් කළෙමු. උගේ කර බැඳි ලනුව අල්ලා ගැනීමට මම අපොහොසත් වීමි. එද මම, අප නැවතී සිටි තැන සිට තෂ්කෙන්ට් දක්වා හෝ ඊටත් වැඩි දුරක් හෝ දිව්වෙමි. එකම පාරක් ඔස්සේ දිවගියේ නම් මට ගෙදර දක්වා යාමට ඒ දුර ප්‍රමාණවත්ය. මේ එළදෙන බායිගේ තාත්තාගෙන් පසු බායිට අයත් වී නම්,එයට හේතුව ඌ පළමුවැනි අයිතිකරුට වඩා ජීවත්වීමට තරම් මුරණ්ඩු වීම යැයි මට සිතිණ. මේ ගොන් මැහැල්ල ඇගේ ජීවිත කාලය තුළදී මිනිසුන් කී දෙනෙකු මාරයා වෙත එළවා ඇත්දැයි සිතීම පවා උගහටය. සවස ඇඳිරි වැටුණු පසු ඇය මෙල්ල වූවාය. මගේ අවසාන ශක්තිය යොද උගේ කර බැඳි ලනුව අල්ලාගෙන හරක් මඩුව වෙත ඇදගෙන ගියෙමි. ඌ මඩුව වෙත ගෙනයාමට මා ගත් මහන්සිය කොතරම්දැයි ඔබ දන්නෙහිද! එය කියා පෑම උවමනා නැත. මන්දයත්, ඔබ වුවද එය අවිශ්වාස කරන බැවිනි.

මා නවාතැනට එන විට අමාන් ඔහුගේ ඇඳෙහි දිගාවී සිටියේය. ඔහුගේ පෙනුම අයහපත්ය. මගේ අත පය වේදනාවෙන් කකියයි. මම බොරු සතුටක් ආරූඪ කර ගතිමි.

''කොහොමද වැඩ කටයුතු?'' මම අමාන්ගෙන් ඇසුවෙමි.

''අහන්ට එපා. උස්මුරුතෙ හැදෙන කල් කෑවා,'' අමාන් කීය.

''මොනවද කෑවෙ?''

''අපෝ! එතන තිබුණු කෑම ජාති! අමුත්තො ආව. බායි නෝනා හරිම දක්ෂ විදියට කෑම උයනව. කෑම ජාති ගොඩක් තිවුන. මන්ටි*, තන්දිර්—කෙබාබ්**, හල්වයිටාර්***, ඒවයේ නම් කියන්න වත් ඉවසිල්ලක් නැහැ. කෑම ගෙනියන ගමන් කැල්ලක් කටේ දගන්නව. ඔය

---

* මන්ටි—තෙලෙන් බඳින ලද මස් රොටි වගයකි.

** තන්දිර්—කෙබාබ්—තන්දිර් නමින් හැඳින්වෙන විශෙෂ උදුනක පිළියෙල කළ මස් ව්‍යංජනයකි.

*** හල්වයිටාර්—සීනි, බටර් සහ පිටි වලින් සෑදූ ආහාරයකි.

විදියට බඩ පැලෙන කල් කෑවා. පස්සෙ හාම්පුතා අසල්වැසි ගෙවල්වලට ගියා ලැබෙන්ට තියන ණය එකතු කරගන්න. මමත් ගියා ගණන් බලන බෝල රාමුවත් කිහිලි ගහගෙන. අපට හැම ගෙදරකදි ම සංග්‍රහ කරන්නට පටන් ගත්තා. 'වාඩිවෙන්න! ගිමන් හරින්න!' ඒ ගොල්ල හිතුවෙ මුම බායිගෙ ලියන්න කියල. මට කෑම බීම වලින් සංග්‍රහ කළා. නොකා ඉන්න එකත් හොඳ නැහැ නෙව. ඉතින් මම කෑවා ප්ලොව්... තූ... දන් ඉතින් කෑම මතක් වෙනකොටත් ඔක්කාරෙ හැදෙනව!..''

අමාන්ගේ කතාව අසා සිටි මට මහත් ආසාවක් ඇතිවිය. ඔහු කී සමහර කෑම ජාතිවල නම අසා ඇති නමුදු ඒවා මා කිසිම දිනක දක නැත. මිනිහෙකුට හරි යනකොට ඔහොම තමා! කමක් නැහැ. හෙට කෙසේ හෝ අමාන්ට එළදෙන භාර දීමට උත්සාහ ගත යුතුය. ඒ ගොන්-මැහැල්ල හෙට මිය ගියාවෙ. මම ගණන් එකතු කරන ඇබකසයත් කිහිලි ගන්නා ගෙන බායිත් සමග ගෙවල්වලට යන්නෙමි.

''උඹගෙ වැඩ කොහොමද?'' යි අමාන් මගෙන් ඇසුවේය.

''මගේ වැඩද?.. හරිම ජොලි... අර එළදෙන හරිම අහිංසකයි, කියන දේ අහනව, නිවිහැනේ ඉන්නව. තණ බිස්සක් ළඟට ගෙනගියාම තණ කනවා. කණුවක බැන්ද වගෙ එක තැනට වෙලා ඉන්නව. අවට තණ කා ඉවරඋණාම ඌ මගේ දිහා බලනවා. මම උගේ පිට අතගාල 'පලයන් ගිහිං කාපන්!' කියල තව තණ බිස්සක් පෙන්වනව. මම ගහක් යටට වෙලා ඇලවෙලා හිටියා. දිය අගලක් ළඟ. මට නින්ද ගියා. ඇහැ ඇර බැලින්නම් මෙන්න මගේ ළඟට වෙලා. තණ උලා කාලා ඉවරයි. මම ඇස් ඇර බලන කලියෙන් මා ළඟ හිටිය... හරිම අපූරු එළදෙනක්. මම ගෙදර වැඩට නොගිය එක හරිම හොඳයි. උඹට අමුත්තො නිසා ගිනි රාමෙට වැඩ තියෙන්න ඇති. හෙටත් මම යනව ඌට තණ කවන්න...''

අමාන් මා දෙස බැලුවේ ඊර්ෂ්‍යා සහගතවය. ඉඳ හිට ඔහු බඩ අල්ලාගෙන කෙඳිරි ගෑවේය. මේ වනවිට අපට අයිරාන්-අටලයි නැමති කැඳ සහිත මෝරු කෝප්පයක් ගෙනෙන ලදි. කැඳ කෝප්පය මා ළඟට ගත්තේ, අමාන් අද කා ඇති අනර්ඝ කෑම නිසා මෙවැනි දියාරු කෑමක් දෙස නොබලනු ඇත යන හැඟීම ඇතිවය:

''උඹ මට කැඳ ටිකක් ඉතුරු කරපන්. මම අද තෙල් මේදස් එක්ක මස් ගොඩක් කෑවා. ඔය ඇඹුල් මෝරු එක්ක කැඳ, මා ගිලදමූ මස් කුට්ටි දිය කර හරිවි. අනේ අම්මේ නැගිටින්නවත් බැහැ. ඕ, ඕඃ!..''

''හොඳා ඉතිරි කරන්නම්!'' මා බොරු කී සැටි මතක් වූ නිසා, ''මටත් බඩගිනි නැහැ. මුළු දවසෙම ගහ යටට වෙලා නිදා ගත්ත'' යැයි මම කීවෙමි.

පසු ද උදැසන බායි අපට බාල තේ කොළ වලින් සෑදූ තේ කෝප්ප දෙකක් සහ රොටි දෙකක් එවිය.

''අද කව්ද ගෙදර වැඩ කරන්නෙ, කව්ද හරකා බලාගන්නෙ?'' යැයි බායි අපෙන් ඇසීය.

''දන් කියන්නම්'' යැයි පිළිතුරු දුන් අමාන් මා වෙත හැරී සෙමින් මෙසේ කීය: ''මම අද එළදෙනට තණකොළ කවන්නම්. මම අද ගෙදර වැඩට ගියොත් කෑදර කමට කාලා මගේ බඩ පැලේවි. තේරුණද?''

''තේරුණා!'' යැයි පිළිතුරු දුන් මම අද මට ලැබෙන අපූරු ආහාර වර්ග ගැනද, මට ඊයේ වධ දුන් එළදෙන අමාන් තණ කැවීමට ගෙනියන සැටිද සිහි කළෙමි.

''මම එළදෙන ගෙනියන්නම්'' යැයි අමාන් හාම් පුතාට කීය. ඒ අතර ඔහු මගේ කණට කොඳුරන්නට විය: ''උඹට මම උපදෙසක් දෙන්නම්. අමුත්තො ආවාම බායි උඹටත් රොටි බාගයකුයි වියලි මිදියි ගෙනත් දී කියාවි කන්ටයි කියල. උඹ කන්ට එපා. එයා එහෙම කරන්නෙ අමුත්තන් ඉදිරිපිට උඹ කෑදර කමට රොටි කාවිද්දයි කියල බලන්ටයි. උඹ බායිට ස්තුතියි කියල රොටිය නොකා කියපන් බඩ පිරිල, කන්ට බැරිය කියල උඹට තේරුණද?..''

''උඹට ස්තුතියි, අයියෙ'' යැයි කී මම අමාන්ට ණය ගැති නොවීම පිණිස එළදෙන ගැනද ඔහුට උපදෙස් දීමට ඉදිරිපත් වුණද අමාන් මා අවිශ්වාස කරාවීය යන බිය නිසා යටත් පිරිසෙයින් කර බැඳි ලනුව අත හරින්ට එපා, ගහක බැඳපන් වැනි ඔවදනක් පවා දීමට මැලිවීමි. එසේ කියනු වෙනුවට, ''මම ඊයේ මුළු දවසෙම තෙත පොළවෙ වැතිර හිටියා. දැන් මගෙ තුනටිය රිදෙනව. උඹ බූරු ඇඳත් අරගෙන ගිහිං පඳුරකට මුවාවෙලා සැපට නිඳ ගනින්'' යැයි ඔහුට කීවෙමි.

හාම්පුතා මේ වන විට ඇතුළු ගෙට ගියේය. අමාන් මඩුවට ගොස් එළදෙන දක්කා ගෙන, ඇඳද කර තබා ගෙන තණ පිටියට ගියේය.

''අමාන් කොහි ද?'' යි නැවත පැමිණි ස්වාමියා ප්‍රශ්න කළේය.

''එළදෙන දක්කාගෙන ගියා!''

''හරි හොඳ කොල්ලො. තේබීලා ඉවරද, එහෙනම් වැඩ පටන් ගනිමු...''

කෙට්මෙනයත්*, පොරවත් මා අත තැබූ බායි නිවෙස පිටුපසට කැඳවා ගෙන ගොස් ලොකු බර්ච් මුල් දෙකක් පෙන්වා ඒවා හාරා උගුල්ලා දමන ලෙස අණ කළේය.

''ඔන්න ඉතින් පෙන්නාපන් උඹගෙ දක්ෂකම. ඔය මුල් දෙක උදුරා දපන්. සීත කාලෙට උඹලට තපින්න ඇහැකි. ඊයේ අමාන් හරිම අගේට ඔය වගේම ලොකු මුල් දෙකක් උදුරල දැම්ම. මිනිහට දේව පිහිට ලැබේවි. උඹල හරිම හොඳ කොල්ලො. අවංකව වැඩ කරනව!''

ඔහු යන්ට ගියේය. ගස් මුල් උගුල්ලා දැම්ම ගැන අමාන් මට නොකීවේ මන්දැයි මම පුදුම වීමි. සමහර විට ඔහුට අමතක වුණා විය යුතුය. එහෙත් ඔහු කී අනික් දේ ගැන මම නැවත සිතන්නට වීමි. ''අමුත්තන් එන්ට ඉස්සෙල්ලා එක මුලක් හාරා දමන්න පුළුවනි. ඊට පස්සෙ හිතේ හැටියට කනවා!'' යැයි සිතූ මම මුළු ධෛර්ය යොදා මුල හාරන්නට වීමි.

මුල කුණුවී තිබිණ. බැලූ බැල්මට එය විශාල නොවූවද එහි මුල් නයි මෙන් පොළොවට ඇදී තිබිණ. සමහර මුල් හැතැප්මක් පමණ දිග යැයි කිව හැකිය. ඒවා මහත්ය, ශක්තිමත්ය. එක එක බැගින් ගෙන වෙන්කොට කපා දැම්මට සිදුවිය. මා කොතරම් මහන්සිවිද යත්, ඇස්වල අඳුරු පටලයක් ඇතිවූවාක් මෙන් දැනිණි. දෙවරක් මගේ කකුල මවිසින්ම ගැසූ පොරොව පහරෙන් බේරුනේ අනූ නවයෙනි. මුල් ඇද ඇති එක් අතුරු මුලක් ප්‍රධාන මුලෙන් වෙන්කළ විට තවත් එකක් මතුවී තිබෙන සැටියකි මට පෙනෙන්නේ. ගිනි ගහන ඉර අව්වේ පිලිස්සෙමින් ඉමක් නැති අතුරු මුල් කපා හරිමින් ප්‍රධාන මුල සහිත ගස් කොටය කපා දැමුවෙමි. අමුත්තන් තවම පැමිණ නැත. ඉර මුදුන් විය. රොටි බාගෙකුත් රැගෙන බායි මා වෙත ආවේය.

''වැඩකරනවද? හරිම දක්ෂයා, හපනා මෙන්න දවල් බතට මේක කාපන්...'' යැයි රොටිය මා වෙත දිගු කරමින් බායි කීය.

රොටිය දුටු මා තුළ ඇතිවූයේ ඇතෙකු වුවද ගිල දැමිය හැකි බඩගින්නකි. එහෙත් මට

---

* කෙට්මෙන්—උදැල්ල වැනි අවියකි.

අමාන්ගේ උපදෙස මතක් විය. රොටී වැනි බාල්දු කෑම වලින් බඩ පුරවා ගත් විට අනර්ඝ කෑම වලට ඉඩ නැතිව යෑමට පුළුවන.

''බොහොම ස්තුතියි! තවම බඩගිනි නැහැ. බඩ පිරිලා.''

බායි වැඩි පෙරත්ත කිරීමට ඉදිරිපත් නොවීය.

''ඔව්! තවම තරුණයි. ශක්තිය සිඳී නැහැ. ජින්තු බොහොම තියනව වගෙ.'' යැයි කී බායි රොටියත් රැගෙන ආපසු ගියේය.

කටට ආ කෙළ ගිලගත් මම අමුත්තන් තවම නොපැමිණීම ගැන කල්පනා කරන්ට වීමි. අමුත්තන් වෙනත් තැනකට යන්නට ඇත. කෙසේවුවද රස කෑම වර්ජනය කිරීමට ඔවුන්ට හේතුවක් නැත. ඔවුන් එනු ඇත. නැතිනම් තව ටික වේලාවකින් ණය කාරයින්ගෙන් මුදල් එකතු කර ගැනීමට යන්නෙමු. නැතිනම් අමුත්තන් මෙන් පිටත් වන්නෙමු... ඒ කාල්කණ්ණි මුල උදුරා දැමීම සඳහා දිගටම සටන් කළෙමි. යන්තම් එක් ගස් මුලක් උදුරා දැමුවෙමි. හිරු බැස යාමට ළඟය. අමුත්තන් තවම නැත. බායිද පිටත යාමට සැරසෙන සැටියක් නොපෙනේ. මට පොට වැරදී තිබෙන බව පළමුවරට අවබෝධ විය. අමාන් බොරු කීවේද? එය සිදුවිය නොහැක. බඩගින්න වැඩිවිය. පොරොව ගැනීමට තරම් ශක්තියක් නැත. එහෙත් කළ හැකි අන් දෙයක්ද නැත. මම දෙවැනි ගස් මුල උගුලා දැමීමට සැරසුණෙමි.

එය පළමුවැනි ගස්මුල තරම් අමාරු නොවීය. හිරු බැස යත්ම මම එය ගලවා දැමීමි. බොහෝ අමාරුවෙන් නිවෙසට ගියෙමි. පැය බාගයකින් පමණ අමාන් තම ලනු ඇඳත් කර තබාගෙන ආවේය. ඔහුගේ මුහුණ මැලවිලාය. වෙව්ලන අතින් ඔහු එළදෙන බැඳි ලනුව ගෙන ගමන් කරයි. නිසොල්මන්ව මා පසු කර ගිය අමාන්, කරෙන් ගෙන ගිය ඇඳ බිම දමා එළදෙන මඩුව තුළට ගෙන බැඳ දැම්මේය.

පළමුවෙන්ම බොරු කීවේ අමාන්ය. ඔහු රැවටීමට බොරු කීමට මම සූදනම් නොවීමි. අපේ බොරු අපටම තැළීය. මට මගේ බොරු නිසා ඇතිවූයේ අමනාපයකි. අර ගොන් මැහැල්ල මට වඩා අමාන්ට වධ දී තිබෙන හැඩයි. ඇඳත් ගෙන යන ලෙස අමාන්ට කීවේ මාය. ඇඳ ගැන නොබලා එළදෙන පමණක් රැක ගත්තේ නම්, කිසිවකු ඇඳ සොරකම් කරනු ඇත එළදෙන අතහැර දමා ඇඳ පමණක් පරිස්සම් කළේ නම්, ඌ සොරාගනු ඇත. ඌ පසුව සොයා ගැනීම අපහසු වැඩකි. අමාන්ට සිදුවී ඇත්තේ ඇඳත් කර තබාගෙන එළදෙන පස්සෙන් දිවීමටය. ඔහුගේ උරහිස් වල හම ගැලවී ඇත. විඩාපත්ව සිටි ඔහු රොස් ගතියකින් හා කණගාටුවකින් පසුවෙන බව දුටු මම විහිළුවක් කොට ඔහු සනසාලිය යුතුයැයි සිතුවෙමි.

''ආ කොහොමද අමාන් මහන්සිද?'' ඔහු නිහඬවිය. ''මට නම් හොඳටම මහන්සියි. උඹගේ අමුත්තො මගේ එළදෙනට දෙවැනි නැහැ... හැබැයි උඹ කියාපු අර අනර්ඝ කෑම ජාති අද බොහොම ටිකයි තිබුනෙ.'' යැයි කී මම සිනාසුනෙමි. එහෙත් අමාන් මා දෙස නොබලාම සිටියේය. ''උඹ මොකද කට වහගෙන ඉන්නෙ? උඹේ ඇඳේ ලනු වෙනුවට යකඩ දැලක් තිබුන නම් කොහොම හිටීවිද!'' එවිට ඔහු මා දෙස නපුරු බැල්මක් හෙළීය.

''කට වහගනින්!'' යැයි ඔහු කීවේ කෝපයෙනි.

මම රොස් නොවීමි.

''ඒයි අමාන් ඔය බොරු වැඩ නවත්වපන්. අපි දෙන්න එක පණක ඇති ඇස් දෙක වගේ. එක ඇහැක් නැතුව අනිත් ඇහැට ජේන්නෙ නැහැ. අපි දෙදෙනාම වැරදි කාරයො සමාදන වෙමු! උඹට ඇහෙනවද අමාන්!''

ඔහුගේ කෝපය තුනී වී ගොස්, ඔහුගේ හිස වැනුනද ඔහු තවම මා දෙස නොබලයි.

''මෙතැනින් ඉක්මනට යන්ට ඕන!'' ඔහු කීය.

''අප ළඟ සල්ලිත් නැහැ, කෑමත් නැහැ!'' මම පිළිතුරු දුන්නෙමි.

''ඉතින් මොකද?.. අපි හාමතේ මැරිල යන්නෙ නැහැ නෙව... මෙතැන බඩ කට පුරා කෑමක් ලැබෙනවද!..''

''ඇත්තටම ඕනවට වැඩිය කෑම ලැබෙන්නෙ නැහැ!'' යි කී මම සිනාසුනෙමි. ''උඹෙ අදහසට මා එකහයි. හැබැයි හිස් අතින් යන්නෙ නැහැ'' යි කීවෙමි.

''උඹේ කල්පනාව මොකක්ද? ගෙයි වහලෙ ගලවල හොර කම් කරමුද? ආ!''

''හොරකම් කරන කතාව වැඩකට නැහැ. අපි කළ වැඩවලට අපට ගෙවන්ට ඕන... මොනවද අපි ගෙනියන්නෙ?''

කෙසේ වුවද දෙම්ලෙ-පූජකයා සහ ඉෂාන් මට සමහර දේ උගැන්වූහ. ''අයිතිකාරයකු නැති දේ සියල්ල දෙවියන්ට අයිති'' යි කියන ආප්තෝපදේශය අනුව මම ලෝකය දෙස බලමි. බායිට අයිති දේවලින් යමක් අපි බලෙන් ගනිමු නම් එය සාධාරණයක් බව අමාන්ට ඒත්තු ගැන්වීම පිණිස මම වැයම් කළෙමි. අපට එක වචනයක්වත් කලින් නොකී බායි ඔහුගේ එළදෙන බලන ලෙස පවරමින් කළේ අසාධාරණයක් නොවේද? අවසානයේදී අමාන් එකහ විය. අප ගත යුත්තේ මොනවාද යන්න පමණක් තීරණය කළ යුතුව තිබිණි. අතට අසුවූ හැම දෙයක්ම ගෙන යාම නුවණට හුරු කාරියක් නොවේ. මෙහිදී මට අපූරු අදහසක් ඇති විය. රත් පැහැති එළදෙන මැරීමට අපි තීරණය කළෙමු.

මගේ අදහස අමාන්ට දැන්වූ විට ඔහුගේ දෙනෙත් දීප්තිමත්ව බැබලෙන්ට විය. මගේ යෝජනාව එතරම් තදින් ඔහු සිත් ගත්තේය. දවස පුරාම ඔහු සිතා සිටියේ මේ ගැනය. එහෙත් ඔහු එය එළිපිට පිළිගැනීමට බියවිය. ''හරිම හොඳ වැඩේ. ඔය විදියට බායිට දඬුවම් දීල එළදෙනගෙන් පළි ගනිමු. ඌ මරා උගේ මස් ගොඩ අරගෙන ගිහින් විකුණල, ඒ සල්ලි වියදම් කරගෙන ගමට යමු'' යි කී අමාන් සන්තෝෂයට පත්විය. මටද, එළදෙනට සහ ඇඳටද ඔහුගෙන් සම්පූර්ණ සමාව ලැබිණ.

අපි මස් කෑමේ සිහින දුටුවෙමු. තැම්බූ, තෙලෙන් බැදගත්, උණු සහ සීතල මස් කන සැටි අප මනැසට හසුකළේ බඩගින්න විසිනි...

මෙසේ සිහින දකිමින් සිටි අප ඉදිරිපිට බායි විසින් තබනලද මීරකවකා නැමැති කිරි සූපය සහ වට්ටක්කා නිසා අපේ කටට අම්හිරි රසයක් දැනිණි. කෙසේවුවද, අපට දුන් කෑඳ කෝප්පය සම්පූර්ණයෙන්ම හිස් කළෙමු. අපේ ඇඹුල් මුහුණු දුටු බායි වට්ටක්කා වල ඇති ගුණය වනන්නට පටන් ගෙන තම දේශනය අවසන් කළේ වට්ටක්කා කන අය නිරයට නොවැටෙන බව කියමිනි.

රාත්‍රි ආහාරයෙන් පසු තම බංගලාවේ දෙර අගුළු දමාගත් බායි නිදන්නට විය. අපි අපට අයත් මුළුවල ලැගගෙන සිටියෙමු. නොදැනුවත්ම අපටද නින්ද ගියේය. එහෙත් අමාන්ගේ බඩ රුජාව විසින් ඔහු අවදි කෙරිණ. අමාන් මා අවදි කළේය.දැන් වේලාව මැදියම් රෑ විය යුතුය. අපි හෙමින් සීරුවෙන් හරක් මඩුවට ඇතුළු වීමු. අමාන් හැම තැනම බලමින් බිය ගතියක් පෑවේ හොල්මන් දකිවිය යන බලාපොරොත්තුවෙනි. මම අමාන්ට වඩා සංසුන් වීමි. ඉෂාන්ගේ ඉෂාක් (බූරුවා) මරා දැමීමේ අත්දැකීම මා සංසුන් කළේය. හඳ හාමි පුළුන් පුරවා මසන ලද හිම පොරෝනයක් බඳු අඳුරු පැහැති වළාකුළකට මුවා විය. අපි හරක් මඩුවට වැදුනෙමු.අත පත ගාමින් එළදෙනට ළංවීමු. ඇ බියවීම වළක්වනු පිණිස අපි නොයෙකුත් චාටු බස් දෙඩවීමු. ඇය සංසුන් එළදෙනකි. තණ පිටියට වැදුනු විට ඇය මුරණ්ඩු කම් කරන්නේද, නිහඬවය.

අමාන් මට පොරොවක් දුන්නේය. මම කළුවරේම ඇගේ හිසට වැරෙන් ගැසුවෙමි. ඇය හඬක් පිට නොකොටම බිම ඇද වැටුණාය.

ඇ මට දුන් වධ නිසා ඇගේ මරණය මට ප්‍රීතියක් ගෙනදිය යුතුව තිබුණද,මගේ පහර කා බිම ඇද වැටුණු එළදෙන නිසා මා තුළ එවැනි හැඟීමක් ඇති නොවීම ගැන මම පුදුමවීමි. එහෙත් ඒ වෙනුවට මා තුළ සෝකාන්විත හැඟීමක් ඇතිවිය. එළදෙන නිසා උපන් අනුකම්පාව මා සිත වෙළාගත්තේය. මා පරාජය කරමින් නැගී එන හැඟීම් තුරන් කරලීම සඳහා මම උත්සාහ දැරුවෙමි. මා අතින් මැරුම් කෑ එළදෙන මා ලුහුබදිමින් මට දුන් වධ කොතරම්ද! දැන් ඉතින් ඈ කිසිදිනෙක මා පසුපස නොඑනු ඇත... පහර කා ඇද වැටුණු එළදෙනගේ ශබ්දය නිසා තරමක් බිය වූ අමාන් අඳුරේම සිටගෙන එම හඬට කන් දුන්නේය. එහෙත් හැම තැනම නිසංසලය.

මොහොතක් නිහඬව හුන් අපි එළදෙන මස් කිරීම පටන් ගත්තෙමු.අමාන්ගේ පිහිය ගත් මම— අමාන්ගේ පියා පිහි සාදන්නෙකි. ඔහු මට දුන් පිහිය මස් කැපීමටම සෑදුවකි—තරමක් මුවහත් කොට කඳින් හිස වෙන් කළෙමි. ඉන්පසු හම ගැසීමු. පුඩ්* තුනක පමණ කටු නැති මස් එකතු කරගෙන, මඩුවේ තිබූ මල්ලක් හිස් කොට මස් මල්ලට දමා ගත්තෙමු. කළුවරේ මේ සියල්ල කිරීමට අප සමත්වූයේ කෙසේදැයි අපිම නොදනිමු.

දැන් ඉතින් මෙතැනින් පැන යා යුතුය. වැට දෙරවල් වසා අගුල්ලා ඇති නිසා මෙතැනින් පිටවිය හැකි එකම මග හරක් මඩුවේ වහලට නැග එයට යාබද පැලට පැන ඉන්පසු පාරට බැසීමය. එකෙක් පළමුව අනිකාගේ උදව්වෙන් මඩුවේ වහලට නැග කඹයක ආධාරයෙන් මස් මල්ල සහ තම සගයාව වහලට ගෙන පැනයාමය. පළමුව වහලට නැගිය යුත්තේ කව්ද යන ප්‍රශ්නයක් මා සිත තුළ නොවීය. අමාන් මට උදව්වීමට මහත් උවමනාවක් දැක්වූ අතර ඔහුගේ කටහඬෙහි එක්තරා අනාතුරු හැඟවීමෙක සේයාවක් පෙනිණ. එහෙත් මා එය නොදන්නා බව හැඟවීමි.

හඳ බැස ගොසිනි. අහස ඇඳිරිය. මම බිත්තිය අසල සිට ගත්තෙමි. අමාන් මගේ උරහිසට පයක් තබා ලෙහෙසියෙන් වහලට නැග ගත්තේය.

''ඉක්මනට දීපන්!'' යැයි ඔහු පහත් හඬින් කීය. මා මස් මල්ල කඹයක බැඳ එක් කොණක් ඔහුට දිය යුතුය. ඔහුගේ කට හඬෙහි දුෂ්ටත්වය මුසු සතුටකි. බායිගෙන් පමණක් නොව මගෙන්ද පළි ගැනීමට අමාන් තීරණය කර ඇති බව ඒ හඬ කියා පෑවේය. මම ඔහුට මස් මල්ල දුන් විගස ඔහු එය රැගෙන පලායනු ඇත. මා වහලට ඇද ගැනීමට ඔහු තුළ අදහසක් නැත. අමාන්ගේ ඒ නපුරු ක්‍රියාව නිසා මා තුළ ඇතිවූ කෝපය පිට නොකර සිටීමට මම උත්සාහ කළෙමි. හොඳයි බලමු කොහොමද කියල!

''හිටපන්! මේ කඹය පැටලිල...'' යැයි මම කීවෙමි.

මම ඉක්මනට එහි තිබූ මස් පිටතට ගන්නට වීමි.

''මොනවද උඹ කරන්නෙ?'' ඔහු නොඉවසිල්ලෙන් ඇසීය.

''හිටපන් පොඩ්ඩකට!'' යැයි කී මම මල්ල තුළට රිංගා ගෙන එහි කට වටා කඹයෙන් ගැටයක් ගැසුවෙමි. කඹයේ එක් කොනක් මල්ල තුළ සිටින මා අතේය. අනික් කොණ අමාන් අතය.

''ඉහළට ඇදපන්!''

---

* පුඩ් 1 ක් රාත්තල් 36 කි.

අමාත් නොඉවසිලිමත්ව සිටි නිසා මල්ල තුළ සිටි මගේ කට හඬේ වෙනස සැලකිල්ලට නොගත්තේය. බර ප්‍රමාණය අනුව මස් ගොඩ හා මාද සමානය. එබැවින් අමාත්ට වෙනසක් නොදැණිනි. මල්ල වහලට ඇදගෙන හති හැර, මල්ල තුළ සිටින්නේ මා බව නොදැන, අමාත් පහතට නැමී කොඳුරා මෙසේ කීය:

"ආ උඹ උගුලට අහුඋණාද? මගේ බැටළුවන් නැති කළා. බායිගෙ එළදෙන මරා මස් කළා. දැන් ඉතින් බායිට උත්තර දීපන්! හපනා!"

නිවයෙකි! මල්ලේ කට ලිහාගෙන එළියට ඒමට සිත්වුණද එයින් වන්නේ අයහපතක් බව ඒත්තු ගියෙන් නිහඬවීමි. එවිට ඔහුගෙන් පළිගැනීමට අවස්ථාවක් පවා නැතිවේ... අමාත් වහල දිගේ මල්ල ඇදගෙන ගොස් බිමට තල්ලු කොට, ඔහුද බිමට පැන්නේය... මස් පිරි මල්ල යැයි සිතා මා වැද සිටින මල්ල කර තබා ගත් අමාත් අමාරුවෙන් පානගයි. මට හුස්ම ගැනීම පවා අමාරුය. අමාත් හති ලමින් මල්ල කරෙන් ගෙන ගාටමින් යයි. දවස් කීපයක් තිස්සේ ගමන් කරන සැටියකි මට දැනෙන්නේ. අමාත්ද එවැනිම හැඟීමකින් පෙළෙන බව කිව හැකිය. එළිය වැටීගෙන එන බව මල්ලේ හිඩස් අතුරෙන් පෙනේ. උදැසන කුරුල්ලන්ගේ ගීතමය නාදය ඇසේ. සිසිල් සුළං හමයි. අමාත්ගේ පා ගැටීම නිසා දූලි නඟී. බල්ලෙකුගේ හඬක් ඇසේ... ඌ දැන් බුරමින් අපට ළංවී ඇත... උගේ ආශ්වාස ප්‍රශ්වාසය පවා මටඇසේ. අමාත් නැවතුනේය. බල්ලා අමාත්ට ළංවිය. එවිට අමාත් අඩියක් පෙරට තබත්ම, බල්ලා මහ හඬින් බුරන්නට විය. අසල්වැසි බල්ලෝද ඔහුට පිළිතුරු වශයෙන් බුරන්නට වූහ. දැන් අප වටේ බලු රැළකි. උන් නොකඩවා බුරමින් අප පස්සේ එති. අමාත් බියෙන් ගැහෙයි. අමාත්ගේ තත්වය කෙසේවුවද මගේ තත්ත්වය කල්පනා කර බලන්න! මල්ලක් තුළට බහා ලූ මිනිහකු බලු රැළකට දැමීම තරම් තවත් වධයක් තිබේද? අමාත්ට වඩා හොඳ ඉවක් ඇති බල්ලෝ මල්ල තුළ ඇත්තේ මස් නොව මා බව දනිති. බල්ලන් කිපි ඇත්තේද ඒ නිසා විය යුතුය!.. මට කතා කිරීමට සිත්වුණද, එසේ කළහොත් අමාත් බියවී මල්ල වීසිකොට පැන දුවන්නට ඉඩ ඇත. එවිට මගේ තත්ත්වය වඩාත් භයානක වනු ඇත. සර්වබලධාරී අල්ලා මට අනුකම්පා කළසේක. අමාත් සපා කෑමට වටවී සිටි බල්ලෝ ඉදිරියට පැන්නාහ. එකෙක් මගේ කකුලක් සපා කෑවේය. මා සිටින්නේ කොතැනද යන්න අමතක වූයෙන් මට කෑගැසිණ.

"මිනී මරනවෝ! මල්ල උස්සපන් මෝඩයා!"

අමාත් තිගැස්සිණ. මස් පුඩි තුනක් මල්ලක දමා ගෙන එය කරෙන් ගෙනයන විට, මල්ල ඔබට "මෝඩයා!" යැයි කියමින් කෑසුවොත් ඔබද තිගැස්සෙනු නොඅනුමානය. මගේ වාසනාවට දෝ බියවූ අමාත් මල්ල බිම දමනවා වෙනුවට උඩට උස්සා ගත්තේය. මා කෑගැසූ විගස බල්ලන්ද තිගැස්සිණ. සමහර විට කතාකරන මලු උන් දුටු පළමුවැනි වාරය මෙය විය යුතුය. මම අමාත්ට අණ කරමින් කෑගැසුවෙමි:

"මල්ලෙ කට ලිහපන් මෝඩ තකතිරුවා!"

ඔහු කීකරු වෙමින් මල්ල බිම තබා කට ලිහා දැම්මේය. මම නැගිට සිටියෙමි. මා දුටු ඔහු ඇස් විදහාගෙන, කට අයාගෙන සිටියේ මානසික රෝගියකු මෙනි:

"ඒ?.. කොහෙද මස්?"

ඔහුගේ විලාසය දුටු මට සියලු වේදනාවන් අමතක වී සිනහ පහළ විය.

"මස් කොහෙද? මම කෑවා. උඹට පේන්නෙ නැද්ද මම මහත් වෙලා ඉන්න හැටි!"

ඔහුට මෙන් බල්ලන්ටද ප්‍රකෘති සිහිය ලැබීමට බොහෝ වේලා ගතවිය. එකකු වෙනුවට දෙදෙනෙකි. බියගත් බල්ලෝ විසිර ගියහ.

කුණු රොඩු පිසද ගනිමින් මම ගමන් කළෙමි. අමාත් මා පස්සෙන් එයි...

## සිකුරු තරුවේ ඉතිහාසය

අමාන්ට ප්‍රකෘති සිහිය ලැබීමට සෑහෙන වේලාවක් ගතවිය. දැන් ඔහු මා ළඟින් ගමන් කරයි. ඔහුගේ දෙනෙත් ක්‍රෝධයෙන් දිලිසෙන සැටි මට පෙනේ. වෙරි ගසකින් අත්තක් කඩා ගත් ඔහු තම අනඟි පිහිය ගෙන කොළ හා රිකිලි කපා කෙව්ටක් සාද ගත්තේය. ''ඒ කෙව්ට මට පහර දීමට සාද ගත්තා විය යුතුයැ'' යි සිතූ මම අවියක් සොයා ගත යුතු බව වටහා ගතිමි. වට පිට බැලූ මට සුදුසු දෙයක් ඇසට හමු නොවූයෙන් තරමක් උසට වැඩුණු පැළයක් උගුල්ලා ගත්තෙමි.

''ඒයි යාළුවා දීපන්කො උඹේ පිහිය මේ පැළය ශුද්ධ කරගන්ට.'' යැයි මම කීවෙමි.

''පිහිය මොට්ට කරන්නද, ගඳයා!'' අමාන් මට අපහාස කළේය.

''මමද ගඳයා. උඹ එක්ක මම හැම තැනම ඇවිද්ද. උඹ එක දවසක්වත් නෑවෙ නැහැ. හොර කුකුළෙක් වගෙ වතුරට බයයි. වතුර පාරකින් මූණෙ යන්නම් වතුර ගා ගත්තම වුණත් වෙව්ලනව හරියට උණ සන්නිපාත කාරයා වගෙ''

''කට වහගනින්!''

''උඹ මටද කට වහගන්ට කියන්නෙ. මට වඩා උඹ හරිම කිලිටි බායියෙක්. මම මේ ළඟදීත් ඇලේ නාල ඇඳුම් හෝදගත්තා. උඹේ හැටි බලපන්! ගිය අවුරුද්දෙ ඉඳල උඹ කුණු එකතු කරගෙන ඉන්නව!''

''මම උඹට කීව කට වහගන්න කියල!''

''එයා කීවළු.අහපල්ලා මුස්ලිම් වරුනි!''

''මම උඹට මේ කෙව්ටෙන් දෙනව!.. උඹ හරි ගඳයා. එයටත් වඩා අන්තයි. උපන් ගෙයි ගඳයෙක්. උඹ දෙස බලන දෙවියො වුනත් තුන් පාරක් කෙළ ගහවි!'' යැයි අමාන් කිය.

''මම ගඳයා! උඹ හරිම හරි ද්‍රෝහියා. යාළුවව පාවා දෙන්ට හැදුවා.''

''උඹව පාවා දුන්නට කවුරුවත් උඹව ගන්නෙ නැහැ!''

''හිටපිය, මම උඹට යස පාඩමක් උගන්වන්නම්.'' යැයි මම කීවෙමි.

''ඉතින් ඇයි?.. බලා ඉන්නෙ?''

''තව වෙලාව තියනව.''

''බිය ගුල්ලා!''

''තව පාරක් කියපිය බලන්ට!''

''දහ පාරක් කියන්නම්: බිය ගුල්ලා, බියගුල්ලා, මොකක් කරන්ටද?''

''මා කරන දේ බලපිය. නීචයා! මස් හොරකම් කරගෙන පැනල යන්ට හැදුවා, මට උගුල අටවලා. හරක් හොරා! මටයි කියන්නෙ ගඳය කියල!''

''සත්තකින්ම! මට... මොහමද් තුමා හීනෙන් පෙනී සිට කීව උඹගෙන් ඈත්වෙන්ට ඒ විදියට පැනල යන්ට කියල...'' අමාන් කිය.

''හා-හා! මොහමද් තුමා කීවෙ? කවුද කාටද හීනෙන් පෙනුනෙ? කවුද නිද ගෙන හිටියෙ? උඹද, එයාද? ඇයි උඹ දැනගෙන හිටියෙ නැත්තෙ මස් වෙනුවට මාව උස්සගෙන යන බව? මස් කියකට විකුණන්ට හිතා ගෙන හිටියද? මම බූරුවෙකු පිට සවාරි ගියා හා-හා-හා!''

''කට වහපිය කිව්ව!''

හා-හා-හා! මස් මල්ල කතා කළා!.. හීන දැකපු විරයා බය වුණා හා-හා-හා!..

කෝපය උහුලා ගත නොහැකිවූ අමාන් කෙවිටෙන් පහරක් ගැසීය. මම එය වළකා ඉවත පැන නැවත ඔහුට උපහාස කරන්නට වීමි.

''තෝ හරියට බායියෙකුගෙ පුතෙක් වගෙ මස් වෙළඳාම් කරන සැටි හීනෙන් දකින්ට ඇති නේද? ඉතින් කියාපන් උඹ හොර හරක් මස් විකුණල ගත්තු දේවල්!'' මා කීවේ ඔහු සිතූ දෙයම බැවින් ඔහු තවත් කිපිණ.

''අනේ, තෝ!..'' යැයි කෑගැසූ අමාන් පිස්සෙකු මෙන් ආවේස වී කෙවිටෙන් ගැසුවේය. ඒ පහරද වළකා ඉවත පැන ගැනීමට මට පුළුවන් විය. ඔහුගේ දැස් දෙවිට පැනීමට තරම් මහත් විය. ''උඹට මොකද හිහන්නා!'' යැයි කෝපය නිසා ගොළුවී සිටි ඔහු කෑගැසීය. ''උඹ ගමට යන්නෙ මොනව ඇඳගෙනද! මට නම් හරිම ලැජ්ජයි! මිනිස්සු මොනවා කියාවිද! පිට ගමකට ගියා! වැඩකළා! වැරහැලි ඇඳගෙන ඉන්නව! අනේ දෙවියනේ මේ මෝඩයා සමග මුණ ගැස්සවීමෙන් ඔබවහන්සේ මට දඬුවම් කළේ ඇයි? එහෙම වුනේ නැතිනම් මෙලහකට මම මුදල් කියක් හරි හම්බකරගෙන කබායකුයි, හිවල් ලොම් ඇති තොප්පියකුයි ගන්නව නෙව... උඹ නොහිටින්නට මට බැටළුවන් මිළට ගන්ට තිබුනා. බැටළුවො විකුණල අස්සයෙකුත්, අස්සයො විකුණල ඔටුවෙකුත් ගන්ට තිබුණ...''

ඔහු කොතරම් අවංක ලෙස සිනහසුනේදයත්, එය බැලීම පවා සතුටක් ගෙන දුන්නේය.

''අනේ පව් දුප්පතා! මිනිහගෙන් මංකොල්ල කාලා! විනාශ කරල! උඹ කණගාටු වෙන්ට එපා අමනයා! උඹට ලනු අඹරන රස්සාව ඉගෙන ගන්ට පුළුවනි. හාම්පුතා හොඳ කලිසමක් මහල දේවි. යකඩ වැඩ ඉගෙන ගනින්, ගිනි උදුන ළඟ ඉන්නකොට තොප්පි,කබා ඕන නැහැ... බැටළුවන් ගැන...''

එවිට අමාන් ගොනෙකු සේ තප්පුලමින් මා ලුහුබඳින්නට විය. ඈත දුව ගිය මම දිගටම කතා කළෙමි:

''මේ අහපන් අමාන්බායි, බැටළුවො, අස්සයො ඔටුවො උඹට මක්කටද? උන්ට කන්ට දෙන්න ඕන, උන්ට ලගින්න මඩු හදන්න ඕන. ඊට වඩා හොඳයි උඹ සතුන් විකුණන කඩ පොලට ගිහින්, හිතාගනින් එතැන ඉන්න සතුන් ඔක්කොම උඹේ කියල. ඒකත් මදි නම් පලයන් සර්කස් එකට. උඹ දන්නවද යුපාතව්ගේ සර්කස් එක... උඹට ටිකට් එකක් ගන්න සල්ලි නැතුවට ඔය හිලකින් බලපන්... ඔටුවා මදිනම් අලියාවත් ගනින්! මුරකාරයගෙන් විතරක් ගැලවියන්, එයාගෙ කෙවිට උඹ දන්නව නෙව...''

එකතැනකට වී සිටි අමාන් මා වෙත කඩා පැනීමට මාන බලන සැටි පෙනේ. ඔහු මට වඩා ශක්තිමත්ය, බරය. මා ඔහුට වඩා කඩිසරය. ඔහුට මා සමග දුවන්නට බැරිය. ඔහු හිටි හැටියේම සුසුම් ලෑවේ බැලුන් බෝලයක හුළං ගියාක් මෙනි. කෙවිට ගත් ඔහුගේ අත පහත වැටිණ. ඔහු කෙළ ගැසුවේය:

''යාළුවෙකු හැටියට බලනවිට උඹට වඩා වටිනව බලු කුණක්. ඌව සබන් කාරයට හරි විකුණන්ට පුළුවනි... උඹ යකාට පළයන්! උඹගෙ මූණත් තහඩුව එලොවදිවත් ආපහු මට දකින්ට සිද්ද කරන්ට එපා!..'' යැයි කී ඔහු ආපසු හැරී යන්නට විය.

එහෙත් ඔහු යන්නේ කොහෙද? ඔහු ආපසු ගියොත් බායිගේ අතවැසියන් ඔහු අල්ලා ගනු ඇත. බායිගේ හරකා මරා දැමූ නිසා ඔහු පොලිසියට භාර දෙනු ඇත. එවිට ඔහු සරිබීරියාවට

පිටුවහල් කොට දමුවහොත් මුළු ජීවිතයම එහි ගත කිරීමට ඔහුට සිදුවේ. බල්ලකු මෙන් ඇවිද නැවත එම මගම යනු ඇත. ඔහුට ඇසෙන සේ කෑගැසුවෙමි:

''ඒ! ගරු කටයුතු අමාන්බායි! තමුසෙගෙ යාළුවන් වන එඩේරුන්ට, අසරුවන්ට ලියුම් දෙන්නෙ එහෙම නැතිද? එහෙම නැතුව දැන් තමුන්නාන්සෙ බායිල එක්ක විතරක්ද සමාගම් පවත්වන්නෙ? කාටද ශුභ පැතුම් භාර දෙන්නෙ අරිප්හොජෙ-ඉෂාන්ටද? මහසුද්දනු-දුමේටද? ගුලයාම්හානු-කසීටද? ඒ! ගරු කටයුතු අමාන් බායි?''

ඔහු පිටි කොන්ද දෙකටනවාගෙන මගේ කතාව නෑසුනාක් මෙන් මා දෙස හැරී නොබලාම යන්නට ගියේය.මා තුළ ඔහු නිසා ඇතිවූ කෝපය නිවී ගොස් දැන් අනුකම්පාවක් හටගෙන ඇත. නැවත මම තනිවීමි. දැන් ඉතින් කොහේ යන්ටද?..

ඇත්ත වශයෙන්ම කොහේ යන්ටද? මම අමාන් උපහාසයට ලක් කළෙමි. දැන් තමයි, ඔහු කී වචන ගැන මට කල්පනා කිරීමට සිත් වූයේ. මේ තරම් දිගු කලක් ඇවිද වැරහැලි ඇඳගෙන හිස් අතින් ගමට යන්නේ කොහොමද? වැන්දඹු මාතාවක් වන මගේ මව කොතරම් දුක් විඳින්නීද! අතේ ශතයක්වත් නැතිව ගමට යන මට කෑම ඇඳීම දීම සඳහා ඈ තවත් කොතරම් මහන්සි විය යුතුද! ඔවුන් මා බලාපොරොත්තුවෙන් සිටින්නේද? අනිත් අතින් මාත් අමනුත් තෂ්කෙන්ට් යාමට තීරණය කර ගතිමු. ඇත්ත වශයෙන්ම අපට මේ පළාතේ නැවතී යමක් හරි හම්බ කරගැනීමට ඉඩක් නැත. අපේ වැඩ ගැන ආරංචි දැනටමත් මේ පෙදෙස පුරාම පැතිර ගොස් ඇත. ඉෂාන්බසාර්, කොක්-ටෙරාක් සහ ඊට යාබද පෙදෙස්වලට ගියොත් මා කපෝතියි. තෂ්කෙන්ට් නගරය පමණකි මා ඉදිරියේ ඇත්තේ.

හිත වී කුරුල්ලෙකුගේ මෙන් බියසුළු නම් කළ හැකි හොඳම දේ පිරිසක් අතරට වැද සැඟවීමය. එහෙත් එවැනි පිරිසක් සොයාගන්නේ කෙසේද? ගම්වල එවැනි පිරිස් නැත. කැඳ කෝප්පයකට වැටුණු මැස්සකු මෙන් හැම එකාටම ඔබ පෙනේ. නගරයට වැදුණු මිනිසකු සෙවීම බැටළු හමට රිංගා ගත් මැක්කකු සෙවීම තරම් දුෂ්කරය.

නගරය...

මහ මග ඔස්සේ යමින් නගරය ගැන සිතන්නට වීමි. වෙළෙන්දෝ, පොලිස්කාරයෝ, හිඟන්නෝ. ගඟ දිගට ඇති ඉවුරේ සැටි ඔබ දැක තිබේද? වතුර බොර පැහැතිය. හැම දෙයක්ම ඇදගෙන යයි. ඒ දිය පහරට අසුවී ගසාගෙන යන පතුරකට මා සම කරන්න.ලී පතුරු ගිලෙන්නේ නැති නිසා මාද සමහර විට නොගිලෙනු ඇත. එතරම් බොර පැහැති කුණු රොඩු සහිත දියෙහි පිහිනීම සිත කුප්පන ක්‍රියාවකි. ඇත්ත වශයෙන්ම මම නගරය ප්‍රිය නොකරමි. දුගඳින් පිරී ඇති නගරය කසිප්පු හැලියක් මෙනි. ධනපති බායිලාගේ පුත්තු රෙදි මනින යාරයේ කෝඳු අතින් ගෙන තම රෙදි කඩවල් අසල සිටගෙන මිළදී ගන්නන්ට අඬ ගසති. ඔවුන්ගේ මුහුණුවල කුණු තැවරිලාය. හම තෙල් සහිතය. කඩ පෙළ දිගය, මෙහි වාතය උණුසුම්ය. දූලි ගැවී ඇත. බැටළු වලිගයක් සොරාගත් හොර බළලෙකු මෙන් ඇස් වටකුරු කොටගෙන හැම අත බලන වෙළෙන්දන්ගෙන්ද, හිඟන්නන්ගෙන්ද, ඇටසැකිළි මෙන් කෘශ ශරීර ඇත්තන්ගෙන්ද කඩ පිල් පිරී ඇත. සමහර විට තනිවද තවත් සමහර විට සමූහ වශයෙන්ද ඔවුහු ගමන් කරති...

මා නගරයට කැමති නැත. කසාක් ජාතික පියකු සහ පුතකු කඩ පෙළක් පසුකරගෙන යන විට පුතා පියාගෙන් මෙසේ ඇසීලු:

''තාත්තෙ අර මිනිස්සු මොනවද කරන්නෙ?''

''පුතේ පොළ තියන දට උන් මිනිසුන්ව රවටනව, නැති දට එකිනෙකා රවටාගන්නව...'' යැයි පියා පුතාට කීල.

කුමක් කරමිද; අහස ඇතය, පොළව තදය, ශීත කාලයත් හොඳටම ළං වෙලාය. හිම කුණාටු සහිත ශීත කාලය මිනිසුන්ට පීඩා කරයි. මා කහළ ගොඩකට වීසිකොට ඇති පොට්ට කාසියක් නොවේ. කුකුළෙකුට නම් ධාන්‍ය ටිකකුයි වතුරයි තිබුනම හොඳටම ඇති. මිනිසෙකුට බොහෝ දේ ඕනැය... ගිම්හාන කාලයේදී ගිනි මෙන් රත්වන පාරවල් දූන් සිසිල්ය. ධූලි සනවූ සැටියකි. ගිම්හානයේදී මෙන් ධූලි ඉහළ නොනගී. ඇල, දෙළවල ගලාබසින ජලය පළිඟුවක් මෙන් විනිවිද පෙනේ. ඉක්මනින්ම රාත්‍රි කාලය ශීත වනු ඇත. පිණි බිංදු හිම බවට පෙරළේ. දෙළ දෙපස ජලය, කිරි යොදයක් මෙන් සුදු පැහැති අයිස් තට්ටුවකින් වැසේ.

මව ගැනත්, සොහොයුරියන් ගැනත් සිතමින් මම ගමන් කරමි. අප හැම දෙනම දුකින් බරවූ ජීවිත ගත කරන්නේ කාගේ වරදින්ද? ඔව්, කාගේ වරදින්ද? මගේ වරදක් නිසාද? මා වැදගැම්මකට නැති පුද්ගලයෙකු වූයේ ඇයි? කිසියම් ශිල්පියෙකු වෙත ගොස් ශිල්පයක් ඉගෙන ගැනීම හෝ ආවතේවකාරයෙකු වශයෙන් වැඩකිරීම හෝ කළ හැකිය. ඒ වෙනුවට මම රස්තියාදු වෙමි. මා කොතරම් ඇවිද ඇත්ද යන්න දන්නේ මගේ දෙපා පමණි. කිසිවක් වෙනස් වී නැතිය. අවට අළුතින් කිසිවක් මතුවී නැත. පාරවල් පාළුවෙලාය, නිහඬය...

තවලමක් ඇත එන හඬ ඇසේ. කන් යොමා අසා සිටිමි... සැබවින්ම එය තවලමකි. පාළු පාරක දඩාවතේ යන්නෙකුට ඒ තවලම නගන මුදු ස්වර්ණමය සීනු හඬ තරම් සිත්ගන්නා තවත් දෙයක් තිබේද? ඒ තවලමේ ගමන් කරන්නේ ඔවුවන් නොව දේව දූතයින් බවත්, ඔවුන් එඩින්නේ යහපත් මහක සලකුණු කීමට බවත් සිතේ:

''තවලම නයිල් නදියට එන විට
ඇ පිළිගැනීමට හිරු නැග එයි
රිදීමය සීනු නද දෙයි
ඩිං ඩොං, ඩිං ඩොං...''

තවලම තවත් ළං වෙයි. එහි ඔටුවන් පහළොවක් පමණ වේ. ඔටුවන් පස්දෙනා බැගින් එක් කඹයකට බැඳ එහි කොත්, බූරුවන් පිට නැඟගත් මහල්ලෙක් හා තරුණයකු ගෙන ඇත. ඔටුවන් පිට පිදුරු පටවලාය. පාර අයිනට වූ මම තවලම හොඳටම ළං වූ විට ආචාරශීලිව මෙසේ ඇසුවෙමි:

''ඇත ගමනක්ද? පියතුමාණෙනි!''

මට ඒ වචන කියා අවසාන කළ නොහැකි විය. බූරුවකුගේ කරට ලනුවකින් බැඳ තිබුණු බල්ලෙක් මා වෙත කඩා පනිමින් බුරන්නට විය. ඌ බැඳ තිබුණු නිසා මා බේරුනි.

''පුතේ උඹ මෙතන මොනවද කරන්නෙ? මේ පාර අන්තරාවක් නැතිද?'' යි මහල්ලා ඇසීය.

''අනේ පියාණෙනි! අතරමංවූ මම කිසිවකුගෙන් පිහිටක් බලාපොරොත්තුවෙමින් ඇවිදිනව. මගේ වාසනාව ඔබ තුමා හමුවීම...''

''අර ස්ටෙප්ස් බිම්වලත් තවත් කොල්ලෙක් ඇවිදිනව දැක්ක. උඹල කී දෙනෙක් ඇවිදිනවද කියල කියපල්ල. මට මේ බල්ලාව ලිහල දන්ට...''

''අනේ පියාණෙනි, බල්ලාව විතරක් ලිහන්ට එපා. බල්ලො දකිනවිටත් මගේ බඩ රත් වෙනවා. ස්ටෙප්ස්වල ඇවිදින කොල්ලා කවුද කියල මම දන්නෙ නැහැ. මම දෙවියන්ගෙ

වහලෙක්. කිසිවකුට වරදක් කරල නැහැ! මාවත් ඔය තවලමට අරගන්න. මම තවලම පිටිපස්සෙන් එන්නම්. මම බැගෑපත්ව ඉල්ලා සිටිනව. මට බලකිරීම පුළුවන්ද?..''

''ඔහෝ! උඹ හරිම වාචාලයෙක් වගෙ! උඹ ස්ටෙප්ස් බිමේ යන කොළුවාව හඳුනන්නේ නැත්නම් එයා මොකටද උඹට තිත්ත කුණුහරුපෙන් බැණ වැදුනෙ?''

''එයා බැන්නෙ මොකටද කියල මම දන්නෙ කොහොමද? ඔහෙ බැණපුවාවෙ. මට ඇහෙන්නෙ නෑ නෙව. ඕන දෙයක් කියා ගෙන ගියාවෙ. බණිනකොට මිනිහගෙ බඩ පිරෙනව ඇති.''

මහල්ලා හඬ නගා සිනාසුණේය.

''උඹ එයාව දන්නෙ නැහැ, එහෙමද? හොඳයි තවලම ළඟින් වරෙන්, මොනව කරන්ටද!''

මම මහල්ලා අසලින් ගමන් කරන්ට වීමි. ඔහු ඉඳහිට මා දෙස බලන්නේ, මා සිතන්නේ මොනවාද යන්න දැනගන්ට මෙනි. මා පිටුපසින් එන තරුණයා සැක සිතින් නිතර මා දෙස බලයි. බල්ලාද ඉඳහිට හෝ බුරන්ට අමතක නොකරයි. මේ විදියට බොහෝ වේලාවක් අපි නිසලව ගමන් කළෙමු. සවස් වෙන්ටත් ආසන්නය. සඳ අහස් ගතවුණද එහි සේයාව නොපැහැදිලිය. අහස අරක්ගත් සූර්ය දිව්‍ය රාජයා ඉවත්ව යන තුරු හඳ හාමි කලාමැදිරියෙක් මෙන් නොපැහැදිලිය. හිරු බැස ගිය පසු අහසත් පොළොවත් ආලෝක කරන චන්ද්‍රයා හැම තැනම එබී බලන්නට පටන් ගනී.

සඳ දෙස බලමින් මා කල්පනා කළේ මහල්ලා සමග කතා කිරීමට සුදුසු අවස්ථාවක් ගැනය. බොහෝ දුරක් නිහඬව ගමන් කිරීම මට නම් වධයකි. කතාකිරීමට යම්කිසිවෙකු සිටින විට කෙසේ නම් කතා නොකර සිටිය හැකිද?

''ලොකු තාත්තෙ, අහසෙ ඉස්සෙල්ලාම දකින්ට ලැබෙන දීප්තිමත් තාරකාවෙ නම මොකක්ද?''

''හා-හා! උඹ හරිම කපටියෙක් තරුගැන ඉගෙන ගෙන විජ්ජාකාරයෙක් වෙන්ටද?''

''ඒ කොහොමද විජ්ජාකාරයෙක් වෙන්නෙ?''

''මම දන්නව. විජ්ජාකාරයො තරුවක් දිහා බලපු හැටියම වැස්ස පටන් ගන්නව'' යැයි කී මහල්ලා සිනාසෙන්ට වූයේ සුහද සිතිනි. මම පුදුමවීමි.

''අනේ ලොකු තාත්තේ ඒ තරුවෙ නම කියන්ටකො!''

''උඹ අහන්නෙ අන්න අතන ඉක්මනින්ම බැබලෙන්ට පටන් ගන්න තරුව ගැනද? ඒකෙ නම සිකුරු, උඹ දන්නවද කොලු පැංචො තරුවලටත් ඉතිහාසයක් තියෙන බව. ඒ තරුව එක දුප්පත් මිනිහෙකුගෙ දුවක්. ඈ පුංචි කාලෙදි දෙමාපියන් මළා. ඈට විවාහයක් කර දීමට මඟුල් කපුවො ඉදිරිපත් වුණා. ඒ දැරිවි තරම් ලස්සන කෙල්ලක් මේ මහ පොළොවෙ හිටියෙ නැහැ. ඒ දැරිවි මෙහෙම කීවා: ''මගේ හිත ගිය කෙනෙක් ඉන්නවා. මම එයා සමග විවාහ වෙනව.'' මඟුල් කපුවට කේන්ති ගියා. ඇගේ ආදරවන්තයාව අල්ලා මරා දමන්ට තීරණය කළා. සත්තකින්ම එයාට පුළුවන් වුණා ඇගේ ආදරවන්තයාව මරා දමන්ට. එයාව එල්ලා මරා දැමූ එල්ලුම් ගහ හරිම උසයි, හරිම දිගයි. එද රෑ එල්ලුම් ගහ ළඟට ආ සිකුරු ඒක දිගේ නැංගා. ඔහොම නැගලා නැගලා නැගලා ගිහිල්ලා එල්ලුම් ගහ මුදුනටම ආවා. එතැන ඉඳල අහසට අතේ දුර! දැන් ඉතින් මම මහ පොළවෙ ඉඳගෙන මොනවා කරන්ටද? මහ පොළවෙ දුෂ්ටයින් නැතිවී යහපත් මිනිස්සු ඇතිවන තුරු මම අහසට වෙලා ඉන්නවා කියල සිකුරු තීරණය කළා. ඔන්න ඉතින් එද සිට සිකුරු උදේටයි හවසටයි මහ පොළව දිහා බලා හිතනව දුෂ්ටයින් නැතිද කියල! තවම උන් ඉන්නව නෙව... අරුණෝදය

මුණ ගැසෙන මිනිසුන්ට සිකුරු එද සිට වාසනාව ලබා දෙනව. බොහෝ වේලාවක් නිඳ ගන්න මිනිසුන්ට අවාසනාව ගෙන දෙනව!''

කට අයාගෙන මම මහල්ලාට කන් දුනිමි. මෙලොව කොතරම් වැදගත් දේ තියෙනවද, මා ඒවා ගැන අසා නැත.ඔය විදියට වෙන වෙනම තරු ගැන කියන්නේ නම් දවස් දහස් ගණනක් වුවත් අසා සිටිය හැක! මා වාසනාවන්තයෙකි. මහල්ලා අහසේ ඉරක් අඳින්නාක් මෙන් සිකුරු තරුවේ සිට තවත් තරුවක් වෙත අත යවමින් කතා කළේය:

''අන්න අතන, උතුරු දිසාව බලපන්. අර තියෙන්නෙ උතුරු දිග තරුවයි. ඒ තරුව දෙස බලාගෙන යන්නාට කිසි කලෙක මග වරදින්නෙ නැහැ. මතක තියා ගනින්.'' අහස කොටස් දෙකකට වෙන් කිරීමට මෙන් මහල්ලා අත දිගු කළේය.'' අර පැහැදිලි තීරුව දන්නවද? ඒක තමා අහස් ගඟ! මෙලොව ඇතිවූ ද සිට මිනිස්සු ඒ අනුව ගමන් කරනව. ඔව්, ඔව්...'' හේ දිග සුසුමක් හෙළීය. ''මා පළමුවෙන්ම ඔය අහස් ගඟ දකින විට උඹේ වයසම ඇති. දැන් මම නාකි වෙලා. ඒ උණාට අහස් ගඟ ඒ විධියටම වෙනස් නොවී තියෙනව, දැන් උඹට තේරුණද ළමා-විජ්ජාකාරයා?

ඒ අතර අඳුර පැතිර යන්නට විය. මහල්ලා පෙන්වූ තරු එකිනෙක අතුරු දහන් විය. ගමන නවත්වා වාඩි ලා ගතිමු. මහල්ලා මට සුහද සිතින් රාත්‍රී ආහාරයට ආරාධනා කළේය. තරුණයා නිතර මා දෙස බලමින් නිහඬව සිටියේය. රෑ බෝවූ විට ඔටුවකු සොරකම් කරගෙන මා පළායනු ඇතැයි ඔහු සිතුවා විය හැකිය... මහල්ලා හිමිදිරි පාන්දර මා අවදි කරන තුරු මම නිදගත්තෙමි.

''නැගිටපන් පුතේ! ගමනට පිටත්වෙන්ට ඕන!'' සවස් වන විට අපි තෂ්කෙන්ට් නගරයට ළංවීමු.

එද දවස ගෙවීගිය සැටි පවා මම නොදනිමි. එතරම් වැදගත් දේ ගැන අප සාකච්ඡා කළ නිසා විය යුතුය. එද තවලම සමග ගිය මට ඒ මහල්ලා කී සිත් ඇදගන්නාසුළු කතා මගේ ජීවිතයේ කිසි දිනෙක අමතක නොවේ... සවස් වන විට තෂ්කෙන්ට් නගරයේ උතුරු දෙරටුව වන චිගතායි-දර්බාසාවට අපි පැමිණියෙමු. මහල්ලාගෙන් වෙන්වීමට සිදුවන බැව් මතක්වූයෙන් මා තුළ සෝකයක් හට ගත්තේය. අවුරුදු සිය දහස් ගණනක් තිස්සේ මා ඔහු හඳුණන බව මට සිතේ...

ඔටුවන්ගේ කර බැඳි සීනු දෙම්නස් හඬක් පිට කරයි. ඒ හඬ නගරයේ මැටි තාප්පවල වැදී දෝංකාරයක් නගයි. අප තුහතජන්බායිගේ පල්ලිය අසලින් යන විට, එහි සූපිගේ නහයෙන් පිටවන අමිහිරි හඬ අපට ඇසිණ. එතරම් අමිහිරි හඬක් තවලමේ බල්ලාවත් අසා නැත. ලිං තාප්පයක් වැනි පල්ලි කුළුණට වැද දෙකට නැමිගෙන සූපි කෑගසයි.

''හයිනා හනන්භාලා... හයිනා හනන්භාලා...'' වෙර දරා කෑගසයි. තවලම් බල්ලා පවා කියව් උඩුබුරලන්ට විය.

''බලන්නකො කොච්චර ලස්සන කට හඬක්ද කියල'' මෙසේ කී මම කුළැටි ලෙස මඳ සිනා පෑවෙමි.

''සර්වබලධාරී අල්ලා ඒ දුප්පතාට දඬුවම් දෙකක් දීල තියනව. එකක් නහයෙන් කතා කිරීම, අනික සූපි නැමති උප පූජක පදවිය. ජේනව නේද මිනිහ තටමන හැටි...'' යැයි මහල්ලා කීය.

සපත්තු කඩ පෙළ අසලදී මම මහල්ලාගෙන් සමු ගත්තෙමි. ඔහු තම ඔටුවන් දක්කාගෙන වාඩියට ගිය අතර මම පොළට වී ඒ මේ අත ඇවිද්දෙමි. එහෙත් මට කිසිදු වාසියක් නොවීය.

මහල්ලා සමග ගමන් කරන විට තවලම් බල්ලා කඩ පොළට බයවී සිටින සැටි දුටුවෙමි. ඌ කඩ පොළ අසලින් ගමන් කළේ මහල්ලාගේ බුරුවාට හොඳටම ළං වෙමිනි. ඌ බයවී ඇත්තේ මුරකාරයන්ටය. හැම කඩයක් ඉදිරිපිටම මුරකරන ඔවුන් දුම් කුඩු උරමින් යමෙකු ළං වන විට මහ හඬින් ප්‍රශ්න කරති. ''කවුද ඔතන?'' එහෙත් ඇත්ත වශයෙන් තවලම් බල්ලා බියවී සිටින්නේ පොළ පුරා ඇවිදින දඬාවතේ යන බලු රංචුවටය. මස් කඩ පෙළ හරහා යන මම එය දැනගතිමි. ඒ බලු රංචුවේ නායකයා දැවැන්ත කළු බල්ලෙකි. ඌ මා දැක නපුරු ලෙස බුරන්නට විය. මෙතෙක් වෙලා මෙහි මා නැතිව සියලු කටයුතු අගේට සිදුවූ බවත්, ඒ ගැන මා අවිශ්වාස කරන්නේ නම් එය ඔප්පුකළහැකි බවත් ඌ අභියෝග කරන සැටියක් උගේ නපුරු හඬින් දැනගත හැකිවා සේය. මම ආචාරශීලි ලෙස උගේ අවවාදය පිළිගෙන සබන් කඩ පෙළට වැදුනෙමි. මෙහි සිටි බලු රංචුවද එලෙසෙම නපුරුය. එක ගැටවරයෙකු වට කරගෙන උන් ඔහුට පහර දෙන සැටි දුටු මම දුවන්නට විමි. බලු රංචුව ඔහු අතහැර මා ලුහු බඳින්ට විය. මා නැවතුන විට උන් මා වටකරගෙන සබන් කඩ පෙළ අවසානයටම ගෙන ගොස් ඇරලූහ. ඔවුන්ගේ ආචාරශීලි හැසිරීම ගැන මම පැහැදුනෙමි. ඉක්මනින් නාන කාමර පෙළ පසුකොට වළං විකුණන කඩ පෙළට වැදුනෙමි. දෙයියන්ට ඔප්පුවේවා! එතැනත් බලු නඩයකි. මා නැතිව සිටි මේ දවස්වලදී රුස්වූ බල්ලන්ගේ ගණන කොපමණද? මේ තරම් සංඛ්‍යාවක් බල්ලන් ඇතිවූයේ කොයින්ද? එපමණක් නොව උන් සැක කරන සැටි.

මස් කඩ පෙළට වැද ලගින බල්ලන් මට කඩා පැන්න සැටි තේරුම් ගත හැක. උන්ගේ කටු මා උදුරාගැනීමට එන බවට සැකයක් පහළ වූ නිසා විය හැකිය. සබන්කඩ පෙළ අරක්ගෙන සිටින බලු රැළද කටුවලින් සූරාදමන කොටස් ලබාගැනීමට ආ කෙනෙකැයි සිතා මට කඩා පැන්නා විය යුතුය. එහෙත් වළං කඩ පෙළේ ලගින බලු නඩය මට කඩා පැන්නේ ඇයි? හිස් කළගෙඩි ගිල දැමීමට හෝ බුරියානි රහිත ඇතිලි සැපීමට හෝ වළංකාරයින්ගේ බට උදුරාගැනීමට හෝ මා ඇවිත් තිබේ යැයි සිතූ නිසාද? ඇත්ත වශයෙන්ම එය කණගාටුවට කාරණාවකි!

සිත් තැවුලෙන් යුතුවැ මම කප්පායි වලින් පිටවී මහ්කම කඩ පොළ පටන් ගන්නා හස්ටී-උක්කොෂ්ගේ මුස්ලිම් පල්ලිය අසලට ගියෙමි. මේ පෙදෙස මගේ අත්වල ඇඟිලි මෙන් ඉතා හොඳින් දැන සිටියද අද මට ඒවා අළුත් පිටස්තර දේ මෙන් පෙනේ. බොහෝ කලකට පසු මා මෙහි ආ නිසාද නැතිනම් මේ තරම් රැබෝවී මෙහි කිසිදිනක නොපැමිණි මා අද මෙහි ආ නිසාද යන්න කිව නොහැක. මට උක්කොෂා ගැන සිහිවිය. උක්කොෂා, අරාබි ජාතික යුද්ධ නායකයෙකි. ඔහු මේ පෙදෙසට විත් මෙහි ජනතාව යටපත් කර ගැනීම සඳහා සටන් කරද්දී අපේ මුත්තෙකුගේ හී සැරයකින් මිය ගියේය. උක්කොෂාගේ සොහොන මත අරාබිවරු මුස්ලිම් දේවස්ථානයක් ගොඩ නැගූහ. වන්දනා කරුවන් සිය ගණනින් විත් මේ දේවස්ථානයේ ගල් සිපගෙන ඔහුගේ සොහොනට ආචාර කරති. එහෙත් ඔහු අපේ මී මුත්තන් මරා, නගර ගම් ගිනි තබා, සතුන් පැහැරගෙන අප විනාශ කර දැමූවෙකි. ඔහු මෙහි ආවේ අප සුවකිරීමට නොවේ, අපට ආධාර දීමටද නොවේ. පීතෘ ඝාතකයාට මවද භාරදෙනු යැයි ප්‍රස්තාව පිරුළක් ඇත. මෙයද එවැනිම ක්‍රියාවකි. ඒ සොහොනට යටින් දිය උල්පතක් මතුවී ඇත. ඒ දිය බී සුවය ලබාගැනීමට වන්දනා කරුවෝ මෙහි එති. මා දිය උල්පත් බොහොමයක් දැක තිබේ. බොහොමයක වතුර රසය, උල්පත්ද ලොකුය. කුඩා දරුවකු සුළුදිය වක්කරන සැටියක් මතක් කරවන මේ උල්පත මෙන් නොවේය ඒවා. එහෙත් එකෙකු වත් ඒ උල්පත් සොයා නොයති. බොහෝ ඈත සිට එන්නේ මේ උල්පත වෙතය. එක වන්දනාකරුවකුට දිය බිංදුව බැගින්

ලබාගැනීමටවත් නොහැකි වනු ඇත. පව් සමාකරගැනීමට නම් එම උල්පත් ජලයෙන් ස්නානය කළ යුතුයැයි කියති. මෙතැන ස්නානය කරනවාට වඩා වතුර හැන්දක හිස ඔබා ගැනීම මැනවි. හැම දෙයක්ම දන්නා බව පෙන්වන වැඩි හිටියන් සමහර විට කරන මෙවැනි ළාමක වැඩ නිසා ඔවුන් අත දරුවකු පවා සිනහස්සනු ඇත.

හස්ටි-උක්කොෂා නමින් ඇති ඒ මුස්ලිම් පල්ලියෙන් ඈත්වී මේ වර මා ගියේ රොටී පුළුස්සන බේකරියටය. මෙතැන රාත්‍රියද දහවල් මෙන්ම ආලෝකමත්ය. කළු පැහැගත් රකුසන් වැනි උදුන් කීපයකි. ඒවා තුළ ගිනි දැල් රත් පැහැති දිවවල් මෙනි. සුදු පැහැති ලෝගු හැඳගත් මිනිස්සු උදුන් වලට හිසත් උඩුකයත් ඇතුළු කරමින් රන්වන් පැහැයෙන් යුත් රොටී ඇදගනිති. ඔවුන්ගේ හිස්වටා සුදු පැහැති හිස් වැසුම්ය. ඒ රොටී කොතරම් රසද! ජීවිතයක් වුවද ඒ රොටී සඳහා පිදීම කණගාටුවට කරුණක් නොවේ. එය රොටියක් නොව සඳකි. රොටී පුළුස්සන බේකරිය විජ්ජාකාරයෙකුගේ පරීක්ෂණාගාරයකි. කළු පාට කඳුවලට එහා බටහිර හිරු විසින් සාදන ලද්දකි එය. සඳ අතුරුදහන්වැ ගිය පසු අහස් මණ්ඩලයට යැවීම සඳහා රන් පැහැති පෙති සාදන්නේ මෙහිය...

කොතරම් රස රොටීද! ඒවා සෑදීම පිණිස උසස්තම වර්ගයට අයත් පිටි යොදති. ඒ රොටී වල වාටිය රන් පැහැතිය, මැද කළු පාටය, වටකුරුය, ට්‍යුලිප් මලක් වගේය. ප්‍රණීත රොටී ගොඩක් රැගෙන මේ ගලාබසින දියපාර අසලට වී එකිනෙක ගෙන පොඟවා කඩා කෑම තරම් තවත් සැපතක් ඇත්ද, රොටී ප්‍රමාණය ගලාබසින වතුර මෙන් අඩු නොවිය යුතුය... බඩ පිරුණු පසු ඇඟමැලි කඩා නැගී සිට මුදල් ගෙවනවා වෙනුවට ස්තුතියි කියා තවත් දුර යන්නට ඇත්නම්!

මා ඉතා වාම් පුද්ගලයෙක්මි. රොටී පිලිස්සෙන සුවඳ පවා මගේ කුසගිනි නිවාලයි. මේ ගිනි උදුන් අසලට වී එළිය වැටෙනතෙක් ඉන්නට ඉටා ගතිමි...

රොටී සුවඳින් මා සිත පිනාගියේ මඳ වෙලාවකට පමණි. මා අසලින් අවුරුදු හැටක් පමණ වයසැති මහල්ලෙක් ගමන් කළේය. හේ මඳක් කුදුය. එක් උරහිසක් වසා තුවායක් ඇඳ සිටි ඔහුගේ දෙපා ඉතා උසස් වර්ගයේ පාවහන් වලින් වැසී තිබිණි. ඒවා දිලිසෙන්නට මැදලාය. විනාඩි පහකට පමණ පසුව ඔහු බේකරියෙන් එළියට ආවේ තුවාය නවා සාදගත් රොටී මල්ලකුත් අතැ'තිවය. ඔහු මා දෙස විමැසිල්ලෙන් බලා මෙසේ ඇසීය:

''අනේ කොළුවෝ, උඹට මේ රොටී ටික උස්සාගෙන එන්ට පුළුවන්ද?''

''හොඳමයි, පුළුවනි'' යි කී මම මල්ල අතට ගතිමි.

ඔහු පිටුපසින් මම ගමන් කරන්ට වීමි. මහල්ලා අත සැර මිටියකි. ඔහුගේ ඇසට හමුවන හැම කඩදසි කැබැල්ලක්මත් රෙදි කැබැල්ලක්මත් හැර මිටි තුඩින් ඇන ඔහු පිරික්සා බලයි. ඔහු රත්රන් සොයනවා විය යුතුය, නැතිනම් මොහමඩ් නබි තුමා විසින් අළුතින්ම එවන ලද දේව වාක්‍ය සොයනවා විය යුතුය! මහල්ලා ඉන්පසු ගෙවල් වටා ඇති මැටි තාප්පවල පුපුරා ගිය තැන් වලට ඇන බලමින් මොනවාදෝ සොයන්නට විය. උණු රොටී මල්ල කරින් ගෙන යන මම, මටත් උණු රොටී බාගයක්වත් ලැබේද යන්න ගැන සිතමින් ඔහු පිටුපසින් ගියෙමි. පොත් ගෙනියන බූරුවකු මෙන් තමා ගෙනයන්නේ මොනවාදැයි නොදනම මහල්ලා ගෙන් සමුගැනීමට සිදුවේද. මහල්ලාට මෙතරම් රොටී මොනවාටද? සුන්නත්* උළෙලකට පැමිණි අමුත්තන් සඳහාද? එවැන්නක් සඳහා මේ රොටී තොගය නොසෑහේ. පවුලකට නම් මේ රොටී

* සුන්නත්—මුස්ලිම් ආගමික සිරිතත් වන චර්ම ඡේදනය.

ගොඩ විශාලය. ඔහුගේ පවුල කොතරම් විශාලද යන්න මා දන්නේ කොහොමද? කුකුළා හඬලන්නටත් පෙර ඔහු නැගී සිට රොටී මිළදී ගත්තේ ඇයි? වීදි කීපයක් පසුකර ගොස් දිය පාරක් අසලින් ගමන් කරන්නට වීමු. මහල්ලා කරුණාබර ගතියකින් මා සමග කතා කරන්නට විය. ඔහුගේ කට හඬ මුදුය, ප්‍රියංකරය.

''මොකද පුතේ උඹ මේ රෑ යාමෙ හිට දඩාවතේ යන්නේ? මොනවහරි නැති උනාද?''

''නැහැ, සීයෙ, මම මේ ස්ටෙප්ස්වල ඉඳල රෑ ආවෙ!''

''ඒකත් එහෙම තමා. තෂ්කෙන්ට් නගරෙ වී කාපු, වී කුරුල්ලො මැකාවට ගියත් ආපහු එනව. උඹට දෙමාපියන් ඉන්නවද?''

මේ මහල්ලා මා ගැන හාරා අවුස්සන්නේ මන්ද? ඔහුගෙන් ගැලවී ගනු පිණිස මම පිළිතුරු දුන්නෙමි.

''නැහැ. මැරිලා!''

''ඒකත් එහෙම තමා. දෙමාපියන් සදකාලිකවම ඉන්නෙ නැහැ. සුරතල් වහු පැටවා මව්වරුන් දෙදෙනෙකුගෙන් කිරි බොනව කියන කතාව අහල තියෙනවද? උඹ දක්ෂ නම් තව තාත්තා කෙනෙකු සොයා ගන්ට පුළුවන් වේවි... අම්මා කෙනෙකු ඉබේම ලැබේවි... අමාරුම කාලය උඹ පසුකර ඉවරයි පුතේ, ඉදිරි කාලය ලේසියි. එක නපුරක් තියනව. මෝඩ මිනිස්සු වැඩිවෙල. ඒකත් එතරම්ම නපුරක් නෙවි. අපි හොඳනම් නපුර පරදිනව නේද? උඹට සපත්තුවත් නැහැ. හිත නරක් කර ගන්න එපා. කඩිසර පාදවලට පාවහන් ලැබෙනවාමයි. පාද ප්‍රවේසම් කරගන්න ඕන. ඔන්න ඔහොම තමා...''

ඔහු ඉක්මනින් කතා කළේය. නිසලව ගලා බසින දිය ඇල්ලක් සේ ඔහුගේ කතාව මුදුය. ඔහුට සවන් දෙමින් මම නිහඬව ගමන් කළෙමි.

''ඔව්, පුතේ, දැන් අවුරුද්දකටත් වැඩියි යුද්දෙ පටන් අරගෙන, තේරුණද? එද ඉඳල බඩු මිළත් ඉහළ නැංගා. සපත්තු මිළත් වැඩිවෙලා තේරුණද! සාර්ලාට නිකං ඉන්ට බැහැ. වසංගතයක්වත් උන්ට හැඳෙන්නෙ නැහැ නෙව, අපේ සුදු සාර්ට කිසිම දෙයකින් පාඩුවක් තියනවද, සාමයෙන් රට ආණ්ඩු කරගෙන හිටියානම් ඉවරනෙ. අයිස් ක්‍රීම් කාලා, මිනීමරුවන් එල්ලා දැම්මට නියම කරල, අන්තඃපුර ගෑනු සමග විනෝදවෙලා ඉන්නෙ නැතුව යුද්දයක් පටන් අරගෙන! එයාගෙ පුර වැසියො සූර්යා දැකපු ඉටි වගෙ මුදුයි, පොලිසිය නිතරම සූදනමේ, කඩුව අමෝරාගෙන. 'අල්ලපන්!' කී හැටියම ඇල්ලුවා. ඉෂාන්ලා, උලෙමාලා* එයා වෙනුවෙන් දවසකට පස් පාරක් දෙවියන්ට යාච්ඤා කරනවා. සර්වබලධාරී අල්ලා එයාට සල්ලි ටොන් ගණනින් එවනවා. රටේ ඉන්න ඔක්කොම පොහොසත්තු එයාට සල්ලි දෙන්න ලෑස්තියි. ඉතින් මිනිහෙකුට තවත් මොනවද ඕන? එයා යුද්දයක් පටන් අරගෙන. මිනිස්සු මරනව. නගර ගම් විනාශ කරනව. හිස් කාන්තාරයෙක අධිරාජ පදවිය ලබාගැනීමට එයාට ඕනවෙලා.''

අන්තිම වචන කීපය ඔහු ගීතයක් මෙන් ගායනය කරල් මා දෙස නොබලමිනි. තරමක් නිහඬව සිටි හෙතෙම ගීයක් ගයන්නට විය. මම ඔහු පිටුපසින් නිහඬව ගමන් කළෙමි:

''දෙමාපියන් ඉන්නවනම්
තරුණ බවත් තියනවනම්
නෑයන් පළි නොගනී නම්
ලෝකෙ වටේ රවුම් ගහවි!''

---

* උලෙමා—මුස්ලිම් පූජක පැළැන්තියේ නායකයෙක්.

ඔහු යම්තමින් කහින්නට වූයෙන්, ගීයද එයින් අවසාන විය. මහල්ලා නැවත දෙඩමළු විය.

''මා ෂෙයික්ලාගේ බිල්ලක් වෙච්. මියගිය මගේ තාත්තා දෙවරක්ම මක්කමට ගියා. අවසාන වර මාවත් කැඳවාගෙන ගියා.පිටරටවලදී අපට විඳින්නට සිදුවූ දුක් ගැහැට කොපමණද! ඒවා විඳින්නේ නැතිනම් කෙනෙකුට භක්තිමත් මුස්ලිම් කාරයෙකු වෙන්ට බැරියයි කියල ශුද්ධ වන්තයො කියල තියනව නෙව... ඒකනම් එහෙම තමා'' හිටිහැටියේ ඔහු ස්වරය වෙනස් කරමින් මගෙන් ප්‍රශ්න කළේය. ''උඹගෙ ගම කොහෙද?''

''මගේද? උච්කුර්ගාන.''

''මා එහි ගියා නම් උඹව නොවේ, උඹගෙ අම්මාව මුණගැසීමට ඉඩ තිබුණා... උඹ අකුරු දන්නවද?''

''දන්නව... 'සුෆි අල්ලාරා' පාඩම ඉගෙන ගන්න කොට මම පැනල ගියා.''

''එහෙනම් උඹ පැනල ගියා. හොඳම පාඩමේදි නෙව උඹ පැනල ගිහින් තියෙන්නෙ?''

''එහෙම වෙන්ට පුළුවනි...''

මහල්ලා හුස්ම ඉහළට ඇදගෙන 'සුෆි අල්ලාරාද' කෘතියේ ''කසිදු අද'' ගීතය ගයත්ම මම එය හඳුනා ගත්තෙමි.

''නිරය මැදින් මහ පාලමකි.
එය සිරාට් නමින් හැඳින්වේ
අසිපතකට වඩා තියුණු, එය
කෙස් රොදකට වඩා සිහින්ය
දෙව්ලොවට යන මග අසීරුය.
නිරයට යන මග ලෙහෙසිය.''

නැවතත් ඔහු තරමක් කහින්නට විය. ඔහුගෙන් වහණය වන කිසියම් දුගඳක් නිසාදෝ මට වමනය දැමීමට සිත්වේ. මම පැන යාමට ඉටාගෙන මෙසේ කීවෙමි:

''සීයේ, මේ රොටී මල්ල පොඩ්ඩකට ගන්න. මම අර දිය පාරෙන් වතුර ටිකක් බීල එන්නම්...''

මහල්ලා වරක් ගැස්සිණ.

''මොනව? වතුර බොන්ට? මොකද උඹට තෙල වැඩිවෙලද, නැතිනම් අස්ස මස් කැවද? යමු. උඹට තේ හදල දෙන්නම්. කිලිටි කොල්ලා! වතුර බොන්න හදනව. හීතලට ඇඟ හිරි වැටෙනව. මේ සරටාන් මාසයයි. හේමන්තය අත ළඟටම ඇවිල්ල. හිම්පිරි පාන්දර එයාට ඕනවෙල තියනව හිස්බඩ අයිස් වගේ හීතල වතුර බොන්ට! මදෑ! උඹගෙ තාත්තයි අම්මයි තාරාවොද?!''

ඇල් වතුර නිසා මහල්ලා මේතරම් කිපී සිටින්නේ මන්දැයි මම පුදුමවීමි. කළ යුතු දෙයක් නැත, ඔහු පිටුපසින් යා යුතුය. රොටී මල්ල අතර මග විසිකර දැමීමට සිත් නොදෙයි. දෙඩමළු මහල්ලා මා පෙරටුව ගමන් කරයි. අවසානයේදී ගැඹුරු දෙණියක් අසල වූ පැරණි ගෙයක් ළඟට ආවෙමු. මම බියගත් සිතින් යුතුව ඒ ගෙය දෙස බැලීමි. මහල්ලා මා දෙස බැලුවේය:

''මොකෝ උඹ පස්ස ගහන්නෙ, වරෙන්, වරෙන් පුතේ ගෙට ඇතුළු වෙයන්...''

හේතු රහිත බියක් මා තුළ උපණි.

''මොකද උඹ හරියට කොටියෙක් දැකපු වහු පැටියෙක් වගෙ? මෙතන මස් මඩුවක් නෙවි. මේක මෙඩ්රෙස්... (ආගම ධර්මය උගන්වන පාසලක්) ඔව්, ඔව්, මෙඩ්රෙස් එකක්... ඒකත් එහෙම තමයි උඹ හරියට ඉගෙන ගත්තෙ නැහැ නෙව, දැන් ඉතින් ඉගෙන ගනින්...''

## 12
## මගේ මෙඩ්රසය

මා තුළ ඇතිවූ බියට හේතුව නොදන වුවද මම බියවීමි. ඒ ගෙදර දෙර දුමින් කළු ගැසී ඇත. ගෙතුළ නාස්පුඩු හකුළවන උග්‍ර ගඳකි. දුමාරය නිසා ඇසින් කඳුළු ගලන්නට විය. ඉස්තෝප්පු කාමරයේ එක් මුල්ලක තරමක ලොකු සමවාරයකි. කාමරය මැද ගල් අඟුරු ලිපකි. ඒ වටා කට කැඩුණු තේ පෝච්චි කිපයකි. කාමරයෙන් අඩක පොළවෙන් අඩි දෙකක් පමණ උසැති ලී මැස්සක් මත සැදූ ලී ඇඳන් කිපයකි. කාමරය ආලෝක කළ භූමිතෙල් ලාම්පුවේ එළිය කළාමැදිරියෙකුට සමානය. එහි වීදුරු බටය දැළි බැඳිලාය. ලාම්පුව වසා ඇති කහ ගැසුණු කඩදසියේ සිදුරක් තුළින් එළිය විහිද යයි. ඝනව වැඩුණු යටි රැවුලක් ඇති මැදි වියේ පුද්ගලයෙක් ලාම්පුව අසල වාඩිවී සිටී. ඔහුගේ යටි රැවුළ සැලකිලි නොලබන ගෙවත්තක් වගේය. හේ ඇස් කණ්ණාඩි කුට්ටමක් පැළඳ සිටී. ඔහුගේ දණහිස් මත මහ පොතකි. ඔහු වටේ විවිධ ඉරියව් වලින් ඉන්නා මිනිසුන් කීපදෙනෙකුට ඇසෙන සේ ඔහු හඬනගා පොත කියැවූවා විය යුතුය. අපගේ පැමිණීම නිසා ඔවුහු අප දෙස හිස් හරවා බැලූහ. පැතලි නහයකින් හෙබි මිනිසෙක් අපේ පැමිණීම නිසා සතුටු වූ බවක් පළ කෙළේය. ඔහු අඟුරු අවුස්සමින් ගිනි මැලය සකස් කළේය.

''ඕ, මෙන්න හජි-බාබා ආවා. එයාගෙන් අහමු!'' යැයි ඔහු කීය.

පොත කියවමින් සිටි පුද්ගලයා හිස එසවිය.

''හජි-බාබා!'' යැයි හෙතෙම ගරුසරු ලෙස මහල්ලා ඇමතුවේය. ''අපට එක තැනක් හරියට තේරුම් ගන්න අමාරුයි. බලැති අබො-මුස්ලිම් රජු සහ නස්රිසයිආර් බියොර් ද්වන්ද්ව සටන සඳහා හොරසන්ගේ ස්ටෙප්ස් භූමියට ගිය විට, නස්රිසයිආර් බට්මන්* අනූහය දහක් බරැති මුගුරකින් ගැසුවේය. එවිට භක්තිමත් රජ තුමා දණක් දක්වා පොළවට එරුනේද නැතිනම් ඉණක් දක්වා එරුනේද?.. ගිය අවුරුද්දෙ අප කියවපු පොතේ දණක් දක්වා කියල තිවුණා, මේ පොතේ ඉණක් දක්වා කියල තියනව...''

''දණක් දක්වා කියල ලියා ඇති පොත නිවැරදි'' යැයි මහල්ලා ගම්භීර ලීලාවකින් කීවේය. ''යෝධයින්ගේ ද්වන්ද්ව සටන් වල රීති අනුව පහරවල් තුනක් ගහන්ට පුළුවනි. පළ-මු-වැනි පහර'' යැයි ඇඟිල්ලක් නවා ගනිමින් ඔහු ඇද පැද කීය, ''ගහපු හැටියට දණක් පොළවට එරෙනව, දෙ-වැනි පහර ගහපු හැටිය ඔහුගේ ඉණ දක්වා පොළවට යට වෙනවා, තුන්-වැනි පහරට උරහිස දක්වා යට වෙනව'' යැයි කී ඔහු ගම්භීර ලෙස ඇඟිල්ලක් නවා වට පිට බැලීය. ''සර්වබලධාරී අල්ලාගේ නාමෙට, ඒ බැල්ලිගෙ පුතා භක්තිමත් රජ තුමාට ගහපු පළමුවැනි පහරින්ම ඔහු ඉණක් එරුනනම්, දෙවැනි පහරට කණ දක්වා එරියාවි නොවැ, එහෙම දෙයක් අහලාවත් තියෙනවද? පැරණි පොත්වල තියෙන ඒව කොහෙන් කියවන්ටද?''

සාධාරණ මරණ තීන්දුවක් දෙන නඩු කාරයෙක් මෙන් ඔහු දැඩි ජයග්‍රාහී ගම්භීර ලීලාවකින් පිරිස දෙස බැලුවේය. නිල් පැහැති තලප්පාවක් බැඳ සිටි කළු වියලි මිනිහෙක් මා නොදන්නා බසකින් පැනයක් ඇසුවේය. අතරමංවූ එකකු ලෙස මම වටවිට බැලුවෙමි. කාමරය පිරී ඇති දුම සහ ගඳ නිසා මට වමනය දැමීමට සිදුව ඇත. ඇස් කඳුලෙන් පිරිලාය. එහෙත් කාමරය තුළ

---

* බට්මනයක බර රාත්තල් 70 ක් පමණ වේ.

සිටින පිරිස දෙස බැලූ විට පැන දිවීමට සිත්විය. මොවුන් කව්ද? මේතැන මොකක්ද? මෙය මෙඩ්රෙසයක් නම් නොවේ, එය ඕනෑම මෝඩයකුට වුවද එකවරම අවබෝධ වෙයි. ඔවුන් කියවමින් සිටියේ ''අබො-මුස්ලිම්ගෙ සටන් ගැන කතා'' නැමති පොත බව මම දනිමි. සමහර විට මෙය දුම්බොන තැනක් වෙන්ට පුළුවනිද? යන අදහස මගේ හිසට ඇතුළු විය.

මා අත තිබුණු රොටී මල්ල ගෙන සමචාරය අසල පෙට්ටියක් තුළ බහා ලිය. ඉන් රොටී අටක් ගෙන තැම්බූ මෑ ඇටහා වියලි මුද්‍රික ඵල මිටක් බැගින් එක් එක් රොටියක් මත තබා එක එකාට රොටියක් බැගින් දුන්නේය. එය මඟුල් ගෙදරක සංග්‍රහයක් සිහියට නැගීය. ඔහුද වටයට වාඩිවිය. මම දොර අසල සිටියෙමි, කිසිදු තීරණයක් ගැනීමෙහි අපොහොසත් වීමි.

''ඒයි, උඹ මොකද හරියට බිත්තියට හේත්තු කරපු උදැල්ලක් වගෙ හිටගෙන ඉන්නෙ! මේ මාමාලාට ආයුබෝවන් කියල මෙතැනින් වාඩි වෙයන්, වරෙන් පුතේ මෙහාට, ඒකත් එහෙම තමයි...''

''අස්සලාම්-අලිකුම්!'' යැයි මම ඔවුනට පහත් හඬින් ආචාර කළෙමි. කිසිවකු අතින් ඇල්ලීමට පවා බියවූ මම ලජ්ජා ගතියකින් ලී මැස්සට ගොඩ වැදුණෙමි. හජි-බාබා මා ඔහු අසලින් වාඩි කරවා ගත්තේය. මා ඉදිරිපිටද තැටියක තැබූ රොටියක් විය. හජි-බාබා මට තේ වත් කොට දුන්නේය.

''රොටිය කඩාගෙන කාපන්, තේ බීපන් ලජ්ජා වෙන්ට එපා. ඉක්මන් වෙන්ට එපා හෙමිහිට හපල කාපන්. මේව උඹගෙ. පුතේ! ඒකත් එහෙම...''

හොර ඇසින් අවට වාඩිවී රොටී කන්නන් දෙස බලමින් මමද කෑමට පටන් ගත්තෙමි. මෙතැන පෙරත්ත කිරීම් නැත. හැම එකෙකුටම තේ පෝච්චියක් බැගින් ඇත. ඔවුහු තමන්ට අයත් රොටිය හා වියලි මුද්දරප්පලම් කති. ''කරුණාකරල කන්න...'' ආදී ඇවිටිලි මෙහි නැත. වියලි නිල් තලප්පා කාරයා හජි-බාබා දෙසට නැමී මෙසේ කීය:

''සභීබ් නි බාචා පිස්ට්?''

ඔහු මා දෙස නොබැලුවද, ඔහුගේ පැනය මට නොතේරුණද ''බාචා'' යන්න ''කොළුවා'' බව මම දනිමි. ඔහු ඇසුවේ මා ගැන බව මම එයින් සිතාගතිමි. එය මා ගැන ඇසූ පැණයකි.

''බේකරිය ළඟදී මට හමුවුනා'' යැයි හජි-බාබා නොඋස් හඬින් කීය: ''එයාගෙ අම්මත්, තාත්තත් දෙන්නම නැහැ. අපේ මේ නගරෙ අනාත ළමයි අඩුයි කියල හිතාගෙන කොලුවා මෙහෙ ඇවිල්ල... මිනිහ කඩිසරයි, හුරු බුහුටියි, කතාවට සූරය, හකු පාඩා කඩා ගෙන එහෙම නැහැ. උඹලට උදව් කරාවී'' යැයි පිරිස අමතා කීය.

නිල් ජටාකරු අනුමත කරමින් හිස වැනිය. අනිත් එවුන්ද අනුමත කළහ.

''හරිම හොඳයි හජි-බාබා... බොහොම හොඳයි... හජි-බාබා.''

මා සිතූ පරිදිම මෙය දුම්බොන්නන්ගේ තිප්පොලකි. මෙවැනි තැන් ගැන මා කීප වරක්ම අසා ඇති නමුදු, එවැන්නක් දුටු පළමුවැනි වාරය මෙයය. මහල්ලා වතුර ගැන ඇසූ පමණින් තිගැස්සුණ කරුණ එය විය යුතුය. දැන් ඉතින් මොනවා කරන්ටද? මෙතැන නැවතී ඔවුන්ට සේවය කරන්ටද? මහල්ලා එසේ සිතාගෙන සිටී. වමනය යන්ටත් එනව... හැමදෙයටම පුරුදු විය යුතු. මෙතැන හීතල නැහැ. ඔවුන් ඇත්තටම මත් දුම් පානය කරන්නවුන් නම් මට යමක් හරි හම්බ කරගැනීමට හැකිවේවී... මත් ද්‍රව්‍ය සහිත දුම් පානය කළ පසු ඔවුන්ගේ සිහිය මඳ වන බව මා අසා ඇත. මා සේවකයෙකු හැටියට බඳවා ගතහොත් තේ සහ රොටී මට භාර වෙයි. කෙටි කලකින් මට මුදල් ටිකක් හම්බකර ගැනීමට පුළුවන් වනු ඇත. සීත කාලෙ පටන්ගන්ට

ඉස්සෙල්ල මුදල් ටිකක් සොයාගෙන අම්මා බැලීමට යා හැකි වේවි. මට ගැන මතක් වූ විටද මෙතැන සිට ගෙදරට පැයකින් යා හැකි බව මතක් වූ විටද මට පැනයාමට සිත දෙයි. නැත. මම දූන් ගැටවරයෙක්මි. මෙතැන නැවතී යමක් උපයා ගත යුතුය.

තේබීම අවසාන වී නැත. නිල් ජටාකාරයා මට නොතේරෙන බසින් කතා කරන්න විය.

''ඉම්රුස් බසාර්, සහීබ් ඩුකෝනා බර්වාක්ට් කුෂොදන් ලොසිමස්ට්, බෝමන් ඉහොසට්.''[1]

''හොඳයි, යනව ඊ කැමට එනව නේවද?''

''සත්තකින්ම'' යැයි කී නිල් ජටාකාරයා පාවහන් හැඳ පිටත්විය. ඔහුගේ ඇහි බැම් වලට මැදින් බුහාරාහි කාසියක් තරම් ලොකු ලපයක් ඇති බව මා දුටුවේ මේ දූන්ය. ඔහු පිටව ගියේය. මා හජි-බාබාට කිට්ටු වී සෙමින් මෙසේ ඇසුවෙමි:

''බාබා, කව්ද ඒ මිනිහා?''

''පළමුව මම බාබා කෙනෙක් විතරක් නෙවි හජියාර් කෙනෙක්. දෙවැනිව උඹ කව්ද පොලිස් මුලැදෑනියෙක්ද මගෙන් විස්තර ඉල්ලා සිටින්ට? කවුද මෙතැනට එන්නෙ? නම මොකක්ද? රස්සාව? ගම?.. හුඟක් දූනගත්තම මොළේ වැඩිවෙලා තට්ටෙ පැදේවි, හී-හී. එයා පුතේ මුස්ලිම් ආගම අදහන ඉන්දියන් කාරයෙක්. එහෙමයි කෙරුවාව. පෙෂාවර් නගරෙ ඉඳල ඇවිත් ඉන්නෙ. අහල තියෙනවද ඒ නම? නැතිද? ඔන්න එහෙනම් අහගනින්. එයා සල්ලි පොලියට දෙනව. ඉන්දියන් කාරයෙකු ළඟ රන් කාසි ලක්ෂයක් එකතු උණාම නළලෙ ලපයක් හං වඩු ගහගන්නව. මෙන්න මෙතැන! දූක්කද එයාගෙ නළල මැද ලපය? දූක්කද? ඒ ලපය තියන්නෙ රන් කාසියක් ගිනිරත් කරල. එයා ළඟ රන් කාසි විතරක් ලක්ෂයක් තියෙනව. තෂ්කෙන්ට් නගරෙ ඉන්න වෙළෙන්දො මිනිහට බයයි, මිනිහගෙන් ණය අරන් තියනව, මිනිහව දූක්කම වෙව්ලනව... ඔන්න ඔහොමයි කෙරුවාව... හොඳා කයිවාරු කීව මඳෑ. නැගිටපන්. ගඩුගුඩාවට වතුර දලා ලෑස්ති කරපන්. හවස් වන තුරු මට නිවිහැනේ ඉන්න දීල වැඩ කළොත් කවුෂි* දෙකක් දෙන්නම්...''

ඇත්තටම මෙතැන යමක් සොයා ගත හැකි තැනකි.

එදා සිට මා ගිනි කසයක් මෙන් වැඩ කරන්නට වීමි. මහල්ලාගේ සියලු නියමයන් ඉටු කොට වැඩි මනත් දේද කළෙමි. හජි බාබා වෙහෙස ගෙනදීමෙහි සමතෙකි. ''ඒකත් එහෙම තමා'' කියමින් කතාව පටන් ගන්නා ඔහු ඉන්පසු හැම වචන දෙක තුනකටම පසුව ''ඒකත් එහෙම තමා'' කියමින් දිගටම කතා කරයි. ඔහු නපුරු මිනිසෙකු නොවේ, ත්‍යාගශීලියෙකි. ඒ නිසාම ඔහු අංක ගණිතයෙහි අසරණයකු බවට පත්විද! ඔහුට නයට ගැනීම අමාරු කාරියකි. හතර දක්වා ගැන නැවතී පසුව නැවත මුල සිට පටන් ගනී. අලාභයක් නැතිව ගැනීමට නම් ඔහු වෙර දූරිය යුතුය. මෙය මා සිත් ගත්තේය. සෑහෙන ගණන් හිලව්වක් බේරීමට ඔහුට සිදුවන අවස්ථාවලදී ඔහු මගේ සහාය පතයි. මා කෙරෙහි විශ්වාසය තබා ඇති බැවිනි.

සවස නැවත ඉන්දියානුවා ආවේය. මම ඔහු කිට්ටුවෙන් හඳුණා ගතිමි. ඉන්පසු මා ඔහුට පුරුදුවිය. ඔහු ගිය පසු පාළු ගතියක් දූනෙන්ට විය. ඔහුද මා ඇළුම් කළේය. ඔහු පැමිණි විට මා ඔහුට ආවතේවකම් කරන්නේ අත් හයක් සහ පා හයක් ඇත්තකු මෙනි. ඔහුට උවමනා

---

[1] ''අද කඩ පොළ පවත්වන දවස, කඩේ යන්න අවසර දෙන්න ලොකු උන්නැහෙ.''

* කවුෂි—හම් සපත්තු.

දැ සැපයීමට මම යුහුසුළු වෙමි. ඔහු මට ඉන්දියාවේ පුදුම දේ ගැන විස්තර කළේය. ඔහු අප තරම් මැ හොඳින් උස්බෙක් බසින් කතා කළේය. ඔහු මට කීවේ සත්‍ය කතාද?.. ඉන්දියාවේ නගරවල ප්‍රාකාර මැණික් වලින් සාද ඇත. ළමයින් කැටපොලුවලට දමා විදින්නේ රතු කැට වලිනි. කළු ගල් අහුලන්නාක් මෙන් මැණික් අහුලාගත හැක. ගස්වල රොටි වැවේ. මිනිහෙකුට උඩු රැවුල වැවෙන්නේ අවුරුදු පන්සියයක් වූ විටය. සීත කාලයක්, හිම වැටීමක් නැති එරට ගැණුන් හා පිරිමින් මුළු අවුරුද්ද පුරාම නිරුවතින් ඇවිදීම ප්‍රධාන කරුණකි. බඩු මිළ! බැටළුවකු නිකම් ලබා ගත හැකිය. ඇතකු ටංගි කාසි හතරකට මිළදී ගත හැක. සුමානයකින් මට ඇතකු මිළදී ගන්ට පුළුවනි. ඇත් පැටවකු වඩාත් ලාබෙට ගත හැකිවනු ඇත. එහෙත් උගේ වැඩ කටයුතු කළ හැකිද?..

ඉන්දියාවට යාමට මා තුළ උපන්නේ දැඩි ආශාවකි. අපේ නඩයට අයත් කොල්ලෝ ඉන්දියාව ගැන රසකතා කියනවා මා අසා ඇත. එහෙත් මේ ඉන්දියානු ලක්ෂපතියා කියන කතා තරම් ඒවා රසවත් නැත. කොල්ලන්ගෙ කතා හිතින් මවා ගත් දේය. මටද එවැනි කතා ගෙතිය හැක.

ඉන්දියානුවා ත්‍යාග ශීලියෙකි. ඔහු සැර තෂ්කෙන්ට් දුම්කොළ නොව, බුහාරා මෘදු දුම්කොළ බීවේය. නගරයෙන් අඩක් හෝ දුවගොස් ඔහුට උවමනා දුම්කොළ ගෙන දීමට මා සූදානම්ය.

''අක්ෂයා!'' යැයි මට කියන ඔහු වැඩිපුර මිරි කාසි දෙක තුනක් හෝ ටංගි කාසියක් හෝ දෙයි. පොළ පැවති ද ඔහු රිදී හා රන් කාසි මල්ලක් ගෙනැවිත්, සැර තේ පෝච්චියක් වත් කරන ලෙස දන්වා කාසි ගණන් කිරීමට පටන් ගන්නේය. අඩක් ගණන් කොට ඔහු නිදි කිරා වැටෙන්නට විය. නැවත තිගැස්සී අවදි වී ගඩුගුඩාව දෙතොලට තබා ඇද්දේය. දුම් වලාවක් පිට කොට නැවත කාසි ගණන් කරන්නට විය. කාසිවල දීප්තිය නිසා මා ඒවා ළඟින් වාඩිවීමි. ඔහු නිදිකිරා වැටෙන විට මම ඔහු ආරක්ෂා කළෙමි. තිගැස්සී අවදිවන ඔහු සුසුම් ලයි:

''මහල්ලා! (ඕ සර්වබලධාරී අල්ලා!)''

ඉන්දියානුවා කෙරෙහි මා සිත ඇදී ගියේය.

අපේ දුම් කාමරයට නිතිපතා එන අනිකුත් අයද රළු නොවූ අතර, නිශ්ශබ්ද, මෘදු අයවූහ. එවැනි ආචාරශීලින් හමු වන්නේ කලාතුරකිනි. දුම් බී මත්වී සිටින විට පමණකි එවැනි අය හමුවිය හැක්කේ. පුරුදු නැති අයට ඔවුන් දෙස බැලීම පවා අප්‍රියය. මියගිය වුන් නැවත පණ ලැබූවාක් මෙනි. දුම් බී මත්වන තුරු ඔවුහු පොතක් කියවති, නැතිනම් ලෝකයේ අතීතය, වර්තමානය හා අනාගතය ගැන වැදගත් සාකච්ඡා පටන් ගනිති.

මා මෙතැනට එන විට ලෝක යුද්ධය පටන් අරගෙන අවුරුද්දක් ගත වී ඇත. යුද්ධය ගැනද මෙහිදී කතා විය.

''මහ භයානක යුද්ධයක් පටන් අරගෙන. එක පැත්තක සාර් නිකොලායි සහ ප්‍රංශ කාරයො. අනික්. පැත්තෙ ජර්මන් කාරයොලු! මොකක්ද ඒ ජර්මනිය? උන්ට ඇස් හයක්ලු. අත්අඩු තියෙනවලු හරිම මිනිස්සු ජාතියක්! ආදි කාලෙවත් මෙහෙම දෙයක් තිබිල නැහැ. සුදු සාර්ට අයිති නගර රාශියක් පොළවට මට්ටම් කරල දාම්මලු. ඩිරිගන් නැමති මකරෙක් වගෙ බඩ ගා ගෙනයන කාල තුවක්කුවක් සොයාගෙන තියනව. හරියටම මකරෙක් වගේ. අබො-මුස්ලිම්, කහ්රමොනි-කටිල්, හලිපාන්-රුමී... වැනි යෝධයින්ට මිසක් ජර්මන් කාරයින්ව වෙන කාටවත් පරාජය කරන්ට බැරි බව කියනවා. අප ළඟටම යුද්දෙ එන්ට බැරි නැහැ. සාර්ගෙ

යුද්ධ හමුදවේ සමහර උදවිය—දූන් රහසක් මෙන් සෙමින් කියති—සාර්ට විරුද්ධව කැරළි ගහන බව ආරංචියි... ආ! ඇහෙනවද? උන් කියනවළු ''අපට බැහැ ජර්මන් කාරයින්ට විරුද්ධව සටන් කරන්න, ඕන නම් සාර් යුද්ද කළාවෙ'' කියල... ඒක අපට තේරෙනව, ජර්මනුන්ට විරුද්ධ යුද්ධායුද නැතිව සටන් කිරීමට කිසිවෙක් ලැස්ති නැති බව! ඒ කැරළිකාරයින්ගෙ නායකයා කව්ද? එවුන්ගෙ නායකයා කම්කරු පංතිය නැමැති යෝධයෙකි...

අළුත්ම දේශපාලන ප්‍රවෘත්ති ගැන කතා කිරීම අවසන් කළ පසු කෙමෙන් එය කුරුල්ලන් ඇති කිරීම දක්වා වෙනස්වෙයි. කෙනෙක් තම ගිරවාට ''මෝඩයා!'' කියා කතා කිරීමට උගැන්වූ සැටි කියන අතර අනිකා තම කොවුලාට දුම් පානය කිරීමට උගැන්වූ සැටිද, දැන් ඌට ගඩුගුඩාව නැතිව දවසක්වත් ජීවත්වීමට බැරි සැටිද විස්තර කරයි. තම කිකිළියට කුකුළෙකු මෙන් හඬලෑමට උගැන්වූ සැටි කියන තෙවැන්නා දැන් ඌ මුර කරන අතරම බිත්තර දමන සැටි කියයි. ජුලාන් නමැති කුරුල්ලා බිත්තර දමන්නේ කටින් බව දන්නවද?.. යි එකකු ප්‍රශ්න කරයි. ඉන් පසු භූමි කම්පා ඇතිවීමේ හේතු ගැන විවාදය ආරම්භවේ. සියැසින් භූමිකම්පා දුටුවකු පවා මේ විවාදයට සවන් දුන්නේ නම් ඔහුට පවා අමතක නොවන, කුතුහලය ඇවිස්සෙන සුළු කරුණු දැනගත හැකි වනු ඇත. පාළු ගතියක් දැනුනේ යැයි මට කිව නොහැක.

මගේ සේවය නිසා හජි-බාබාද සතුටට පත්විය. තෂ්කෙන්ට් නගරයේ සපත්තු මිළ ඉහළ නැංගද ඔහු මට සපත්තු කුට්ටමක් මිළදී ගෙන දීමේ පොරොන්දුව ඉටු කළේය. බාල සපත්තු මහත්තෝ සහ ඔවුන්ගෙන් සපත්තු මිළදී ගන්නෝද දන්නේ ''අපෝර්කි'' නමින් හැඳින්වෙන බාල සපත්තු වර්ගය පමණකි. දණහිස සිට ඇස් වටය දක්වා හමින් වැසෙන කොටස හැර පාදයේ ඉතිරි කොටස පමණක් වැසෙන ''අපෝර්කි'' නමින් හඳුන්වන මේ සපත්තු යුද පෙරමුණේ මියගිය සෙබලුන්ට අයත් ඒවාය. මුදල් ගිජු කිසියම් යුද්ධායතනයක් විසින් ඒවා එකතු කොට ඇත. මේ ගැන තෂ්කෙන්ට්හි එක් වෙළෙන්දෙක් දැන ගෙන යුද පෙරමුණට ගොස් දුම්රිය මැදිරි අටක් පුරවා ඒ සපත්තු ගෙනැවිත් ''දුප්පතුන්ට සේවය කළ යුතු සැටි මම පෙන්වන්නම්!'' යැයි කියමින් කුඩා සිල්ලර වෙළෙඳුන් අතර ඒවා බෙද හැරියේය. ඔවුහු මේවා අළුත්වැඩියා කොට දුප්පතුන්ට විකුණා, ඔවුන් අළුත් සපත්තු මිළදී ගැනීමේ අසීරු කාර්යයෙන් මුදවා ලූහ. මේ ''අපෝර්කි'', අළුත් සපත්තු වලට වඩා බොහෝසෙයින්ම මිළ අඩුය! අර කරුණාවත් තොග සපත්තු වෙළෙන්දද අළුත් සපත්තු විකුණා ලබන ලාභයට සමාන ලාභයක් ලබාගත්තාට සැක නැත. ඔවැනි ගල් ගැසුණු ''අපෝර්කි'' ජෝඩුවක් හජි-බාබා මටද තෑගි කළේය. පොරෝ තල දෙකක් මෙන් බරැති එමෙන්ම සනැති සපත්තුය ඒවා. මා ඒවා පැළඳි පළමුවැනි දවසේදීම මගේ කකුල්වල දිය බුබුළු පැන නැගිණි. සපත්තු ඇඳීමට තරම් වාසනාව ලැබූ මට දිය බුබුළු වැනි සුළු දෙයක් ඉවසා සිටිය හැක.

බ්‍රහස්පතින්ද සහ සිකුරාද දවස්වලට දුම් කාමරයට එන අයගේ සංඛ්‍යාව වඩාත් වැඩිවේ. නිති පතා එන අනුග්‍රාහකයින් විසිදෙනා හැරුණු විට මේ දවස්වලට තරුණයෝද පැමිණෙති. බුරියානි, හවුලේ ලැස්ති කරන මොවුහු ගඩුගුඩාව ඇද දුම් බොති, නැතිනම් අන්ෂාවූ නැමති මත් ද්‍රව්‍ය පාවිච්චි කරති. ''ආහාර රුචිය වැඩි කරගැනීම'' සහ ''යහපත් මනෝ බවක්'' ඇති කරගැනීම සඳහා මෙසේ කරන බව ඔවුහු කියති. මේ තරුණයින් වැඩි දෙනා කුඩා හස්ත කර්මාන්ත කරුවන්ය, පොහොසත් බායිලාගේ පුතුන් මෙහි එන්නේ කලාතුරකිනි. එසේ වුවද බදාද දිනවලදී මට නිවාඩු ලැබේ. එදිනට හජ්ජි බාබා එළියට ගොස් ඇවිදින ලෙස මට කියන අතර සමහර දවස්වලට කඩ පොළේදී කළයුතු සුළු කාර්යයන් භාර දෙයි. එහෙත් වැඩිකොට

බදදට මා කඩපොළට යන්නේ නිදල්ලේ ඇවිදීමටය. සෑම බදද දවසකදීම හජ්ජි බාබා මට ''ජුමාලික්'' උත්සව කාසි වශයෙන් ටංගි බාගයක් දෙයි.

''පුතේ ගිහින් ඇවිදපන්, හැබැයි වේලාසනින් වරෙන්. කට ඇදකරගෙන බලාගෙන ඉන්න එපා. විත්තිකාරයාගේ වඳුරු පැටියකු වගෙ හැම එකකුවම හිනස්සන්ට එපා. තැපැල් කෝච්චියෙ අස්සය වගෙ කඩ අයිනට ඡවලා ඇනුම් හරින්ට එපා. මස් කඩ පෙලට වැදුණු දඩාවතේ යන බල්ලෙක් වගෙ හැම රස්තියාදු කාරයෙකුම සමග පොර අල්ලන්ට යන්ට එපා. බඩජහරි කමට කන්ට එපා. හයිට් උත්සවයට කඩ පොළට ආ ගමයකු වගෙ හැසිරෙන්න එපා... ඇහැට දකින හැම දෙයක්ම බඩට ගුණ නැහැ, ඔන්න ඔහොමයි පුතේ, තේරුණාද...''

ඔහුගේ දේශනාව අසන මම ඒ මේ පැත්තට හැරෙමින් මාරුවෙන් මාරුවට පය උස්සමි. මා ඇවිදින සැටි මම සිතමින් සතුටුවෙමි. ඔහුගේ 'යාංහැල්ල' විසිවරකටත් වඩා මා අසා ඇත. දේසනාව ඉවර වගෙයි. හිස පහත් කොට ඔහුට ආචාර කොට මම පැන දුවමි. ඔහු මා නවත්වයි:

''ඉදා මෙන්න මිරියකට හජි රුසාහි තලිබාංගේ කඩෙන් ඉටිපන්දම් රාත්තලක් ගනින්. ගඳ ගහන ඉටි ගේන්ට එපා. හෙට සාන්තුවරයින්ගෙ දවස. උන්වහන්සේලා තරහ වේවි ගඳ ගහන ඉටිපන්දම් පත්තු කලොත්... පලයන් පුතේ, පලයන්...''

දෙවියන්ට ජන් සිදු වේවා! මම පිම්මක් පනිමි. මහල්ලා නැවත කැගසයි.

''හිටපන් පුතේ, මෙන්න සත දෙකක්. බුහාරා දුම්කුඩු කඩෙන් අපේ ඉන්දියන් කාරයාට දුම්කොළ ගෙනෙන්...

''සල්ලි එපා. මම ගේන්නම්!''

ඔහෝ! මගෙ සල්ලි මා ළඟම තිබුනාවෙ. සල්ලි ඇත්නම් හිතට සැපක්. මම දන්නව උඹ ඉන්දියානුවත් එක්ක කිරියි, පැණියි වගෙ යාළු බව. සල්ලි එපාලු! හෙ-හෙ, ඔන්න කෙරුවාවෙ හැටි. පුතේ උඹේ ඇස් ඉබේටම නැටවෙනව. පලයන් ගිහිං නිදහස් කුරුල්ලෙක් වගෙ ඇවිදපන්... තරුණ කමටයි, නිදහසටයි වඩා හොඳ දෙයක් තියෙනවද!''

ඔහු තවමත් මොනවාදෝ දෙඩවයි. මට දැන් එය නොඇසේ. මම පැන දුවමි... නිදහසට වඩා උතුම් දෙයක් තවත් ඇතිද!

13

## නිවාඩු දවස

පසුගිය සති දෙක තුනක සිටම මා හඳුණන කිසිවකු මට මුණ නොගැසීම පුදුමයක් වුවද සැක සිතින් යුතුව මම ඇවිදිමි. දෙවියනේ! මා හඳුණන අය—අම්මා හෝ මාමා හෝ මුණ ගැසුණොත් මහා නින්දවකි. මෙතෙක් මා බේරිලාය. දුම් කාමරය අපේ ගමෙන් බොහෝ ඈතය, නමුත් කඩ පොළේදී ඕනෑම දෙයක් විය හැකි!

මජ්හොම් අසලවූ කැකිරි කඩ පෙල වෙත මම දුවමි. මෙතැන කඳු මෙන් උසැති කැකිරි සහ පැණි කොමඩු ගොඩවල්ය. පැණි කොමඩු ගෙඩි කොළ සහ කළු පාටින් යුක්තය, කැකිරි ගෙඩි රන්, කහ, දුඹුරු, ලා සහ තද කහ ආදී නා නා පාට වලින් යුක්තය... වතුර කාරයො මනා ලෙස පොළවට වතුර ඉස ඇති බැවින් මෙහි වාතය සිසිල්ය. මෙහි උඳුපියලි සුවඳක් වහනය වේ. උඳුපියලි හා ඒවාට සමාන තණ වගී මිටි බැඳ ගොඩ ගසා ඇත. කුවි, මර්ගිලානා, පෙර්ගාන්, අල්ටි-අරිකා ආදී පෙදෙස්වලින් පැමිණි ගැල් රාශියකි! පැණි කොමඩු සහ කැකිරි ගෙඩි ගොඩවල සෙවණට මුවාකොට බැඳ ඇති අසුන් නාවා ශුද්ධ කොට ඇත. මෙතැන ''අක්රුග්'' වර්ගයට අයත් කැකිරිය. ඒවායේ මදය සුදුය, මුදුය. ලා රත් පැහැති ඉක්රිමා කැකිරිද, රතුපාට මදය ඇති ''කිසිල් කුරුග්'' වර්ගයද මෙහි ඇත. සුළු හැපීමකදී පවා ඉරිතැලී යන ''ෂකර්පලාක්'' තවත් තැනක ගොඩ ගසා තිබේ...

ඉතාම හොඳ කැකිරි ඇත්තේ මළු වලය. රතු පැහැති මේ ගෙඩි වර්ගය සර්වබලධාරී අල්ලා විසින්ම සඟවා තබා ඇතිවාක් සේ පෙට්ටිවල වෙන වෙනම දමා ඇත. සැබවින්ම එය එසේය. ඒවා දෙළුම්ය. ඒවා තුළ ඇති දෙළුම් ඇට රතු කැට වැනිය. මිහිරි රසයෙන් යුත් ඒ කුඩා මැණික් ගල් දෙව්ලොවට අයත් වස්තුවකි.

මගේ වයසට සමාන කොලු ගැටයෙක් මා වෙත එමින් සිටී. ඔහු රස්තියාදු කාරයෙකි.

''ඒයි උඹේ නම මොකක්ද?''

''මක්කටද අහන්නෙ?.. අටාබායි''

''මම කැකිරි ගෙඩියක් ගන්නම්, උඹ හවුල් වෙනවද?''

''හවුල් වෙන්නම්... හැබැයි මා ළඟ සල්ලි නැහැ.''

''උඹ ළඟ සල්ලි නැත්නම් උඹ මෙතැන මොනවද කරන්නෙ?''

''ඒක උඹේ වැඩක් නෙවි.''

ඇත්තටම මට අයිති වැඩක් නම් නෙවි. හැබැයි, වෙන වෙලාවකදි නම් මම ඒ කතාවට රොස් වෙමි. දැන් මා සිත සතුටින් පිරී ඇත. ඔවැනි සුළු වැඩවලට අත දැමීම රිසි කාරියක් නොවේ. මුදල් අත නැතිව ඔහු කඩ පොළේ මොනවා කරන්නේද යන්න මම හොඳින් දනිමි. ඔහු කොමඩු හා කැකිරි ගෙඩි බෑමට උදව්වෙමින් සිටී. ඒ සඳහා ඔහුට ඉදුණු, කුරුවලුවුණු, ඉරිතැළුණු ගෙඩි දෙක තුනක් ලැබෙනු ඇත... හොඳා, රස්තියාදු වෙයන් පාදඩයා, උඹ මට සගයෙකු නොවෙයි. එක් පකිර් කාසියක් දී රතු මදය සහිත පුංචි කැකිරි ගෙඩියක් මිළදී ගෙන තනිවම කමි. හිතට සැපකි! කටට රසයකි! කැකිරි කෑමට මා තුළ ලොකු ආසාවක් ඇතිවිය. අපේ දුම් කාමරයේ හෙවත් අබිං ගුබ්බෑයමේ උදවිය ප්‍රණීත පලතුරු අහලකටවත් නොගනිති. අබිං, ගංජා ආදී මත් ද්‍රව්‍ය බොන අය බළලෙක් වතුර දකින විට බියගන්නාසේ පලතුරු වලට බියවෙති. වතුරවලට, කිරිවලට හා මෝරුවලටද ඔවුහු එසේම බියවෙති. පළු වර්ග හා දෙළුම් පවා දකින විට ඔවුන්ගේ

ඇඟ හිරිවැටේ, හම කිති කැවේ. පලතුරුවල නම් මතක්වන විට පවා ඔවුහු රොස්වෙති. වරක් ලෙලි ගැසූ පීච් ගෙඩියක් මම හජ්-බාබාට දුන්නෙමි. ඔහු කොතරම් අප්‍රිය ගතියක් පෙන්වූයේද යත්, බඩවැල් එළියට එන තුරු වමනය දමනු ඇතැයි මට සිතිණි. "තූ! උඹ හරිම මූසලයෙක්. පීච්! මොනවද ඔය පීච්, වතුර නෙව. දකින විට බඩ දහලනව. අරං පලයන් අහකට, තූ!" එද සිට මම ඔහුට පලතුරු කන ලෙස නොකීවෙමි. මට තනිවම කන්ට පුළුවනි!

මේ කැකිරි ගෙඩිය එක හුස්මට කා දැමුවා. දැන් ඉතින්... දැන් ඉතින් මම දෙළුම් ගෙඩි දෙකක් ගන්නම්. කනවනම් බඩ කට පිරෙන්ට කන්ට ඕන! පේර්ගාන් තොප්පියක් පැළඳ සිටින රතු ගොවියාට මිරි කාසියක් දුන්නෙමි. ඔහුගේ මුහුණ පුරා රැලිය. උඩු රැවුල සහ යටි රැවුල හිම මෙන් සුදු පාටය.

"පුතේ උඹට දෙළුම් කන්ට හිතුනද? සල්ලි ආපහු සාක්කුවෙ දගනින් තවම මම ගනු දෙනු කළේ නැහැ. ඉන් පස්සෙ තමා සිල්ලර වෙළඳාම පටන් ගන්නෙ..." දෙඋර සෙලවූ මම ඉවත යන්ට හැරුණෙමි. ගොවියා පහත්වී ලොකු දෙළුම් ගෙඩි දෙකක් ගෙන මා අත තැබුවේය. "ගනින්, ගනින්, බයවෙන්ට එපා! ගනින්! එකක් උඹ කාපන්, අනික මල්ලිට දීපන්. මා වෙනුවෙන් දෙවියන්ට පිං දීපන්. දෙළුම් බොහොම ඈත ඉඳල ගෙනත් තියෙන්නෙ..."

මා ගොවියාට ආචාර කොට "සතුතියි" කියා තොල මතුළා ඈතට ගොස් දෙළුම් ගෙඩි දෙක ඉනවටා බැඳි ලේන්සුව තුළට දමා ගැට ගසා ගත්තෙමි. කැකිරි කඩ පෙල පසු කොට රොටි කඩ පෙලට ගිය මා ඉදිරියට ආවේ පැරණි නායක මුරකරුවාය. රහ්මතුල්ලා-සර්කාර් නැමති ඔහු මා පියාගේ යාළුවෙකි. ඔහුට නොපෙණෙනසේ පැන යාමටද බැරිය, මන්ද ඔහු මා දුටු බැවිනි. මම යටහත් ලෙස ඔහු වෙත ගොස් ආචාර කළෙමි.

"අනේ පුතේ!" යැයි කී ඔහු හිස වනන්නට විය. "උඹ දැන් ගජ ඉලන්දරියෙක් නොවැ. කාලය පියාඹනව! කොහොමද මිර්සා-අකා?"

ඔහු මගේ පියා ගැන අසයි! එසේනම් ඔහු මා ගැන කිසිවක් නොදනී...

"තාත්තා මළා!"

"අපොයි! මදැ විපතක මහත, අයියෝ! උඹලැ තාත්තා හරිම හොඳ මනුස්සය..." ඔහු නිහඬවිය. "දෙවියෝ එයාට ආශිර්වාද කරන සේක්වා! අම්මා සනීපෙන්ද..."

"අම්මට... අම්මට අසනීපයක් නැහැ"

"පවුලෙ කී දෙනෙක්ද?"

"මමයි, නංගිලයි..."

"පුංචි ළමයි... හරිම විපතක්!" නිහඬවූ ඔහු වටපිට බලා සාක්කුවෙන් ගිරා පැටියකු ගෙන මට දුන්නේය:

"කුඩුවක දල ඇතිකරපන්, කෑම දීපන්, ලොකු උණාම කතා කරාවි."

මම ඔහුට ස්තුති කොට ගිරා පැටියාව කමිස යට සාක්කුවට දමා ගත්තෙමි.

"අනේ ඔව් උඹේ තාත්තා ගැන මට හරි දුකයි... තවත් කෙනෙක් ලෙඩ වෙලා. කරබායි-තජික්ව දන්නවද? නැහැ? තරුණ හාදයා... තරුණ විසේ හන්ද ඔච්චු අල්ලලා පිටි කොන්ද කඩා ගත්තා. එයාව තබීබ්* ළඟට ගෙනිච්ච. මා හිතන්නෙ මිනිහ ඉවරවේවි කියල..."

"කොහොමද පිටි කොන්ද කඩා ගත්තෙ?"

---

* තබීබ්—ගමේ වෙදමහතා.

''මා කිව්වනෙ මිනිහ ඔට්ටුවක් ඇල්ලුව කියල. ඇස්වහ වලට බඳින පබලු ඇට පුරවපු විශාල මල්ලක් තනිවම කරත්තෙන් එළියට අරගෙන කර ගහගෙන යන බවට මිනිහ බායිලගෙ පුත්තු සමග ඔට්ටු ඇල්ලුව. ඒ මිටියෙ බර රාත්තල් 720 ක්. බායිලගෙ පුත්තු එක්ක ඔට්ටු අල්ලනවද? උන් නිතර බලන්නෙ මිනිහෙකු මළත් විනෝද වෙන්න.''

ඒ කරබායි-තජික් මුර කරුවෙකු විය යුතු. තජික්වරුන්ගෙන් වැඩි දෙනා එම රැකියාව කරති. ඒ අතරම ඔවුන් කඩ පොළේ බර උසුලන කුලී වැඩද කරති.රහ්මතුල්ලා-සර්කාර් ඔවුන් ආරක්ෂා කළ අතර ඔවුන්ගේ ආදරයද දිනා ගත්තේය. ඔහු ඇත්ත වශයෙන්ම දුකට පත්වැ සිටියේය.

''හොඳා පුතේ, මම ගිහින් හොයල බලන්නම් ඒ යෝදයට මක්ක වුනාද කියල. නිවාඩු පහඩු වෙලාවක මේ පැත්තෙ වරෙන්'' යැයි හේ කීය.

කල්පනා කරමින් මම ගමන් කරන්නට වීමි. දැන් ඉතින් කොහේ යන්ටද? ඈත සංගීත වාදනයක් ඇසිණ. එය සර්කස් ක්‍රීඩා මඩුවෙනි. අහල පහළ කොල්ලෝ හැම දෙනෙක්ම මෙහි එන බව මා දන්නා නිසා එහි නොයා යුතු යැයි මට සිතිණ. මම ගමන් වේගය අඩු කළෙමි... මොනවා උනත් යන්ට ඕන!

එය යුපාතව්ගේ සර්කස් ක්‍රීඩාවය. සරසනලද ගැල් චෝර්ස් චතුරශ්‍රය මැද තිබිණි. එක ගැලක වාඩිවී සිටින වාදක පිරිස වැර යොද වාදනය කරයි. බෙර, නලා හා වෙනත් සංගීතභාණ්ඩ වයති. නලා කාරයා මහ හඬින් පිඹින්නෝ කන් බිහිරි කරවීමට මෙනි. බට නලා කාරයා මන පිනවන රාගයක් වයයි. සිහින් සිරුරකින් හෙබි හෙතෙම වැඩි වෑයමක් දරමින් වාදනය නොකරයි. එහෙත් බෙර කාරයා දෙදෙනෙකුට සෑහෙන්නට මහන්සි ගනී. ඔහු අත කඩිප්පු දෙකක් නොව විස්සක් ඇති බවකි කෙනෙකුට සිතෙන්නේ...

එක් ගැලකට නැගී ගත් විකටයෝ දස්කම් පාති. ඔවුන්ගේ හිස් වැසුම් විවිධ පාට වලින් යුක්තය. මෙලොව ඇති සියලු පාට වර්ග එහි ඇත. සායම් වලින් ඔවුන්ගේ මුහුණු වැසී ගොසිනි. ඔවුන්ගේ නහයවල් කොතරම් දිගදයත්, ඒවායින් කිහිලි පවා කැසිය හැකිය. හිස්වැසුම් වලට යටින් රන්වන් පාට දිගැති හිසකේය! මටත් එවැනි බොරු කොණ්ඩයක් ඇත්නම්... ඔවුන්ගේ ලෝගු මා සිත්ගත්තේය. දිගැති එම ලෝගුවල රිදී පැහැති අඩ සඳ සහ රන් තරු බොහෝය. මේ සියල්ලටම වඩා මා සිත් ගත්තේ ඔවුන්ගේ විකට කතා සහ විජ්ජාවන්ය. ඒවා දකින ඕනෑම කෙනෙක් පුදුමවේ. සර්වබලධාරී අල්ලා මට ඔවුන්ට මෙන් කතා කිරීමට අවසර දුන්නොත් දුක කුමක්ද යනු මා කිසිදිනෙක නොදනගනු ඇත. එවිට සම වයස්ගත කොල්ලන්ගේ ආදරය දිනාගැනීමට පමණක් නොව, සල්ලි ගොඩකුත් සොයාගත හැකිවනු ඇත. බිත්තරයක් කටේ දමා එය කණින් ගන්නා විකටයෙක් මෙන් මමද එවැනිදේ කරමින් ඔට්ටු අල්ලා දිනාගනිමි...

ඊළඟ ගැලෙහි රුසියානු කාන්තාවක් ගීයක් ගයන්නී, කුකුළු පැටවුන් වැනි බලු පැටියන් පස් දෙනෙකු නටවන්නීය.

ආදර මගෙ මමජොන්
ආදර මගෙ මමජොන්
ජනේලයෙන් එබී බලන්
ආදර මගෙ මමජොන්
පැණිත් සමග තේ බීපන්
ආදර මගෙ මමජොන්...

මහ ගොරහැඩි ගීයක්, ඒ වුණත් බල්ලන්ට නම් අගෙයි. ගීයෙ වචන මොනවා වුණත් නටන බල්ලන්ටත් එහි වෙනසක් තියෙනවද?

හතරවැනි ගැලෙහි අඩ නිරුවත් ගැහැණියක් අතින් සහ පයින් නොයෙකුත් කෙළි කවටකම් කුරන්නීය. ඈ හැඳ ඇති දිග කලිසම විවිධ පාටවලට අයත් බොත්තම් වලින් සරසා ඇත. රාත්තල් 64 ක් බැගින් බරැති යකඩ බෝල 4 ක් අතින් ගත් ''සැන්ඩෝ'' කෙනෙක් ඒවායෙ බර එපමණ යැයි කියමින් කෑගසයි. ඔහු ඒ යකඩ බෝල උඩ වීසි කර අල්ලා නැවත උඩ වීසි කරයි. අසකු මෙල්ල කොටගත් තවත් මිනිහෙක් ඌට පස්සා කකුල් වලින් සිටගැන්වීමට සලස්වාලයි, ඔහුගේ අණ අනුව ඒ අශ්වයා හිස නමා මිනිසුන්ට ආචාර කරයි. අසු පුහුණු කරන්නාද අසකු වගේය, ඔහු පිට යාමට මා තුළ ආශාවක් උපනි...

මේ සියලු ප්‍රදර්ශන අතර අප හැම දෙනම දන්නා හඳුණන රපික්-මස්කරබොස් උස් හඬින් කතා කරයි:

''ඒ, ඒ, ඒ! මෙන්න ආරංචියක්! මෙන්න ආරංචියක්! අපේ ගෞරවණීය යූපාතව්-බායි සහ ඔහුගේ දූ මයිරාම්හාන් සර්කස් මඩුවක් සාද තියෙනව ලෝකයේ අරුම පුදුම සර්කස් ක්‍රීඩාව බලන්න වරෙල්ලා! ටිකට් එකක මිළ මිරි එකක සිට ටංගි එක දක්වා. සර්කස් බලන්න වරෙල්ලා!..''

සංගීත වාදනය වන ගැලට ලංවැ වාදකයින්ගේ දස්කම් දෙස බලමින් මම ප්‍රීතිවීමි. මට ලැබුණු දෙළුම් ගෙඩි මතක්වුයෙන් ඒවා සොයා ගෙන, පොත්ත ඉරිතැලී ඇති දෙළුම් ගෙඩිය දෙතොල් මත තබා වැරෙන් මිරිකා ඉස්ම උරා බීවෙමි. පැණි ඇඹුලක් මෙන් රසැති දෙළුම් ඉස්ම නිකට දක්වා ගලායන්නට විය. නලා කාරයින්ගේ වාදනය අමිහිරි හඬක් මතු කරන සැටි මට නොදැනුනේ දෙළුම් ඉස්මවල අමෘත රසය නිසාය. එක් නලා කාරයෙක් වාදනය නවත්වා උරහිස මත තිබූ ලේන්සුවක් ගෙන තොල, කට සහ දෙකොපුල් පිස දමා ගෙන, කෙළ ගසා මට කතා කළේය.

''ඈ බොල කාලකණ්ණියෝ! උඹට ඇහෙනවද!''

මම ඔහු දෙස හැරී බැලුවෙමි.

''මොකද බොල නලියන්නෙ! උඹට ඇහෙනවද, දෙළුම් කාපිය වෙනින් තැනකට ගිහිං, හනිකට දුවපිය!''

ඔන්න සිදුවීමක හැටි! නලා කාරයින් ඉදිරිපිට පැණි—ඇඹුල් රසැති දේ කෑම නුවණට හුරු නැති බව මට අමතක විය. ඇඹරැල්ල, ලොවි, නාරන් ආදිය ඔවුන් ඉදිරිපිට නොකෑ යුතුය. එවැනි පලතුරු දකින විට, ඔවුන්ගේ කටවල්වලට කෙළ උනයි. එවිට එය නලා තුළට ගලා ගොස් වාදනයට බාධා කරයි... මට එය අමතක විය! විකටයෙක් ගැලෙන් පැන'වුත් මා තල්ලු කරමින් පිරිසෙන් වෙන් කළේය. කටේ ඔබාගත් බිත්තරය නහයෙන් ඇදගත් විකටයා ඔහුය.

ඉතින් මා පන්නා දමන ලදී. මදැ සර්කස් බැලුවා! සර්කස් ක්‍රීඩාව එවකටත් අවසානවීමට ලංවැ තිබිණි. අල්ලාට කීර්තිය ලැබේවා! මා හඳුණන කිසිවෙකු මෙහි නොවීය. විකටයාගේ දිගැති රත්වත් බොරු කොණ්ඩය සිහියට නැගුනෙන් මගේ හිස ඉබේටම සැලිණ. අවුරුදු ගණනක්ම හිසකේ නොකැපූ බව මට සිහිවුනේ එවිටය. බාබර් සාප්පුවකට යාමට කාලය පැමිණ ඇත. මහ්හාමා පල්ලිය අසල බාබර් සාප්පුවකි. දන්වීම් පුවරුවක් වෙනුවට මෙහි රතු උඩ වැස්මක් එල්ලා ඇත. එය බාබර් සාප්පුවක් බව සියල්ලෝම දනිති.

මෙතැන කීපදෙනෙක් වාඩිවී සිටිති. එකෙකුගේ බෙල්ල වටා කුඩැල්ලන් හතර දෙනෙකු

තබා ඇත. උන් ශිරාවන් ගෙන් ලේ උරා බොති. තව'කෙකුගේ ශංඛක ශිරාවන්ගෙන් ලේ ඇද ගැනීම පිණිස බට දෙකක් තබා ඇත. ඒ බට හරක් අං වලින් සාද තිබේ. රත් පැහැති වටකුරු මුහුණක් ඇති, මී හරකෙකුගේ තරබාරු බෙල්ලක් ඇති මිනිහාගේ ශංඛක ශිරා සිදුරු කළ කරණවැමියා හරක් අංවල තුඩ සිදුරු කොට ශිරාවේ සිදුරට තැබීය. මේ විදියට වම සහ දකුණු ශංඛක ශිරා සිදුරු කොට අං දෙකක් තබා ඇත. තරබාරු මිනිසා දුන් පෙණුමෙන් හරකෙකුට සමානය. මොවුන් දෙදෙනාම සුසුම් ලති. ඔවුන් දෙදෙනා වාඩිවී සිටින්නේ මිටි බංකු දෙකකය. කරණවැමියා දුන් තෙවැන්නාගේ හකු දතක් ගැලවීමට වැර දරයි. රෝගියා ඔහු ඉදිරියේ කට හැරගෙන ගල් ගැසී සිටියි. ඔහුගේ ඇස් පිටතට නෙරා ගොසිනි. ඔහු දියෙන් ගොඩ ගත් මාළුවෙකු මෙනි.

''මොකද කොලුවො කොන්ඩෙ කපන්ටද? පකිර් එකක් අයකරනව. උඹ ළඟ සල්ලි තියෙනවද?''

''තියෙනව.''

''එහෙනම් මෙතැනට වෙලා බකන් නෙලා ගෙන ඉන්නෙ නැතුව ගිහිං ඔළුව හෝදගෙන වරෙන්.''

එකල කරණවැමියෝ උගත්, වැදගත්, දක්ෂ ශිල්පීන් වූහ. ඔවුහු කොන්ඩ, රැවුල් කැපීම පමණක් නොව, බොහෝ ලෙඩ රෝගවලටද ප්‍රතිකාර කළහ. කුඩැල්ලන් තැබීම, ශිරා සිදුරු කොට ලේ හැරීම, දත් ගැළවීම, විරේක බෙහෙත් දීම ආදිය ඔවුන් සතු වැදගත් කාර්යයන් විය. එහෙත් මේ සියළු දේට වඩා ඔවුන්ට ලාභ ගෙනදුන් කාර්යය චර්ම ඡේදනය හෙවත් 'සුන්නත්' කිරීමය. මා වැනි ලා බාල දුප්පත් අය පැමිණි විට, ඔවුන්ගේ හිසකේ සෝද කපනවා වෙනුවට හිස සෝදගෙන එන ලෙස අණකරති.

මහ්හාමා පල්ලියේ දිය උල්පතින් ඉතා හොඳින් හිස සෝදගත් මම හිසකේ පිසදමාගෙන බාබර් සාප්පුවට නැවත ආවෙමි. ඒ වනවිට කරණවැමියා හකු දත ගලවා දමා මහල්ලෙකුගේ උඩු රැවුලට හැඩ දමමින් සිටියේය. දත ගලවනු ලැබූ රෝගියා සුසුම් ලමින් ලේ සහිත කෙළ ගැසීය. ඇස් කොණින් මා දෙස බැලූ ඔහු මෙසේ කීය:

''මොකද බලාගෙන ඉන්නෙ ඔළුව පිහදපන්!''

මගේ වාරය පැමිණියේය. කුණු බැඳි මගේ කරෙහි කිලිටි රතු රෙදි පටියක් විය.

''ආ උඹ හරිම හඩුවෙක්.ඔළුව හරියට හෝදල නැහැ.'' යි කී හෙතෙම දැත් පුරා වතුර ගෙන මගේ හිසකේ සෝදන්නට විය. ඔහුගේ අත්වල හැම ඇඟිල්ලකම පාහේ මුදුවකි. ඔහු වැරෙන් මා හිස අතුල්ලත්ම හිසෙහි හම ගැලවී ගියාක් මෙන් වේදනාවක් දැනිණි. මා හිසෙහි තැනින් තැන තුවාල ඇතිවූයෙන්, අශ්ව කුණකට පහරදෙන බඩගිනි වෘකයින් රැලක් මෙන් මගේ තුවාලවලට වැසූ මැස්සෝ තුඩුවලින් විදින්නට වූහ. බාබර් සාප්පුවේ මැස්සන් කිසිම දේකට බය නැත. බාබර් සාප්පුවේ හාම්පුතා සමග මේ මැස්සන් එකගත්වයකට පැමිණ ඇතිවාක් මෙනි. අඩු ගාස්තුවක් ලබාගත හැකිවුන්ට මැස්සන් පවා වධ දෙන්නේ ඒ නිසා විය යුතුය.

මගේ හිසෙහි හමෙන් අඩක් පමණ මේ විදියට හම ගසා තුවාල කොට, කරණවැමි තැන අල්ලක් තරම් පළලැති දැලි පිහියක් ගෙන මා හිස මුඩු ගෑමට පටන්ගත්තේය. ඒ දැලි පිහියක් නොව, කියතකි. තැනින් තැන කියතක දත් මෙන් පිටතට නෙරා ඇති තුඩු සහිත ඒ දැලි පිහිය මා හිසෙහි හම ස්පර්ශ කරත්ම මම වේදනාවෙන් ගැහෙමි. කියතක් වුවද ඉඳ හිට මුවහත් කිරීම

සිරිතකි. එහෙත් මේ කියත සැහෙන කලක් තිස්සේ එවැනි සේවයක් ලබා නැත. මම වේදනාවෙන් සුසුම් ලන්ට වීමි. ඔහු රොස් විය.

''ඉඳපන් සද්ද නොකර! උඹට යකා වැහිලද?''

හිස මුඩුගා අවසාන වූ විට මා දෙව් ලොව ආවාක් මෙන් දැනිණි. එවැනි වධ වේදනාවකින් පසු ජීවත්වීමට තරම් ශක්තියක් නැති බැවිනි. දෙව්ලොවට මා පැමිණියේ වධ වලට මූණ පෑ සාන්තුවරයෙකු මෙනි. වාසනාවට හෝ අවාසනාවට හෝ මා තවම බාබර් සාප්පුව තුළය. මා නැගී සිටි හැටියෙම කිප දෙනෙකු සුසුම්ලන හඬ ඇසුණෙන් මා ඒ දෙසට ඇදී ගියේ නිතැතිනි. කරණවැමියාගෙන් පැන යාමට මම කොහෙත්ම අදහස් නොකළෙමි. එහෙත් ඔහු මා වෙත පැන මා අල්ලා ගත්තේ කුකුළු පැටවකු අල්ලා ගන්නා නරියෙකු මෙනි.

''ආ! තෝ හොර ගුඩ්ඩෙක්! පැනල දුවන්ට! යන තැනක පල, හැබැයි ඉස්සෙල්ල ගාස්තුව ගෙවාපිය. මෙතන ශුද්ධවූ සුලෙයිමාන්ට අයිති තැනක්, රවටන්ට බැහැ, හොරා තේරුනද? ශුද්ධවන්තයාව රැවටුවොත් හොරි, දද, වණ, කුෂ්ඨ හැදේවි! ඔළුව හිට වණ වේවි!''

හොරි, දද, වණ කුෂ්ඨ හැදෙන්නේ මේ ශුද්ධවූ තැන ඇති කිලිටි රෙදි සහ පටිවලින් බව කීම මට සිත්වුණද එවැනි විවාදයක් සඳහා සුදුසු වේලාව නොවූයෙන් ඔහුට ගාස්තුව ගෙවා, ඝෝෂා කරන සුසුම්ලන හඬ ඇසුණු තැනට දුව ගියෙමි.

පොත් කඩ පෙළ සහ අනිකුත් වෙළඳ හල් පසු කරමින් මිනිස්සු දුවති. රැස්ව හුන් පිරිස බෙලි ඇද කරගෙන, හිස් උස්සාගෙන බලති. පොළ අසල ජංගා ගහේ පාලම හරහා චතුරශ්‍රයට වැදුණු මට පිරිසක් පෙනේ. බැටළුවන් විකුණන කඩ පෙළ අසල තරුණයින් කීපදෙනෙකි. ඔවුහු පුරාජේරුවට හැඳගත් මිනිසකු ඇදගෙන යති, ඔහුගේ උඩු සහ යටි රැවුල කළු පාටය. ඔහුගේ කබාය චීන සේද රෙද්දකින් නිමවූවකි. ඉන වටා බැඳ ඇති ලේන්සුවද රෝසමල් සහිත සේද රෙද්දකි. කරවටා රන් ඔර්ලෝසු මාලයකි. හිස වසා ඇත්තේ උසස්ම වර්ගයකට අයත් තොප්පියකිනි. පාවහන් දිලිසෙන සමින් නිමව ඇත. සුප්‍රසිද්ධ ගායිකාවක් වන අයිෂි යලාවිගේ දෙමහල් මන්දිරෙන් මේ ජේත්තුකාරයා එළියට ඇදගත් බවකි. ඔහු අයිෂිගේ සැමියා වන රහ්මාට් හජ්ජි විය යුතුය. ඔහු ජේත්තු කාරයෙකු ලෙස ප්‍රසිද්ධියක් උසුලයි! ඇත්තටම ඒ ඔහුය. ඔහු හැකි තරම් ශක්තිය යොදා පිරිසකට විරුද්ධකම් පායි. පිරිස කෑ ගසයි: ''ඇදපිය ඕකව! එළියට ඇදපිය! ඕකා ගණිකාවන් හොයාදෙන පිම්පියෙක්! මෙහාට ගනිව්!''

රහ්මාට් හජ්ජිගේ අත් පා වලින් අල්ලා ගත් තරුණයෝ ඔහු මඳ දුරක් ඔසවා ගෙන ගොස් හිටි හැටියේම හාල් මිටියක් විසි කර දමන්නාක් මෙන් විසි කළහ. බිම පතිතවූ හජ්ජි නැගී සිට දකුණු අත ඔසවා පිරිස දෙස බලා කෑගැසුවේය:

''මුස්ලිම්වරුනි! මට සවන් දීපල්ලා!''

එවිට අවුරුදු තිහක් පමණ වයසැති දවැන්ත පුරුෂයෙක් ඔහු වෙත පැන හිසට වැරෙන් ගැසීය. ඇඳුම අනුව නම් දවැන්තයා මස් කඩකාරයෙකි. හජ්ජි විසිවී ගොස් නැවත බිම පතිත විය. නැවත පිරිස කෑගසන්නට විය: ''ගණිකාවන් හොයාදෙන පිම්පියට ගහපියව්!'' හජ්ජිගේ දෙපාවලින් ඇදගෙන යන්නට විය. කෝපයෙන් ඇවිස්සී සිටින පිරිස නවතාලීමට බැරිය. ඔහුට ළංවූ හැම මිනිහෙකුම පහරක් ගැසීම තම යුතුකමක් සේ සලකන බව පෙනේ. සමහරු අතින්ද, අන් සමහරු පයින්ද ගසති. දුර සිටි අය ගල් ගසති, මේ ගල් ඔහු ළඟ සිටින අයට වැදේ. මේ හේතුව නිසා පිරිස තව තවත් කෝප කළ මී මැසි රංචුවක් මෙන් පහර දෙයි. අවුලකට ඇත්තේ මී මැස්සන්ගේ විශාලත්වය පමණකි. අසරු පොලිස් භටයන් හා පාබල භටයින්ද නලා පිඹිමින්,

අහසට වෙඩි තබමින්, පිරිසට බැටන් පොලුවලින් පහර දුන්නද එලක් නොවිය. රහ්මාට් හජ්ජි මිය ගියද, පිරිස මළ සිරුරට නොකඩවා පහර දෙයි, වධ දෙයි... පැය බාගයකට පමණ පසු එක එකා බැගින් විසිර යන්නට විය. පිරිස සංඛ්‍යාවෙන් අඩුවෙත්ම එහි වූවෝ ඉක්මනින් ඈත් වූහ. එසේ පැන යන එකෙක් අනිකාගෙන් මෙසේ අසන සැටි මට ඇසිණ:

''ඒයි, මේ අහපන්, කාවද අර මරා දැම්මෙ? ඒකා කළ වරද මොකක්ද?''

රහ්මාට් හජ්ජිට පළමුවෙන්ම පහර ගැසූවන් ඔවුන් විය හැකිය.

පිරිස වටා ඇවිදිමින් හජ්ජිගේ යටගියාව දැනගැනීමට මම වෙහෙස වීමි.

## 14
## රහ්මාට් හජ්ගේ යට ගියාව

අයිෂා අලාච්ගේ සැමියා වන රහ්මාට් හජ්ජි පෙර්ගානයට ගියේ එය දකබලාගෙන එහි විනෝදවීමටය. තමා පොහොසතකු බව කියා සිටි හජ්ජි, විවාහ වීමට සුදුසු කතකු සොයන බව දන්වීය. එවැනි කටයුතු සඳහා කල්ගත නොවේ. සපත්තු මහන්නකුගේ දුවණියක් වන වැන්දඹු ලතිපහොන් ඔහුට යෝජනා කරන ලදී. ඔහු ඇය සතු සියලු වස්තුවත් සමග ඇ තෂ්කෙන්ට් නගරයට ගෙනාවේය. එහෙත් ගෙදරට කැඳවාගෙන ඒමට පළමුව හජ්ජි තම ජ්‍යෙෂ්ඨ බිරිඳ වන අයිෂා හමුවැ ඇය ඉදිරියේ බැගෑපත් ලෙස කන්නලව් කරමින් මෙසේ කීවේය:

''මගේ රත්තරන් පණේ! මගේ තරුණ වයස හන්ද මම මෝඩකමක් කර ගත්තා. ඔයා මා පාවා දෙන්න එපා. මම ඈ සමග සති දෙක තුනක් වාසය කර, ඇයව ආපසු ගෙදරට ගෙන ගොස් හැරලන්නම්. එතෙක් ඔයා මගෙ 'නංගී' වගෙ පෙනී සිටින්න. ඔයා මට මේ උදව්ව කළොත් මරණ මොහොත දක්වා බල්ලෙක් වගෙ ඔයාට මම සේවය කරන්නම්. කොහොම හරි සල්ලි හොයාගෙන ඔයාව මම හජ්වලට ගෙනියන්නම්. එහෙම නොකළොත් අල්ලා මට දඬුවම් දේවි. ලෝකෙ තියන වන්දනා ස්ථානවලට ගිහින් වැඳල සියලු පව්වලින් නිදහස් වෙලා එමු. අනේ අයිෂා මට අනුකම්පා කරපන් ආ?.. එකහ වෙනවද? අනේ මට අපහාස කරන්න එපා. ඔයා දෙපා සෝදන වතුරවලින් මම තේ සාදගෙන බොන්න වුවත් ලෑස්තියි...''

සැමියාගේ අඳෝනාව අසා සිටි අයිෂා අතක් වනා තමා විරුද්ධ නැති බව පළ කර සිටියාය. රහ්මට් හජ්ජි තම මර්ගිලාන් රූපාවතිය ගෙදරට ගෙනාවේය. තම විවාහය නිමිත්තෙන් ඔහු පොඩි පහේ ප්‍රිය සම්භාෂණයක්ද පැවැත්වීය. කාලය ගෙවීගියේ වේගයෙනි. අළුත් ආදරයක් සොයාගත් මිනිසා පැරණි ආදරය අමතක කරන බව කියති. හජ්ජිද එය සනාථ කළේය. හජ්ජි තම පැරණි බිරිඳ වන අයිෂා මුණ නොගැසීමට පමණක් නොව නව බිරිඳ වන ලතිපහොන් ඉදිරියේ ඇයට උපහාස කිරීමට තරම් නිර්භය විය. ලතිපහොන් හජ්ජිගේ ක්‍රියාවන් ගැන කිසිවක් නොදත්තාය. අයිෂා අල්ලාව් ඉවසුවාය, තවත් ඉවසුවාය. අවසානයේ ඉවසීමේ සීමාව බිඳී ගියෙන් ඇය පළිගැනීමට ඉටාගත්තාය.රහ්මාට් හජ්ජි ගෙදර නැති දවසක අයිෂා ලතිපහොන් කැඳෙව්වාය:

''මේ අහපන් අයිම්පාෂා (මේ අහපන් සුන්දරිය!) ඔය උඹලගෙ ගමේ-මර්ගිලානෙ-හැම එකෙක්ම ඔය තරමම බොළඳ මෝඩයෝද? නැතිනම් උඹ විතරක්ද එහෙම? මාස තුනක් පහුළණා, උඹට මොකවත් අමුත්තක් ජේන්නෙ නැතිද? හජ්ජි මගෙ අයියා නෙවෙයි, මගෙ ස්වාමි පුරුෂයා! ඒ හන්ද මගෙ දයාබරිය උඹ මගෙ නැනා නෙවෙයි. ගෙදර වියදම් දරන්ට වෙලා තියෙන්නෙ මටයි. හජ්ජිව හුරතල් කළා ඕනවට වැඩිය. දැන් එයාගෙ තෙල මෝරල. ඔයා දන්නෙ නැතිද මේ තෂ්කෙන්ට් නගරෙ ඉන්න ජනප්‍රියම ගායිකාව මා බව? සවරී-අල්ලාව්, රිසාල්-අල්ලාව්, පාතිමා-අල්ලාව් මේ අය මගෙන් ඉගෙන ගත්තු කෙල්ලො. දිනපතාම මඟුල් ගෙවල්වලට ගිහින් පොහොසත් බායිලාගෙ පුතුන් සන්තෝස කරන්ට මම උදේ සිට රෑ වන තුරු ගී කියනව. නටනව. පණයන වැඩක් මම හැමදම කරන්නෙ. ලොකු පොහොසත්තු,

කර්මාන්ත ශාලා අයිති කාරයො වැනි උදවිය සමග රෑ කෑම කනව, උන්ගෙන් ඇහැකි තරම් සල්ලි ලබා ගන්නව. මේ තරම් මහන්සියෙන් හරි හම්බ කරන මුදල් හජ්ජි වියදම් කරනව. ඔයාට ඔය කාරණාව පැහැදිලි නැතිද? බල්ලො දෙදෙනෙක් එක පිඟානෙ කන්නෙ නැතිළු! මට ඔය මිනිහගෙන් ඇති වැඩක් නැහැ. උවමනා නම් මිනිස්සු සියයක් මට ගන්ට පුළුවනි. මහ පාරෙ හමුවන හැම මිනිහෙක්ම මා දිහා කෑදර හිතින් බලන බව මා දන්නව. මට උවමනා නම් මගෙ උසට රත්තරන් ගොඩක් ලබා ගන්ට පුළුවනි! කී හැටියම අහසෙ පියාඹන කුරුල්ලා වුණත් මට ලබාගන්ට පුළුවනි... මට ඇති කිසිම පසුතැවිල්ලක් නැහැ. ඒ උණාට ළපටි ඔයා ගැන මට කණගාටුයි. ඔයා තවම තරුණයි. ඔයා අවංක මුස්ලිම් භක්තිකයෙකුගෙ හොඳ දුවක්. හජ්ජි ඔයාව කැළල් කළා. දැන් ඔයාට අපහාස කිරීමට ලෑස්ති වෙනව. ඔයා දන්නවද ඔයාව එයාට උවමනා වෙලා තියෙන්නෙ ඇයිද කියල?.. ඔයාට උණත් කල්පනා වෙලා ඇති. දැන් එයා ලෑස්ති වෙනව ඔයාව සල්ලිකාර නාකින්ට අඹු කමට දීල එක රැයකට සිය ගණනින් හම්බ කිරීමට!.. ඒ හන්ද ප්‍රවේසම් වෙන්න. සමහර විට ඔයා ඒ වගෙ වැඩවලට කැමති ඇති. එහෙම නම් ඒක ඔයාගෙ වැඩක්...''

අසරණ ලතිපහොන් සුදු රෙද්දක් සෙ සුදුමැලිවැ ගොස් ගොළු වූවාය. වෙඩි පහර කෑ කිරිල්ලියක සේ ඒ මේ අත වැනෙමින් කාමරයට වැද මඳ වෙලාවකට පසු පරන්ජාවකින් මුහුණ වසා ගෙන මල්ලක්ද අතැ'තිව එළියට ආවාය:

''අයිෂා ඔයාට ස්තුතියි ඔයා මාව බේරාගත්තාට. ඔයා මට සමාවන්න මා ඔයාගෙ හිත නැලුවට. මා ගෙදර යනව මර්ගිලාන් වලට!''

අයිෂා ඇට ආයුබෝවන් කීවාය. පසුව දෙදෙනාම එකි'නෙකා වැළඳගෙන හැඬූහ. ලතිපහොන් ගෙයින් පිටවැ ගොස් විනාඩි පහකට පමණ පසු රහ්මාට් හජ්ජි ගෙදර ආවේය. ඔහු ලතිපහොන්ගේ කාමරයට ගොස් ඇය නැති බව දැනගෙන, ''කොහෙද ලතිපහොන්?'' යැයි අයිෂාගෙන් ඇසීය.

උඹව අතහැරල ඇ ගියා මර්ගිලාන්වලට. දික්කසාද වන බව ඈ කීවා. තවත් බිරිඳක් එක්ක හවුලෙ ඉන්න බැහැයි කිව්ව...''

''උඹ මොනවද ඇට කීවෙ?''

''මම කිසිවක් කීවෙ නැහැ. මිනිසුන්ගෙ කටවල් වහන්න මට බැහැ. හඳ අල්ලෙන් වහන්ට බැහැ නෙව. කොච්චර මිනිස්සු අපේ ගෙදරට එනවද, කවුරු හරි ඇත්ත එයාට කියල ඇති.''

''උඹ යකින්නක්! ඈ ගිහින් හුඟක් වෙලාද?''

''විනාඩි පහක් විතර ඇති. ගිහින් හමුවෙයන්. මග යන අයගෙන් අහපන්, මර්ගිලාන් බලා ගැහැණියක් ගියෙ නැතිද කියල. එයා පරන්ජාවෙන් මුහුණ වහගෙන මල්ලකුත් අතින් ගෙන ගියා.''

රහ්මාට් හජ්ජි කැළඹීමෙන් හා බියෙන් යුතුවැ පාර දිගේ දුවමින් මගීන්ගෙන් අසන්නට විය. අවසානයේදී මස් කඩ පෙළ අසලදී ඔහුට ඈ හමුවිය.

''නැවතියන් ලතිපා!''

''හීනෙන් වත් හිතන්නෙ නැහැ නවතින්න කාලකණ්ණි පිම්පියා!''

''උඹට පිස්සුද? මොකක්ද කීවේ? කව්ද පිම්පියා!''

''ඔව්, ඔව්, උඹ තමා ඒ ලැජ්ජා නැති වැඩේ කරන්නෙ. උඹට බැහැ මාව රවටන්න.

යක්සයා! උඹට හෙණ දහසක් වදීවි! අනේ මට වූ විපතක හැටි! මුස්ලිම් භක්තිකයෙනි මේ අහපල්ලා!''

මිනිස්සු රැස්වූහ. කතාවට සවන් දෙමින්, බැණවදිමින් මස් වෙළෙන්දෝද එළියට ආහ. එන පොට හොඳ නැති බව දුටු රහ්මාට් හජ්ජි ආපසු ගෙදර දුව ගියේය. පිරිස ඔහු ලුහුබඳින්නට විය. සමහරු ලතිපහොන්ගෙන් විස්තර අසා දැනගත්හ. කඳුළු සලමින්, අඬමින් කතාකළ ලතිපහොන් කී දෙය නොපැහැදිලි වුවද, පිරිසට එය ප්‍රමාණවත් විය. යුද්ධතොරතුරුද,වැඩිවන බඩු මිළ ගැනද, ඉදිරියේ එන අභාග්‍යයන් ගැනද අසා කැළඹී සිටින මිනිසුන්ට මෙය සෑහේ. අයිෂාගේ නිවසේ ගෙවත්තේදී හජ්ජි පිරිසට හසුවිය. මිනිස්සු ඔහු ඇදගෙන ගියහ...

පොලිසිය හජ්ජිගේ මළ සිරුර වියලි මිදි ගොඩගසන මඩුවට ගෙන ගොස් පැදුරකින් වසා දැම්මේය. මැරූ අය පමණක් නොව මරණ සැටි දුටු සාක්කි කරුවන් පවා සොයා ගැනීමට පොලිසිය අසමත් විය. ලතිපහොන්ද අතුරුදහන් වූවාය.

මගේ නිවාඩු දවසද අවසාන වී ගෙන එයි. පොළ හිස් වෙන්ට පටන් ගෙන ඇත. බල්ලෙක් මළගිය කුකුළෙකු සිඹ බලන්නා සේ ඉටිපන්දම් කිප වරක්ම සිඹ බලා දුගඳ වහනය නොවන ඉටි පන්දම් රාත්තලක් මිළදී ගත්තෙමි. ඉන්දියානුවාට උවමනා දුම් කොළ ටිකක්ද, හුදකලාව අපේ ගුබ්බෑයමට එන අය සඳහා පෂ්මාක් අළුවා රාත්තල් බාගයක්ද මිළදී ගෙන, යන්නට සැරසුනෙමි. තන්දිර් බසාරය අසල ඇති බදලමත් දුම්ගේ නාන ස්ථානය සමීපයේදී මගේ පැරණි මිතුරකු වන අපේ ගමේ රසුල්මාට්ගේ පුත්‍ර තුරබායි මුණ ගැසුණි. ඔහුගේ පියා කපු වෙළෙන්දෙකි.

මා හඳුනන මිනිසුන් දැකීමට බියවූ මම මේවර තුරබායි හමුවීම නිසා ප්‍රීතිවිඳයි කීමට නොදනිමි. මොහොතක් මා දෙස බලා සිටි තුරබායි මා වැළඳ ගත්තේය.

''මඳ! උඹ එහෙනම් ජීවතුන් අතර ඉන්නව? තෂ්කෙන්ට් වලද? උඹලෑ අම්මා උඹ මැරුණයි කියල ප්‍රසිද්ධ කරන්ට ලෑස්ති වෙල!'' අපි එකිනෙකා වැළඳ ගතිමු. තුර්බායි මා දෙස නැවත බැලීය. ''ඇයි උඹ ගෙදර යන්නෙ නැත්තෙ? උඹ ඔය තරම් නපුරෙක්ද?''

මම පහත් හඬින් කතා කළෙමි:

''ජේනව නෙවද යාළුවා මුංගෙ ඇඳුම්වල හැටි. මේව ඇඳගෙන ගෙදර යන්න ලැජ්ජයි... මම මෙහෙ ඇවිල්ල සුමානයක් වෙනව...''

''සුමානයක් වෙනවද? ඇයි අපි මුණ ගැහුනෙ නැත්තෙ?''

''මම මෙතැන හාම් පුතෙක් ළඟ වැඩ කරනව. එයා බොහොම ත්‍යාගශීලියෙක්. තව සුමානයක් වැඩ කරල කම්සෙකුත් අරගෙන නංගිලාටත් මොනවහරි අරගෙන ගෙදර යනව. තුරබායි උඹට ඇහෙනවද, මාව දැක්කයි කියල කාටවත් කියන්න එපා! කිසිම කෙනෙකුට වචනයක්වත් කියන්න එපා. තව සුමානෙකින් ගමට ඇවිත් මම තොරතුරු කියන්නම්. උඹ කියනවද?'' ඔහු රහස හෙළි නොකරන බවට හිස වැනීය. ''තුරබායි, කොහොමද අපේ අම්මයි, නංගිලයි ආ? ගමේ ආරංචි මොනවද?''

''අමුතු ආරංචියක් නැහැ. උඹලෑ අම්මයි නංගිලයි හොඳින් ඉන්නව. උඹලෑ මාමා ඒ ගොල්ලන්ට උදව් කරනව. ගමේ අළුත් ආරංචියක් නැහැ. සලිම්බායි-සූපිගේ එළුදෙන පැටව් ගැසුවා. හරිම හිනායන වැඩක්... රෙදිකෑලි අතේ එල්ලාගෙන වෙළඳාම් කරන හුස්නිබායි බංකොලොත් වුණා. එයාගෙ තාත්තා මිනිහට හොඳටම තඩිබෑවා. පල්ලියෙ රෙදි වගයක් හොරකම් කරල. කවුද හොරකම් කළේ කියන එක දන්නෙ නැහැ. ඉස්මට්-දුවානාගෙ කබාය

පල්ලියෙ තිබූ රෙදි වගේමයි කියනව. සියාද් ආවා අන්ධ මැහැල්ල මළා. එයා අපේ ගමේ හිටි අන්තිම විරිඳු කාරිය බව දන්නවද?

''ආරංචි ඔච්චර තමා...''

''උඹේ ජීවිතය කොහොමද තුරබායි?''

''මගේද? ජීවිතය හොඳා! අපේ තාත්තගේ බිස්නස් එක සරුයි. දැන් තාරාවන්ගෙ මිළ ඉහළ ගිහිල්ල. තාරා පැටියෙකුව ටන්ගි දෙකකට විකුණන්ට පුළුවනි!.. උඹ ලබන සුමානෙදි ගමට නාවොත් උඹව දක්කයි කියල හැම දෙනාටම කියනව. උඹලැ අම්මටයි, අපේ කොළු කට්ටියටයි! කවුද උඹේ හාම්පුතා?''

''ඒක රහසක්!''

''හරිම රහසක්! මොකක්ද ඔය තරම් හංගන්ට හේතුව?''

''හේතුවද?..''

''උඹ දන්නම කියපන්. නැත්තම් මම තනියම දැනගෙන ලෝකෙටම ප්‍රසිද්ධ කරනව!''

''හොඳයි. කනතොභඩ්සු වල මම ඉගෙන ගන්නව...''

''අන්න පවයක් ඇරිය! උඹ කනතොභඩ්සුවල ඉගෙන ගන්නව නම් කෝ උඹේ රතු කලිසම?''

අපි දෙදෙනාම සිනාසුනෙමු.

''අමාන් කොහෙද කියල දන්නවද?'' යි මම ඇසුවෙමි.

''ඕ, තව පොඩ්ඩෙන් අමතක වෙනව. මේ ළඟදී මිනිහ ගමට ආවා, වැරහැලි හැඳගෙන. එයා හරි පුදුම කතා කීවා. අපේ කට්ටිය එයාගෙ කතා විශ්වාස කරන්නෙ නැහැ. 'මිනිහා සර්වබලධාරි අල්ලා ගැන දිවරනවා...' දැන් මිනිහටත් හොඳයි. අබ්දුල්ලා ළඟ වැඩ කරනව. වතුර අදිනව. අස්සයව බලා ගන්නව. අබ්දුල්ලා, අමාන්ට සෙබල හම් පටියක් තෑගි දුන්නා. අබ්දුල්ලා රුසියන් බාසාවෙන් බණින්ට අමාන්ට ඉගැන්නුවා. අමාන් දැන් ගන සැරේට බනින්ට දන්නව! මට ඉරිසියා හිතෙනව. අමාන්ගෙ තාත්තගෙ කඬේ මේ ළඟදී කඩා වැටුණ. අපි කයියක් දාල කඬේ හදල දුන්නා.''

ඔහුගේ කතාවට සවන් දුන් මම අපේ ගම ගැනත්, එහි මිනිසුන් ගැනත් සිතන්නට වීමි. මට ගෙදර යාමට සිත්විය!

''හොඳා! මට යන්ට ඕන. ඉතුරු හරිය ගමට ආවාම අහගන්ට බැරියැ,'' යි මම කීවෙමි.

රහ්මතුල්ලා සර්කාර් මට තෑගි කළ කුරුල්ලා ගැන මෙහිදී මතක් විය. කමිසය යටටවී සිටි ඌ ගෙන තුරබායිට තෑගි කළෙමි.

''ගෙදර ගෙනියල කූඩුවක දාල ඇති කරපන්, ඌ කතා කරාවි.''

තුරබායි ගිරා පැටියා රැගෙන උගේ කනට පිඹින්නට විය. නැවත වරක් පිම්බෙය.

''මූ ගෑනු සතෙක්!''

''මම මුළු ස්ටෙප්ස් බිමේ හැම තැනම ගියා. තවම බැහැ කුරුල්ලන්ගෙ ගෑනු සතයි පිරිමි සතයි හොයාගන්ට.''

ඔහුගේ කීමට මා එකඟ නොවූයෙන්, වැඩි හිටියෙකු වෙත ගොස් තීරණයක් ලබා ගැනීමට එකඟවීමු. අපි තරුණයකු දැක ඔහු වෙත ගියෙමු.

''මුල්ලා-අකා, බලන්නකො මේ සතා සින්දූ කියාවිද කියල?''

තරුණයාද ගිරවා රැගෙන කණට පිම්බේය.

''මේකිගෙ පැටවුන්ගෙන් සංගීත කාරයො ලබාගත ඇහැකි. මැනම් සින්දු නොකියාවි''

මා පරාජය වූ බව පිටතින් පෙන්නුවේ නැත.

''කමක් නැහැ පූසට දීපන්'' යැයි මම තුරබායිට කීවෙමි.

සමුගත් අපි දෙදෙනා විසිර ගියෙමු.

15

# දුම් කාමරය

මා දුම් කාමරයට ඇතුළු වන විට හජි-බාබා ඇතුළු අනිකුත් අය තුන්වැනි යාච්ඤා වාරයද අවසන් කරමින් සිටියහ. ම විසින් මිළට ගන්නා ලද ඉටිපන්දම්, දුම්කොළ, අළුවා සහ ඉතිරි දෙළුම් ගෙඩියද පසක තබා ගඩුගුඩාවේ වතුර ඉවත් කොට නැවත වතුර පිරවීමි. ගඩුගුඩාවේ මුදුන ශුද්ධ කොට, සමවාරය පිරිසුදු කොට, ලිපේ අළු ඉවත ඇද ශුද්ධ කොට, තුවායක් කර දමා ගෙන, කොස්ස අතට ගෙන මා නැගිට සිටියේ කිසිවක් සිදු නොවූ පරිදිය. යාච්ඤා වාරය අවසාන වන තුරු මම බලා සිටියෙමි. එවිටම වාගේ එය අවසාන විය.

''අනේ මගේ අනාත කොලු පැංචා ඇවිදින්ට ගියා. දුප්පතා. අනාත කොල්ලන්ට තාත්තලා හුඟාක් ඉන්නවයි කියල කතාවක් තියෙනව. ඉතින් උඹත් තාත්තලා ජෝඩුවක් හොයා ගත්තද? ආ? කොස්ස බොහොම මෘදු වැඩියි. උඹට ජර්මන් පතොරොමක් වැදුනෙ නැතුවා නෙව!'' යැයි හජි-බාබා බැණ වදින්ට පටන් ගත්තේය.

''හජි-බාබා මේ මළ ඉර බැහැල යන වෙලාවට බණින්න හොඳ නැහැ!'' යැයි එක් දුම් බොන්නෙක් කීය.

''මට අමතක උණා!''

''කඩ පොළේ මොනවද සිද්ද උණේ?'' යැයි මා වෙනුවෙන් කථාකළ දුම්බොන්නා ඇසීය.

''අනේ හජි-බාබා! දන්නවද රහ්මාට් හජ්ජිව මරා දැම්ම නෙව. අර අයිෂා-අල්ලාචි ගායිකාවගේ ෂෝක් කාර මහත්තයා. පිරිසක් එක්කාසු වෙලා පහර දීල මැරුවා...''

''අනේ! අනේ! අල්ලා අප ආරක්සා කරන සේක්වා! ඒ මිනිහනම් කඩවසම් තරුණයෙක්. ජැන්ඩියට අඳිනව. එයාට ස්වර්ගය ලැබේවා! පිරිසක් වධ දුන්නා නම්, ආගම වෙනුවෙන් වද විඳ ජීවිතය පූජා කළා! එහෙම නම් නිරයට වැටෙන්නෙ නැහැ... ඔන්න ඔහොමයි...''

අනිත් අය විස්තර දැනගැනීමට මගෙන් ප්‍රශ්න කරන්ට වූහ.

''කියපන් කොහොමද උණේ? උඹ සියැසින් දැක්කද? බාබර් සාප්පුවට ඇහුණා? උඹ පිරිස මැදටම ගියාද? උඹ ඉරානයේ තට්ට අහමඩ් අලි වගෙ ළඟටම ගියාද? මම පොටෝ එක දැක්කා. කියපන්...''

මා ඇසූ දුටු දේ සියල්ල එකිනෙක විස්තර කිරීමට මම පටන් ගත්තෙමි. මගේ කතාවෙන් මා අස්වාදයක් ලැබූ නිසාම අතිශයෝක්තියෙන් හෙබි එම කතාව ඇත්ත කතාවක් ලෙස ලෙහෙසියෙන් කියා පෑමට මට හැකිවිය. ''ඒ රහ්මාට් මරා දැමීමට කොපමණ මිනිස්සු රැස්වුණාදැයි කිවහොත් මහ පොළව හිල් වෙලා වළක් හැදුනා. මම ඒ වළට නොවැටුනා විතරයි. මට ඉස්සෙල්ලා වැටුණු අය ඒ වළ තුළ පිරිල හිටිය හන්ද මම යම්තම් බේරුනා. සාර් රජ තුමා ඒ පිරිසට පහර දෙන්ට ලක්ෂයක යුද්ධ හමුදවක් එව්ව. යුද්ධ හමුදව, පිරිසට හැත්තෑ එක් වරක් වෙඩි තැබුවා. බොහෝ දෙනෙකුට වෙඩි වැදිල ඒ මේ අත දුවන්ට පටන් ගත්තා. ගෑණු නව දෙනෙක් වෙලාවට කලින් දරුවන් ප්‍රසූත කළා. කුකෙල්දෂ් මහ පල්ලිය දෙදරුම් කෑවා. මචාලච්ගෙ පොලිස් කාරයො සෑදල හදන කඩ පෙළ, කොල්ල කන්ට පටන් ගත්ත. නාන්ට ආපු ගෑණු ඒ ශබ්දයට බයවුණා. ඉතින් ඒ ගොල්ල අමු හෙළුවෙන් නාන කාමර වලින් එළියට පැනල දුවන්ට පටන් ගත්තා...''

මේ විදියට පැයක් පමණ වේලා හිතට එන හැම දෙයක්ම සත්‍ය සිද්ධියට ඇඳාලමින්

කියන්ට වීමි. හජී-බාබාට පවා මගේ පමාවීම ගැන අමතක විය. මා මගේ කතාව කරගෙන ගිය අතර දුම් කාමරයට පැමිණි සංඛ්‍යාව විස්සක් දක්වා වැඩිවෙන්නට විය. ඔවුහු ඇස් පිසදමා ගනිමින් මගේ කතාවට සවන් දුන්හ. ඔවුහු සිහි නැති වන තුරු සිනහසුනහයි මට සිතේ. අබිං කෑවේ මේ දන් බව අමතක වූ සමහරු නැවත අබිං ඉල්ලා සිටියහ. කඩ පොළේදී එම සිද්ධිය දුටු දෙතුන් දෙනෙකු මගේ කතාව සනාථ කළා පමණක් නොව තවත් කරුණු එකතු කිරීමට ඉදිරිපත් වීම මගේ පුදුමයට හේතු විය. තුන්වැනි යාච්ඤා වාරය අවසන් වූ පසු ඉන්දියානු ලක්ෂපතියා ආවේය. ඔහු ප්‍රීතියෙනි. මගේ කතාවෙන් තරමක් කරුණු දනගත් ඔහු සමහර සිද්ධීන් දන ගැනීම පිණිස ප්‍රශ්න ඉදිරිපත් කළේය. ඒ අතර ඔහු ''මෂල්ලා! මෂල්ලා!'' යැයි කීපවරක්ම කියමින් තම සංවේගය පළ කළේය.

පසුව මුළු මහත් අබිං සමාජයම රහ්මාට් හජීගේ සංවේගජනක අවසානය ගැන සාකච්ඡා කිරීමට පටන් ගත්තේය. එකෙකු රහ්මාට් වැරදිකරු බව කී අතර තව'කෙක් අයිෂා-අල්ලාවිට චෝදනා කළේය. තෙවැනියා මර්ගිලාන්හි සිට පැමිණි වැන්දඹු බිරිඳටද, සතරවැනියා කැරලිකාර පිරිසටද දෙස් තැබුහ. ඒ පිරිස එතැන නො සිටීම වාසනාවකි. පස්වැනියා මවාලච්ට හා පොලිස් කාරයින්ට ශාප කළේය.

අපේ ගුබ්බෑයමට නිතර පැමිණෙන මුල්ලා පදවිය දරන පූජකයෙකු වන මිර්සලිම් ''ඔයවගේ අවස්ථාවලදී වැරදි වෙනව තමා!'' යැයි කියමින් ඇස් කණ්ණාඩි කූට්ටම ලා ගෙන දිගටම කතා කළේය: ''ඔහොම වෙනව තමා. ඔන්න ගිය අවුරුද්දෙ සයිලාවල සන්ගි අටා දේව මංගල්‍යය පවත්වපු දවස. එද සිකුරාද දවසක්. ඔන්න ඔය උත්සවයට මහ විශාල සෙනඟක් ඇවිත් හිටිය. ඉරාකයෙන්, බග්දෂානෙන්, ඉන්දියාවෙන්, රුමාවෙන්, චීනෙන් පවා වන්දනා කාරයො ඇවිත් හිටිය. මුළු තෂ්කෙන්ට් නගරෙ සම්පූර්ණයෙන්ම එතනට ආ බව දනුණා. කොල්ලො පමණක් නොවෙයි අත දරුවො හිට. හරිම ජන සන්නිපාතයක්. සිකුරාද යාච්ඤා වාරයට නියමිත සංඥව නිකුත් කළා. නගර චතුරශ්‍රය ජනයගෙන් පිරිල ඉතිරිල යන්ට පටන් ගත්ත. එක වන්දනා කාරයෙක් එයාගෙ යාළුවකුව දකල පිරිස පීරාගෙන ඉදිරියට ගියා. ඒ යාළුවගෙ සල්ලි පසුම්බිය සාක්කුවෙන් එළියට වැටෙන්න ඔන්න මෙන්න කියා තිබුණ නිසා ඉදිරියට යමින් සිටි වන්දනාකාරයා අතින් ඒ පසුම්බිය නැවත සාක්කුව තුළට දම්මා. මේ සිද්ධිය දක්කා තවත් එක වන්දනා කාරයෙක්. ''මුස්ලිම්වරුනි! අප අතර ගැට කපන හොරෙක්!'' කියල ඒ මිනිහ කෑ ගැහුවා. නමාම්ගෙ නායකත්වයෙන් බැතිමතුන් පිරිස අර මිනිහට ගහන්ට පටන් ගත්තා. හොඳටම ගහල, ගෙවත්තට ඇදගෙන ඇවිල්ල ආයෙමත් ගුටි ඇන්නා. ඊට පස්සෙ වගතුග හොයන්ට පටන් ගත්තා. ''මොකක්ද කාරණය? කව්ද එයාව අල්ලගත්තෙ?'' එතකොට සල්ලි පසුම්බිය අයිතිකරු කඳුළු පිරි ඇසින් මෙහෙම කීවා: ''ඒ මිනිහ මගෙ ඉතාම හොඳ මිතුරා. කිසිදවසක හොරකම් කරන්නෙ නැහැ. මගේ මුදල් පසුම්බිය දෙව්ට පැනල තියෙනව දකල එය නැවත සාක්කුව තුළට දම්මට අත දිගු කළා වෙන්ට ඇති. ඇයි තුම්ලා ඒ අහිංසකයාව මරා දම්මෙ?.. කොහොම කීවත් මළවුනට පණ දෙන්ට බැහැ නෙව...''

''ඔව්! ඒ මිනිහත් කෙළින්ම දෙව් ලොවට යනව. කිසිම විදියේ පරීක්ෂණ වලට මුණ පාන්නෙ නැතුව.'' යැයි සුසුමක් හෙළමින් හජී-බාබා පැවසුයේ තීරණාත්මක ලෙසිනි.

මැරුම් කෑ මිනිසා ගැන ප්‍රශංසා මුඛයෙන් කතා කරන්නට විය. පොදු ජන ශුභ සිද්ධිය තකා නිතර වෙහෙසෙන මුසල්මානයින් සිටින තාක් කල්, ඔවුන් මුස්ලිම් සමාජ ධර්ම නීතිය වන ෂරියාට් පිළි පදින තාක් කල්, නීතිය තම අතට ගෙන ක්‍රියා කරන තාක් කල්, නියම මුස්ලිම්

බැතිමතුන්ගේ දේපොල වලට අත තැබීමට කිසිවකු ඉදිරිපත් නොවනු ඇත. හැම දෙනෙක්ම ඔහුගේ මතයට එකඟ වී, කෑගසන්නට විය: ''හිතුවක්කාර ලෙස නඩු විසඳීමට ජයවේවා!'' දෙව්ලොව සැපත ඔවුන්ගෙන් පැහැර ගැනීමට යන සැටියකි ඔවුන්ගේ හැසිරීමෙන් මට හැඟී ගියේ.

හිතුවක්කාර නඩු විසඳීම ගැන සතුට ප්‍රකාශ කරමින් පටන්ගත් කතාව, අද තත්ත්වය නරක අතට හැරී තිබෙන බවත් දුන් හැදෙන-වැඩෙන අය නරක් වී සිටින බවත් කියමින් ඒ ගැන අදහස් පැවසීම දක්වා වෙනස් විය. සාර් ඔහුට අයිති නැති වැඩ කරයි, අවංක බව, හිතෛෂී බව අතුරුදහන් වෙලාය, කඩ පොළේදී ස්ත්‍රීන් හා ළමයින් මිළදී ගත හැකිය, ෂරියාත් නීතිය පිළි නොපදිති, මළවුන් අතරින් ඊසි නැගිටීමේ උත්සවයට තව ඇත්තේ සතියක් පමණකි ආදී මාතෘකාවන් ගැන කතා ඇතිවිය. ලෝකාන්තිම දවසට මුස්ලිම් ආගමේ ප්‍රධාන සතුරා පරාජය කිරීම සඳහා මෝසස්ගේ සහ සොලොමානිගේ අවසර ගෙන මෙලොව පහළවන සොම නැමති මංග රාජයා රුම්හි හලිපාටය අසල ඉන්නා බවද එකෙක් කීවේය. එකැ'සක් පමණක් ඇති ගොග් සහ මගොග් නැමති චීන ජන කොටසක් ඉරානයෙන් අඩක් ගිලගෙන තෂ්කෙන්ට් හා ටුප්-කුර්ගාන් දක්වා ඇවිත් තිබෙලු. එපමණක් නොව අවජාතක බිළිඳෙකුද සොයා ගෙන තිබේ!

අපේ ගුබ්බෑයමේ ප්‍රධාන ඉමාම් තුමා වන හජි-බාබා හතරවැනි යාච්ඤා වාරය ඇරඹීම සඳහා නැගී සිටියේය. අනිත් අයද ඔහු අනුගමනය කරමින් නැගිට්ටෝය. මම තේ සෑදීමට පටන් ගත්තෙමි. ලිපට අඟුරු දමා ගඩුගුඩාවට දුම්කොළ පුරවන්නට වීමි. පහන දල්වා කාමරය මැදවූ මේසය මත තැබුවෙමි. ඔබ්නොන් කෑටයක්ද, සීනි කැට දෙකක්ද වියලි මිදි මිටක්ද බැගින් එක් එක් පුද්ගලයාට බෙද වෙන්කොට වෙන වෙනම ඒවා බන්දේසියක දමාගෙන ගොස් ඔවුන් ඉදිරියෙහි තැබුවෙමි. යාච්ඤා වාරය අවසන් වූ පසු ඔවුන්ට තේ කෝප්පය බැගින් තැබුවෙමි. තමාට දෙන මුදලට සෑහෙන පමණ අබිං බෙදදීමට හජි-බාබා ඉදිරිපත් විය. කංසා වැනි මත් ද්‍රව්‍ය බොන අයට ලේන්සුවකින් කට වසනලද පැණි කෝප්පය බැගින් දුන්නෙමි. ඔවුන් ප්‍රකෘති ගතියෙන් සිටියේ නම් යට කියනලද ආකාරයට ඔවුන් කතා බහ නොකරනු ඇත. දුන් ඔවුහු කට ගොත්තක් මත් ද්‍රව්‍ය බී මද සිහියෙන් පසුවෙත්. මෙසේ පසුවන ඔවුහු මහා ත්‍යාගිශීලි ධනවතුන් මෙන් පුරසාරම් දෙඩන්නට වූහ.

එකෙක් තම අනඟි ගෙවත්ත ගැන මහා විස්තරයක් ඇද බෑවේය. එය කොතරම් විශාලදයත් එහි එක් කොණක සිට තවත් කොණක් දක්වා යාමට දවසක් උවමනා කෙරේ. දෙවැන්නා තමා සතු රන් කාසි කොපමණදැයි ගණන් කළ නොහැකි බව කීය. තෙවැන්නා තම මිත්‍රයා ගෙදරට ආරාධනා කළේය. ''බැටළුවන් දෙදෙනෙකු මරා සංග්‍රහ කරනව!'' යැයි ඔහු කීවේ දැත් වනමිනි. මට සිතෙන්නේ ඔහුට බැටළුවන් දෙදෙනෙකු තබා ගෙයක්වත් නැති බවකි. ඔවුන් එකිනෙකා තේවලින් සංග්‍රහ කරගනිමින් වියලි මිදි සහ රොටී කෑහ. අබින් පවා ඔවුන් දෙදෙනා තමන් අතර බෙදගත්හ. ප්‍රමාණයෙන් එම අබින් මැස්සෙකුගේ පිහාටුවකට වඩා විශාල නොවීය.

ඔවුන්ගේ කතාවට සවන් නොදීමට ඉටාගත් මම ඔවුන්ට සංග්‍රහ කළෙමි. යම්කිසිවෙක් සංඥවක් කළ විගසම මම සැනෙකින් ඔහු වෙත ගොස් ඔහුට සැර තේ කෝප්පයක් සාද දෙමි. වියලි මිදි සහ රොටී දෙමි. එහෙත් අන් සියල්ලන්ටම වඩා මා සැලකිල්ලෙන් සංග්‍රහ කළේ ඉන්දියානුවාටය.

''මාෂල්ලා! මගේ පුතේ! මට හරි සතුටක්... අද කඩ පොළ. හරිම මහන්සියි. හොඳටම

මහන්සියි... අද ලැබුණු මුදල ගැනල බලන්ටවත් වෙලාවක් නැහැ. මට ඔය දුම්කොළ ගඩුගුඩාව ගෙනෙන්.''

මම ගඩුගුඩාවට ගල් අඟුරු කැට තුනක් දමා සකස් කොට, ඔහු වෙනුවෙන් මා මිළදී ගත් දුම්කුඩු ඔහු වෙත ගෙන ගියෙමි:

''මෙන්න ගඩුගුඩාව ලෑස්තියි.''

''උඹ හරිම හපනා, පුතා, හරිම හපනා...''

සැර දුම්කොළ, ගඩුගුඩාවට දමා පයිප්පය උරන්නට විය. ඉක්මනින්ම ඔහු වෙරිමත් විය. ඔහුගේ දුඹුරු පැහැති මුහුණ ඉක්මනින්ම සුදුමැලිවැ ගොස් ඇස් අඩවන් විය.

''වතුර... ගෙනෙන් වතුර...''

මම දුවගොස් වතුර කෝප්පයකට සීතල වතුර ගෙන ඔහු අත තැබීමි. ඔහු වතුර උගුරක් දෙකක් ගිල දම්මේය. ඔහුගේ අත්වල වෙව්ලීම නැවතී ඔහුට සිහිය ලැබිණ. මම එවිට ඔහු වෙනුවෙන් ගත්, නාසයට උරන දුම්කුඩු ඔහුට දුනිමි:

''මෙන්න මම ඔබට බුහාරා දුම්කුඩු ගෙනාවා.''

''හරිම දක්ෂයා, මගේ පුතා හරිම හපනා! ස්තුතියි...''

ඔහු තම සල්ලි මල්ල තුළට අත යවා පොඩි කාසියක් සොයයි. ඔහු මා වෙත රිදී කාසියක් දිගු කරයි:

''මෙන්න උඹට තෑග්ගක්. හජි-බාබාට නොපෙන්වා සඟවා ගනින්...''

''බොහොම ස්තුතියි පාච්චා*!..'' යැයි කියමින් මුදල අතට ගෙන යම්තම් හිස නමා ආචාර කළෙමි.

අනිකුත් අනුග්‍රාහිකයින්ට තේ වත්කොට දිය යුතුය. අබිං කෑම, ගංජා ආදී මත් ද්‍රව්‍ය පාවිච්චි කිරීම හිමිදිරි පාන්දර කුකුළා හඬලන තුරු කරගෙන යති. හජි-බාබා, ඇතුළු ගෙට වැද විවේක ගනී. සියලු වැඩ කටයුතු මා පිට පැවරී ඇත. කෙමෙන් අනුග්‍රාහකයෝ විසිර යන්නට වූහ. බෝතල අඩිවලට සමාන ඇස් කණ්ණාඩි කුට්ටමක් පැළඳ සිටින උස්ටො** සලීම් හා ඉන්දියානුවා පමණක් රෑ ගත කිරීමට දුම් කාමරයේම නැවතුනාහ. පහන නිවා දමා මම නිදාගැනීමට සැරසුණෙමි...

උදෙන් නැගිටින මම අඩ නින්දෙන්ම සමචාරය පිළියෙල කරමි. ඉක්මනින් ගෙය අතු ගා පිරිසුදු කරමි. දැන් හැම දෙයක්ම ශුද්ධ කොට, පිරිසුදු කොට ඇත. උස්ටො සලීම් උදේ යාච්ඤා වාරය පටන් ගන්නේ හුදකලාවමය. ඔහු තම මියගිය දෙමාපියන්ට හා නෑයින් රාශියකට පින් දෙයි. දූනට මරණයට මුණ පා සිටින බොහෝ දෙනෙකු වෙනුවෙන්ද, තම රැකවල් දූතයාටද ඔහු පිං දෙමින් යාච්ඤා කරයි. අවසානයේදී ඔහු මා වෙත හැරී ප්‍රශ්න කරයි:

''තේ ලෑස්තිද?''

''ලෑස්තියි.''

රොටි මිළදී ගැනීම සඳහා යා යුතුය. එහෙත් හජි-බාබා දුම් කාමරය තනිකර දමා යාමට සූදානම් නැත. කළ යුත්තේ කුමක්ද? ඒ කාරිය සඳහා උස්ටො සලීම් යැවීමට බැරිය! හජි-බාබා වේලාවට නැගිට ඉදිරියට පැමිණීම සතුටට කරුණකි.

---

* පාච්චා—වැඩි හිටියන් අමතන විට භාවිතා කරන ගෞරව පදයකි.

** උස්ටො—ශිල්පියා යන තේරුම ගෙනදේ.

''රොටී ගේන්න කවුරුත් ගියේ නැතිද?''

''සල්ලි දුන්නෙ නැහැ නෙව...''

''ඇත්ත. ඒකත් එහෙම තමා.''

සාක්කුවට අත යවා ටන්ගි කාසි දෙකක් මා අත තබන හජි-බාබා සිරිත් පරිදි ඔවදන් දීමේ දේසනාව අරඹයි:

''රොටී ගන්න කොට හොඳට බලපන් හොඳට පිච්චිලද, අමුද කියල. අතට අසුවුණ දෙයක් ගේන්ට එපා. කන්ට බැරුව යාවි. රොටී හදන පිටි ටිකක් කටේ දල රස බලපන්. ඇඹුල් නම් පිටි පරණ ඒව. උඹට අතට දෙන හැම දෙයක්ම ගන්න එපා. අතින් වහපන් බර වැඩිවෙන්ට. යුද්දෙ වෙන එක නම් හැබෑ තමා. බේකරිය තවම මහ පොළොව ගිලගන නැහැ...''

මම සළුවක් පොරවාගෙන බේකරිය දෙසට දුවන්නට වීමි. හිමිදිරි පාන්දර! ප්‍රණීත සුළං, ගස්වැල් ආදියද ගෙවල්ද උදැසන විසින් පිරිසුදු කළාක් මෙනි. පැරණි තැප්පානය අසලදී මල්ල-පිස්සා සහ ඔහු පිටුපසින් දුවන බලු රංචුවක් දුටිමි. පිස්සා ඒ බඩගිනි බල්ලන් සමග කතා කරයි:

''ශතයකට ඔටුවෙකුව ගනින්. කොහෙද උඹේ ශතේ? රූබල් දහකට ඔටුවෙකුව ගනින්. තොපේ සල්ලි තොප ළඟ! ඇහුණද බල්ලනි!'' ඔහු බලු රංචුවේ පුංචි බැල්ලිය තමා වෙතට ගෙන සුරතල් කරයි. ''සියලුම ළමාතැනිලට වඩා හොඳම ළමාතැනි උඹයි. මගෙ සුන්දරිය. කිසිම කෙනෙක් සමග සණ්ඩු දබර නැහැ.'' මා දුටු පිස්සා මෙසේ කියයි: ''අනේ කොල්ලො මේ සුන්දරිගේ වලිගය සිඹපන්!''

අහකට පැන ගත් මම මගේ පැරණි හඳුණන උදවිය අතර වූ මේ තණ්කෙන්ට් පිස්සාගේ හැසිරීම දෙස බලා සිටියෙමි. මල්ල-පිස්සා සහ ඔහුගේ බලු රංචුව පිටු පසින් මා ගමන් කරන සැටි මටම නොදැනිණි. හදිසියෙන්ම තිගැස්සුණු මා බේකරියට ගියෙමි. රොටීත් රැගෙන අපේ දුම් කාමරයට මා යන විට හජි–බාබා දුම් දමමින් උතුරන සමවාරය අසල කඩිසරව තම වැඩ කරමින් සිටියේය.

''පච්කාර කොලුව, උඹ රොටී ගේන්න දිල්ලි ගියාද? කොහෙද රස්තියාදු උනේ? මෙහාට ගනින්!''

දුම් කාමරයට දැනටමත් පැමිණ සිටින්නන්ගේ ගණන හත් අට දෙනෙකි. අපි ඔවුන් ගෙවූ මුදල අනුව ඔවුන්ට තේ, රොටී, ගංජා, අබින් ආදිය බෙදා දෙමු. සීනි සඳහා වෙන්කර ඇති ලාච්චුව හැර මා මිළදී ගත් පඡ්මාක් අළුවා කැල්ල තුනකට කපා ලොකුම කැල්ල හජි-බාබාටද, අනිත් කැලි දෙක ඉන්දියානුවාට සහ උස්ටො සලිම්ටද දුන්නෙමි.

''උඹ කොහෙන්ද ඕව ගත්තෙ කිලුටු කොල්ලා?''

මම හිස් බැල්මක් ඇතිව වාම් ලෙස පිළිතුරු දෙමි:

''සිකුරාද දවස්වලට දෙන සල්ලි එකතු කරල ඊයෙ මම කඩ පොළේදි ගත්තා.''

හජි-බාබා සතුටු සිතින් විස්මයට පත්ව සිටී. ඉන්දියානුවා සහ උස්ටො සලිම්ද සතුටිනි:

''හරිම දක්ෂයා. උඹ හැබෑ මිනිහෙක් වේවි. ඔහොම හැසුරුනොත් ඉක්මනින්ම පොහොසත් වේවි. ඒකත් එහෙම තමා... පලයන් පුතා. පලයන් පුතා. උඹේ පොහොසත් කම දස ගුණයකින් වැඩිවේවි...''

දවස ගෙවී යයි. හෙට සිකුරාදය. අද සවස් වන විට අපේ අනුග්‍රාහක පිරිස වැඩිවනු ඇත. මොවුන්ගෙන් වැඩි හරියක් තරුණ කර්මාන්ත ශිල්පීන්ය. වෙහෙස දරා ගඩුගඩාව උරන මොවුහු ප්ලොව් සහ ෂුර්පා වැනි රසැති ආහාර සාදගෙන කා බී ප්‍රීතිවෙති. හැම සුළු දෙයකටම සිනා

සෙති. මෙදින අපේ දුම් කාමරය ආපන ශාලාවකට සමානය. අනුග්‍රාහක පිරිසද සාමාන්‍ය—එනම් ගංජා කාරයින් නොවේ—ජනතාවට සමානය. මම ඔවුන් දකීමෙහි දැඩි ආශාවකින් පෙළෙමි. සතියේ දවස්වලදී මේ තරම් රසැති ප්ලොව් සහ සුවඳැති ෂුර්පා මට නොලැබේ. මේ තරුණයෝ කැම පිසන අතර හැම ව්‍යංජනයකින්ම ''තේ කඩේ-කොලුවාට''—එනම් මට—කොටසක් වෙන් කළහ. ඔවුහු පොහොසත් නොවූවද ත්‍යාගිශීලීන් වූහ. එපමණක් නොව, තේ, රොටී, දර, ලූනු, රතු මිරිස් ආදියටද ඔවුහු වැඩියෙන් ගෙවූහ. ඉදින් මේ අනුව කාසියෙන් කාසිය මා ළඟ එකතු වෙයි. ඊයේ මට ලැබුණු ආදයම ටංගා හයක් විය. එය විශාල මුදලකි! කාණ්ඩ ගැසී එන මේ තරුණයින් ප්ලොව් පිසන්නේ වරක් දෙවරක් නොවේ. මෙසේ කීපවරක්ම ආහාර ගන්නා නිසා මගේ බඩ, කොට්ට ගෙඩියක් මෙන් පිම්බී ඉදිරියට නෙරා යයි.

අද සරු දවසකි. වෙළඳාම ජයට කෙරිණ. හජි-බාබා අතට මා දුන් මුදල් ප්‍රමාණය රූබල් 21 කොපෙක් 40 කි. ඔහු සතුටින් මඳ සිනා පායි.පස්වැනි යාච්ඤා වාරයට පසු අපේ දුම් කාමරයේ නැවතී සිටින ගණන හත් අට දෙනෙකුට වැඩි නැත. හජි-බාබා මා ගෙනා ඉටිපන්දම් රැගෙන මුල්ලක් පාසා යමින් ශුද්ධවූ කොරානයෙන් දේව ස්තෝත්‍රය බැගින් කියවා ඉටිපන්දම බැගින් දල්වයි. තම කුටියට වැදුණු උස්ටො සලීම් කොට්ටයක් ගෙන හිසට යටින් තබා ගෙන අර පැරණි කතන්දර පොත— අබො-මුස්ලිම්ගේ කතා කියවීමට සැරසෙයි. දැන් ඔවුන් ප්‍රීතියෙන් එය අසා සිටිනු ඇත. ඔවුන්ගේ හැඟීම් එම මුහුණුවලින් පෙනේ.

''ඔන්න-ඉතින්... කුහිදමාන් කඳුවැටි අසල දකුණු දෙස මයිමොන්වරුන්ගේ කඳවුරෙන් දූලි නැගෙන්නට විය. ඒ දූලිවලට මුවාවී සැඟවීගත් සේනාව සංඛ්‍යාවෙන් හැත්තෑ දෙදහසකි, එය සේනාංක හතකට අයත්ය. ඔවුන් ඉදිරියේ ධජ පතාක ගත් භටයින් හැත්තෑ දෙදෙනෙකි. මයිසාර්වරුන්ගේ පැත්තෙන් ඉස්කන්දර් සුර්කර්නයිනාගේ ප්‍රාකාරයමෙන් හොර්සානාහි වාසනාවත් අබො-මුස්ලිම්ගේ යෝධයෝ පෙළ ගැසී සිට ගත්හ. ඔහුගේ ස්වර්ණමය සිංහාසනයට ඉහළින් මොහමඩ්ගේ කීර්තිමත් ධජය ළෙලදෙන්නට විය.

එවිට සතුරු කඳවුරේ සිට මහා හඬ නගමින් අසරු යෝධයෙක් ඉදිරියට පැන්නේය. ලෝහමය සැට්ට හතකින් ඔහුගේ කය වැසිලාය. මුහුණ වසා වෙස් මුහුණකි. ඔහු අරා සිටි අසුගේ පාද පොළොවෙහි එරිණ. බට්මන් 72 ක් (රාත්තල් 2592) බරැති යගදුවක් හිස වටේ වේගයෙන් කරකැවූ යෝධයා ගිගුම් දෙන්නට විය:

'ඒයි, අබො-මුස්ලිම්, උඹ සතුන්ට ආදරේලු! උඹ මා කව්දැයි නොදන්නේ නම් දැන්වත් දැනගනින්. නසරිසයියාර් බෙඕර් මම තමයි. අද උඹේ කැලිවත් මේ යුද පිටියේ ඉතුරු කරන්නේ නැහැ!'

එවිට භක්තිමත් අබො-මුස්ලිම් කුක්තාච් නම්වූ තම අසු මත නැඟ වීරෝදාර ලෙස ඉදිරියට පැන නසරිසයියාර්ගේ මග අවහිර කළේය. විෂ කෑවූ ඊතල මෙන් ඔහු හිසකේ ක්‍රෝධයෙන් පිරිගොස් නැගී සිටියේය.

'ඕ, අලි!' යැයි කැගසමින් අබො-මුස්ලිම් නසරිසයියාර්ගේ ඉනෙන් ගෙන ඔහු හත්වරක් තම හිසවටා කරකවා අහසට විසි කළේය. ඒ පාපිෂ්ට යෝධයාගේ දේහය කොතෙක් වේලා අහසෙහි රැඳී තිබුණේදයත්, ඒ කාලය තුළදී ප්ලොව් පවා පිසීමට හැකිවීයැයි කියති. පසුව ශුද්ධවූ අබො මුස්ලිම් අහසට අතක් දිගු කොට ඔහු අල්වා නිරුපද්‍රිතව නැවත මහ පොළව මත තැබීය.

'ඒ! නසරිසයියාර් මීන් පස්සෙ හොරසනීදව්ලාට අගෞරව කරන්ට එපා.' යැයි අබෝ-මුස්ලිම් තුමා පාපතර යෝධයා අමතා කිවේය.

නසරිසයියාර් සමාව ඉල්ලමින්, අබෝ මුස්ලිම් ගේ අසුගේ කටකලියාව සිපගනිමින් වැඳ වැටේ.''

මේ කතාව්ට සවන් දී සිටි අබින් සහ ගන්ජා කාරයෝ මහත් සේ කැළඹී ගනිති. ආඃ! හෝඃ! ආදී ශබ්ද නගමින් සිය අදහස් පළකිරීමට ඉදිරිපත් වෙත්ම විවාදය පැන නගී.

''ඕන්න නියම වීරයා! නිර්භීත කම කියන්නෙ ඕකට තමා. යුද පිටියෙදි තමා වීරයා කවුද කියල හැඳිනගන්ට පුළුවන්. දැන් කෙරෙන යුද්ද නිකම් පුහු ඒවා. හැතැප්මයක් දුර ඉඳගෙන නොපෙනෙන කාටවත් වෙඩි තියනව. හැතැප්ම ගණනක් දුර ඉඳල කාල තුවක්කුවකින් වෙඩි තියල අහිංසක සාමකාමී ජනයාව විනාශ කරනව... අදේවවාදියො. උන් යුද්ධ කරන්ට දන්නෙ නැහැ...'' යැයි ටිකන්ලි-මසාර්හි සූෆි නැමති සුළු පූජක පදවිය දරන අහමඩ් අලි කීවේ දැසින් හැලෙන කුඳුළු කැට පිස දමමිනි.

''ඇත්ත. සම්පූර්ණ ඇත්ත. දැන් නියම වීරයො නැහැ!'' අනිත් අය එකඟ වෙති.

ඉන්දියානුවාද අන් අය සමඟ එකතු වේ.

''මෂල්ලා! මෂල්ලා! ඇත්ත තමා!'' යැයි ඔහු කියයි.

## 16

# එපාවීම

මේ අබින් ගුබ්බෑයමේ මාස කීපයක් නැවතී සිටීම එපාවන දෙයක් බව කිව යුතු නොවේ. මෙතැන ලාභ ලැබෙන තැනක් බව සත්‍යයකි. මා වැනි කොල්ලෙකුට සල්ලි හම්බකර ගැනීමට මෙතැනට වඩා හොඳ තැනක් නැතිය. නංගිලාට උදව් කිරීමට පමණක් නොව ඉන්දියාවට යාමට මග වියදම පවා සොයා ගත හැකි තැනක් තවත් ඇතිද? වස්සකු තණ බිමක ඇවිදින්නාක් මෙන් මෙතෙක් කල් මම ඇවිද්දෙමි. දැන් හරියට මා කට කුඩා කළයකට වැටුණු ලේනෙකු මෙනි. කළය තුළ ආහාර තිබුණද නිදහස නැතිය. අහස රිදී කාසියක් මෙන් වටකුරුවට පෙනේ. එහෙත් ඇත්ත වශයෙන්ම රිදී රුබලයකට අහස සම කළ හැකිද?.. ඉන්දියානුවාගේ කතා සිත් ගන්නා සුළුය, එමෙන්ම ඒවා දිගය. හරියට ඔහු හැඳ සිටින දිගැති ලෝගුව මෙනි. ඒ ලෝගුව ඔහුට වඩා යාරයක් වැඩියෙන් දිගය. සම වයස් ළමයෙකු සමග සෙල්ලම් කළ හැකිය, පොර බැදිය හැක, ශක්තිය උරගා බැලිය හැක, දබර කරගෙන පසුව නැවත යහළු විය හැක. එහෙත් මේ සියල්ල සහිත සම වයස් යහළුවකුට ඉන්දියානුවා සම කළ හැකිද?..

මා තුළ ඇතිවූ කාංසිය කියා නිම කළ නොහැක.සෙල්ලම් කොට ප්‍රීතිවිය හැකි අවස්ථාවක් මම සොයමින් සිටියෙමි. හජ්ජි බාබා ඇතිකළ ගිරවෙක් ගී ගයන්නට පටන් ගත්තේය. නිතර අපේ දුම් කාමරයට එන පැතලි නහයකින් යුත් සුල්තාන්, ගිරවකු සහ සැළලිහිණියකු ඔහුට තෑගි කළේය. එකකු හිම සහිත ටයිටායි කඳුවැටියේ සිට අල්ලාගත් අතර, අනිකා කුන්ගිරාක් වෙජේහි නිල්වන් තණ බිම්වලදී අල්ලා ගන්නා ලදී. ඔවුන්ගේ ගී වලට සවන් දෙන මගේ සිත සිරගෙයකට වැටී සිටින සැටි කියා පායි. මා සිත පිනායාමට නම් වඩාත් සිත් ඇද ගන්නා සුළු යමක් සිදුවිය යුතුය. තම කූඩුව බිඳගෙන කොටියකු පැන යාම, වලිහොජි–අකා කඩපොලට වැදී කඩ විනාශ කිරීම, නාන කාමරවලට වතුර රත් කරන මහා බොයිලේරුව පුපුරායාම වැනි යමක් සිදුවිය යුතුය. කූඩුවෙන් එළියට පැනගන්නා කොටියෙක් කඩපොළට එමින් සිටින සැටිද ඌ නිතර නිතර කිඹුහුම් අරින හැටිද මගේ මනසට හසුවේ. මහා බොයිලේරුව පුපුරා ගොස් මැක්කන් මෙන් නිරුවතින් දුවන මිනිසුන්, මම සිතින් මවා ගනිමි. එහෙත් නිතර මා සිතුවේ ඉන්දියාවේ සංචාරය කරන සැටිය. ඝන කැලෑවල සිංහයින් සමග පොරබදන සැටිය. හිස් හතළිහකින් යුත් නාගයකු මරා දමන සැටිත්, වෘක-මිනිසුන් හීලෑ කරන සැටිත්, දිය ඇතුන් සහ කිඹුලන් පිට නැඟී ගංගා තරණය කරන සැටිත් සිතින් මවා ගනිමි. අන්න, එවැනි ජීවිතයකට මා කැමතිය.

මෙතැන කව්ද? ලෙඩ කුකුළන් වැනි ගංජා කාරයින්ය. තේරුමක් නැති ඔවුන්ගේ කතා මත් වූ විට ඔවුන් පිවිසෙන නිදිමත් ලෝකයට සමානය. මා මෙතෙක් ඒවා ඉවසා සිටියේ කෙසේද? ඔවුන් ගිය පසු ඒ පාළු ගතිය තවත් වැඩිවෙයි. ඔවුහු මෙතැනටවී ඝෝෂා කරති, අත් වනති. මළවුන් නැගිටුවා ඔවුන්ගේ අනාගත සැලැස්මයන් සාර්ථක කිරීම යහපත්ය. මෙතැනින් පැන යා යුතුය! ඉක්මනින්ම පැන යා යුතුය! නැතිනම් මව සහ ගමේ කොල්ලන් ඉදිරියේ මට ලජ්ජාවීමට සිදුවේ. දැනටමත් අපේ හමුවීම ගැන තුරබායි කියා ඇති. එහෙත් මගේ යටි සිත මෙසේකියනු ඇසේ: ''යන්ට එපා! තවම වේලාව නොවෙයි! තව කල් තියෙනව!'' පළමුවැනිව, ඉන්දියානුවාගේ ත්‍යාගශීලීබවද, හජි-බාබාගේ අංක ගණිතයද නොතකා මා ළඟ සෑහෙන මුදලක් ගොඩ ගැසුණද එය ඉන්දියාවේ සවාරියට ප්‍රමාණවත් නොවේ. ප්ලොව් ආදි කෑම වර්ග පිසමින්

මටද සංග්‍රහ කරන ආධුනිකයින්ගේ චාම් ගති ගුණද මගේ කඩිසර බවද මෙයට එකතු කළ යුතුය. අල්ලාත් ඉන්දියානුවාත් අන්නා රහසක් පමණක් මම ඔබට හෙළිකරමි: දැන් මා ළඟ ඇති වස්තුව—රූබල් පහේ නෝට්ටු තුනකි, දහයේ නෝට්ටුවකි, රූබලයේ නෝට්ටු දෙකකි, රිදී හා තඹ කාසි කීපයකි. පොඩි කාසි සෑහෙන ප්‍රමාණයක් එකතු වූ විට ඒවා ඉන්දියානුවාට දී රන් කාසියක් ලබා ගනිමි... රන් කාසිය මගේ ගිම්හාන කබායේ වාටියට ඇතුළු කොට මසාලමි. ඉතිරි කාසි මැටි කැටයක දමා දිය අගල අසළ වළලා දැම්මී. මේ නිදන් වස්තුව තිබෙන්නේ දුම් කාමරයට අඩි පනහක් පමණ ඇතින්වූ බර්ච් ගසක් යටය. සත්තකින්ම මා සපයා ඇති වස්තුව විශාලය. එහෙත් තවත් වස්තු සැපයීමට මා තුළ ඇති ආශාවද එමෙන්ම විශාලය.

මා මෙතෙක් කීවේ කාරියෙන් අඩකි. මගේ සේවය නිසා පැහැදී සිටින හජි-බාබා මා නිදහස් කර හැරීමට අකැමැතිය. මා නැතිව ඔහුට වැඩ කටයුතු කිරීම අපහසුය. නිකම් පැන ගියොත් ඔහු මා සොයනු ඇත. මෙය ස්ටෙප්ස් බිම් නොවේය. නගරයේ අය මා ගැන තතු ඔහුට කියනු නොඅනුමානය. එවිට ගමට වී සිටීමටද මට අපහසුවනු ඇත... මා මෙතැනින් එළවා දැමීමට තරම් කෝප කරවන යමක් ම විසින් කළ යුතුය. මෙතෙක් මම ඉබ්බෙකු මෙන් ගොළුවැ සිටියෙමි...

පසුගිය සතිය තුළදී මගේ හිස නොයෙකුත් සැළැස්මයනෝගන් පිරී තිබිණි. මගේ සිත කය වෙලා ඇති කාන්සිය මා මැඩ ජය ගත්තාක් මෙනි. දුම් කාමරයට එන අනුග්‍රාහකයින්ද මගේ වෙනස්වීම දකිමට පටන්ගෙන ඇත. හජි-බාබාද, එයටත් වැඩියෙන් ඉන්දියානුවාද මා නිසා කැළඹී ගත්හ.

දවසක් හජි-බාබා මා කැඳවා දයාන්විත ලෙස මගෙන් ප්‍රශ්න කළේය:

''කියපන් පුතේ: අප දෙදෙනා අතර රහසක් හැටියට මම එය තියාගන්නම්. උඹ අර කළු පාට ජාතිය එහෙම හොරෙන් උරණවද?''

''මොන කළු පාට ජාතියද?''

''මොන කළු පාට ජාතියද? අර අපි හැම දෙනාම බොන ජාතිය...''

''අනේ හජි-බාබා මා ඒව ගැන හීනෙන් වත් හිතල නැහැ... මට පේනව මෙහාට එන උදවිය ඒව බීල කරන විගඩම් වල හැටි. මම ඔය අබින් කටේ තිබ්බොත් මට හෙණ වදීවි.''

''අනේ හොඳා! සර්වබලධාරී අල්ලාට සඳ කීර්තිය අත්වේවා! පුතේ උඹ එම වස විසෙන් බේරී ඉඳපන්...''

හජි-බාබා කරේ දමා සිටි තම ලේන්සුවෙන් කඳුළු පිස දමා ගනිමින් සාක්කුවට අත යවා රූබලයේ නෝට්ටුවක් ඇද මා අත තැබීය:

''හෙට උඹේ නිවාඩු දවස නෙව. ඉඳා මේ සල්ලි අරගෙන ගිහින් ඕන දෙයක් කාපන්. මම බයඋනේ උඹ අබිං කෑමට පුරුදු උනයි කියා සිතු හන්ද...''

මුදල් සැනෙකින් සඟවාගත් මම ඔහු සැනසුවෙමි:

''හජි-බාබා කලබල වෙන්ට එපා. මම ඔයතරම් මෝඩයෙක් නොවෙයි!''

සැබවින්ම හජි-බාබා සන්සුන් වී තම කටයුතු වල යෙදුනි.

සවස ඉන්දියානුවා මා කැඳවා දයාන්විත ලෙස කතාව ඇරඹීය:

''පුතා මෙහෙ වරෙන්, කොහොමද උඹේ සැප සනීප, උඹ අසනීපෙන්ද?''

''නැහැ, පාච්චා, මම සනීපෙන්.''

''උඹ මොකද නිකම් මලානික වෙලා?''

''නිකං දන්නෙ නැතිද...'' මම ඔහු දෙස ඇස් කොණකින් බැලුවෙමි. ''මම නිතර ඉන්දියාව ගැන හිතනව. ඉන්දියාවට යන්ට ආසයි...''

ඔහු සිනාසුනේය. මමද සිනාසුනෙමි.

''මෂල්ලා! ඇත්තටම උඹට ඉන්දියාවට යන්ට ආසද?''

''ඔව්, පාච්චා.''

''බොහොම දුරයි. ගමනත් අමාරුයි!''

''මම යන්ට හරි ආසයි, පාච්චා...''

''උඹ හරිම දක්ෂයෙක් පුතේ... මෂල්ලා!''

ඔහු තත්පර කීපයක් නිහඬ විය. ඔහුගේ දෑස් හැකිලී ගොස් ගැඹුරු කල්පනාවෙක ගැලිණ. දර්ශනයක් දුටු කලෙක එය අමතක කර දැමීමට මෙන් ඔහු හිස වැනිය. ඔහු පෙරටත් වඩා දයාන්විත ලෙස තම සල්ලි මල්ලට අත දමා රූබල් පහේ නෝට්ටුවක් ගෙන මා දෙස බැලීය. එය මට තෑගි දීමට යන බව මම විශ්වාස නොකළෙමි. ඔහු මෙසේ කීය:

''ඉඳා පුතේ ඉඳා අර ගනින්. මට පවුලක් නැහැ. ළමයි නැහැ. මගේ සල්ලි වියදම් කරන්ට මගේ ජීවිතයත් මදි. අල්ලාගේ නාමයෙන් මම මේ පරිත්‍යාග කරනව!''

මට වාසනාව මතුවී ඇත. අද මා දකුණු පය පෙරට තබා දවස ඇරඹූ හැඩයි. එක දවසකදී රූබල් හයක් හම්බ කළෙමි. කණගාටුදයක හැඟීමෙකින් යුතුව සිටින විට මෙතරම් වාසි ලැබෙන බව කලින් දන සිටියේ නම්, මුල සිටම එවැනි මුහුණක් මවා ගෙන යාමට පුළුවන්කම තිබිණ. එහෙත් මගේ සිත සතුටින් පිනා ගිය බැවින් වෙනදා මෙන් වැඩ කළෙමි. හේතු රහිතව සිනා සුණෙමි.

බදද හජි-බාබා වත්ගී දෙකක් මා අත තබා මෙසේ කීය:

''අනේ පුතේ හනිකට රොටී අරන් වරෙන්. කළයට වතුර ගෙනෙන්. කුරුල්ලන්ට කෑමයි, වතුරයි දීපන්. ඔන්න ඊට පස්සෙ උඹ නිදහස්. කඩ පළට ගිහින් ඕන තරම් රස කෑම කාල, නටල ප්‍රීතිවෙයන්! හිතුනම ගෙදර වරෙන්. පරක්කු වෙන්ට එපා. දන් නරක කාලයක් ලබල තියෙන්නෙ. නරක නපුරු මිනිස්සු පිරිල ඉතිරිල ගිහිං. ඔන්න ඔහොමයි...''

මම සැනෙකින් බේකරියට දුවගොස් රොටී ගෙනැවිත් තබා, කළය පුරා වතුර ගෙනාවෙමි. කුරුළු කූඩුව පිරිසුදු කොට ඔවුන්ට වතුර හා කෑම දුන්නෙමි. පසුව මම හජි-බාබා සමග තේ බී, කඩ පොළට ගියෙමි. මේ වර මා සවාරිය පටන් ගත්තේ කිරි කඩ පෙළේ හස්ටි-උක්කෝෂාගේ කඩය අසලිනි. වෙඬරු සමග රොටී කෑමට මට සිත්විය... කඩයට වැදී නොයෙකුත් වර්ගයේ වෙඬරු වල රස බලමින් එකක් ''ඇඹුල්'' යැයිද අනික ''දියාරු'' යැයිද කීමට මට සිත්වුණද, එයට වෙලාවක් නොලැබුනේ අපේ ගමේ කොල්ලෙකු වන උබායි එතැනදී හමුවූ බැවිනි. ඔහු ඉබ්‍රහිම්-පල්වාන්ගේ බාල පුත්‍රය, යටි උගුරෙන් කෑගසන අබ්දුල්ලාගේ මල්ලීය. ඔහු මා දැක සතුටට පත්වූ නිසා තුරබායි දුන් පොරොන්දුව ඉටුකර තිබෙන සැටි මට අවබෝධ විය. ඔහු මගේ තතු අසමින් දිග කතාවක් පටන් ගති. සැබැවෙන් බොරුව වෙන්කොට කතා කිරීමට මා සමත්වූයේ සර්වබලධාරී අල්ලාගේ කරුණා මහිමය නිසාය. පසුව අපි තීරණයකට එළඹීමු. මා වෙඬරු කා අවසාන වන තුරු ඔහු මෝරු විකුණා අවසාන කරනු ඇත. ඔහු කඩ පොළට මෝරු ගෙනැවිත් විකුණයි. ඉන් පසු අපි යුපාතව්ගේ සර්කස් ක්‍රීඩාව නැරඹීමට යන්නෙමු. පසුව අපි බදිනලද මාළු සමග දවල් බත් කා ඉන්පසු අයිස් ක්‍රීම්ද ගෙන ඔටුවකු පිට ඇති

කෙන්ජාවේ නැග නගරය සැරි සරන්නෙමු. චීනක්කණ්ණාඩියෙන් පෙන්වන ජවනිකා බැලීමද අපේ විනෝදයේ එක් අංගයකි.

මෝරු විකුණා ලබාගන්නා මුදල්වලට අත නොගසන ලෙස උබායිට කී මම, විනෝද වීම සහ සියළු කෑම් බීමවලට යන වියදම් ගෙවන බවද දන්වා සිටියෙමි. මෝරු අඩු මිළට නොවිකුණන ලෙස ඔහුට අණ ලැබිණ. ඔහු වෙළඳාම් කරන අතර මම මිර් එකකට වෙඩරු භාජනයක්ද කොපෙක් දෙකකට අබිනොන්ද ගෙන ගසක් යට සෙවණට වී කන්නට පටන් ගත්තෙමි. ඒ අතරතුර උබායි මෝරු විකුණා මා වෙත ඇවිත් මගේ ආහාර කා දැමීමට මට සහාය විය. ඔහුගේ හිස් මෝරු බඳුන් කරබායි නමැති මස් වෙළෙන්දගේ මස් කඩයෙහි තබා, නිදහස ලැබූ කුරුල්ලන් මෙන් අපි ගමන් ගතිමු.

කඩපොළ ජනී ජනයාගෙන් පිරිලාය. ඔටුවන්ගේ තවලම් නවත්වන මඩු අසල පිදුරු, වියලි කොළ සහ බිම් අඟුරු රැගත් ඔටුවන් එනතුරු මිනිස්සු බලා සිටිති. අසල වැතිර සිටි ඔටුවන්ගෙන් සමහරක් අවට සිදුවන කිසිවක් ගැන කිසිදු උවමනාවක් නොදක්වති. තවත් සමහරකුගේ මුහුණුවල හීලෑබව සහ යටහත් පහත් බව ලියැවී ඇතිවාක් මෙනි. ඉඳහිට එකෙක් හැරී බලයි, එවිට ඔහුගේ බෙල්ලේ බැඳි සීනුව මුදු හඬක් නගයි. ඔටුවන්ගේ නිහඬතාවය අපට නොඇසෙන දීර්ඝ සාකච්ඡාවක් බව අපට දැනෙන්නේ එවිටය.

මහ්කාමා දිය ඇල්ල හරහා පාලමකි. එතැනට මඳක් දුරින් මාළු බදින ගිනිහල් ගෙයයි. කුණු හා කිලිටි සහිත මේසයක් මත සිරිදර්යා ගඟේ මාළු තබා ඇත. උන්ගේ ඇස්වල වසා ඇති මැස්සන්ගේ ගණන සුළු පටු නොවේ. මාළු විකුණන ගිනිහල ගෙවල් ඉදිරිපිට සපියාන්* විකුණති. එතැනින් එපිට ලා නිල් පැහැති අර්ධ ගෝලාකාර පියස්ස සහිත ගොඩනැගිල්ල සර්කස් ක්‍රීඩාංගනයයි. ලී කුළුණු සහිත එම ක්‍රීඩාංගනයේ දෙරටුව අසල අප හඳුණන විකටයෝ හා සංගීතකාරයෝ නටති, වයති. ඔවු'නතර සුප්‍රසිද්ධ රපික්ද වේ. සුළු විකට ජවනිකා ආදිය රඟ දක්වමින් ඔවුහු ප්‍රෙක්ෂකයින්ට අඬ ගසති.

මා ළඟ කොක්-සුල්තාන් ගෙඩියක් හෝ දෙළුම් ගෙඩියක් නොතිබීම අසතුටට හේතුවක් බව මම උබායිට කීවේ, මීට පෙර වතාවකදී මම දෙළුම් හපනවිට වූ දෙය විස්තර කරමිනි. අපි දෙදෙනම සිනාසුණෙමු.

''ඉතින් යමුද සර්කස් බලන්න?''

''බැහැ'' යි උබායි පුදුමවෙමින් කීය. ''බැහැ...''

''ඇයි බැරි?''

''බොහොම ලොකු මුදලක් ගෙවන්ට ඕන...''

''මම ගෙවන්නම්!''

''උඹ දන්නවද, එතැන මයිරහ්මාන් කියන ගැහැණිය හෙළුවෙන් නටනවලු. උන් දිහා බලන්ට මට බැහැ. මට බය හිතෙනවා. හරියට ගෙම්බො දිහා බලනව වගෙ. විජ්ජා බැලුවා. සංගීතය ඇසුවා. නටන අශ්වයො බලන්නද? අප ළඟ අශ්වයො ඉන්නවා. උඹ දන්නවද අපේ තාත්තා අසු පිට යන හැටි... ඔය අස්ප නැටුම් එළු පොර එක්ක සම කරන්න බැහැ. උඹ උලාකයට* ගිහින් තියෙනවද?''

---

* සපියාන්—උසස් ලෙස පදම් කළ එළු හම් වගයකි.

* උලාක්—ධාවන තුරඟ තරඟය.

''නැහැ.''

''මම ගිහිං තියෙනව. අන්න ඒක තමා සර්කස් එක!''

''හොඳයි අපි යමුද සර්කස් බලන්න.''

''උඹ කව්ද පොහොසත් වෙළෙන්දෙක්ද සල්ලි විසි කරන්ට? ඔයිට වැඩිය හොඳයි අයිස්ක්‍රීම් කමු...'' යැයි කී උබායි උනන්දු විය. ''රපික් එක දවසක් කට පුරා ලී කුඩු දමාගෙන ගිනි කූරක් ගසා ගිනි අවුළුවාගෙන කටින් ගිනි පිට කළ හැටි උඹ දැක්කද?''

''ඒක මහ බොරුවක්...''

''ඒක මට කීවෙ හුස්නිබායි!''

''හුස්නියා හරිම පචයා!''

''කමක් නැහැ. අයිස් ක්‍රීම් කන්ට යමු!''

අපි අයිස් ක්‍රීම් හලට ගියෙමු. මා රතුපාට අයිස් ක්‍රීම් කැටයක් මිළදී ගත් අතර උබායිගේ ආශාව අනුව ඔහුට දුඹුරු පැහැති කිරමක් ලබා දුනිමි. තැටි දෙකක තබා ඇති ඒ හිම කිරම කෑම සඳහා කුඩා ලී හැඳි දෙකක්ද අපට දුන්හ. මේ තරම් රසැති ආහාරයක් දිනපතාම බුදින මිනිසුන් ඉන්නා බව මට සිතිණි. කොතරම් ඉක්මනින් අපේ තැටි හිස්වීද යන්න අපිම නොදත්තෙමු.

චතුරශ්‍රයේ ඇති තවලම් මඩු අසල කඹ දිගේ යන ක්‍රීඩාව පෙන්වන තැනකි. ක්‍රීඩා වාරය තවම ආරම්භ වී නැත. වාදකයෝ වයති, බොරු කකුල් හැඳගත් විකටයෝ දෙඩවති. ඔවුන්ගෙන් එකකු මම හඳුනමි. රන් පටි දෙකක් සහිත තොප්පියක් පැළඳ සිටින ඔහු අකා බූහාර්ය. දර්ශනය පටන් ගන්නා තුරු එතැන නොසිට අපි තවත් දුර ගියෙමු. ගමට ගිය පසු දිගැති බොරු කකුල් සාදගත යුතු බව අපේ තීරණයයි. මීට පෙර අප ඒ නොසිතුවේ ඇයි. බොරු කකුල් ඇඳ ගමන් කිරීම ලෙහෙසි වැඩකි (එය ලෙහෙසි බව අපේ අදහසය). උසම පුද්ගලයාටත් වඩා උස්විය හැකිය. ඕනෑම දෙයක් බැලිය හැක.

''තම්බපු කඩල ගනිමුද?'' යි උබායි අසයි.

''අපොයි බැහැ. වෙඩරු එක්ක රොටී කෑවෙ මේ දැනුයි. අපි ගිහිල්ල චීනක්කණ්ණාඩියෙන් පින්තූර බලමු. මුලදීම අපි පින්තූර බලන්ට තීරණය කළා මතකද?''

පින්තූර පෙන්වූයේ ඉල්හාමා තේ කඩ අයිතිකාරයාගේ මල්ලී-ඉබ්රායිය. පින්තූර දෙකක් පෙන්වීමට කොපෙක් දෙකක් අය කරනු ලැබේ. ඔහු අපේ අසල්වැසියෙකු වූ බැවින් කීර් එකකට පින්තූර පහක් පෙන්වීමට එකඟවිය. අපි පින්තූර පෙට්ටිය ඉදිරිපිට සිට ගෙන ඇස් වටා බටයක් සේ ඇඟිලි එක්කොට තබා ගෙන අනු දක්නය වැනි වීදුරු කණ්ණාඩිය දෙස බැලුවෙමු.

''ඔන්න බලා ගනිල්ලා!'' යැයි ඉබ්රායි තම අම්හිරි කට හඬින් විස්තර කිරීම ඇරඹුවේය. ''මේ තමා පරන්ගාවේ උප රජතුමා, කෙයිසර් රුමේලිස්කි තම බිසොවත් එක්කල ඇවිදිනව. තුර්කියේ සුල්තාන් වන දෙවැනි අබ්දුල්හමීඩ්ගේ ප්‍රධාන පූජකයාය. ඔහු තම පෞද්ගලික දේවස්ථානයට සිකුරාද දේවමෙහෙය සඳහා පැමිණෙයි. අස්රිය ඉදිරිපිට සිටින්නේ සිහාකන අනාථයෝය. මේ ඇෆ්ගනිස්ථානයේ සුල්තාන් වන අබ්දුරහ්මාන්ය. පරන්ගාහි යුවරජුගේ දූ වන ඉන්දියානු කුමරියයි මේ. මසන්දරා කැලෑව හරහා කුමරිය ඇතු පිටින් යයි... ඉබ්රායිගේ මුණුමුණුව පින්තූර වලට වඩා වේගවත්ය. කයිසර් රුමිලිස්කිගේ බිරිඳගේ පින්තූරය අපට පෙන්වන අතර ඔහු එය තුර්කි සුල්තාන්ගේ පූජකයා යැයි කියයි. ඒ වැරැද්ද අපට යන්තම් දැනෙත්ම, ඇතු පිටින් යන කුමරිය ඇෆ්ගනිස්ථානයේ සුල්තාන් අබ්දුරහ්මාන් වශයෙන් ඔහු

හඳුන්වා දෙයි. ඉබ්රායි දිගටම තම 'යාං හැල්ල' දෙසයි: ''මේ තමා මැකාවට යන වන්දනා කාරයෝ. ඔවුන් අරාපා කන්දට නගිනවා... මේ තමා රුසියානු එම්ප්‍රදෝරු මහ රජතුමාගේ කිරි අම්මා වැලෙන්ටිනා ජයොදරව්නා. ඇය බඩේ ලෙඩකින් මළා!.. එපමණයි කොල්ලනේ ගිහිල්ල ඇවිදපල්ලා!''

අප දෙන මුදලට සරිලන අන්දමට ශක්තිය අර පරිස්සම් කර ගැනීමට ඉබ්රායි තැත් කළ බවකි. අපි මුදල් ගෙවා එළියට ගියෙමු. මුළු ලෝකය වටා ගිය බවකි, අපට දැනෙන්නේ. විනාඩි දෙකක් තුළදී අප නොදන්නා, නොඇසූ විරූ ලෝකයකට ඉබ්රායි විසින් අප ගෙනයන ලදී. ඒ දර්ශන නිසා අප හිස් තුළ අවුලක් ඇතිවූවාක් මෙනි. පරන්ගාවේ යුවරජ (පරන්ගාව හෙවත් ප්‍රංශය) තම බිසවත් සමග ඇවිදින විට ඔහුගේ දූ කුමරිය ඇතකු පිට නැගී ඇත රටක සවාරි යයි. මෙය අපේ පුදුමයට කරුණකි. මැකාවට යන වන්දනා කාරයෝ සොපියාවේ මුස්ලිම් පල්ලිය අසල මොනවා කරත්ද?.. අරප් කන්ද නැග කයිසර්ගෙන් සිහමන් ඉල්ලීමට ඔවුහු නොයති.සවස් වන තුරු මේ පටලැවිල්ල ගැන අපි කල්පනා කළෙමු. එහෙත් ඉටි කඩ පෙළට ගිය අපට එහිදී සිත් ඇදගන්නා සුළු දර්ශන දැකීමට හැකි විය. සාර්වරුන් ගැනද බඩේ ලෙඩ නිසා මිය යන ඔවුන්ගේ කිරි මව් වරුන් ගැනද අපට අමතක විය.

කඩ පෙළ දෙදරුම් කවමින් මහා ඝෝෂාවක් ඇති කරමින්, යදම් බිඳ ගෙන දුවන බිමත්වූ වලසුන් සේ, පිස්සු වැටුණු ඔටුවන් සේ දුවන, ගී ගයන සිහන පූජකයින් කීපදෙනෙක් අප වෙත එති. ඔවුන් මිට්ටිහන් වුරාම්ලාය. ඔවුන්ට ඉඩ දී පසෙකට වූ අපි, පසුව ඔවුන් පසුපසින් ගමන් කළෙමු. ඔවුහු මඩ්ජොමි පල්ලිය ඉදිරිපිටට ගියහ. පල්ලියට එහා කඩ පෙළකි. එය අසල චතුරශ්‍රයකි. අද එම චතුරශ්‍රයේ කුසා-මද්දාහ් දේසනා කරනු ඇත. ඔහු තෂ්කෙන්ට් නගරයේ පමණක් නොව, මුළු මහත් මැද ආසියාවේම සුප්‍රසිද්ධ දෙශකයාය. ඔහුගේ දේශනය ගැන ප්‍රචාරය කිරීම සිහන පූජකයින්ගේ කාරියයි.

රැස්වූ ජනතාව ඉදිරිපිට ඔවුහු පෙළගැසී සිටගත්හ. ඔවු'නත සැරමිටිය. සමහර ඒවා දිගය සමහර ඒවා කෙටිය. ඔවුන් අතට අසුවුණු දඬු ගෙනා බවකි. ඔවුහු කෑගසති: ''ඉහෝ! හෝ! හෝ!..'' කොහේදෝ සිට පුටුවක් ගෙනැවිත් එතැන තබා එළු සමකින් එය වසන ලදී. පුටුව ළඟ කුඩා මේසය මත රොටි සහ සීනිද විය. තේපෝච්චියක් සහ කෝප්පයක්ද ගෙනැවිත් තැබූහ. විනාඩි කීපයකට පසු මිටි තරබාරු මහල්ලෙක් —කුසා-මද්දූහ් පැමිණියේය. වයසින් අවුරුදු අසූවක් පමණැති ඔහුගේ මුහුණ රැලි ගැසිලාය. උඩු සහ යටි රැවුල් රහිතය. ඔහුගේ තලප්පාව සුදු පැහැතිය. කබාය රන් පැහැතිය. සැරමිටි වාරුවෙන් පුටුව මත වාඩිවූ කුසා මදක් කබ්බාව මුස්ලිම්වරුන් යාච්ඤා කිරීම සඳහා මුහුණ ලා සිටින දිසාව) දෙසට හැරුණේය. සිහන පූජකයෝ ඔහු ඉදිරිපිට වූහ. එම පිරිසට තවත් දෙදෙනෙක් එකතුවූහ. එකෙක් කළු යටි රැවුලකින් හෙබියෙකි. අනිකා තරුණයෙකි. දෙදෙනාම සුදු පැහැති කබා හැඳ සිටියාහ. උරක් වසන සේ රෙද්දක් පොරවාගෙන සිටින ඔවුන්ගේ පා වටිනා හමින් කළ පාවහන් වලින් වැසී තිබිණ. කුසා-මද්දූහ්ගේ තලප්පාවට සමාන හිස් වැසුම් වලින් ඔවුන්ගේ හිස් සෑරසී ඇත. ඔවුන් සා-මද්දූහ්ගේ ගෝලයෝය. ''ඩූස්ට! ඩූස්ට!'' යැයි කියමින් ඔවුහු වැලපුණාහ.

තේ උගුරක් බී හැරමිටි වාරුවෙන් නැවත නැගීසිටි කුසා-මද්දූහ් සංසුන් ලෙස තමා වටා සිටි පිරිස පිරික්සා බලන්නාක් මෙන් ඇවිද්දේය. මා සහ උබායි පළමුවැනි පෙළට වැදීමෙහි

සමත්වීමු. ඔහු තම ආසනය වෙත ගොස් එහි වාඩි විය. පිරිස නිහඬවිය. ඔහු අතක් ඔසවා බැරැඩි හඬින් කෑගැසීය:

''හිටගෙන ඉන්ට එපා! වාඩිවෙයල්ලා!''

ඔහුගේ ඉල්ලීම පිළිගත් ඒ මහා පිරිස මිතුරු ලීලාවක් දක්වමින් බිම වාඩිවිය. ඉඩ ඇති පරිදි රැස්වූ මිනිස්සු සහ අපිද බිම හිඳ ගතිමු.

ෂෙයිහන්තූර් වලට පවා ඇසෙන සේ මහල්ලාගේ ගෝලයෝ ''බලේ-යෙ'' (අසව්!) යැයි මහ හඬින් කෑගැසූහ.

කුසා-මද්දහ් තම කතාව දිගටම කර ගෙන යයි:

''සමර්කන්ද, බුහාරා, කටකුර්ගානා, උරා-ටෙපේ, පෙර්ගානා සහ හොජෙන්තා ආදී ඈත පළාත්වලින් දහස් ගණනක් මිනිසුන් මෙහි ඇවිත් ඉන්නවා. ඔවුන් ඇවිත් ඉන්නෙ දෙව්ලොව වැනි තෂ්කෙන්ට් නගරයටයි!'' පිරිස තරමක හඬක් නගා නිහඬ විය. ''මගේ ගම බුහාරාවේ කසගරානයයි. මගේ නම හජ්ජී නජිමිද්දින් ඉබ්න් සලහිද්දීන්. මගේ පිය තුමා එමීර් මුසපර්ගේ කාලයේදී ආගම ධර්මය දේශනා කළා. අපේ පෙළපත සමර්කන්ද්හි හුසේන්-වයිස්ට කිට්ටුයි. අපේ මී මුත්තා හුසේන් බයිකාර්වල වැජඹුනා, මහා තිමූර්ගෙ කාලෙදී... ස්වර්ණ යුගය! 'උසස් චාරිත්‍ර ධර්ම' ගැන පොතක් ලිව්වේ එයා තමා. මම ඒ මහා ගුරුතුමාගේ දහහත් වැනි මුණුබුරා. මාකී මේ කතාව අවිශ්වාස කරන මිනිහා දලි වළඳක් මෙන් කළු වේවි. ඔහුගේ ආත්මය පිලිස්සී යාවි. එසේම වේවා!''

ගෝල පිරිසද ඔහු අනුව කෑ ගැසූහ:

''එසේම වේවා! ඔවුන් විනාශ වේවා!..''

''දැන් මම අද මාතෘකාව ගැන කියන්නම්'' යැයි හෙතෙම වෙනත් හඬකින් කීය: ''සර්වබලධාරී අල්ලා තම දේව ලියවිලි වල උන්වහන්සේගේ වහලුන් තෙයාකාරයකින් යටහත් විය යුතු යැයි ලියා තියෙනවා. පළමුවෙනිව, සර්වබලධාරී අල්ලාට. උන්වහන්සේගේ මහා බලයට අපි හැමදම යටත්වී, හැම පැයක්, විනාඩියක්, තත්පරයක් පාසාම කීකරු විය යුතුය!''

''ඩූස්ට්! ඩූස්ට්! එය අපේ යුතුකමයි!'' ගෝලයෝ පිළිතුරු දුන්හ.

''හා, හෝ,හු!'' යැයි සිහන පූජක පිරිස කෑගැසූහ.

කුසා-මද්දහ් අතක් වනමින් ඔවුන්ට සංඥ කොට දිගටම කතා කළේය:

''දෙවනුව, සර්වබලධාරී අල්ලා විසින් අපවෙත එවන ලද මොහමඩ් තුමාට ගරු කොට, එතුමාට යටත් වී, එතුමාගේ සියලු නියමයන් නිසිලෙස පිළිපැදීම. ඔහුගේ නිර්මල ආත්මයට කීර්තිය අත්වේවා!''

''ඔහුගේ නිර්මල ආත්මයට කීර්තිය ලැබේවා! හා! හා!'' ගෝලයෝ මොරදුන්හ. සිහන පූජක පිරිස අල්ලාට හා මොහමඩ්ට කීර්තිය ලැබේවායි කෑ ගැසූහ. කතිකයා අතක් වනමින් ඔවුන්ට නිහඬවන ලෙස දැන්විය.

''තුන්වැනිව, අපේ සුදු රජතුමාට, අධිරාජයාට අති උත්තම නිකොලායි රොමානව් සාර් රජ තුමාට. සර්වබලධාරී අල්ලා කී පරිදි රජ තුමා මෙලොව සිටින දෙවියොයි. අපි එතුමාට යටත් විය යුතු.''

''එසේය! මෙලොව සිටින දෙවියො!'' යැයි ගෝලයෝ නැවත හඬ නැගූහ. සිහන පූජකයෝ ''දෙවියෝ-යෝ-යෝ!'' යැයි මොර දුන්හ.

''අපේ නිකොලායි රොමානව් මහ රජ තුමාත් එතුමාගේ ඇමතිවරු හා උපදේශක වරුත් අවුරුදු දහසක් නිදුකින් වැජඹේවා! එසේම වේවා!'' ගෝල පිරිසට කෑ ගැසීමට ඉඩක් නොතැබූ දේශකයා දිගටම කතා කළේය: ''මේ දවස්වල ජර්මනියේ දුෂ්ට රජු අපේ සාර් රජ තුමාට විරුද්ධව ලක්ෂයක සතුරු සේනාවක් එවා යුද්ධයක් පටන් අරගෙන තියෙනව. ඒ සතුරු සේනාවට පැන්සර් සේනා හතක්ද, මහ කාල තුවක්කුද, අහස් යාත්‍රාද තියෙනව. ඔවුන් මිනිසුන්ව විනාශ කරනව. නගර ගම් ගිනි තියනව. විශෙෂයෙන්ම මේ දවස්වලදී හැම මුස්ලිම් භක්තිකයෙකුම සාර්ගේ නියමයන්ට යටත් වී වැඩ කරන්ට ඕන. තමන්ගේ රජ මොන ආගමට අයත් වුවත්, එතුමාට ගරු කරන්ට, කීකරු වෙන්ටයි කියල සර්වබලධාරි අල්ලා කියා තියෙනව. ශුද්ධ මෙසායිගේ කීම අනුව අපේ රජ තුමත් ඇමතිවරුත් කටයුතු කිරීම නිසා අල්ලාට කීර්තිය ලැබේවා! ජේසු තුමා දෙවියන් එවපු කෙනෙක් නොවේද? අපේ මහ රජතුමා සහ ප්‍රභූ පිරිස මිත්‍යා දෘෂ්ටීන් නොවෙයි. මොහමඩ් නබීට ඉස්සෙල්ලා ශුද්ධ ලියවිලි එතුමන්ට ලැබී තියෙනව. මේ මාර යුද්ධ පවතින දවස්වලදී එතුමාට කීකරුව සියලු නියමයන් පිළිපදින්ට ඕන බව මතක තබා ගනිල්ලා! එසේම වේවා! බොරු කාරයින්ට, හොරුන්ට, වංචා කරුවනට, කැරළි කරුවන්ට රැවටෙන්ට එපා. එවුන් මහජනතාව අතර හොල්මන් කරනවා. එවැනි කුමන්ත්‍රණකාරින් දුටු තැන අල්ලා පොලිසියට භාර දීපල්ලා!'' ඔවුන්ට ගල් ගසා මරා දැමිය යුතුය. එසේම වේවා! එසේම වේවා!! එසේම වේවා!!!''

තුන්වරක් ''එසේම වේවා!'' කියා කෑගසන විට ගෝලයෝ සහ පූජක පිරිස කොතරම් වේගයකින් කෑ ගැසුවෝද යත්, අවට බිත්ති පවා දෙදරුම් කා ඉරිතැළී ගිය සැටියකි.

''එසේම වේවා! උන් විනාශ වේවා! එසේම වේවා!''

දේශනයේ පළමුවැනි කොටස ඉන් නිමවිය. කුසා-මද්දහ් එදිනෙද ප්‍රශ්න ගැන කතා කරමින් ෂරියාට් නීතිය ක්‍රියාවේ යොදවන සැටි පැහැදිලි කළේය. මල පහ කරන තැනින් ඉවත්විය යුත්තේ කෙසේද? ගලාබසින දිය ඇල්ලකට අපිරිසිදු දේ වැටුනෝ නම් එය පිරිසුදු කිරීම සඳහා කී වරක් පෙරා ගත යුතුද? අසු පිටින් යන්නෙකුට, බූරුවකු පිට යන්නකුට ආචාර කළ හැකිද? උදේ නැගිට සපත්තු පළඳින විට පළමුවෙන්ම සපත්තු දමා ගත යුත්තේ වම් කකුලටද නැතිනම් දකුණු කකුලටද? ඇඳුම් මහන්නන්ට සහ පනික්කියන්ට දෙව් ලොවට යා හැකිද? රුසියානු පැතලි හැලි වල ආහාර පිසීම මුස්ලිම් ආගම් චාරිත්‍රයට ගැලපේද? හොරකු දෙවියන්ගේ වහලෙක්ද? නැතිද? ෂරියාට් මුස්ලිම් චාරිත්‍ර අනුව අර්තාපල් අනුභව කළ හැකිද? මේ අමාරු ප්‍රශ්න වලට කුසා-මද්දහ් නිසි පිළිතුරු දුන් නමුදු ඒවා මගේ සහ උබායිගේ සිත් නොගත්තේය.

''උබායි මේ අහපන්. මේ කතාව කිසිම වැදගැම්මකට නැහැ නෙව. මේ කතාවෙන් එයා අදහස් කරන්නෙ මොකක්ද?'' යි මම උබායිගේ කනට කොඳුරා ඇසුවෙමි.

''මටත් තේරුම් ගන්ට බැහැ. මොකද එයා සුදු රජා ගැනයි ඇමති ලොක්කන් ගැනයි ඔතරම් ලොකුවට වර්ණනා කළේ? මිනිහ පගාවක් වත් අරගෙනද?'' යි උබායි මගෙන් ප්‍රශ්න කළේය.

''මෙතැනින් යමු යන්ට ආ?''

''උඹට පිස්සුද! මෙතැනින් පිටවෙන්ට කොහොමවත් බැහැ! ඇරත් හොඳම රසවත් හරිය අසන්ට ලැබෙන්නෙ කුසා-මද්දහ් සල්ලි ඉල්ලන්ට පටන් ගන්න විටයි. සර්කස් එකටත් වැඩිය අපූරුයි. සල්ලි ඉල්ලන්නට වෙලාව හරිද? දන්නෙ නැහැ!''

''උඹ කිසි දෙයක් දන්නෙ නැහැ!'' යි මම උබායිට කීවෙමි. ''මේ වගෙ දේසනාවකින් පස්සෙ සල්ලි ඉල්ලනවද? ලස්සන කතාවක් පටන් අරගෙන මැද හරියෙදී ඒක නවත්වල සල්ලි ඉල්ලන්ට පටන් ගනිව්. කතාවෙ ඉතිරි හරිය අසන්ට ආස උදවිය සල්ලි දෙනව!''

අප ළඟ සිටි මිනිස්සු නිහඬවන ලෙස අපට අණ කළහ. එවිටම වාගේ කුසා-මද්දහ් තම කතාව නැමති 'විජ්ජාව' පටන් ගත්තේය. මද්දහ් මහල්ලා කොතරම් අපූරු, අරුම පුදුම කතාවක් ඇද බැවේදයත්, මීළඟ මොහොතේදී ඇතිවන පුදුමය ගැන ඔහු පවා නොදත්තේය. ඔහු පවා එය නොදන්නේ නම්, අසා සිටින ජනතාව කොහොම වත් එය නොදනී. ඔහුගේ කටින් පිටවන හැම වචනයක්ම ගිල ගැනීමේ ආශාවකින් මිනිස්සු ඔහුට සවන් දුන්හ. ඔහු හිටි හැටියේ කතාව නැවැත්වූයේ සල්ලි ඉල්ලන්ට නොව, ඔහුටම එය පටලැවිල්ලක් වූ නිසාය. එවැනි පටලැවිල්ලක් තෝරා බේරා දීම අප වැනි නරයින්ට කළ නොහැක. දෙව්ලොවින් ආධාර එවිය යුතුය. කුසා මද්දහ් එක ගලකින් කුරුල්ලන් දෙදෙනෙකු මැරීමට සැරසුණේය.

''මුස්ලිම් වරුනි! අප හැම දෙනෙක්ම පවුල් කාරයො. අල්ලා අපට බාරදීල තියෙනව ඔවුන් ආරක්සා කරන්ට. අපේ කතාව තවත් දුර ඇසීමට කැමති අය, ෂරියාත් ධර්මය අනුව අපේ සොහොයුරන් වන අය, දරුවන් කැමති අය, ධනය කැමති, විවාහ වීමට කැමති, ලෙඩ රෝගවලින් සුවය ලැබීමට කැමති අය, තමන්ගේ බැගෑපත් කන්නලව් ඇසීමට සැලැස්වීම සඳහා, දනට පිනට දිය යුත්තාහ...'' මෙහිදී ඔහු සැහෙන වේලාවක් නිහඬව නැවත කතාව පටන් ගත්තේය. ''වීරයින් හැත්තෑ දෙනෙක් අසුන් හැත්තෑවක් පිට නැගලා...'' ඔහු දෑස් වසා ගෙන මුහුණ රැලි ගැන්වීය. දැන් ඔහුගේ මුහුණේ රැලි හැර අන් කිසිවක් නැත. ''අනේ, අනේ, මම එහෙම ඉල්ලන එක හොඳ නැහැ. මා වැනි අසරණ දුප්පත් මහල්ලෙකුට මක්කටද අස්පයො හැත්තෑවක්? අල්ලා දන්නව මට එක අශ්වයෙක් හිටියම හොඳටම ඇති. ඉතිරි අශ්වයින් වෙනුවට රත්රන් කාසි හැට නවයක්!'' ඔහු නැවත දෙනෙත් පියා ගෙන ඒ අත මේ අත වැනෙමින් වැටෙන්නට මෙන් සැරසුණේය. ඔහු නොවැටුණි. ''අනේ, අනේ! එහෙම ඉල්ලන්ට හොඳ නැහැ. හොඳ නැහැ. මෙතරම් කරදර කාලයක්. හැම දෙනාම කැළඹිලා. කොහෙන්ද මිනිස්සු ළඟ රත්රන්? රත්රන් එපා, කඩදසි රූබල් නෝට්ටුව බැගින් දෙන්න!'' ඔහු නැවත දෑස් වසාගෙන වැනෙන්ට විය. උබායිත් මාත් ඇතුළු රැස්ව සිටි හැම එකෙකුම ඔහුගේ උකුසු ඇස්වලට යසට පෙණෙන බව මට සහතිකය. මට අමිහිරි අපහසු ගතියක් දැනිණි. මගේ කබායේ වාටියට අල්ලා මසා ඇති රන් කාසිය ඔහුගේ උකුසු ඇස්වලට පෙණුනේ කෙසේද!.. ඔහු නැවත කතා කරන්ට විය. ''මුස්ලිම් වරුනි! මොහමඩ් නබිගෙ පොත්වල කියා තිබෙනව මධ්‍යම ප්‍රතිපත්තිය හැම දෙනාටම යහපත් කියල. දිය හැකි තරමක් පිනට දිය යුතු යැයි කියල ඉල්ලන්ට අවසර තියෙනවද? ඇත්ත වශයෙන්ම අවසර තියෙනව! ත්‍යාගශීලි නුඹලාගෙන් මම ඉල්ලා හිටින්නේ එක ටංගිය බැගින්. මගේ ලස්සන කතාව අසන්ට කැමති අය පසුම්බිය හාර අවුස්සල ටංගිය බැගින් දීපල්ලා!''

ගෝලයෝ දෙදෙන තොප්පි දෙකක් රැගෙන සෙනග අතරට පැමිණ සිඟන්නට වූහ. එකෙණෙහිම පොහොසත් බායියෙකුගේ පුතෙක් සෙනඟ පීරාගෙන ඉදිරියට විත් දේශනාකාර මහල්ලාට අශ්වයෙකු තෑගි කොට වැඳ වැටී මෙසේ කීය:

''පූජක තුමාණෙනි! මට ළමයි නැහැ. අල්ලාට යාච්ඤා කොට දරුවකු ලබා දෙන්න!''

මහල්ලා අසුගේ කට බැඳි හම් පටිය එක් අතකින් තද කොට අල්ලා ගනිමින් අහස දෙසා

බැලිය. ඔහුගේ එක් ඇසක සුදක් ඇති බව මා දුටුවේ දැන්ය. දැත් දෙපසට විහිදුවා, ''මා සමග එක්වී 'එසේම වේවා'යි කිය පල්ලා!'' යැයි ඔහු කීය.

''එසේම වේවා!'' යන හඬ සතර වටින් ඇසිණ.

''මේ මිනිසා පතන හැම දෙයක්ම ඔහුට නොඅඩුව ලැබේවා! සර්වබලධාරී දෙවියන් වහන්සේ ඔහුට ආශීර්වාද කරන සේක්වා! සර්වබලධාරී අල්ලා ඔහුට නිඹුල් පිරිමි දරුවන් දහ අට දෙනෙකුද නිඹුල් ගැණු දරුවන් දහ අට දෙනෙකුද දෙන සේක්වා! මුළු ජීවිත කාලයම දූ දරුවන්ගේ විවා මඟුල් සංවිධාන කරමින් සැප විඳිත්වා! එසේම වේවා!''

අවට රැස්ව සිටි ජනයාද ''එසේම වේවා!'' යි කෑගැසුවද, ගෝලයින්ගේ සහ හිඟන පූජකයින්ගේ බෙරිහන්දීම වඩාත් උත්සන්න ලෙස පැතිර ගියේය. සමහරුන් කුසා-මද්දහ් එම අසු පිට යන සැටි දැක ඇති බවත් කොඳුරා කියන සැටිද මට ඇසිණ... මිනිසුන්ගේ කනට මහ යකා වන සාතන් කොඳුරා නොකියන්නේ මොනවාද! මේ අතර පිං කාසි එකතු කරන්නවුන් සම්මාදම පටන්ගත්හ. හොඳට හැඳ පැළඳ සිටින උදවිය ළඟ මේ සම්මාදම් කාරයෝ බොහෝ වේලාවක් නතර වූහ. ඔවුන්ගේ වට්ටි පෙට්ටිවලට දමන ලද කාසි කොපමණදැයි කීමට මා දන්නේ නැත. මේ අතර මා නැවතී සිටි ඉෂාන් ගැන විස්තරයක් උබායිට මම කීවෙමි. උබායි කොක් හඬලමින් සිනාසෙන්නට විය. මම ද මහත්වූ සතුටකින් ඒ කතාව කියන්නට වීමි. කුසා-මද්දහ්ගේ උකුසු ඇස් අප වෙත රැඳී ඇති බවක් පවා අපි නොදත්තෙමු.

''පූජක වරුනි!'' යැයි කුසා-මද්දහ් හිටි හැටියේ සිහන පූජකයින් ඇමතුවේය. ''මේ දහකාර කොල්ලන් දෙදෙනාව සභාවෙන් එපිට ගෙනගොස් දමාපල්ලා! උන් ආගමික දේශනාවලට අපහාස කරනවා! කාලකණ්ණියො. එළවා දමාපියව්! පිරිසුදු ආහාරයකට වහපු අපිරිසිදු මැස්සො! එළවා දමාපියව්!''

නියෝගය ඇසූ විගසම තරබාරු සිහන්නන් හතර දෙනෙකු අප වෙත කඩා පැන අපේ අත් පා වලින් අල්ලා අප ඔසවා ගෙන කඩපොළේ චතුරශ්‍රයටත් එහා ගෙන ගොස් බිම අත හැර අසභ්‍ය බසින් බැණ වදින්ට වූහ. අපි ඔවුන්ගේ කුණුසරුප දේශනයට සවන් නොදුන්නෙමු.

දවසින් අඩක්ම ගෙවී ගියේය. විනෝදය සඳහා කළ හැකි දෙයක් නැතිවා සේය. උබායිද ගෙදර යාමට දැඩි ආශාවක් දක්වයි. අම්මාට සහ නංගිලාට හාල් රාත්තල් දහයක් මිළදී ගැනීම ගැන මම කල්පනා කරන්ට වීමි. හාල්, මස්, සත්ව මේදස්, කුළු බඩු ආදිය රූබලයකට මිළදී ගත හැක. මේවා උබායි අත යවම්ද? අම්මා උබායිගෙන් මා ගැන අසන්ට පටන්ගෙන, මා සිටින තැන පෙන්වන ලෙස ඔහුගෙන් ඉල්ලා සිටියොත්, උබායිට කළ හැක්කේ කුමක්ද?.. මා ආ ගිය අතක් මාස කීපයක් තිස්සේ නොදන්නා බව සැබෑය. එහෙත් මා ජීවතුන් අතර සිටින සැටි සියැසින් දුටු උදවිය ගමේ සිටිති. ඔවුන් මා ගැන කී දේ අම්මාටද අසන්නට ලැබී ඇත. මා සහ මවද, නංගිලාද ඉවසූ තරම ඉමහත්ය. තව දින කීපයක් අප ඉවසා සිටිය යුතුය... කෙසේ හෝ තව සතියකට වඩා මම හජි-බායි යටතේ සේවය නොකරමි.

මම රිදී කාසියක් උබායි අත තැබුවෙමි:

''මේක මඟ වියදමට තියාගනින්. ලබන සුමානෙ අවසන් වන තුරු මා ගැන කිසිවකුට කිසිවක් කියන්ට එපා. තේරුණද? ලබන සුමානෙ මම ගමට එනවා!''

අපි සමුගෙන විසිර ගියෙමු. මට දැන් බඩගිනි දැනේ. මොනවා උනත් ඉල්හාමාගේ තේ කඩයට ගොස් පොහොසත් බායියෙකුගේ පුතකු මෙන් තේ බී ප්‍රීතිවීමට සිතා ගතිමි. ඒ ප්‍රසිද්ධ තේ කඩය එලෙසම පැවතින. ග්‍රැමපෝනය වාදනය විය. තට්ට-අස්රා යන්ත්‍රයක් මෙන්

වේගයෙන් වැඩ කරයි. ගිරවා පෙනෙන්ට නැතිය. තට්ට-අස්රා වේටරයා මට ඇතුළුවීමට පවා ඉඩ නොදුන්නේය.

''පලයන්, ගිහින් වැඩක් බලාගනින්! මේ තේ පෝච්චියකටයි, සීනිවලටයි, රොටියකටයි අය කරන ගණන දන්නවද? පකීර් කාසි හතර හමාරක්! උඹ වගෙ අයට මෙහි තේ බොන්ට තරම් පොහොසත් කමක් නැහැ. උඹ ගිහින් වෙන අතක් බලා ගනින්!''

''අනේ අස්රා-අකා උන්නැහෙ මා ළඟ පකීර් හතරක් පමණක් නොවෙයි, එහෙම පිටින්ම රුබලයක්ම තියෙනව. අවිශ්වාස නම් මෙන්න බලන්න!''

මම ඔහුට රුබලය පෙන්වීමි.

ඔහු පසුබැස්සේය.

''කිලිටි කාලකණ්ණියා. කොහෙන්ද බොල උඹට සල්ලි? කඩයක් වත් කඩා හොරකම් කළාද?.. කමක් නැහැ වරෙන් ඇතුළට.''

මම අයිනක වාඩි වුණෙමි. අස්රා මා රිසි හැම දෙයක්ම ගෙනැවිත් තැබීය. තේ බොමින් ග්‍රැමපෝනයට සවන් දෙමින් සතුටු වුණෙමි. ගිරවා නැත. ඌ ජීවතුන් අතර සිටියේ නම් මා ඌත් සමග කතා කරනු ඇත. මා වාඩිවී සිටි පේළියේ අනිත් කොණක ඇත ගමකින් පැමිණි වැරහැලි ඇඳ සිටි ගොවියෙක් වාඩිවී සිටියේය. අස්රා ඔහුට ඇතුළුවීමට අවසර දුන්නේ ඇයි? අස්රා ඔහු දෙස හරි හැටි නොබැලුවා විය යුතුය. ගොවියාද බයාදු ලෙස වටපිට බලයි. ඔහුට අපහසු ගතියක් දැනේ. ඔහු කිසිවකු බලාපොරොත්තු වන බව කලින් මම සිතුවෙමි. ගී ගයන්නේ කව්දැයි ඔහු සොයන්නට විය. මට සිනහ ආවේය. ඔහු මා දෙස බැලුවේ බයාදු ගතියකිනි. අර මුල්ලේ තබා ඇති නලාව සහිත යන්ත්‍රය ගයන බව ඔහුට මම පැහැදිලි කළෙමි. ඔහු බියවී බොහෝ වේලාවක් යන තුරු ග්‍රැමපෝනය දෙස බලා සිටියේය. ඔහු කල්පනා කරන සැටියකි: ඒ පෙට්ටිය තුළ මිනිසකු සිටිනවා විය යුතුය. එහෙත් මිනිසකුට රිංගන්ට බැරිතරම් ඒ පෙට්ටිය කුඩාය. එහි ඇත්තේ මායාකාරී යක්ෂ බලයකි. ගීතය සර්වබලධාරී අල්ලා සහ මොහමඩ් නබි ගැන කියයි. ගොවියා බියෙන් බිරාන්ත වී සිටී. ලක්ෂ වාරයක් ග්‍රැමපෝනය දැක ඇති මම ඔහු දෙස බලා සිතින් සිනාසුණෙමි. ග්‍රැමපෝනය යනු කුමක්දැයි විස්තර කරන ලෙස ඔහු මගෙන් ඉල්ලා සිටියේ නම්, එය මට ඉටුකළ හැක. ඒ ගැන මම ඔහුට වඩා දනිමි...

## පිපිරීම

කඩ පොළට ගොස් සිරින් පරිදි උවමනා දේ මිළදී ගතිමි. ඉටිපන්දම් රාත්තලක්ද, කොපෙක් දෙකකට බුහාරා දුම් කුඩුද පජ්මාක් අළුවාද ගත් මම දුම් කාමරයට ගියෙමි. දුම් කාමරයේ සේයාව පවා දුන් මා කුප්පයි. අබින් ගන්ජා බී මත්වූ වන්ගේ මුහුණු ගැන සිතෙන විට පවා වමනය කිරීමට සිතේ.

මවිසින් කළ යුතු වැඩ කටයුතු සියල්ල යම්තම් ඉටු කොට නින්දට ගියෙමි. තද ශීත ගතියක් දැණුනෙන් මම අවදිවීමි. අවට ඇඳිරිය, එහෙත් ඒ සමගම නොපැහැදිලි ආලෝකයකි. කවුළුවෙන් පිටත බැලීමි. මහ පොළොව සිපගත් සුදෝසුදු තුනී හිම තට්ටුවකි! මෙතරම් වේලාසනින් කිසි කලෙක හිම වැටී නැත. ඊයේ දහවල උණුසුම් විය. රාත්‍රිය පමණක් ශීතලය... දවසේ වැඩ කටයුතු පටන්ගත යුත්තේ කෙසේදැයි මම නොදනිමි. අපූරු අදහසක් හිටිහැටියේම මට ඇති විය. හජ්ජි බාබා අබිං රත්කිරීම සඳහා භාවිතා කරන පහන දල්වා කුස්නෙට්ස්කි තේ පැකැට්ටුවේ කවරයක කවියක් ලීවෙමි. එය හජි-බාබා වෙත ලිපියකි. මෙන්න ඒ ලිපිය:

හිම ලිපිය

ඕ ජාන්—බාබා, දෙවියෝ අපට හිම එවලා  
හිම තුෂාරය රකුසකු මෙන් නැගිට සිටී.  
අසරණ මට මුදල් නැතේ  
ඇඳුම් ගන්ට සල්ලි නැතේ.  
සීතලයි, සීතලයි, දෙපා මගෙ සීතලයි.  
සීතලට මා ගැහෙයි.  
උදේ සිට රෑ වන තුරු  
මා ඔබට මෙහෙ කළා.  
ගෙවීගිය ඉදලක් මෙන්  
මා කයත් දුබල වී.  
හිම කබාය, හිම තොප්පිය  
අරන් දෙන්නෙ කවිද මෙමට.  
හත්වරක් මක්කම වඳින්නට  
පිහිට වේවි අල්ලා ඔබහට

මීට

ඔබගේ කීකරු

අසරණ සිසු.

මම එය කියවා බැලීමි. මා සිතන පරිදි නම් එය අගනා රචනයකි. මම එය ලිපියක් මෙන් නවා හජි-බාබා සිය කාමරයෙන් පිටතට එන විට ඔහු අත තැබුවෙමි.

''පුතේ මොකක්ද ඔය?''

''මගියෙක් මේක දීල කිව්ව, නමගාන්වල ඉඳල ගෙනා ලියුමක් කියල.''

''මමට්රිසිගෙන් වෙන්ට ඕන. මේ අවුරුද්දෙ පොපි මල් වගා කරන්ට මිනිහ ලැහැස්ති උණා.'' යැයි කී හජි-බාබා උස්ටො සලීම්ට ලියුම දුන්නේය. ''උදේට මගෙ ඇස් පෙනීම දුර්වලයි. මේ ලියුම කියවන්න.''

සලීම් ලියුම දිගහැර කියවන්නට විය.

''හිම ලිපිය...''

''මක්කද?'' හජි-බාබා ඇසීය.

''හිම ලිපිය'' යැයි කී උස්ටො සලීම් දිගටම කියවන්නට වූ අතර හජි-බාබා වෙව්ලන්ට විය.

''ඈ බොල හඩු කොල්ලො කව්ද උඹට මේ ලියුම දුන්නෙ? ඇයි උඹ ඌව අල්ල ගත්තෙ නැත්තෙ? ඌව බූරුවකු පිට මූණ පස්සට හරවා ඉන්දල ඇහේ අළුගාල වෝර්ස්වලට ගෙන යන්ට තිබුන නෙව. මහලු මට අපහාස කරන්න ඉදිරිපත් වෙලා තියෙන්නෙ කව්ද? උඹ නිකම් අහිංසකයකු වගෙ, කට ඇරගෙන ඉන්න හැටි. සලීම් කියවන්න දිගටම කියවන්න.''

සලීම් සෙමින් වචනයෙන් වචනය කියවමින් 'හුෂ්'-'හුෂ්' යන හඬක් පිට කරයි. කෙමෙන් හජි-බාබාට ලියුමේ ඉතිහාසය වැටහෙන්නට විය. ඔහුගේ කෝපයද සංසිඳිණ. 'හත්වරක් මක්කම වඳින්නට, පිහිට වේවා අල්ලා ඔබහට' යන අවසාන වැකිය ඇසූ හජි-බාබාගේ සිත උණුසුම් විය. දෑසින් කඳුළු කැට වැටිණි. මීට ඔබගේ අසරණ කීකරු සිසු, යන වගන්තිය නිසා ඔහු තවත් දයාන්ත විය.

''ආ, තෝ බැල්ලිගෙ පුතා!'' යැයි ඔහු මා ඇමතුවේ කඳුළු පිරි දෑසින් යුතුවය. ''ඇයි උඹ මුල සිටම ලියුම උඹේ බව නොකීවෙ උඹට කවි ලියන්නත් පුළුවනි. ආ? ඒකත් එහෙම තමා!..'' ඔහු කඳුළු පිසදමා ගනිමින් ඇතුළු ගෙට ගියේය. උස්ටො සලීම් මගේ කවි ගැන මට ප්‍රශංසා කොට කවි තැනීමේ අසීරු හා අමාරු කම් ගැන විස්තරයක් කළේය. ඔහු කාව්‍ය ශාස්ත්‍රයේ ඉතා සියුම් තැන් ගැන කතා කරන්ට වූ නමුදු මට එය නොතේරුණි. ඇතුළු ගෙට ගිය හජි-බාබා ආවේ වැල්වට් රෙදිවලින් කරන ලද හිම තොප්පියක් අතැ'තිවය.

''පුතේ මෙන්න මේක ඇඳ බලපන් හරියාද කියල! දෙවියන්ට පිං දීපන් දූත් ඔසවල! උඹ මා තරම් ම මහලු වන තෙක් ජීවත් වෙයන්. ඔන්න ඔහොමයි. බිත්තර බිඳ ගෙන පැටිය එළියට ආ හැටියෙම ඌ ආධාර ඉල්ලනව. උඹට ඉක්මනින්ම පුළුන් පුරවපු හිම කබායක් අරන් දෙන්නම්. ඔන්න ඔහොමයි...''

හජි-බාබාගේ දේවාශීර්වාදය එතැනම පල දීමට පටන් ගති. ලිපිය කියවද්දී එතැන සිටි ඉන්දියානුවා තම පැරණි අත් රහිත යට හිම කබායද මට තෑගි කළේය. දිගින් එය මගේ උසට වඩා යාර තුන්කාලකින් වැඩිය. මම එය කෙටි කොට සාද ගතිමි. දැන් මම කුමරකු ලෙස හැඳ පැළඳගෙන සිටිමි. දෙපාවැසී ඇත්තේ අපෝර්කි නම්වූ සපත්තු වලිනි. ඉන්දියානුවාගේ කබායකින් මගේ ගතද, වැල්වට් තොප්පියකින් මගේ හිසද වැසී ඇත. මා කුරුල්ලන් බිය ගැන්වීමට කුඹුරක තබා ඇති පඹයෙකු මෙනැයි කිසිවකු කීවොත්, ඔහුගේ මුහුණට කෙළ ගැසීමට වුව මා සූදානමය.

දවස් දෙකක් මම ඉතා හොඳින් සේවය කළෙමි. එහෙත් මෙතැනින් පැනයාමේ අදහස මා තුළින් ඉවත් නොවීය. එක් උදෑසනක මගේ සැලැස්මේ පළමුවැනි කොටස ක්‍රියාවේ

යෙදවීමට මම සූදානම් වීමි. අරුණෝදයේ මම ඇවිදිමින් සිටින විට කටේ දමන දුම් කුඩු බෝතලයක් දැක අහුලා ගත්තෙමි. එයට වතුර පුරවා එහි ඇබය තදින් වසා එළිමහන් ලිපෙහි අළු යටට දමා, පසුව එම ලිප දුම්කාමරය තුළ ගෙනැවිත් තැබුවෙමි. අනුග්‍රාහක ගංජා අබින් කාරයෝ උදේ ආහාරය ගැනීමට එහි ආහ. හජි-බාබා, උස්ටො සලීම්, ඉන්දියානුවා, තුර්කි තොප්පිය හිස ලාගත් මුක්කන් සුල්තාන් ආදීන් හැමදෙනම එහි වූහ. උදේ ආහාරය ගන්නා අතර ඔවුහු දෙශපාලනය ගැන කතා කිරීමට පටන් ගත්හ.

''ජර්මනිය ලෝකෙට මහ විනාශයක්'' රොටියක් සපමින් සිටි උස්ටො සලීම් කීය.

''මහ විනාශයෙකැ'' යි හජි-බාබාද, ඉන්දියානුවාද කීහ.

බෝතලය රත්වන සැටි මම සිතුවෙමි.

''අහසෙ ඉඳල බෝම්බ විසිකරනව. එහෙම දෙයක් අහලවත් තියෙනවද?'' යි උස්ටො සලීම් ප්‍රශ්න කළේය.

''සර්වබලධාරි අල්ලා අපට දඬුවම් කරන්ට තීරණය කරල. මහ පොළොව පච්චලින් පිරිල, අහස දඬුවම් දෙනව,'' යැයි හජි-බාබා කීය.

''දැන්-දැන් පුපුරාවියැ''යි මම සිතුවෙමි.

''එක බෝම්බයක් වැටුණොත් ගෙවල් දහක් විනාශවෙනවලු!'' තම තුර්කි තොප්පිය හරි ගස්වා ගනිමින් මුක්කන් සුල්තාන් පැවසීය. ''එක බෝම්බයක් පිපිරුණොත් දස ලක්ෂයක් මැරෙණවලු!''

''දැන් පුපුරනු ඇතැ'' යි මම සිතුවෙමි. එවිටම නාන ස්ථානයේ මහ බොයිලේරුව පිපුරුණාක් මෙන් මහ හඬක් නගමින් ලිප තුළ තිබුණු බෝතලය පුපුරා ගියේය. දුම් කාමරය පුරා අළු විසිර ගොස් ඇත. විදුරු කැලි හා නොයෙකුත් කැබලි බිම වැතිර තිබේ. යුද්ධයේදී පවා එවැනි පිපිරීමක් ඇති වෙතැයි කිව නොහැක. හජි-බාබා සහ මුක්කන් සුල්තාන් හතර ගාතෙන් යන්නට වූහ. ඉන්දියානුවා සහ උස්ටො සලීම් සිහි නැතිව නොසැලී උන්හ. මම ඔවුන්ගේ මුහුණු වලට සීතල වතුර ඉස්සෙමි. ඔවුන්ට සිහිය ලැබිණ. තත්පර කීපයක් තිස්සේ ඔවුහු භය හා වේදනාව නිසා කෑගැසූහ. කට පුරා අළු නිසා එකවර කතා කළ නො හැකිව සිටි හජි-බාබා කෙළ ගසමින්, උගුර පාදු ගනිමින් ජර්මනියටත්, සාර් නිකොලායිටත් ශාප කළේය.

''අනේ දෙවියනේ ඒ මොකක්ද ආ?'' උස්ටො සලීම් ප්‍රශ්න කළේය.

''උඹල නිසා මටත් හෙණ වදීවි! මම කිව්ව නෙව දෙශපාලනය ගැන කතා කරන්ට එපයි කියල!''

හතර ගාතෙන් දොර දක්වා ගිය මුක්කම් සුල්තාන් අතුරු දහන් විය. සියලු දෙනම නිහඬ වූහ. සිදුවූයේ මොනවාදැයි පසුව කතා කරන්ට වූහ. වහාම ලිප ගෙවත්තට ගෙන යා යුතුය. හැම දෙනම අළු පිසදමා ගන්නට වූහ. හජි-බාබා මා දෙස බලා කෑගැසුවේය:

''උඹ මොකද හාවෙක් වගෙ බලාගෙන ඉන්නෙ? උඹට හෙණ වැදිලද? මේ ලිප එළියට ගෙනියපන්!''

භය ගතියක් පෙන්වමින් මම ලිප ගෙවත්තට ගෙන ගොස්, අළු පිස දමා කාමරය පිරිසුදු කරන්නට වීමි. එහෙත් එවිට මුක්කම් සුල්තාන් පොලිස් භටයින් දෙදෙනෙකු සමග කාමරයට ඇතුළු විය.

''වෙඩි තැබීම ඇතිළුණෙ මෙන්න මෙතනැ''යි කියමින් සුල්තාන් ලිප තිබූ තැන

ඇඟිල්ලකින් පෙන්වා, උස්ටො සලීම් දෙසට හැරී, ''වෙඩි තැබුවේ මෙන්න මෙයා තමා'' යැයි කීවේය.

උස්ටො සලීම් බයාදු ගතියකින් මොනවා දෝ කී නමුදු, පොලිස් භටයෝ එය ගණනකට වත් නොගෙන ඔහුගේ ඇඳුම් පැළඳුම් ඇතුළු කාමරයේ බඩු බාහිරාදිය පිරික්සන්නට වූහ. උස්ටො සලීම් බියෙන් ගැහෙමින් තමා කුඩා කාලයේදී කැටපලයකින් ගලක් පවා විද නැතැයි කියා සිටියේය. පසුව සලීම්ගෙන් හා හජි-බාබාගෙන් කට උත්තර ගැනීම ආරම්භ විය. හජි-බාබාගේ සහ උස්ටො සලීම්ගේ නෑකම් ගැන විස්තර සහිතව අසන්නට වූහ. තම නෑකම් ගැන දිගින් දිගට විස්තර කළ උස්ටො සලීම් ළමයින් නැති වඳ ආච්චි අම්මා ස්නායු දුර්වලත්වය නිසා මිය ගිය සැටිද කීවේය. අනාෂ් (මත් ද්‍රව්‍යයකි) රාත්තල් දෙකක් අබින් රාත්තල් කාලක් හැරුණු විට වෙන යම්කිසි දෙයක් කාමරයේ නොවීය. එක් පොලිස් භටයෙක් අල්ලක් තරම් ලොකු අනාෂ් කැල්ලක් කබාය යට සඟවා ගත් සැටි මා දුටු නමුදු, අවස්ථාවට ඔබින සේ මම නිහඬ වීමි.

''වෙඩිතැබූ කතාව ඔප්පුවී නැහැ. බෝම්බද සොයා ගැනීමට නැහැ. කවුරු හරි කොල්ලෙක් සෙල්ලමට වෙඩිල්ලක් පත්තු කළා වෙන්ට ඕන'' යැයි තරුණ පොලිස් භටයා කීය.

එවිට හැම දෙනම මා දෙස බැලූහ. මා හැඬීමට සූදානම් වෙත්ම අනාෂ් කැල්ලක් සොරාගත් අනික් පොලිස් භටයා අනාෂ් හා අබින් පෙන්වා කතා කළේය:

''හජි-බාබා තමුසෙට මේ බඩු හන්ද පොලිසියට ඇවිත් ලොකු මහත්තයට ඒ ගැන විස්තර කියන්ට සිද්ද වේවි!''

''අනේ මහත්වරුනි!'' යැයි කී හජි-බාබාගේ දෙදණ ඉබේම බිම ඇනෙන්ට යන කලෙක මෙන් ඔහු වැටෙන්නට විය. ''මම බොහොම වයසක මිනිහෙක්. මාව උසාවියට ගෙනියන්න එපා. ඕව මගේ දේවල් නෙවි. පරිස්සම් කරන්ට කියල මට දීපු ඒව...''

අනිත් උදවියද කන්නලව් කරන්නට වූහ.

''අනේ, රාළහාමිල ඔක අතහැරල දන්ට. අපි ඔය කරුණාවන්ත උපකාරය කිසිම දක අමතක කරන්නෙ නැහැ. අපෙ පොලිසියෙ ලොකු මහත්තටයි, සාර් රජ තුමාටයි, රාළහාමිලාටයි දේවාශිර්වාද ලැබේවා!'' යැයි ඔවුහු කීහ.

හජි-බාබා යුහුසුළුව සල්ලි මල්ලට අත දමාගෙන එහි වූ රිදී හා තඹ කාසි ගෙන ජ්‍යෙෂ්ඨ පොලිස් භටයා අත තබමින් මෙසේ කීය: ''මෙන්න රාළහාමි ගන්න. සල්ලි ටිකක් වුණාට හොඳ හිතින් මම දෙන්නෙ...''

පොලිස් කාරයෝ එකිනෙකාගේ මුහුණු දෙස බලන්නට වූහ.

''කමක් නැහැ. ඉදිරියට ඔය වගෙ වැඩ වලට ඉඩ තියන්ට එපා. පළමුවැනි වතාවට සමාව දෙනව. තමුසෙ වයසක මිනිහෙක්.'' යැයි කණිෂ්ඨ පොලිස් භටයා කීය.

''අනේ! රාළහාමිලාට බොහොම ස්තුති''යි කී හජි-බාබා හිස නමා ඔවුන්ට ආචාර කරන්ට විය. පොලිස් භටයින් දෙදෙනා පිටව ගියහ. හජි-බාබා බෙලහීනවැ ලී බංකුව මත වාඩිවිය.

''මඳෑ යන්තම් විපතින් ගැළවුණා. අල්ලාට කීර්තිය අත්වේවා. යන්තම් ගැළවුණා... ඒයි යක් පැටියා උඹ කීයක් මට ඊයේ සල්ලි බාර දුන්නද?'' යි හජි-බාබා මගෙන් ඇසීය.

''රූබල් හතයි, වංගි එකයි මිරි එකයි!''

''අල්ලාට කීර්තිය. ලාබෙට ගැළවී ගත්තා... දන් ඉතින් කියපිය තොගේ මැර කම ගැන...''

''මට මැරෙන්ටද කියන්නෙ?''

''පව් සමාකරගන්නෙ නැතුව උඹට මැරෙන්න සිද්දවේවි!.. මෙහාට වෙන ගෙදරක කොල්ලෙක් ආවෙ නැතිද?''

''මා දැක්කේ නැහැ...''

''ආ, තෝ දැක්කෙ නැහැ. ඔන්න වැඩක... හැටි! තෝ කළෙත් නැහැ. වෙන කවුරුවත් කළෙත් නැහැ. බඩ පුරා කනව. හොඳට අදිනව. සල්ලි එකතු කරනවා. ඒ මදිවට යක්ස කෙළි කෙළිනව. හරියට ඉෂාන්ගෙ බූරුවා වගෙ. දැක්කෙ නැතිළු. ආ-ආ!''

ළඟ තිබුණු අහුරු අදින තඹ අඩුව අතට ගත් හජි-බාබා මට ඉන් පහර දෙන්නට විය. ඔහු මට කිපවාරයක් පහර දුන් පසු අනිත් අය ඔහු අල්ලා ගත්හ. මම මුල්ලට වී අඬන්නට වීමි. ඉන්දියානුවා මුහුණ සෝදගෙන හැඳ පැළඳගෙන දුක්මුසු ලීලාවකින් කඩ පොළට ගියේය. පොහොසත් බායි පුතකුගේ චර්ම ඡේදන මංගල්‍යයකට ගෙනයාම පිණිස උස්ටො සලීම් විවිධ පාටින් යුත් කඩදසි මල් සාදමින් සිටියේය. හජි-බාබා ඇතුළු ගෙට වැදුනේය. මුක්කන් සුල්තාන් නැවත අතුරු දහන් විය. දහවල් වන විට එදිනෙදු වැඩ පුරුදු පරිදි කෙරීගෙන යන්නට විය. එහෙත් විශ්වාසය බිඳී ගොසිනි. මා දූඩි සැකයට භාජනව ඇත.

දෙදිනකට පසු අපේ අනුග්‍රහකයෝ ලී ඇඳන් මත වාඩිවී කතා කරමින් සිටින විට වහල උඩ පොරකමින් සිටි බළලුන් දෙදෙනෙක් බිමට වැටුනහ. රෞද්‍ර ව්‍යාඝ්‍රයන් දෙදෙනෙකු වැටුණාක් මෙන් ගංජා බී සිටි පිරිස බියවූහ. බිම වැටුණු උන් දෙදෙනා පොරකෑම නොනැවැත් වූහ. එකෙක් සලීම්ගේ තලප්පාව ඉරා දැම්මේය. ඔහුගේ හිස නොව තලප්පාවට පමණක් පාඩු සිදුවීම ගැන ඔහු අල්ලාට පින් දිය යුතුය. මන්දයත්, ඒ බළලුන් දෙදෙනා අනිත් අනුග්‍රහකයින්ගේ හිසකේ සහ යටි රැවුල් ඇද සූරාදැමූ බැවිනි.

මේ සිද්ධියද මගේ වැඩක් ලෙස ඔවුහු සැක කළහ!

ඔවුන් සමග මගේ කිසිම සබඳකමක් නොවූවා පමණක් නොව ඒ කුරිරු බළලුන් දෙදෙනා මම මීට පෙර කිසි දිනෙක දැක නැත. හැම නරකකම හොඳකුත් ඇත. දැන් ඉතින් මා මෙහි නවතා ගැනීමට වැඩි කැමැත්තක් නොදක්වනු ඇත.

එහෙත් එය නොනැවතුණි.

ඊළඟ සතියේ බ්‍රහස්පතින්ද හජි-බාබා සිකුරාද ආගමික උත්සවයට සූදානම් වෙමින් සිටියේය. කාමරයේ සිලිමට ළංව බිත්තියේ කුහරයක සයිබීරියාවේ ඉර්බිට් නගරයෙන් ගෙනා අගනා පෙට්ටියක ගංජා, අබින්, සීනි, තේ කොළ, සීනි කෑම ආදිය අහුරා තිබිණි. මේ වර හජි-බාබා කුස්නෙට්ස් තේ කොළ රාත්තල් බාගයක්ද, පජ්මාක් අළුවා රාත්තලක්ද, වියලි මුද්‍රික ඵල රාත්තලක්ද වෙනත් කෑම වර්ගද එහි දමා වසා යතුර ගෙන තම ඉණ වටා ඇති ලනුවේ බැඳ ගත්තේය. ගබඩා කාමරයේ, වැටේ, අනිකුත් කාමරවල හා මහ පෙට්ටගමේ යතුරු ආදියද ඔහුගේ ඉණ බැඳි ලනුවෙහි අමුනා තිබිණි. ඔහුගේ මනෝභාවය සතුටු වූ බව මට වැටහුණේ ඔහු ගැයූ ගීයෙනි. ඔහු සතුටින් සිටින විට අඩ ස්වරයකින් කිසියම් ගීයක් ගැයීය. ''අන්තාල්-හදී, අන්තාල්-හක්, ලයි-සාල් හදී, හියාල් හු...''

සවස සතරවැනි යාච්ඤා වාරයෙන් පසු උස්ටො සලීම් පුරුදු පරිදි ගඩොල් කැටයක් තරම් ඝනැති පොතක් පෙරළා කියවන්නට පටන් ගත් අතර අනිත් අය හුස්ම නොහෙළා අසාගෙන උන්හ. පසුව සියලු දෙනාම නින්දට ගියහ. හජි-බාබාට උරා-ටුබේගෙන් තෑග්ගක් වශයෙන් ලැබුණු කුරුල්ලා මා අවදි කළේය. විනාඩියක් උගේ ගීතමය හඬ අසා සිටි මම නැගී සිට මුහුණ

සෝද්ද ගෙන සමවාරය රත් කළෙමි. සලීම් සහ ඉන්දියානුවාද අවදිවූහ. මම කාමරය අතු ගා පිරිසුදු කොට උදේ ආහාරය සූදනම් කළෙමි. මේ අතර හජි-බාබාද එළියට ආවේය. ඔහුගේ මනෝභාවයද සතුටුදයක බව ''අන්තාල්-හදී'' නැමති ගීය ගැයීමෙන් පෙනේ. සුබ උදෑසනක් වේවා! යි අපි එකිනෙකා ආචාර කර ගතිමු.

''සමවාරය ලෑස්තියි. තේ කොළ දෙනවනම් හජ්ජි බාබා මට තේ හදන්ට පුළුවනි.''

ඔහු ඉන බැඳ ලනුපොටට අමුණා ඇති යතුරු කැරල්ල අතට ගෙන ඉබ්රිට් පෙට්ටියේ යතුර තෝරා ගෙන, පෙට්ටිය තබා ඇති කුහරය දෙස බැලුවේය. එහෙත් පෙට්ටිය එහි නොවීය.

''උඹ නිදගන්න කොට පෙට්ටිය ඔළුව යට තියාගෙන නිද ගත්තද, උඹ පුතේ! හරිම දක්ෂයෙක්. ඔන්න ඔහොමයි. පරික්ෂාකාරී වෙයන්. හැබැයි අසල් වැසියව සැක කරන්ට එපා කියල කතාවක් තියෙනව... උඹ කොහෙද පෙට්ටිය තිබ්බෙ?''

''හජි-බාබා මම පෙට්ටිය හැංගුවෙ නැහැ! ඔළුව යට තියාගෙන නිදගත්තෙ නැහැ. කුහරය තුළ තියනව මම දැක්ක.''

''මොනවා?'' යැයි හජි-බාබා ප්‍රශ්න කළේ කැළඹීමෙනි. ''කුහරය ඇතුලෙ තිබුණ. උස්වො සලීම් තමුසෙ දැක්කද?''

''පෙට්ටිය එතන තියෙනව ඊයෙ මම දැක්කා.''

''එහෙනම් හොයනවා!'' යැයි හජි-බාබා කීවේ ශෝකය මැඩ ගනිමිනි. දෙතොල් සපා ගනිමින් හෙතෙම මා දෙස බැලුවේ කෝපයෙනි. ''හොඳට කල්පනා කරපන්. කාලකණ්ණියා තෝ කොහාටද පෙට්ටිය අරගෙන ගියේ?''

''හජි-බාබා දෙවියන්ගෙ නාමෙට මම එය ඇල්ලුවෙ වත් නැහැ. ඒ වගෙ බඩු මම අල්ලන්නෙ නැති බව හජි-බාබා හොඳට දන්නවා. මට හෙණ වදීවි...''

''ඒ පෙට්ටිය කුරුල්ලෙක් නෙවි. ගෙම්බෙක් නෙවි. හොයපිය පෙරේතයා! නාකි මට අපහාස කරන්ට එපා!''

''අනේ හජි-බාබා මම කවද හරි...''

ඔහු මා නැවතුවේය:

''මට පස්සෙ කව්ද මෙහෙ ආවෙ?''

''කිසි කෙනෙක් ආවෙ නැහැ. කුරුල්ලෙක් පවා ගෙට ඇතුළු වුනේ නැහැ.''

''කවුරුවත් ආවෙ නැහැ. උඹ වැරදි කාරයා නොවෙයි. ආ?'' හජි-බාබා කෝපයෙන් වියරු වැටී මගෙන් ප්‍රශ්න කළේය.

ඔහු මට තර්ජනය කොට, දුම් කාමරයේ දොර වසා පෙට්ටිය සෙවීමට පටන් ගත්තේය. පොලිස් කාරයින් සෝදිසි කළාටත් වඩා වැඩි ආයාසයකින් හැම මුල්ලක්ම පිරික්සමින් ඔහු තම වටිනා පෙට්ටිය සොයන්නට විය. පෙට්ටිය තබා තිබුණු කුහරය ඔහු දෙවරක්ම අතගා බැලීය. පැදුරු සියල්ල දිග හැර බැලූ හෙතෙම සමවාරයේ බටය තුළද සොයා බැලුවේය. මගේ හිසට පහරක් දී කට හරින ලෙස අණ කළේය. මා ඔහුගේ පෙට්ටිය කැබැලි වලට කඩා කා දැමූ බව සිතන ඔහු දත් බියවී සිටින මා ඒ කැලි වමාරනු ඇතැයි සිතුවා විය යුතුය. ලිපෙන් අඟුරු කැට ඉවත ඇදීම සඳහා පාවිච්චි කරන තඹ අඬුව ගෙන මට පහර දෙන්නට විය. සලීම්ද ඔහුට එකතුව මට පහර දුන්නේය. මම හඬ නගා කෑගසමින් හඬන්නට වීමි. මා ඒ පෙට්ටිය ඇල්ලුවේ වත් නැති අතර එය අතුරු දහන් වීම පුදුමයකි. සෑහෙන්ට පහර දුන් පසු ඔවුහු සංසුන් වූහ. මුල්ලකටවී මේ සියල්ල බලා සිටි ඉන්දියානුවාට මා ගැන අනුකම්පා ඇතිවූයෙන් ඔහු හඬන්නට

වී. ඔහු මා වෙනුවෙන් ඉදිරිපත් නොවූයේ ඔහු කැළඹීගත් නිසා හෝ මා සොරකු යැයි සිතූ නිසා හෝ විය යුතුය...

''කාලකණ්ණි හොර දෙටුවා! දෙමා පියන් නැති වහු පැටියකුට කන්ට දුන්නොත් උගේ හොම්බ තෙලෙන් බැදල ගන්ට පුළුවනි. දෙමාපියන් නැති කොල්ලකුට කන්ට දුන්නොත් ලේ පෙරෙන තුරු උගේ හොම්බට අනින්ට සිද්ද වේවි කියල කතාවක් තියෙනව. ඔන්න ඔහොමයි වැඩ. උඹ මෙතනට ආ දවසෙ ඉඳල මට නිවිහැනේ ඉන්ට නැහැ. කියපිය කොහෙද පෙට්ටිය හැංගුවෙ. එතකොට සියල්ල අමතක කරල දනව. නැත්නම් මම උඹව උසාවියට ගෙනියනව, හොරකම් කළාට නඩු දනව. ඔන්න ඔහොමයි. එතකොට උඹව සයිබීරියාවට යවාවි!''

එවිට මමද රොස් වීමි:

''හජි-බාබා, එහෙම කරන්ට ලැස්ති නම් මටත් පුළුවනි නඩු දන්න. මම මෙච්චර කල් මෙහෙ දසකම් කරනව. පරණ හිම තොප්පියක් විතරයි. මට දුන්නෙ. ඒ මදිවට අනාථ මට ගුටි ඇන්නා. ෂරියාට් ධර්මය ක්‍රියාවට යොදන්නෙ ඔහොමද? මමත් සාර් රජ තුමාට මේ දුක කියා පෙත්සමක් දනව. සත්තකින්ම ඔව්...''

''ආ තෝ නිවයා තවත් කතා කරනව. කෙළෙහිගුණ නොදත් නිවයා! පළ යන්ට! හණිකට පළ යන්ට! මම තොට දෙන්ට තියෙන ණය ලැබේවි ලෝකාන්තිමෙදි නඩු අසන දවසෙදී...''

එවිට උස්ටො සලීම් හරස් කපමින් මෙසේ පැවසිය:

''හජි-බාබා ඇයි ඌව එළවන්නෙ? ඌ යකාට ගියාවෙ.'' මෙහිදී සලීම් හජි-බාබා දෙස බලා ඉඟි මැරිය. ''තෝ කට වහපිය. තෝ ගත්තෙ නැතිනම් සැක කරන්නෙ කාවදැයි කියාපිය, තේරුණද?''

මෙහිදී ඉන්දියානුවාට ඉවසුම් නැති විය.

''අනේ පව් අසරණ කොල්ලා. අවාසනාවන්ත අසරණයා! හජි-බාබා තමුසෙගෙ පෙට්ටියෙ වටිනාකම කීයද මම ගෙවන්නම්. තමුසෙ ඒ පෙට්ටිය කීයටද තක්සේරු කරන්නෙ?'' යැයි වෙව්ලමින් ඉන්දියානුවා ප්‍රශ්න කළේය.

''තමුසෙ කට දන්නෙ නැතුව නිකම් ඉන්නව!'' යැයි හජි-බාබා රොස්වී ඉන්දියානුවාට බැණ වැදුණේය. පසුව ඔහු නැවත ප්‍රශ්න කළේය: ''උඹ කාවද සැක කරන්නෙ?''

සැක කළ යුත්තේ කාව දැයි මම නොදනිමි. මට මුක්කන් සුල්තාන් ගැන සිහිවිය. ඔහු විය හැකිද?

''පිට මිනිසුන් ගැන අවලාද කීම මහා පාපයක්. මට හිතෙන්නෙ එය කළේ සුල්තාන් කියල. එයා මෙහාට පොලිස් කාරයින් ගෙනාවෙ නිකමට නොවේ. හජ්ජි බාබාට විරුද්ධව එයා කොච්චර ද්‍රොහි කම් කළාද?''

''හ්ම. ඒ ගැන අපි විභාග කර බලමු. එයාට අපෙන් බේරි ඉන්ට බැහැ...'' යැයි හජි-බාබා කීය.

එයින් එම සිද්ධිය නිමාවට පැමිණියද දුම් කාමරයේ එදිනෙද කටයුතු වලට බාධාවිය. එදින බ්‍රහස්පතින්ද වුවද පැමිණි අයගේ සංඛ්‍යාව අඩුය. හවස මම මගේ කටයුතු සියල්ල ඉටු කොට නින්දට යන බවක් ඇඟවීමි. හජි-බාබා ඇතුළු ගෙට වැද නිදන්ට විය. උස්ටො සලීම් බොහෝ වේලාවක් යන තුරු නොනිද සිටියේය. ඔහු මා ගැන සෝදියෙන් ඉන්නා බවකි. අවසානයේදී ඔහුද නිදන්ට විය. මම නැගිට බර්ච් ගස අසලට ගොස් මගේ මුදලෙන් කොටසක්

වළඳමා තිබූ කැටය හාරා ගෙන ගෙතුළට ආවෙමි. උස්ටො සලීම් නිදයි. ඉන්දියානුවා මට දුන් කබායේ වාටියට අල්ලා කැටයෙන් එළියට ගත් කාසි මසන්නට පටන් ගතිමි. එහි වූ මුදල් ප්‍රමාණය රූබල් හතරක් පමණ විය. යුද්ධය නිසා බඩු මිළ ඉහළ නොගියේ නම් බැටළුවන් දස දෙනෙකු මිළදී ගත හැකිය.

කාසි සියල්ල කබායට අල්ලා මසා දමූ පසු මගේ අත කැටයට වැදී, කැටය බිම වැටී බිඳිණ. පටාස්! යන හඬක් ඉන් නිකුත් වූයෙන් උස්ටො සලීම් අවදිවැ බියෙන් ප්‍රශ්න කළේය:

"කව්ද?.. කව්ද ඔතන?"

"කවුරුවත් නැහැ. ලොකු උන්නැහෙ. මම ..." යැයි සන්සුන්ව කීවෙමි.

"උඹ ඔය කළුවරේ මොනවද කරන්නේ?"

"මොනවත් නැහැ. මාව එළවන හන්ද මම මගේ ඉරුණු කබාය මහනව."

"ලාම්පුව පත්තු කරපන්."

මම නැගිට පහන දැල්වීමි. ඔහු නැගිට කාමරය අවට බැලීය. මගේ කබායත් ඉඳිකටුව සහ නූල් බෝලයත් ඔහු දුටුවේය.

"අනේ පව්, දුප්පත් කොල්ලා ." යැයි ඔහු කපටි ලෙස බොරු අනුකම්පාවක් මවා පෑවේය. "ඇත්තටම කළුවරේ ඉඳගෙන මහනව. ඉන්දියානුවා උඹේ කබාය ආපසු ගනීවි. ඌ හරිම පෙරේතයා!" යැයි සලීම් කීය. මා ඔහු දෙසත්, ඔහු මා දෙසත් බලයි. ඔහුගේ මුහුණේ නිදිබර ගතියක් දකින්නට තිබුණද ඔහුගේ නෙත් කපටි හිවලකුගේ මෙනි. මට අදහසක් පහළ විය. "උඹ දක්ක නෙවද ඒකා කොපමණ සල්ලි ගණන් කරනවද කියල. මට තඹයක්වත් කිසිම දවසක දීල නැහැ. මම බඩගින්නෙ ඉන්න හැටි පවා ඒකා දැකල තියෙනව..." යැයි කී සලීම නිහඬ විය. "උඹ ඉක්මනට පලයන් මෙතැනින් පිටවෙලා. හඳ පායන නිසා යන්ට පුළුවනි. මම උඹට කඩදසි නයෙක් හද දෙන්ට කඩදසියි, වේවැල් කෝටුයි ගෙනාවා. දැන් ඉතින් ඒවා නාස්ති වේවි. මොනවා කරන්ටද උඹේ ඉරණමක හැටි..."

බොහෝසෙයින්ම බලාපොරොත්තු කඩවූ බවක් මම මවා පෑවෙමි.

"අනේ උස්ටො සලීම් ලොකු උන්නැහෙ! ඉන්දියානුව මගෙ කබාය ආපහු උදුරා ගනීවිද?" යි මම ප්‍රශ්න කළෙමි. ඉන්දියානුවා මට දී ඇති තෑගි ගැන නොදන්නා සලීම් කියන්නේ අමූලික බොරුවක් බව මම දනිමි. දැන් මට එක් කරුණක් පැහැදිලිය.

"කබාය උදුරා ගනීවි, එතරම් කෑදරයා. උඹ ඉක්මනින්ම පලයන් යන්ට. අනිත් අය නිදි. යන්ට හොඳ වෙලාව... ආයුබොවන් කියන්ට ඕන නැහැ. හජි-බාබා නිහඬව නිසොල්මනේ ඉන්ට කැමතියි."

ඔන්න වැඩක හැටි. හරිම ගොළුව. ඉල්හාම් තම තේ පැන් හලට මිනිස්සු ගෙන්වා ගැනීමට ගිරවකු ඇති කළා. උස්ටො සලීම් හජි-බාබාගේ කටයුතු කරන්නෙත් අර ගිරවා වගේමයි. හජ්ජි බාබා උගන්වන විදියට සලීම් වැඩ කරනවා. ඉබ්රිට් පෙට්ටිය සොරකම් කළේ සලීම්, හජි-බාබාගේ දැනීමෙන් තොරව. උන් ඒ ගැන සොයා බැලුවාවෙ. මා මෙතැනින් ඉවත්ව යාම ප්‍රධාන කරුණයි. මම මෙසේ කීවෙමි:

"උස්ටො සලීම් ලොකු උන්නැහෙ උපදෙස් දුන්නාට බොහොම ස්තුතියි. යන්ට කියනව නම් යන්නම්..."

මා සමචාරයෙන් උණු වතුර ගෙන ගෙවත්තට ගොස් මුහුණ සෝදගත්තේ, මෙතැනින් ගැලවී යාමේ උත්සවය නිමිත්තෙනි. පසුව කාමරයට විත් කබාය හැඳගෙන තොප්පිය හිස

ලා ගතිමි. සලීම් මා දෙස සුපරීක්ෂාකාරී ලෙස බැලීය. ''බලපන්! බලපන්! කොපමණ බැලුවත් උඹට මගේ සල්ලි සඟවා ඇති තැන් සොයා ගන්ට බැහැ'' යැයි මම සිතින් ඔහුට කීවෙමි. සලීම්ට ආචාර කොට මම මහ මඟට බැස්සෙමි.

නැවුම් හිමෙන් පසු නැවත තරමක උණුසුමකි. එහෙත් වාතය සිසිල්ය, ප්‍රණීතය. මම හිම කාලයට ගැළපෙන ලෙස හැඳ සිටිමි. ලය පුරා පිරිසුදු වාතය ආශ්වාස කළෙමි. අබින් හා ගංජා දුමෙන් පිරී ඇති ඒ කාමරයේ වාතය කොතරම් අපිරිසිදුද යන්න දැනෙන්නේ දැන්ය. කූඩුවෙන් ලැබ සුවවූ කුරුල්ලෙකු මෙන් දැන් මා නිදහස්ය, සැහැල්ලුය, පිරිසුදුය. උදෑසන අරුණෝදයට තව බොහෝ වේලාවක් ඇත. එහෙත් මා සිත තුළ දැනටමත් අරුණෝදය උදාවී ඇත. මා යන්නේ කොහිද?..

ගෙදර! ගෙදර!

පාඨකයින් වෙතටයි

මෙම පොතෙහි අඩංගු කරුණු අනුවාදය හා මුද්‍රණය පිළිබඳව ඔබගේ අදහස් දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාව ඔබට හිමිවේ. ඔබගේ වෙනත් යෝජනා ඇතොත් අපි එය කරුණාවෙන් බාර ගනිමු.

අපේ ලිපිනය:
ප්‍රගති ප්‍රකාශක මන්දිරය
මොස්කව්

